

# ගෝතම බුදුන් වැඩසිටි දඹදිව

## හෙළයා හඳුනා ගතයුත්තේ ඇයි ?

පූජ්‍ය මීවනපලානේ සිරි ධම්මාලංකාර හිමි

ගෝතම බුදුන් වැඩසිටි දඹදිව හෙළයා හඳුනා ගතයුත්තේ ඇයි ?
පූජ්‍ය මීවනපලානේ සිරි ධම්මාලංකාර හිමි



ISBN 978 - 955 - 51707 - 4 - 1

මුද්‍රණය : සුරේන්ද්‍ර ග්‍රැෆික්ස් - මාතර 041 2227220

| පටුන | පිටු අංකය |
|---|---|

තෙවන මුද්‍රණය - 2016 අගෝස්තු

ISBN : 978 - 955 - 51707 - 4 - 1

(සකලවිධ හිමිකම් කතුවරයා සතුයි)

වෙබ් අඩවි -
www.sirisaddharmaya.net
www.helabima.sirisaddharmaya.net
www.utube.sirisaddharmaya.net
www.deshana.sirisaddharmaya.net
www.atuvawa.sirisaddharmaya.net
www.panhinda.sirisaddharmaya.net
www.srisaddharmaya.blogspot.com
www.siridesuma.blogspot.com

මුද්‍රණය
සුරේන්ද්‍ර ග්‍රැෆික්ස්
අංක 159, අළුත් තංගල්ල පාර,
කොටුවේගොඩ, මාතර.
041 2227220

<u>පූජ්‍ය මීවනපලානේ සිරි ධම්මාලංකාර හිමිගේ වෙනත් කෘතීන් ....</u>

නිවන් අවබෝධ කරගැනීමට උපකාර වන්නේ පරම පවිත්‍ර සිරි සද්ධර්මයයි.

විමුත්ති මාර්ගය පෙන්වා වදාල උතුම් බුද්ධ ධර්මය භක්තියෙන් අදහන බුද්ධාගමක් කරා පරිවර්ථනය වූයේ කෙසේද ?

සම්මත සත්‍ය හා පරමාර්ථ සත්‍ය හෙවත් දැනුම හා දැක්ම.

බුද්ධ බල - බුද්ධ ශක්ති බුද්ධ ඤාණ විග්‍රහය

විමුත්තිය

ආනන්තරික පාප කර්මයන් හා සංඝභේද සූත්‍රය

සමන අරණ විහරණ බුද්ධ භාවනා (සත්දින විහරණ පටිපදා)

මහා සතර සතිපට්ඨාන භාවනාව

සංසාර ණය ගනුදෙනු වලින් මිදී නිදහස් වෙන්නට උපකාර වන්නා වූ කරුණු හතරක්

බුද්ධ දේශනාවේ පෙන්වා වදාල භාවනාව යනු කුමක්ද ?

## පෙරවදන

මෙහි ලියා දක්වන කථාව මේ හෙලබිමේ සත්‍ය ඉතිහාසය පෙන්වා දීමකි. මෙයට පෙර අසන්නට නොලැබුණු. මෙතෙක් ඔබ නොසිතූ පුවතකි. නමුත් මෙය පරම සත්‍යයකි. මෙය ගෙතූ කථාවක් නොවේ. අනුමානයෙන් කරන ප්‍රකාශයක්ද නොවේ. මනඃකල්පිතයක් හෝ පදනමක් නැති මවා පෑමක් ද නොවේ. ඉඳුරා ම පැහැදිලිව ම ප්‍රකාශ කරන පරම සත්‍යයකි. අපේ වැළලී ගිය ඉතිහාසය මතුකර පෙන්වා දීමකි.

මේ මිහිතලය මත බුද්ධත්වයට පත්වන සියලුම බුදුවරයින් වහන්සේලා උපත ලබන එකම දීපය වූ ජන්බුද්වීපයේ මේ සත්‍යයමවූ කථාව කියවන ඔබත්, අද උපත ලබා ජීවත්වන බව දැන ගන්නට, තේරුම් ගන්නට ලැබුණු විට ඔබටත් බලවත් චිත්ත ප්‍රසාදයක්, ප්‍රමෝදයක් බුද්ධාලම්බන ප්‍රීතියක් ඇතිවෙනු නොඅනුමානය. නියම ශ්‍රද්ධාව යනු එයයි. මෙවන් උතුම් දීපයක, විශ්ව ශක්තිය කේන්ද්‍ර ගත වූ මධ්‍ය මණ්ඩලයක පතිරූප දේශයක උපත ලබා පරම පවිත්‍ර බුද්ධ ධර්මයද මතුකර දේශනා කරන මෙවන් යුගයක, ධර්ම මාර්ගයේ යන සියලු දෙනා විසින්ම මේ සත්‍ය කථාව ද කියවා දැනගත යුතුම ය. පරම සත්‍යය දැකගත යුතුය.

පසුගිය වසර 1500ක් තරම් දීර්ඝ කාලයක් තිස්සේ ම මෙම පරම සත්‍යය ද යටපත් වී, බුද්ධ ධර්මයද විකෘති වී, නිවන් මඟ වැසී තිබුණු බව බොහෝ අය දන්නා කරුණකි. දැන් නැවතත් පරම සත්‍යය මතු කර දැක්වීමටත්, පවිත්‍ර බුද්ධ ධර්මය පිංවත් ලෝකයාට දේශනා කරන්නටත්, නිවන් මඟ විවෘතකර පෙන්වා දෙන්නටත් සුදුසු පරිසරය හැම අතින්ම සකස් වෙමින් පවතින බව ප්‍රකාශ කළ යුතුය. පරම සත්‍යය කවදාවත් ම බොරුවෙන් මුළාවෙන් මනඃකල්පිත වලින් හෝ සම්මත ප්‍රබන්ධ වලින් යටපත් කර දිගින් දිගටම සඟවා වසා තැබිය නොහැකිය. නියම අවස්ථාව පැමිණි විට පරම සත්‍යය කවුරුන් අතින් හෝ එළි දැක්වෙන බව ධර්ම නියාමයටම අනුකූලය.



පරම සත්‍යය පවා පිළි නොගන්නා බොහෝ පිරිසක්ද මේ අප අතරම සිටින බවත් අප නිතරම කල්පනා කළ යුතු දෙයකි. රාගයෙන් , ද්වේශයෙන් හා මෝහයෙන් අන්තවාදි ලෙස දෘෂ්ඨි ගත වූ බොහෝ දෙනෙකුට සත්‍යය කිසිසේත් ම දැකගත නොහැකි ය. පරම සත්‍යය ඔවුන්ට නොගැලපෙන දෙයකි. අප එවැනි අය කෙරෙහි ද අනුකම්පා කළ යුතුය.

මේ සත්‍ය ම වූ පෙර නොඇසූ කථාව අසන කියවන එවැනි අය ඉවසීම් සීමා මායිම් ඉක්මවා සත්‍යයට ද එරෙහි වනු ඇත. එය ද ධර්මතාවයකි. ගෞතම බුදුපියාණන් ලොව පහළ වූ යුගයේත් මෙවැනි දේ ම සිදුවිය. අප ඔවුන්ට වෛර කළ යුතු නොවේ.ඔවුන් සමඟ උරණවිය යුතු නොවේ. ඔවුන්ට ද කවදා හෝ සත්‍යය අවබෝධ වේවා යන්න අපේ අවංකම පැතුම විය යුතුය.

මෙම පරම සත්‍යය එළි දැක් වූ විට ලාභයෙන් දෘෂ්ඨි ගත වූ ආස්වාදයෙන් දෘෂ්ඨිගත වූ උගත් කමින් , බුද්ධිමත් කමෙන් මත් වූ, තානාන්තරවලින් නිල තලවලින් බලවත් වූ බොහෝ දෙනෙකුට මෙය නොගැලපෙන දෙයක්ම වන්නටත් පුළුවන. සමහර විට එවන් අය ඇත්ත නැත්ත කිරීමටම තව තවත් වෛර දරනු ඇත. තම බලය පෙන්වීමට ලාභය දිගටම ලබා ගන්නට උත්සාහ දරණ ඔවුන් ජනමාධ්‍යයන් මුදලට ගන්නටත් උත්සාහ දරණු ඇත. පරම සත්‍යයට විරුද්ධවන ඔවුන් එසේ විරුද්ධ වන්නේ බුදුපියාණන් වහන්සේටමයි ඔවුන් ආර්යෝපවාදයක්ම කරගන්නා බවත් තේරුම් ගත යුතුය.

මේ යුගය කල්ප විනාශයකට ඉතාමත් ම ආසන්න කාල පරාසයක් බව කවුරුත් දන්නා කරුණකි. කල්ප විනාශයකදී විනාශ වන අංශ අතර සංකල්ප විනාශයද මූලික ම අංගයකි. සම්මත කරගෙන අදහන බොහෝ මිථ්‍යා ආගම් සංකල්ප මෙහිදී විනාශ වී යෑම නියතයෙන් ම සිදු වනු ඇත. ගෞතම බුදුන් බුද්ධත්වයට පත් වීමත් සමඟ එදා සංකල්ප විනාශයක් ද සිදු විය. ඒ ආගම් හැට දෙකක් ම යටපත් වී යෑමත් පරම පවිත්‍ර බුද්ධ ධර්මය මතුවීමත් සමඟම සිදු වූ දෙයකි. මෙය අතීත ඉතිහාසයේ සිදු වුවා මෙන්ම මතුවටත් නැවත නැවතත් සිදුවන නියත සිදු වීමකි. පුනරාගමනයකි. 2012 කල්ප විනාශය සමඟ ම මිථ්‍යා ආගම් සංකල්ප විනාශ වී යාමද කාටවත්ම මොනම නවීන විද්‍යාවකින් හෝ වලක්වාලිය නොහැක. මනසක් ඇති මිනිසුන්ට තමන් ගැනම සිතා පරමාර්ථ සත්‍ය තේරුම් ගෙන ආගම් සංකල්ප අතහැර පවිත්‍ර බුද්ධ ධර්ම මාර්ගයට අවතීර්ණ විය යුතු කාලය දැන් උදා වී ඇති බව පැවසීමට මේ පරම සත්‍යය මතු කර දෙනු ලැබේ. ධර්ම මාර්ගයට ඉඩ සලසා දෙනු සඳහා අධර්මයේ හැසිරෙන අය ධර්මතාවයෙන් ම විනාශ වී යෑම දැන් සිදු වෙමින් පවතී. මේ අනුව අන්තගාමී සංකල්ප විනාශ වෙන්නටත් සත්‍යය ලොව රජ වෙන්නටත් දැන් කාලය එළඹ තිබේ. එය ක්‍රමානුකූලව ඉදිරි වසර කිහිපයක් තුළදී සිදුවනු ඇත.

මේ පොතෙහි සඳහන් කරණු ලබන්නා වූ කාරණා වලින් එළි දක්වන සත්‍යයන් මෙසේ එළි දක්වන්නේ කාට හෝ පහර ගැසීමට, කාට හෝ අවමානයට පත් කිරීමට, අපහසුවකට පත් කිරීමට හෝ යමෙකුට අසාධාරණයක් කිරීමේ හෝ කිසිම පටු බලාපොරොත්තුවකින් නොවේ. ඒවාගේම මේ සත්‍යය හෙළි කිරීමෙන් කිසිම පෞද්ගලික ප්‍රතිලාභයක් ලැබීමේ හෝ ප්‍රචාරයක් ප්‍රසංසාවක් ප්‍රසිද්ධියක් ලැබීමේ හෝ බලාපොරොත්තුවක් ද නැත. පොතක් ලියා විකුණා මුදල් රැස් කිරීමේ කිසිම බලාපොරොත්තුවක් ද මෙහි නැත. මෙය නියත වශයෙන් ඉටු කළ යුතු යුග මෙහෙවරකි.



මේ හෙළදිව බුද්ධ රාජ්‍යයයි. ධර්ම දීපයයි. අද ඒ බුද්ධ රාජ්‍යය , ධර්ම දීපය සියලු ආකාරයෙන් ම ශුද්ධ පවිත්‍ර වී පිරිසිදු වී සියලු බාධක හා බැඳීම් දුරු වී ක්‍රමානුකූලව සමස්ත ලෝකවාසි ජනතාවට ම දහම් දිය බෙදා දෙන ධර්ම මධ්‍යස්ථානය බවට නැවතත් පත්වන්නට අවශ්‍ය සියලු කරුණුද සම්පූර්ණ වෙමින් පවතී. මේ සියලු කරුණු සත්‍යයේ නාමයෙන් , ධර්මතාවයේ බලයෙන්, මතු වී එළිදැකීමත් සමඟම ධර්ම මාර්ගයේ අවංකවම ගමන් කරන්නන්ට ද නිවන නිදහස ළඟාකර ගත හැකි වනු ඇත.

මීවනපලානේ සිරි ධම්මාලංකාර හිමි

2015. 01. 25

# 1. බුද්ධත්වය - ජන්බුද්වීපය හා හෙළදිව

සිදුහත් කුමරා උත්පත්තිය ලැබුයේත්, ගෞතම බෝසත්තුමා උතුම් බුද්ධත්වයට පත් වූයේත්, ගෞතම බුදුපියාණන් වහන්සේගේ පිරිනිවන් පෑම සිදු වුයේත්, ජන්බුද්වීපයේදීය. වසර හතළිස් පහක් තරම් දීර්ඝ කාලයක් තුළම උතුම් බුද්ධ ධර්මය දේශනා කළේත් ජන්බුද්වීපයේම ජනයාටය. ජන්බුද්වීපය යනු (ජන් + බුද්+ ද්වීපය) “බුදුන් ජන්මය ලබන දීපය” යන අර්ථය ඇති මාගධී භාෂාවේ පද තුනකි. මෙම මාගධි පදයේ අර්ථයට අනුවම මේ මිහිතලය මත යම් උත්තමයකු බුද්ධත්වය නම් වු ඒ අති උතුම් තත්ත්වයට පත්වන්නට හේතු වාසනා ලබන්නේ මෙම ජන්බුද්වීපයේදීම පමණි. අතීතයේ ලොව්තුරා බුද්ධ බවට පත් වු සියලුම බුදුවරයන් වහන්සේලා මෙන් ම අනාගතයේ මේ මිහිතලය මත බුද්ධත්වයට පත් වන සියලුම බුදුවරයින් වහන්සේලාට ද ජන්මය ලබන්නට හේතු වාසනා ඇත්තේ මෙම දීපයේ දී ම පමණි. ජන්බුද්වීපය යන නම යම්කිසි රටක හෝ ප්‍රදේශයක හෝ නාමයක් නොවේ. රාග බව, ද්වේශ බව, මෝහ බව, සිතින් උදුරා දමන උතුම් දහම සොයා දැන මතුකර ලෝකයාට දේශණා කරණු ලබන බුදු කෙනෙකුගේ උපතක් සිදුවන්නට සුදුසු වූ බුද්ධ ශක්තිය කේන්ද්‍ර ගත වූ මෙවැනි ස්ථාන එකකට වැඩි ගණනක් මේ මිහිතලය මත ඇත්තේද නැත. එවන් බුද්ධ ශක්තියක් කේන්ද්‍ර ගත වූ ස්ථාන ඇත්තේ එකක් ම පමණි. එවන් වූ ස්ථානය ජන්බුද්වීපයේ මධ්‍ය මණ්ඩලය යන නමින් හැඳින්වෙයි. ඒ අති ශ්‍රේෂ්ඨ මිනිසා, ලොව්තුරා බුද්ධත්වයට පත්වන උත්තමයා, ගුරු උපදේශ රහිතව ම ස්වයං භූ ඥාණයෙන් ම ඒ උතුම් තත්වයට පත් වීමට නම් නියත වශයෙන් ම ජන්බුද්වීපයේ ම උපත ලබා එහි මධ්‍ය මණ්ඩලයේ පිහිටි විශ්ව ශක්තිය කේන්ද්‍ර ගත වූ එකම නිශ්චිත ස්ථානයක දී නියත



බෝධි මූලයක දී ම, බුද්ධත්වයට පත්වීම නම් වූ මේ උතුම් සිදු වීම සිදු විය යුතුය. මේ අනුව ලොව්තුරා බුද්ධත්වයට පත්වීම ධර්ම නියාමයට අනුවම සිදුවන නියත සිදු වීමකි.

දීපංකර බුදුපියාණන් ගේ පටන් මේ මහා භද්‍ර කල්පය තුළ මේ මිහිතලය මත, අතීතයේ බුද්ධත්වයට පත් වූ සියළුම බුදුපියාණන් වහන්සේලාට එම උතුම් ලොව්තුරා බුද්ධත්වයට පත් වන්නට උපකාර වූ නිජබිම පතිරූප දේශය නම් ජන්බුද්වීපය යි. ජන්බුද්වීපය යන පදයෙහි පදගත අර්ථය අනුව ම මෙය දීපයකි. දිවයිනකි. එය අර්ධ ද්වීපයක් හෝ මහා ද්වීපයක් හෝ විය නොහැකිය. එයට හේතුව අර්ධ ද්වීපයක හෝ මහා ද්වීපයක හෝ මධ්‍ය මණ්ඩලය යැයි නිශ්චිත තැනක් ලකුණු කර පෙන්වා දිය නොහැකි හෙයිනි. එවැනි මධ්‍ය මණ්ඩලයක් නොවන තැනක විශ්ව ශක්තියද කේන්ද්‍ර ගත නොවන හෙයිනි.

මේ අනුව මේ මිහිතලය මත එකම විශේෂිත ස්ථානයක් හැර වෙනත් කිසි ම ස්ථානයක නියත වශයෙන් ම ධර්ම නියාමයට අනුව ම ලොව්තුරා බුදුවරයෙකුට බුද්ධත්වයට පත්වන්ට උපකාර වන, උපකාර කරගත හැකි, විශේෂ විශ්ව ශක්තියක් සහිත වූ තවත් ස්ථානයන් ඇත්තේ ද නැත. සමතිස් පාරමිතා පිරිමෙන් සිදු වන්නේ මෙම විශ්ව ශක්තිය සමඟ සම්බන්ධ වීමට අනන්ත අප්‍රමාණ කාල පරාසයක් තුළ තමා තුළින් ම විශ්ව ශක්තියක් ගොඩනඟා ගැනීමයි. එසේ තමාම ගොඩනඟා ගත්, බිහිකර ගත් විශ්ව ශක්තිය අතීත බුදුවරයින් වහන්සේලා බිහිකල විශ්ව ශක්තිය සමඟ ද අනුගත වී එක් තැන් වී ජන්බුද්වීපයේ මධ්‍ය මණ්ඩලයට කේන්ද්‍රගත වන්නේය. විවරණ ගැනීම යනු මේ ක්‍රියාදාමය පරිපූර්ණය වීමයි.

ජන්බුද්වීපයේ මධ්‍ය මණ්ඩලය යනුවෙන් අප සම්මත බස් වහරෙහි හඳුන්වා දෙන, මේ මිහිතලය මත පවතින, යහපත් විශ්ව ශක්තිය කේන්ද්‍රගත වූ අනන්ත බුදුවරයින්ට සෙවන දුන්, මේ නිශ්චිත රමණීය ස්ථානය උතුම් ධර්ම ද්වීපයක ම හරිමැද පිහිටා ඇති බව පෙන්වා දිය යුතුය. මෙවන් යහපත් විශ්ව ශක්තිය කේන්ද්‍රගත වූ මධ්‍ය මණ්ඩලයක් මේ මිහිතලය මත පවතිනවා වාගේම, අයහපත් විශ්ව ශක්තිය කේන්ද්‍රගත වූ මකර කටක් ද ඊට සමානුපාතව ම එහි අනික් අන්තයේ පිහිටයි. බර්මියුඩා ත්‍රිකෝණය නමින් අද බටහිර ලෝකයා හඳුන්වන මෙවන් අයහපත් විශ්ව ශක්තිය කේන්ද්‍ර ගත වු ස්ථානයක් ද මේ මිහිතලය මතම ඇත. මේ ස්ථාන දෙක පිහිටියේ අන්ත දෙකකය. මේ අනුව ධර්ම මාර්ගයේ යන අයට ස්වභාව ධර්මයෙන්ම ඊට උපකාර කරන ස්වභාවයකුත් අධර්ම මාර්ගයේ යන අය ස්වභාව ධර්මයේ ශක්තියෙන් ම විනාශ කරන ධර්මතාවයකුත් මේ අන්ත දෙකෙහි පවති. මේ අනුව විශ්ව ශක්තියේ ද යහපත් හා අයහපත් යන අන්ත දෙකක්, ද්වතාවයක් පවතින බවත් පෙන්වා දිය යුතුය.

බුද්ධ බලය, බුද්ධ ධර්මය, බුද්ධ ශක්තිය, බුද්ධ ඥාණ, බුද්ධානුස්සතිය, ආදී විවිධ පදවලින් සම්මතයේ භාවිතා කරන හා අදහස් කරන විවිධාකාරයෙන් අද අර්ථ ප්‍රකාශ කරන "බුද්ධ" යන පදයේ අර්ථ, ධර්ම, නිරුක්ති, පටිභාන යන මේ කරුණු යථා පරිදි අවබෝධ කරගත් කෙනෙකුට "ජන්බුද්වීපය" යන පදවල ද අර්ථය පැහැදිලි වනු නොඅනුමානය.

මේ මිහිතලය මත බිහිවන , උත්පාදනය වන සියලු සංඛත සියලු සංකාර බිහිවන්නට (සබ්බේ ධම්මා) උත්පාදනය වන්නට හේතු වූ නිධාන



වූ එකම ශක්ති විශේෂය "විඤ්ඤාණ ශක්තියයි" හැම සත්වයාම මෙම විඤ්ඤාණ ශක්තිය නොනවත්වාම නොකඩවාම (පුනබ්බවෝති) උත්පාදනය කර ගැනීමේ ක්‍රියාවලියකම නිරත වෙයි. බු + උද්ධ = බුද්ධ යනු මේ බිහිකිරීමේ - උත්පාදනය කිරීමේ - පුනබ්බවෝති යනුවෙන් පෙන්වා දුන් ශක්ති විශේෂය වු විඤ්ඤාණ ශක්තිය උත්පාදන කිරීමේ ක්‍රියාවලිය සහමුලින් ම උදුරා ඉවත් කර දැමීමයි. විඤ්ඤාණ ශක්තිය උපදවන සමුදය ක්‍රියාවලිය සහමුලින් ම උදුරා දැමූ පසුව ප්‍රඥා ශක්තිය සිතක පූර්ණ වශයෙන් ම මතු වේ. එය අනුප්පාදෝ යනුවෙන් හඳුන්වන ප්‍රඥා ශක්තියයි. "අනුප්පාදෝ නිබ්බානං" යැයි ප්‍රකාශ කළේ මේ ධර්මතාවයට අනුවයි.

පැවැත්ම, ජීවත්වීම යනු මොහොතක් මොහොතක් පාසාම විඤ්ඤාණ ශක්තියෙන් ම රාග බව , ද්වේශ බව , මෝහ බව තම චිත්ත සංඨානයේ ම උත්පාදනය වීමයි. රාග , ද්වේශ, මෝහ ගති උත්පාදනය කිරීමේ ශක්ති මූලය (භව ) සංභව ශක්තිය උදුරා දැමීම බු + උද්ද යන පදයෙන් අර්ථ ගැන්වේ. මේ සමුදය ශක්තිය, උත්පාදන ශක්තිය, සිතක ම මිස වෙනත් කිසි තැනක බිහි නොවේ. යථාභූත ඥාණ දර්ශණය යනු මේ බිහි කිරීමේ ශක්තිය උදුරා දැමිය යුතු බව උදුරා දැමිය හැකි බව යථා පරිදි දැකීමයි. රාග, ද්වේශ, මෝහ ශක්ති යලි යලිත් උත්පාදනය කර ගනිමින් නිරතුරුව ම දුක් විඳින සත්වයාට නියත වූත්, ස්ථිර වූත් සුවයක් නිදහසක්, නිවනක් ලබාගත හැකි වන්නේ මෙවන් කෙළෙස් ගති බිහි කිරීමේ ශක්තිය (භව) සහමුලින්ම උදුරා දැමීමෙනි. ස්වයංභූ ඥාණයෙන් ම මේ භව උදුරා දමන ප්‍රතිපදාව සොයා දැන ලෝකයාට ධර්මය දේශනා කරන උත්තමයා සම්මා සම්බුද්ධ යන නමින් ජන්බුද්වීපයේ දීම මේ උතුම් තත්වයට පත්වීම ද සිදු වන්නේ ම ය.

මේ අනුව ලොව්තුරා බුදු කෙනෙකුන් උපත ලබන්නේත්, ලෝකයාට බුද්ධ ධර්මය දේශනා කරනු ලබන්නේත්, බුද්ධ ධර්මය යළි යළිත් මතු වී ධම්මානුධම්ම පටිපදාව ක්‍රියාත්මක වන්නේත් ජන්බුද්වීපය නමැති එකම මධ්‍ය මණ්ඩලයක් කේන්ද්‍ර කරගත් දීපයක දීම ය. මේ සත්‍ය ධර්මතාවය ත්‍රිපිටක ධර්ම සාහිත්‍යයේ මෙන් ම එදා ලියූ හෙළ මහාවංශ කථාවේ ද ඉතාමත් ම පැහැදිලිව ම සටහන් කර ඇත. දැන් අපට විසඳා ගත යුතු මූලික ම ප්‍රශ්නය වන්නේ මේ "ජන්බුද්වීපය" යනුවෙන් එදා අනුරාධපුර යුගයටත් පෙර, එනම් බුද්ධ යුගයේදී හැඳින්වූයේත් භාවිතා කළේත් කුමන දීපයකට ද යන්න සොයා ගැනීමයි.

මාගධි ප්‍රාකෘත භාෂා ව්‍යවහාරයේ එදා භාවිතා කළ "ජන්බුද්වීපය" යන පද තුන ඇතුළත් නාමය පසු කාලයක දී කවුරුන් හෝ නොදැනුවත්කමෙන් - පදපරම දැනුමෙන් අවිද්‍යාව නිසාම දඹදිව - දඹගස් සහිත දීපය යනුවෙන් ද සිංහලයට පරිවර්තනය කරගෙන අද වැරදි ලෙසම භාවිතා කරනු ලබයි. ජන්බුද්වීපය හෝ - දඹදිව හෝ - යන මේ නම් වලින් ඉන්දියාව - භාරතය- හෝ භාරතයේ කිසිම තැනක් හෝ කිසිම කොටසක් හෝ ඉතිහාසයේ කිසිම දවසක නම් කර භාවිතයේ නොතිබූ බවත් ඉන්දීය ඉතිහාසයේ කිසිම කාලයක මේ නමින් හැඳින් වූ තැනක් භාවිතයේ  නොවූ බවත් සහතික කර ප්‍රකාශ කළ යුතුය. බුද්ධ කාලයට වසර 600කට පමණ පසුව ලංකාවේ ම අනුරාධපුර රාජධානියේදී පොත්පත් ලියූ ඉන්දියාවෙන් මෙරටට පැමිණි සමහර ගත් කතුවරු  පවා එදා ජන්බුද්වීපය යන නම හෙලබිමේ කොටසකට භාවිතා කරන්නට පටන් ගත්හ. මහාවංශ හෙළ අටුවාව ලියූ මහානාම හිමියන් ද ඉන්දීය ජාතිකයෙකි. මුල් ම මහා වංශය හෙළ බසින් ලියා තිබිණි. මහානාම හිමියන් කළේ මේ හෙළ මහාවංශය පාලි බසට පරිවර්ථනය කිරීමයි. මහානාම හිමියන් ජන්බුද්වීපය යන නම ම කිහිප තැනකදී ම පාලි මහා වංශ අටුවාවේ භාවිතා කර ඇති බව පෙනේ. එම භාවිතය නිවැරදිය. මෙහිදී මහානාම හිමියන් ද ජන්බුද්වීපය යනුවෙන් අර්ථ දැක්වූයේ බුදුන් උපන් දීපයටයි. බුදුන් උපන් දීපය ජන්බුද්වීපය යනුවෙන් ව්‍යවහාරයේ භාවිතා වූ බව ඉන් පැහැදිලි වෙයි.

"ජන්බුද්දීපා ඉධා ගථා" යනුවෙන් පාලී මහාවංශ අටුවාවෙහි සඳහන් කර ඇති දේ නිවැරදි ය. එදා "ජන්බුද්වීපය" යන නම භාවිතා කළේ දේව හෙළය නමින් ප්‍රසිද්ධ වූ හෙළ දිවයිනේ ම කොටසක් වූ බුදුන් උපන් ප්‍රදේශයටයි. ලෝකෝපකාරය නැමැති අතීතයේ ලියූ පොතක්ද මේ හෙළබිම එදා ජන්බුද්වීප, උතුරු කුරු දීපා, අපර ගෝයානය පූර්ව විදේහය යනුවෙන් සතර දිවයින් ලෙස නම් කර තිබූ බව ලියා දක්වා ඇත. එමෙන් ම එදා ලංකාපුර (ආලකමන්දාව) යනුවෙන් භාවිතා කළේත් හැඳින්වූයේත් යක්ඛ හෙළයේ අගනුවරටයි. ලංකාපුරය යනුවෙන් එදා යක්ඛ හෙළයේ අගනුවරට භාවිතා කළ බව විජය රජුගේ කථා පුවතෙහි ද සඳහන් කර ඇත. කුවේනිය විසින් විජය රජු ලවා යක්ඛ ගෝත්‍රික නායකයින් අසු දෙනෙකු ඝාතනය කරවූයේද ලංකා පුරයේදීය. ලංකාපුර රාජධානියම පසු කලකදි ඉන්දිය සම්භවයක් ඇති රජවරු විසින් අනුරාධපුර රාජධානිය ලෙසින් ද අලුතින් නම් කර සකස්කර ගති. ලංකාපුර හා ජන්බුද්වීපය යන නම් වලින් එදා පාලී මහාවංශ අටුවාවෙහි භාවිතා කළ නම් පසු කළෙකදී වැරදි ආකාරයෙන් ම ප්‍රයෝජනයට ගත් පසු කාලීන සමහර ගත් කතුවරු මෙන්ම අටුවා ටීකා ටිප්පනී ලියූ බොහෝ අයද ජන්බුද්වීපය යනු කොතැනකට භාවිතා කළ නමක් ද යන්න පිළිබඳව පැහැදිලි දැනුමක් හෝ තේරුමක් නැතිවම එය ඉන්දියාවේ පිහිටි තැනකැයි අනුමානයෙන් ලියා තැබූහ. අනුරාධපුර මුල්ම යුගයේදී නිවැරදි

ආකාරයෙන් හෙළ බසින් ලියා තිබූ මුල් ම හෙළ මහාවංශය අද දක්නට නැත. ඒ වෙනුවට අද අපට කියවන්නට ඇත්තේ ඒ හෙළ මහාවංශයට පාලියෙන් ලියූ අටුවාවක් ම පමණි. ඒ අටුවාව ලියා ඇත්තේ මුල් හෙල මහාවංශය ලියා වසර 500කට පමණ කාලයකට පසුවයි. එනම් බුද්ධෝත්පත්තියෙන් වසර 950 කට පමණ පසුවය. මේ යුගය වන විට බුදුන් උපන් දේව හෙළය (ජන්බුද්වීපය) වන ගතවී ආරණ්‍ය සේනාසන හා වෙහෙර විහාර ටිකක් පමණක් ඉතිරි වූ ධර්ම මාර්ගයේ ගමන්ගත් දුක සේ කල් ගෙවූ භික්ඛුන් පිරිසකගෙන් පමණක් ම සමන්විත වනගත ප්‍රදේශයක් බවට ද පත්විය. නිවන් දකින්නට උපකාර වූ පවිත්‍ර බුද්ධ ධර්මය අනුරාධපුර යුගයේ මැද භාගයේ දීම යටපත් වී බුද්ධාගම නමින් ආගමක් ප්‍රචලිත වී රජගෙදර ආශ්‍රය කොටගත් ,රජගෙදරින්ම දන් වැළඳූ, සත් මහල් ප්‍රාසාදවල සුවසේ වැඩ සිටි, විශාල පෘථග්ජන භික්ෂු පිරිසක්ද මේ රටේ බිහිවූහ. ඔවුන් අනුගමනය කළේ පිරිසිදු බුද්ධ ධර්ම මාර්ගය නොව පසුව සකස් කරගත්, සම්මත කරගත්, බුද්ධාගමේ ඇදහිලි හා ලෞකික වත්පිළිවෙත්ය. නිකාය භේද, අභයගිරි - මහා විහාර අර්බුදය, රාජ පාක්ෂික හා රාජ විරෝධි යැයි දෙපක්‍ෂයකට භික්ෂුන් බෙදීම, දේව ආගම් සංකල්ප ආදී සියලු දේ මහායාන බුද්ධාගමේ ලක්‍ෂණ මිස පිරිසිදු බුද්ධ ධර්මයේ ලක්‍ෂණ නම් නොවේ. පොළොන්නරුව යුගය වන විට මේ තත්වය තවත් දරුණු විය. උතුම් බුද්ධ ධර්මය සහමුලින් ම වෙනස් කරගත් පෘථග්ජන භික්ෂුන් දේව ආගම් සංකල්ප හිස් මුදුනින් ම පිළිගෙන ක්‍රියා කළ බවත් පෙනේ. මේ අතරම නැගෙනහිර පළාතේත්, දකුණේ සිතුල්පව්ව, ලාහුගල, කුඩිම්බිගල, තිස්සමහාරාම ආදී ප්‍රදේශවලත් සබරගමු පළාතෙත්, කෑගල්ල ආදී ප්‍රදේශවලත් මේ යුගය වන විටත් ආරණ්‍ය වාසී, වනවාසී පිරිසිදු බුද්ධ ධර්ම මාර්ගය රැකගත් ආර්යයන් වහන්සේලා පිරිසිදු නිවන් මඟ අනුගමනය කරමින් මඟඵල ලබා ගත් බවද පැහැදිලි ය.



මේ අනුව මුල්ම හෙළ මහාවංශ කතුතුමා විසින් හෙළ බසින් එදා ලියා තබන ලද නිවැරදි කථා පුවත වසර 500ක් පමණ කාලයකට පසුව “ජන්බුද්වීපය” යන පදයන්ට වෙනත් අර්ථයකින් වැරදි අර්ථ කථනයක් ලබාදීමෙන් අටුවා ලියා පළකර මුළු හෙළ ඉතිහාසය ම විකෘති කර වෙනස් කරගත් බව ඉඳුරා ම පෙන්වා දිය යුතුය.

බුද්ධ චරිතය , බුද්ධ ධර්මය, ත්‍රිපිටකය, ධම්මපදය ජාතක පොත මෙන් ම ඒ හා සම්බන්ධ අනෙකුත් බොහොමයක් පොත් පත් එදා ලියුවේ ද මේ හෙළ දිවයිනේ දී ම ය. ඒ හෙළ බසින් හෝ මාගධි ප්‍රාකෘත බසින් මය. මාගධි (පාලි) බසින් ලියූ ලිඛිත මුල් ම කෘතින් දක්නට ලැබෙන්නේ වලගම්බා යුගයේ දී නමුත් හෙළ බසින් ලියු හෙළ අටුවා, කුරුන්දි අටුවා, බුදුකැලි අටුවා, මහා අට්ඨ කථා, සීහලට්ඨ කථා වැනි පොත් අනුරාධපුර යුගයටත් පෙර දේව හෙළයේ පවා භාවිතා කළ බවද පෙනෙන්නට ඇත. එදා මිහිඳු හිමියන් හෙළ දිව අම්පාරේ පිහිටි රජගහ නුවර (අද රජගල) සිට අනුරාධපුරයට ආ ගමනේදී ගෙන ආහෙළ බසින් ලියු බුදු කැලි අටුවා අනුරාධපුර යුගයට අයත් බව මහාවංශයේම ඉතිහාසයේ ම සඳහන් ය. රජගහ නුවර යනු එදා දේව හෙළයේ පිහිටි මගධ රාජ්‍යයේ අගනුවරයි. මාගධි බසින් ලියූ බොහෝ පොත් පත් ද ලියුවේ මේ හෙළ දිවයිනේ දී ම ය. පාලි භාෂාව, පාලි සාහිත්‍ය, පාලි ව්‍යාකරණ ආදී වශයෙන් පසුව සකස් කර ගත්තේ ද මාගධි බසින් ලියූ පෙළ දහමය. එසේ පාලි භාෂාවක් ලෙස සකස් කර ගත්තේ අනුරාධපුර යුගයේ අන්තිම කාලයේදී ය. පොළොන්නරුව යුගය වන විට එදා බුද්ධඝෝෂ හිමියන් ලියූ පාලි අටුවා පොත් බහුල ලෙසින් ම භාවිතා වන්නට ද පටන් ගැනිණි. පාලි යනුවෙන් බස් වහරක් ලොව කිසි ම රටක කිසිම දිනක භාවිතා කළේ නැත. එය මළ භාෂාවක් ද නොවේ. එය කෘත්‍රිම ලෙස සදා සකස් කරගත් භාෂාවකි. මාගධි ප්‍රකෘත හා පාලි යනු එකම භාෂාවක් ද නොවේ.

මාගධි ප්‍රාකෘත බස් වහරෙන් ගෞතම බුදුපියාණන් එදා දේශනා කර වදාළ උතුම් බුද්ධ ධර්මය කටපාඩම් කරගෙන වනපොත් කරගෙන දිගින් දිගටම පරම්පරාවෙන් පරම්පරාවට පවත්වා ගෙන ඒම සඳහා පේලි ලෙසින් සකස් කර පෙළ ගස්වා තිබිණි. මේ ආකාරයෙන් පේලි ගස්වා තිබූ බුද්ධ ධර්මය පෙළ දහම ලෙසින් පසු කලෙක ප්‍රචලිත විය. මේ පෙළ දහමට ම පසු කාලයකදි ව්‍යවහාර අර්ථයෙන් අර්ථ ලියා සකස් කරගත් භාෂාව පාලි භාෂාව නම් විය. මේ සියල්ලම සිදු වුයේත් , විපරිනාමයට පත් වූයේත් මේ හෙළ දිවයින තුළ දීමය. ඉන්දියාවේ කිසිම තැනක, කිසිම කාලයක මාගධි ප්‍රාකෘත නමින් භාෂාවක් භාවිතා කළේ නැත. පරිහරණය කළේ නැත. අනුරාධපුර යුගයේ දෙවැනි භාගයේදි ලංකාවෙන් බොහෝ පාලි පොත්පත් ඉන්දියාවට ගෙන ගොස් සංස්කෘත භාෂාවට ඒවා පරිවර්ථනය කර ඉන්දියාවේ ද භාවිතා කළ අතර ලංකාවේ පාලි උගතුන් ඉන්දීය විශ්ව විද්‍යාලවල (අජන්තා, වෙල්ලෝරා) පාලි භාෂාව ඉගැන්වු බවද සඳහන් වෙයි. සමහර ඉන්දියානු ජාතිකයන් ලංකාවේ දි මෙන්ම ඉන්දියාවේදි ද පාලි භාෂාව ඉගෙන ගෙන හෙළ බසින් ලියා තිබු පොත් පත් පාලි භාෂාවට පරිවර්තනය කළ බවද පෙනේ. බුද්ධඝෝෂ ආචාරින් මෙන් ම විනය අටුවාව ලියු මහානාම හිමි ද මේ අතර ම වූහ. මේ අය පාලිමෙන් ම හෙළ බස ද ඉගෙන ගත්තේ මේ හෙල බිමෙහි ම වැඩ සිටි භික්ෂූන් වහන්සේලාගෙන් ම ය. මේ අනුව ගෞතම බුදුන් මාගධි බසින් එදා බුද්ධ ධර්මය දේශනා කළේ මේ රටේ ම කොටසක් වූ එදා දේව හෙළය, ජන්බුද්විපය නමින් හැඳින් වු ප්‍රදේශයේ දීම ය. ලංකා පුරය නමින් ප්‍රසිද්ධ වූයේ උතුරු කුරු දීපයේ එනම් යක්ඛ හෙලයේ අගනුවරයි.



## 2. බුද්ධ ශක්තිය කේන්ද්‍ර ගත වූ නිවැරදි තැන්

මහා පරිනිබ්බාන සූත්‍රයේ දැක්වෙන පරිදි ගෞතම බුදුපියාණන් වහන්සේ ම එදා ආනන්ද හිමියන් අමතා මේ ආකාර ප්‍රකාශයක් කර ඇත.

1. **"චත්තාරි මානි ආනන්ද,**
   **සද්ධස්ස කුලපුත්තස්ස**
   **දස්සනීයානි, සංවේජනීයානී ඨානානි**
   **කතමානි චත්තාරී"**

2. **ඉධ තථාගතෝ ජාතෝති ආනන්ද**
   **සද්ධස්ස කුලපුත්තස්ස**
   **දස්සනීයානං, සංවේජනීයානං ඨානං**

3. **ඉධ තථාගතෝ අනුත්තරෝ සම්මා සම්බෝධිං**
   **අභිසම්බුද්ධෝති ආනන්ද**
   **සද්ධස්ස කුලපුත්තස්ස**
   **දස්සනීයානං සංවේජනීයානං ඨානං**

4. **ඉධ තථාගතෝ අනුත්තරං ධම්මචක්කං**
   **පවත්තිතන්ති ආනන්ද**
   **සද්ධස්ස කුලපුත්තස්ස**
   **දස්සනීයානං සංවේජනීයානං ඨානං**

**ඉධ තථාගතෝ අනුපාදිසේසාය, නිබ්බානධාතුයා පරිනිබ්බුතෝති ආනන්ද, සද්ධස්ස කුලපුත්තස්ස දස්සනීයානං සංවෙච්ජනීයානං ඨානං"**

ගෞතම බුදුපියාණන්ම ආනන්ද හාමුදුරුවන්ට එදා මේ ආකාරයෙන් පවසා ඇත. "ආන්නද නිවන් මඟ සොයන, ධර්ම මාර්ගයේ යන ශ්‍රද්ධාවන්ත කුල පුත්‍රයින්ට දස්සනේන සංපන්නවීමට , චිත්ත ප්‍රසාදයක් ඇති කරගෙන සම්මා දිට්ඨියට පත් වන්නට- සෝතාපත්ති මාර්ගයෙන් සෝතාපත්ති ඵලයට පත් වන්නට- බලවත් ලෙසින් ම උපකාර වන, උපකාර කර ගත හැකි ස්ථාන හතරක් දැක බලා වැඳපුදා ගෙන සිත පහන් කර ගැනීම අවශ්‍යය" මේ ස්ථාන හතර නම්.

1. සිදුහත් කුමාරයාගේ උපත සිදු වූ ස්ථානය
2. ගෞතම බුදුපියාණන් අනුත්තර සම්මා සම්බෝධියට පත් වූ ස්ථානය
3. ගෞතම බුදුපියාණන් ප්‍රථම ධර්ම දේශනාව පැවැත්වූ ස්ථානය හා
4. ගෞතමයන් වහන්සේ අනුපදිසේස නිර්වාන ධාතුවෙන් පිරිනිවන් පෑ ස්ථානය යන හතරයි.

සද්ධස්ස කුලපුත්තස්ස පුද්ගලයා යනු නිවැරදිව ධර්මය අසා දැන, නියම බුද්ධ ධර්මය මාර්ගය ම අනුගමනය කරන, සෝතාපන්න මාර්ගයේ ගමන් කරන කෙනෙකු ගැන හැඳින් වූ විශේෂණ පදයකි. දැඩි අන්ධ භක්තියෙන් මුළා වූවකු ශ්‍රද්ධාව ඇති කෙනෙකු වන්නේ ද නැත. මේ උතුම් ස්ථාන හතර පිළිබඳව පිරිනිවන් පා වදාරන්නට මොහොතකට පෙර බුදුපියාණන්ම දේශනා කර පෙන්වූ නිසා නිවැරදිවත් පිරිසිදුවත් මෙම ස්ථානයන් සොයා දැන ඒවායේ ඇති වැදගත්කම ද තේරුම් ගත යුතුය. මඟඵල ලබන්නට උපකාර වන බුද්ධ ශක්තිය කේන්ද්‍ර ගත වී පවතින්නේ මේ ස්ථානයන් ආශ්‍රයෙන් ම පමණි. එදා බුදුපියාණන්



ජීවමානවම වැඩ සිටි යුගයේ නම්, ශ්‍රාවක මහඅරහතුන් වැඩ සිටි යුගයකදී නම්, මේ ස්ථාන එතරම් වැදගත් වූයේ නොවේ. ඊට හේතුව බුද්ධ රූපය දර්ශනය ම බුද්ධ කටහඬ ශ්‍රවනයම, ඒ බුද්ධ ශක්තිය ම එදා සද්ධස්ස කුලපුත්‍රයින්ට ජීවමානවම ලැබුණ නිසා ය. නමුත් අද නිවැරදි ලෙසින් ම, මේ බුද්ධ ශක්තිය ලබාගත හැකි වන්නේ මේ ස්ථානයන් ද නිවැරදි ව ම දැන දැක බලා වැඳපුදා ගැනීමෙනි. මෙය බුද්ධ ශක්තියට අනුගත වීමයි.

පරම පවිත්‍ර බුද්ධ ධර්මය ම මතුකර නිවන්මඟ පෙන්වා දී ලෝකයාට, දේශනා කරමින් ශ්‍රද්ධාවන්ත කුලපුත්‍රයින් පිරිසක් ද බිහි කරමින් එවන් පිරිසකට මඟඵල ලබා නිවන් අවබෝධ කර ගැනීමට උපකාර වන පරිදි අවංක අදහසින් ම මෙම උතුම් ස්ථානයන් ද නිවැරදිව ම සොයා දැන ඒවා මතුකර ලෝකයාට ප්‍රකාශ කිරීම ද කළ යුතු යුතුකමකි. යුග මෙහෙවරකි. මෙසේ පරම සත්‍ය හෙළ කරන්නේ කාගේවත් හිත රිදවීමට හෝ කාටවත් ලැබෙන ලාභ සත්කාර අප වෙත ලබාගැනීමට හෝ කිසියම් ආකාරයක ප්‍රතිලාභයක් බලාපොරොත්තුවෙන් හෝ නොවන බවත් අවංකව ම ප්‍රකාශ කළ යුතුය. මෙහිදී සම්මත මත දරණ අය අතරින් යම් යම් විරුද්ධතා මතුවිය හැකි බව ද පැහැදිලි ව ම පෙනෙන්නට ඇතත් මේ සත්‍යය කවදා හෝ නොබියව ම හෙළි පෙහෙළි කළ යුතු මය. භය යනු පෘථග්ජන සිතක පහළවන ගතියකි. අද වන විට පරම පවිත්‍ර සිරි සද්ධර්මය අසා දැන අවංකවම මඟ අනුගමනය කරන විශාල සද්ධස්ස කුල පුත්‍රයන් සමූහයක් මේ හෙළ දිවයින තුළම බිහි වී ඇති නිසා එවැනි අයට නිසි මඟ පෙන්වා දීමට මේ පරම සත්‍යය මෙසේ හෙළි දක්වමි. මෙහිදී කිසිම ආකාරයක ප්‍රසිද්ධියක්, ප්‍රචාරයක්, ප්‍රණාමයක් හෝ ප්‍රතිලාභයක් බලාපොරොත්තු නොවන බවද පෙන්වා දිය යුතුය.

මේ උතුම් බුද්ධ ශක්තිය ගැබ් වී පවතින ස්ථාන හතර ම පසුගිය වසර 1500ක් තරම් දීර්ඝ කාලයක් තිස්සේ ම ධර්මතාවයෙන් ම වැසී යටපත් වී ගොස් තිබුණි. මේ ස්ථානයන් සියල්ල ම කාලයාගේ වැලි තලාවෙන් සම්මත සම්ප්‍රදායික මතිමතාන්තර වලින් වැසී යටපත් වී යෑමත් සමඟ ම බොහෝ මිනිසුන්ට නිවන් දැක ගන්නට තිබූ උතුම් අවස්ථාව ද වැසී යටපත් වී අහිමි වී  ගිය බවත් ප්‍රකාශ කළ යුතු මය. මේ ප්‍රධාන ස්ථානයන් හතර පමණක් නොව බුදුපියාණන් වසර විස්සක් පමණ ම වැඩ සිටි දෙව්රම් වෙහෙර මුල්ම කාලයේ වසර විස්සක්ම වැඩ වාසය කල රජගහ නුවර වේළුවනාරාමය මෙන්ම බුද්ධ ස්පර්ශය ලැබූ තවත් වැදගත් සිද්ධස්ථාන රාශියක් ම මෙසේ යටපත්ව ගියේ උතුම් බුද්ධ ධර්මය විකෘති වී යටපත් ව යෑමත් සමඟ ම බවද පෙන්වා දිය යුතුය. පරම  පවිත්‍ර බුද්ධ ධර්මය යටපත් වී භක්තියෙන් අදහන බුද්ධාගමක් බවට පත් වීමත් ආගම් ඇදහිල්ලක් බවට පත් වීමත් සමඟ ම ශ්‍රද්ධාවන්ත කුලපුත්‍රයෝ ද දුලබ වී ගියහ. භක්තියෙන් ආගම් අදහන, ඇදහිලි වලට මුල් තැන දුන් පෘථග්ජන අය ම බහුල වූහ. මේ නිසා මේ උතුම් ස්ථාන ධර්මතාවයෙන්ම යටපත් වී ඒ වෙනුවට වෙනත් ආකෘති ස්ථාන සම්මත කර ගැනීම ද සිදු වූ බව පෙනේ. එයද ධර්මතාවයයි සද්ධස්ස කුලපුත්‍රයින් නැති කාලයකදි මේ උතුම් ස්ථානයන් ද ධර්මතාවයෙන්ම යටපත් වී අභාවයට පත් වීම ධර්මතාවයකි.

පරම පවිත්‍ර බුද්ධ ධර්මය දේශනා කර, “සං” දේශනාව දේශනා කර ද්වතාව ධර්මය මතුකර පෙන්වා දී, තිපරිවට්ටය දේශණා කර නිවැරදි ව චතු අරිය සච්චයන් අවබෝධ කර ගන්නට උපකාර වන පරිදි අනුශාසනා ප්‍රාතිහාර්ය පෑම , තරමට ම මෙම ස්ථානයන් නිවැරදි ව ම හඳුනාගෙන ඒවා මතුකර ශ්‍රද්ධාවන්ත පුද්ගලයන්ට වැඳපුදා ගන්නට යලි මතුකර පෙන්වා දීමත් නිවන් මාර්ගයට බෙහෙවින් ම උපකාරක ය.



පටිච්චසමුප්පාද ධර්මය, ද්වතා ධර්මය, තිපරිවට්ටය හා චතුරාර්ය සත්‍යය නිවැරදිව ම දේශනා කරමින් ආධ්‍යාත්මික පාරිශුද්ධිය ලබා ගන්නට මඟ කියා දෙන අතරේම , අතීත බුදු පියාණන් වහන්සේලා නිකුත් කළ විශ්ව ශක්තිය සමඟ ද අනුගත විය හැක්කේ මෙම ස්ථානයන් ද දැක වැඳ පුදා ගැනීමෙනි. මේ අනුව අවංකවම මේ ලබාගත් මිනිස් ආත්මභාවයේ දී ම මඟඵලයකට පත් වන්නට වෙර දරන ශ්‍රද්ධාවන්ත කුලපුත්‍රයින්ට මේ නිවැරදි තොරතුරු හෙළිකර දැනුම් දීම ද මහත් වූ අස්වැසිල්ලක් ම වනු ඇත. අදටත් මේ උතුම් ස්ථානයන් සියල්ල ම පිරිසිදුව ආරක්‍ෂා වී රැකී පවතින අතර මේවා හෙලිකර දීමේ අවංක වූ චේතනාව, බලාපොරොත්තුව නිවන් දකින්නට පිං ඇති මිනිසුන්ට මේ ස්ථානයන් ලෙහෙසියෙන් හා පහසුවෙන් දැක බලා වැඳ පුදා ගන්නට ද අවස්ථාව ලබා දීමයි.

වසර 1500ක් තරම් දිගු කාලයක්ම මේ උතුම් ස්ථානයන් යම්කිසි බලවත් ධර්මතාවයකින් ම වැසී යටපත්ව ගොස් තිබුණි. මේ ස්ථානයන් වෙනුවට මේ වෙනුවෙන් ම ගොඩනැගූ ආකෘති සහිත වූ වෙනත් ස්ථානයන් සම්මත කරගෙන වැඳ පුදා ගත් බවත් නිවැරදිව ම තේරුම් ගත යුතුය. ජන්බුද්වීපයෙන් බාහිර තැනක පිහිටි මෙම ආකෘති ස්ථාන වල බුද්ධ ශක්තිය හෝ විශ්ව ශක්තිය හෝ රැඳී නැති නිසා මිනිසුන්ගේ ආධ්‍යාත්මික පාරිශුද්ධිය මතු කර වීමට උපකාර වන සුදුසු බලයක් එම ආකෘති ස්ථානවල ගැබ් වී නැත. ඒ අනුව පසුගිය කාලයේ බුද්ධ ශක්තිය - විශ්ව ශක්තිය සොයා පරදේශයන්හි වන්දනාවේ ගිය පිංවතුන්ට ඒ ශක්තිය ලබා ගැනීමේ අවස්ථාවද අහිමි වී ගියේය. මේ ස්ථාන සියල්ල ම නිවැරදිවත්, පිරිසිදුවත් සොයා දැන මතුකර ගෙන ලෝකයාට ප්‍රකාශ කරන්නට සුදුසු ම කාලය දැන් එළඹ ඇති නිසා මේ නිරාවරණය කිරීම සිදු කරන බව ද

ප්‍රකාශ කරමි. මෙය අවංක පිරිසිදු චේතනාවක් මිස වෙනත් කිසිම ආකාරයක සැඟවුණු චේතනාවක්, ප්‍රතිලාභ ලැබීමේ අපේක්ෂාවක් හෝ වෙනත් කෙනකුන් ගැරහීමේ හෝ පහත් කොට සැලකීමේ චේතනාවක් මෙහි නැත. මෙය යුග මෙහෙවරක් ඉටු කිරීමේ චේතනාවෙන්ම කරන සත් ක්‍රියාවකි. සීහනාද පැවැත්වීමකි.

අනුරාධපුර යුගයේ, අනුරාධපුරයේ වාසය කළ සමහර හාමුදුරුවරුන් යාන්ත්‍රික ජීවිතයක් ගත කළා මිසක උතුම් බුද්ධ දේශනාවෙන් මතුකර පෙන්වා වදාළ ආධ්‍යාත්මික යථාවබෝධය, යථාභූත ඥාණ දර්ශනය ලබා තිබුණේ නැහැයි කියා වල්පොළ රාහුල හාමුදුරුවන් පොතක ලියා තිබේ. අද බුද්ධාගම අදහන උගත් ගිහි පැවිදි දෙපක්ෂයට ම මේ කියමන් නැවත සිහිපත් කර දෙන්නට කාලය උදා වී ඇත. යාන්ත්‍රික ජීවිතයට පුරුදු වූ පැවිදි පිරිස අද එහි අන්තයට ම ගොස් ඇති නිසා උතුම් නිවන් මඟ පිළිබඳව සත්‍යය විවෘත කර දීමට නියම සුදුසු කාලයක් දැන් උදාවී තියෙන බවද කිව යුතුයි.

## 3. අශෝක මහාධිරාජයා සහ ඔහු ගොඩනැගූ ආකෘති බුද්ධ රාජ්‍යය

ඉන්දීය ඉතිහාස කථාවේ අසහාය රාජ්‍ය නායකයකු වූ අධිරාජයකු වූ, අශෝක මහරජතුමා විසින් ගෞතම බුදුන්ගේ පරිනිර්වානයෙන් වසර 280 කට පමණ පසුව ඉන්දියාවේ තමා යටත් කරගත් ප්‍රදේශවල ධර්ම රාජ්‍යයක් පිහිටුවන ලද බව කියැවෙන කථාව කවුරුත් දන්නා සත්‍යය සිද්ධියකි. මෙහි ගැබ්ව ඇති තවත් සත්‍යය ම වූ කථා පුවතක් කාලයේ වැලි තලාවෙන් යටපත්ව ගොස් ඇත. අශෝක යුගය පිළිබඳව ඉන්දිය



ඉතිහාසය ලියා තැබූ මහාචාර්ය එල්. ඒ. බෂාම් තම ඉන්දිය ඉතිහාසය පොතේ සටහන් කර තැබූ බොහෝ දේවල් ද මේ සත්‍යය එළි දැක්වීම සඳහා අපට ප්‍රයෝජනවත්ය. මේ පොත පළවුයේ ඉංග්‍රීසි භාෂාවෙනි පසුව මෙය සිංහල භාෂාවටද පරිවර්ථනය විය. මුල් ඉංග්‍රීසි පිටපතේ සටහන් වන සමහරක් සත්‍යය කරුණු පරිවර්තනයේ දී ගිලිහී ගොස් ඇත. එසේ නැත්නම් සිංහල පරිවර්තකයන් දැරූ මතයන් ද පොතට ඇතුළු කර පොත සිංහලයට පරිවර්තනය කර ඇති බව පෙනේ.

අශෝක අධිරාජයා ඉන්දියාව තුළ බලය අල්ලා ගත්තේ ග්‍රීක පාලකයින් පලවා හැරීමෙන් පසුවය. පළමුවෙන් ම නැගෙනහිර ඉන්දියාවත් බටහිර ඉන්දියාවත් ඊට පසුව උතුරු ඉන්දියාවත් තම අධිරාජ්‍යයට අල්ලා ගත් අශෝක මහරජු ඉන් පසුව දකුණු ඉන්දියාව දෙසටද හැරුණේය. කාලිංග යුද්ධය අශෝක මහරජතුමා විසින් කරන ලද අවසාන ම හා දරුණු ම යුද්ධයයි. මිනිසුන් ලක්ෂ ගණනක් මරා ඒ හා සමාන ම මිනිසුන් ප්‍රමාණයක් සිරගත කොට විශාල ජීවිත විනාශයක් සිදු කළ මෙම යුද්ධයෙන් පසුව අශෝක අධිරාජයා කාවේරි නදිය දක්වා ම තම රාජ්‍ය බලය පතුරවා ගත්තේය.

හෙළදිව එදා පැවති දියුණු රාජ්‍යය ගැන ද හොඳින්ම අසා දැන තිබූ අශෝක මහරජතුමා කාලිංග දේශයේ ම රැඳී සිට හෙළදිව යටත් කර ගැනීමේ අදහසින් යුද්ධ හමුදා හෙළ දිවයින වෙතට ද එව්වීය. කීහිප වරක් ම මේ ආකාරයට හමුදාවන් හෙළ දිවයින කරා යැවුවත් ඒ කිසි ම හමුදාවකට හෙළදිවට ළංවන්නට හෝ නොහැකි විය.

මේ වන විට හෙළ දිවයිනේ බොහෝ තැන්වල බුද්ධ ධර්මය ස්ථාපිත වී දකුණු ඉන්දියාවේ පවා බුද්ධ ශ්‍රාවකයින් නිතර නිතර දකින්නට ලැබිණි. කාවේරි නදිය තෙක් ම දකුණු ඉන්දියාවේ ද බුද්ධ ධර්මය

ව්‍යාප්තව පැවතිනි. බුද්ධ ශ්‍රාවකයින් ගැනත්, බුද්ධ ධර්මයේ අවිහිංසාවාදි ප්‍රතිපත්ති ගැනත් අසා දැනගන්නට අශෝක මහරජුට මේ වන විට අවස්ථාව ද ලැබිණි. කාලිංග යුද්ධයෙන් හෙම්බත්ව මානසික අසහනයට පත් ව සිටි අශෝක මහ රජුට අති මහත් මානසික සුවයක් මෙන්ම ජීවිත පැවැත්මේ නව පරිවර්තනයක් ඇති කරන්නට ද සමත් වූ විශේෂ සිදු වීමක්ද මේ අතර සිදු විය. ඒ බුද්ධ ශ්‍රාවකයින්ගේ දර්ශනයත් බුද්ධ ධර්මයේ ආ අවිහිංසා ප්‍රතිපත්ති මාර්ගය ගැනත් අසා දැන ගැනීමයි. හෙළ දිවයින ගැනත් බුද්ධ ධර්මය ගැනත් මේ වන විටත් යම් යම් තොරතුරු බුද්ධ ශ්‍රාවකයින්ගෙන්ම අසා දැනගන්නටත් අශෝක අධිරාජයාට අවස්ථාව ලැබී තිබිණි. අශෝක අධිරාජයා නිග්‍රෝධ සාමනේරයින් වහන්සේ හමුවන තුරු කිසිම බුද්ධ ශ්‍රාවකයෙකු දැක තිබුණේ නැත.

යුධ හමුදා මෙහෙයවා හෙළදිව යටපත් කර ගන්නට අශෝක රජු මෙතෙක් දැරූ සියලු ප්‍රයත්නයන් ද අසාර්ථක විය. මේ අනුව බුද්ධ පුත්‍රයින්ගෙන් අශෝක මහරජු විමසා සිටියේ “මෙපමණ විශාල වූ භාරත දේශය ම ජයගත් මට මේ කුඩා හෙළ දිවයින යටත් කර ගන්නට නොහැකි වූයේ එහි ඇති කුමන බලයක් නිසාද?” යන්නයි.

මෙයට පිළිතුරු දුන් බුද්ධ ශ්‍රාවකයින් ප්‍රකාශ කර සිටියේ , මහරජ ඒ හෙළ දිවයින යනු ජන්බුද්වීපයයි. බුද්ධ රාජ්‍යයයි. එහි පවතින්නේ ධර්ම රාජ්‍යයක්. බුද්ධ රාජ්‍යය යුද්ධ බලයෙන් යටපත් කළ නොහැකියි. ඒ නිසා යුද්ධයෙන් හෙළ දිව යටත් කර ගන්නට තිබෙන ආශාව අදහස අතහැර දමන්න” යනුවෙනි. මේ අනුව යුද්ධ කිරීමේ අදහස් සම්පූර්ණයෙන්ම අතහැර දැමූ අශෝක මහ රජතුමාට අලුත් ම අදහසක් පහළ විය. ඒ අලුත් අදහස නම් තමන් ද බුද්ධ රාජ්‍යයක් - ධර්ම රාජ්‍යයක් තම රාජ්‍ය



තුළම ස්ථාපිත කළ යුතුය යන්නයි. මේ අනුව වසර නවයක් තිස්සේ ම යුද්ධයෙන් බලයෙන් රට පාලනය කළ යුගය අවසන් කර ධර්මයෙන් රට පාලනය කිරීමේ යුගයක් ඇති විය. චණ්ඩාශෝක ධර්මාශෝක බවට පත් වුයේ මේ අනුසාරයෙනි.

මේ අනුව බුද්ධ රාජ්‍යය යනු කුමක්ද, ජන්බුද්වීපය යනු කුමක්ද? එහි ඇති විශේෂ ස්ථාන හා වත් පිලිවෙත් මොනවද යනාදි දේ ගැන කරුණු සොයා බලා තමන්ට වාර්තා කරන ලෙසින් අශෝක රජු පුරෝහිතයින් නව දෙනෙකුම හෙළ දිවයින කරා පිටත් කර එවීය. බුද්ධ රාජ්‍යය, ජන්බුද්විපය පිළිබඳව සියලු තොරතුරු හා කරුණු සටහන් කරගෙන එන ලෙසද ඔවුන්ට නියෝග කෙළේය. (මහාවංශයේද මේ බව පැහැදිලිවම සඳහන් කර ඇත.)

මේ අනුව හෙළ දිවයින ගැනත්, ජන්බුද්වීපය ගැනත්, බුද්ධ රාජ්‍යය ගැනත් , බුද්ධ ධර්මය ගැනත් බොහෝ තොරතුරු අශෝක රජුට තම පුරෝහිතයින් වෙතින් ලබා ගන්නට හැකි විය. මේ සියලු තොරතුරු දැනගත් අශෝක මහ රජුට පුදුම විධියේ අදහසක් පහළ විය. ඒ අදහස නම් තම ඉන්දීය අධිරාජ්‍යය පුරාම බුද්ධ රාජ්‍යයක් කෘතිම ලෙසින් ප්‍රතිශ්ඨාපනය කිරීමයි මේ අදහස අනුව හෙළදිව ජන්බුද්වීපයේ එදා පැවති සියලු වෙහෙර විහාර, ජනපද, පූජනීය ස්ථාන සියල්ල ම ඉන්දියාවේ ද ආකෘති ලෙසින් පිහිටුවීම එතුමා ආරම්භ කෙළේය. ඒ අනුව අශෝක මහ රජුගේ නියෝගයෙන් මුළු ඉන්දීය අධිරාජ්‍ය ය පුරාම විසිරී පැතිරී යන ආකාරයෙන් තුන් වසරක් තුළදී වෙහෙර විහාර අසූහාර දහසක් ගොඩනංවා එදා හෙළදිව ජන්බුද්වීපයේ භාවිතා කරන ලද සමහරක් නම් ගම් පවා ඒවාට ආරෝපනය කෙළේය. මීට අමතරව එදා

ජන්බුද්වීපයේ පැවති සොළොස් මහා ජනපදයන්ට අනුරූපව ඉන්දියාවේ ද සමහරක් ජනපදයන් ම නාමිකව නම් කෙළේය. විශේෂයෙන් ම ගෞතම බුදුන්ගේ උපත, බුද්ධත්වය, පළමු ධර්ම දේශනාව පැවැත් වූ ස්ථානයන් මෙන් ම පිරිනිවන් පෑ ස්ථානය ද සිහිපත් කිරීම සඳහා විශේෂ ස්මාරක ස්ථානයන් ගොඩ නැඟීය. ඒවාගේම එදා හෙළදිව විශේෂ ස්ථානයන් වූ දෙව්රම් වෙහෙර ජේතවනාරාමය, රජගහනුවර වේළුවනාරාමය ආදි ප්‍රධාන ස්ථානයන් ද විශේෂයෙන් ම ගොඩ නැංවීය. එසේම අශෝක මහරජතුමා ධර්ම අමාත්‍යයින් පත්කර මේ වෙහෙර විහාරවලට බුද්ධ ශ්‍රාවකයින් ද ගෙන්වා ගන්නටත් ක්‍රියා කළහ.

අශෝක මහ රජතුමා ගොඩනැගූ මෙම ආකෘති සිද්ධස්ථාන වල ආගම් භේදයකින් තොරව එදා ඉන්දියාවේ පැවති සියලු ආගම්කයින්ට ලැගුම් ගත හැකි බවද ප්‍රකාශ කෙළේය. එදා ඉන්දියාවේ පැවති සියලු ආගම්වල අනුගමනය කළ යහපත් ප්‍රතිපත්ති සමඟ හෙළ දිවෙන් ගෙන ආ බුද්ධ ධර්මයේ යම් යම් ලෞකික අවිහිංසාවාදී ප්‍රතිපත්ති ද පංචසීල ප්‍රතිපදාව ද තවත් යම් යම් විශේෂ අංගයන් ද එක් කර මෙතෙක් හෙළ දිව පැවති පවිත්‍ර බුද්ධ ධර්මය වෙනුවට ඉන්දියාවේදී බුද්ධාගමක් ස්ථාපිත කරගන්නටත් අශෝක මහරජතුමා සමත්විය. තම අධිරාජ්‍යය පුරාම මෙම අලුත් ආගම පැතිර වූ අශෝක මහ රජතුමා ඉන්දියාවේ සියළු අසල්වැසි රාජ්‍යයන් වෙතද මේ අළුත් ආගම පැතිර වීම සඳහා ධර්ම ධූතයින් පිටත් කර යැවීය. මේ අනුව අශෝක මහරජුගේ ජීවිත කාලය තුළදී පෙරදිග බොහෝ රටවලට මෙම අලුත් බුද්ධාගම පැතිර ගියේය. මෙහි නියත ප්‍රතිඵලය වූයේ නිවන් දකින්නට උපකාර වන ලෙසින් එදා ගෞතම බුදුපියාණන් දේශනා කර වදාළ පරම පවිත්‍ර බුද්ධ ධර්මය වසර 300කට පමණ පසුව නැවතත් ආගම් සංකල්පවල බලයට යටත් වී බුද්ධාගමක් ලෙසින් ව්‍යාප්ත වීමයි.



අශෝක මහරජතුමා ආකෘති බුද්ධ රාජ්‍යයක් පිහිටුවා ඉන්දියාවේ ධර්ම රාජ්‍යයයක්ද ස්ථාපිත කර බුද්ධාගම ඉන්දීය රාජ්‍ය ආගම බවට ද ප්‍රකාශ කරන අවස්ථාව වන විටත් මේ හෙළ දිවයිනේ කොටසක එනම්, දේව හෙළයේ (එදා බුදුන් උපත ලැබූ ජන්බුද්වීපයේ) බොහොමයක් ස්ථානවල පරම පවිත්‍ර බුද්ධ ධර්මය අනුගමනය කරමින් මඟඵල ලැබූ අරහතුන් වහන්සේලා විසි තිස් දහසකටත් වඩා වාසය කළ බවද මහාවංශ ඉතිහාසයෙන්ම පැහැදිලි වෙයි. මේ යුගය වන විටත් හෙළදිව ජන්බුද්වීපයේ  කොටසක පරම පවිත්‍ර බුද්ධ ධර්මය පැතිර පැවති අතර ම තවත් කොටසක කිසිම ආගමක් ධර්මයක් නැති ගෝත්‍රික ජනතාවක්ද වාසය කළහ. ඒ යක්ෂ හෙළයේයි. එදා ගෞතම බුදුපියාණන් ජීවමානව ම හෙළදිව ජන්බුද්වීපයේ වැඩ වසන යුගයේදී පවා හෙළදිව මෙම කොටසේ ජීවත් වූ යක්ඛ, නාග, කුම්භාණ්ඩ හා ගාන්ධර්ව ගෝත්‍රික ජනයාගෙන් බහුතර ජන කොටසක් බුදුන් දේශනාකළ ධර්මය පිළිගත්තේ ම නැත. පසු කලෙක මෙම යක්ෂ ගෝත්‍රික නායකයින්ව මරවා ඉන්දියානු ජාතික විජය රජු යක්‍ෂ හෙළයේ පාලනය භාර ගත්තද එහි විසූ පොදු ජනයාට හෝ විජය රජුගෙන් පැවත ආ වෙනත් ඉන්දිය රජවරුන්ට හෝ බුද්ධ ධර්මය අනුගමනය කරන්නටද දැනුමක් නොවීය. මිහිදු හිමියන් සිදු කෙළේ එදා මෙම යක්ෂ හෙළයේ විසූ රජුට මෙන් ම එහි ජීවත් වූ පන්සිල් පවා නොරැකී මිනිසුන්ට ද බුද්ධාගම හඳුන්වා දීමයි. මේ ආකාරයට අනුරපුර රාජධානියට මිහිඳු හිමියන් බුද්ධාගම හඳුන්වා දෙන අවස්ථාව වන විටත් දේව හෙළයට අයත් මේ රටේ ම බොහෝ ප්‍රදේශවල මඟඵල ලාභී අරහතුන් වහන්සේලා දස දහස් ගණනින් වැඩ සිටි බව ඉතිහාසයේ පැහැදිලිව ම සඳහන්ය. ලංකාවට බුද්ධාගම ගෙනා බව කියන මිහිඳු හිමියන් මෙන්ම මිහිඳු හිමියන්ගේ සොහොයුරිය වූ සංඝමිත්තා මෙහෙණිය ද එදා හෙළදිව පිරිසිදු බුද්ධ ධර්මය පැවැති  සැවැත් නුවර ,

රජගහනුවර වැනි ප්‍රදේශවලට පැමිණ එදා එහි සිටි මහ අරහතුන් වහන්සේලා ගෙන් බුද්ධ ධර්මය අසා දැන ඉගෙන ගෙන මඟඵල ලබාගත් බවද පෙන්වා දිය යුතුය. මිහිදු හිමියන් හෙළබස හා මාගධි බස ඉගෙන ගත්තේද මේ දේව හෙළයේදී ම ය. අම්පාර දිස්ත්‍රික්කයේ රජගලදීය.

මිහිඳු හිමියන් හා සඟමිත් කුමරිය ඉන්දියාවේ සිට ලංකාවට පැමිණෙන අවදිය වනවිටත් හෙළදිව නැඟෙනහිර , මධ්‍යම හා දකුණු දිග ප්‍රදේශවල පිහිටි ශාක්‍ය ජනපද රාශියක් ම ශාක්‍ය කුමාරවරුන් විසින් ම පාලනය කරනු ලබමින් තිබූ රාජ්‍යයන් ලෙස පැවැතුණු බවද පෙනේ. කාවන්තිස්ස රජු මහාසේන රජු හා අභය රජු මෙන්ම තවත් නම් සඳහන් වන හා නම් සඳහන් නොවන රජවරුන් ගණනාවක්ම මේ හෙළ දිව ජන්බුද්වීපයේම තිස්සමහාරාමය , සිතුල්පව්ව, රජගහනුවර, දෙව්දහනුවර කිඹුල්වත් පුර ආදී නගරවල රජ කම් කළ බවද පෙනේ.

බුද්ධාගම අනුරාධපුර රාජධානියට හඳුන්වා දීමත් සමඟම මෙතෙක් අනුරාධපුරයේ පැවති සතුන් දඩයම් කිරීමේ සංස්කෘතිය වෙනස් වී ගියේය. කෙත්වතු කුඹුරු වගා කිරීමේ ක්‍රමයක් ද එහි ක්‍රමයෙන් ආරම්භ විය. මිහිදු හිමියන් බුද්ධාගම අනුරාධපුරයට ගෙනා අවධියේ පවා අනුරපුර රාජ්‍යයේ රජකම් කළ ඉන්දීය සම්භාව්‍යයක් ඇති රාජ්‍ය පාලකයාද තම යටත් වැසියන්ද සමඟ පසළොස්වක පෝය දිනයේ දී පවා සතුන් දඩයම් කිරීමට ගිය බව ඉතිහාසයේ සඳහන්ය. මේ සතුන් දඩයම් කිරීමේ සංස්කෘතිය වෙනස් කර කෙත් වතු වගාකිරීමට පසු කාලයේදී අනුරාධපුරයට පැමිණි කුල 18කට අයත් උගත් වියත් පිරිසේ බලපෑමද බෙහෙවින් ම හේතුවන්නට ඇත. මේ පිරිසගේ බලපෑම අනුව එදා අනුරපුර පැවැති රාජ්‍යයේ යක්ෂ ගෝත්‍රික පාලනය අවසන්ව අනුරපුර



පාලන බලයද සහමුලින්ම වෙනස් වී යක්ෂ හෙළය පමණක් නොව දේව හෙළයේ පාලනය ද ක්‍රමයෙන් අනුරපුර පාලනයට නතු විය.

අශෝක මහ රජතුමාගේ රාජ්‍ය පාලනයේ 10 වන වර්ෂයේ පටන් මහ රජුගේ මරණය දක්වාම ඔහු ධර්මරාජ සංකල්පයෙන්ම රට පාලනය කළේය. නමුත් පරම පවිත්‍ර බුද්ධ ධර්මය ගැන හෝ ගෞතම බුදුපියාණන් පෙන්වා වදාළ නිවන් දැකීම පිළිබඳව හෝ පවිත්‍ර බුද්ධ ධර්ම මාර්ගය අනුගමනය කිරීම ගැන හෝ අශෝක රජතුමා කිසිවිටකත් විශ්වාස නොකල බවත් පැහැදිලිවම පෙනේ. ඔහු එතෙක් විශ්වාස කල ඉන්දීය ජනයාගෙන් බහුතරයක් ද විශ්වාස කල හින්දු දේව ආගම් සංකල්ප ඔහු කිසි විටකත් අතනොහැරියේය. නිරතුරුවම ආගමික සංචාරයන්හි යෙදුනේ හින්දු තීර්ථයන් කරා බවද බෂාම් තුමා පැහැදිලිවම සඳහන් කරයි. ඒවාගේම කිසිම අශෝක සෙල්ලිපියක පවිත්‍ර බුද්ධ ධර්මය ගැන කිසිම සටහනක් සඳහන් නොවන බවත් ආගම් සංකල්ප හා දේව ඇදහිලි පිළිබඳ නිරතුරුවම විස්තර ලියා ඇති බවත් ඉතාමත් පැහැදිලිවම දක්නට ඇත. ඒ අනුව අශෝක මහ රජතුමා බුද්ධ රාජ්‍යයත් ධර්ම රාජ්‍යයත් මෙන්ම කෘතිම ජන්බුද්වීපයක්ද ඉන්දියාවේ ස්තාපිත කළේ තමා යුද්ධ කර අල්ලා ගත් විශාල අධිරාජ්‍යය ධර්මානුකූලව ආරක්ෂා කර තම දේශනපාලන බලය පවත්වා ගන්නටත් යුද්ධයෙන් තොරවූ දැහැමි පාලනයක් තම රටේ පවත්වා ගන්නටත් පමණි. නිවන පිළිබඳව කිසිම දැනුමක් ඔහුට නොවීය. විශ්වාසයක්ද නොවීය.

එදා ඉන්දියාවේ ප්‍රචලිතව තිබූ වේද ,ශිව, ජෛන ආගම් වල පැවැති යාග හෝම බලි, බිලි සත්ව ඝාතන සියල්ල නවතා දමා සත්ව හිංසාවද නවතා දමා  අවිහිංසාව ජනයා අතරේ ප්‍රචලිත කරන්නටත් බුද්ධාගම අශෝක රජුට බලවත් සේම උපකාර විය.

අශෝක මහ රජතුමාගේ සංකල්පයක් අනුව බිහි වූ මේ අලුත් බුද්ධාගම ඉන්දියාවේ මෙන්ම අසල්වැසි සියළුම රටවලත් කෙටි කලකට හෝ ව්‍යාප්ත විය.හෙළ දිව යක්ෂ ගෝත්‍රික රාජ්‍යයක්ව පැවැති අනුරාධපුර කොටසේද කල්යත්ම මෙම බුද්ධාගම ව්‍යාප්ත විය. ඒ සමඟම සිදුවූ විපර්යාසය නම් එතෙක් රුහුණේ දේව හෙළයේ - ජන්බුද්වීපයේ- පැතිර පැවැති නිවන් දකින්නට උපකාර වූ පරම පවිත්‍ර බුද්ධ ධර්මය ක්‍රමානුකූලව අභාවයට ගොස් අවසානයේ බුද්ධාගම පමණක් හෙළ දිවයින පුරා ජනප්‍රිය වීමය. නිවන් දකින්නට උපකාර වන පරම පවිත්‍ර බුද්ධ ධර්මය පෘතග්ජන ලෝකයා අතරේ එතරම් ජනප්‍රිය වෙන දෙයක් නොවේ. එය හුදී ජනයාට ගැලපෙන හිතවාදී ආගම් සංකල්පයක්ද නොවේ. පරම පවිත්‍ර බුද්ධ ධර්මයට අනුව සැප කියා දෙයක් නිශ්චිතව පවතින්නේ නැත. එය මායාවක්ම පමණි. දුක උරුම කර දෙන්නේ සැප හඹා යන හෙයිනි. නමුත් අශෝක රජතුමා දේව ආගම් සංකල්පයද සමඟ ඒකාබද්ධ කර සකස් කළ බුද්ධාගමට අනුව දෙවි සැප, මිනිස් සැප විඳිමින් ම නිවන් දකින්නට පැතුම් පතන ලෞකික ආගමික සංකල්පයන්ද බිහි විය. මේ බුද්ධාගම පසුව මහායානික බුද්ධාගම ලෙසින් මුළු පෙරදිග ලෝකය පුරාම ප්‍රචලිත විය. දෙවි සැප මිනිස් සැප අත්කර ගැනීම සඳහා ම සියළු පින් කම් කළ යුතු බව පෙන්වා දුන් ලෞකික වුත් හුදී ජනයාගේ සිත් ගත්තා වුත් රජ සිටු වරුන්ට ප්‍රිය මනාප වුත් ආගමක් බවටම බුද්ධාගම පරිවර්ථනය විය. මේ අනුව නිවන් දකින පරම පවිත්‍ර බුද්ධ ධර්මය යටපත්ව ගොස් ලෞකික සැප සඳහාම ක්‍රියා කරන බෞද්ධ ආගමිකයන් පිරිසක් මේ හෙළදිවෙහි ද පසු කාලයකදී බිහි වූහ. එදා අනුරාධපුරයේ දී සිදු වූයේ මේ විපර්යාසයයි.



ජන්බුද්වීපයේ දේව හෙළයෙහි එදා ඇදහූ ආගම් 60 ගණනක්ම බැහැර කරමින් ගෞතම බුදුපියාණන් ලෝකයාට පෙන්වා වදාළ, දේශනා කර වදාළ, උතුම් නිවන් මාර්ගය බුද්ධ පරිනිර්වානයෙන් වසර 700කට පමණ කාලයකට පසුව මේ ආකාරයට හෙළදිවෙන්ද සහමුලින් ම යටපත් වී, අභාවයටම ගියේය. නැවතත් ආගමික සංකල්පවලටම ජනයා හුරු පුරුදු වී බුද්ධාගමද ඇඳහිල්ලක් බවට පත් වී දේව ආගම් සංකල්පයද සමඟ එකතු වී වසර 1500ක් පමණම කාලයක් අදවන විට ගෙවී ඇත. මේ අනුව හෙළ දිව ඉතිහාසයේ බොහෝ යුගයන්හිදී බුද්ධාගම රාජ්‍ය ආගම ලෙසින්ද පිළිගෙන තිබුණේය. ගෞතම බුදුපියාණන් පෙන්වා වදාළ පිරිසිදු නිවන් මඟනම් වැසී යටපත් වී ගියේය. එය ධර්මතාවයයි.

ජන්බුද්වීපය නමින් එදා ප්‍රචලිතව පැවැති බුද්ධෝත්පත්තිය සිදු වූ මෙම දේව හෙළයේ එදා ප්‍රධාන ජනපද දහසයක්ම විය. මෙම ජනපද බොහෝමයකමත් මිහිඳු මා හිමියන් අනුරපුරයට වැඩම කළ යුගය වන විටත් පිරිසිදු පවිත්‍ර බුද්ධ ධර්මය ක්‍රියාත්මකව පැවතිණි.

මහ අරහතුන් වහන්සේලා මෙන්ම මඟඵල ලාභීහුද වැඩ සිටියහ. පිරිසිදු බුද්ධ ධර්මය අනුගමනය කිරීම නිසාම එහි ප්‍රතිඵලයක් ලෙසින්ම, හෙළ රජ දරුවන් පවා මහණ වී යුද්ධ කිරීම අතහැර දමා, රජ සැප හැර දමා, යෑම නිසා ක්‍රමානුකූලව රාජ්‍ය බලයද ගිලිහි හීන වී ගියේය. රාජ්‍ය පරම්පරාවෝද අභාවයටම ගියහ. අනුරාධපුරයේ පිහිටුවා ගත් අළුත් රාජ්‍යයට මේ සමඟම රටේ බොහෝ ප්‍රදේශද යටත්විය. දුටුගැමුණු රජු කළකට පසු දේව හෙළයේ රාජ ධානියකින් බිහි වූ එමෙන්ම අනුරපුර රාජ්‍යද යටපත් කර ගත් හෙළ දිව එක් සේසත් කළ පළමුවන රජතුමා බවට පත්විය. අප දන්නා හෙළ ඉතිහාසයේ සිවු හෙළයම එක්සේසත් කළ පළමු රජතුමා රුහුණෙන් පැමිණි දුටුගැමුණු මහරජතුමාය.

දුටු ගැමුණු රජතුමා රජ වන විටත් රුහුණේ දේවහෙළයේ සමහර රාජධානිවල පිරිසිදු බුද්ධ ධර්මය ම රැදී පැවතිණි. නමුත් දුටුගැමුණු මහරජ බලයට පත්වීමත් සමඟම ඉන්දියානු බලපෑම්වලට ඔහු ද යටත් වී බුද්ධාගම දියුණු කරන්නට ඔහුද සියළු ම කටයුතු කෙළේය. මේ අනුව ගෞතම බුදුපියාණන් පමණක් නොව අතීතයේ මේ මිහිතලය මත බුද්ධත්වයට පත් වූ සියලූ ම බුදුවරයින් වහන්සේලාටම ඒ උතුම් බුද්ධ තත්වයට පත් වීමට ස්වභාව ධර්මයෙන් ම උපකාර වූ, උරුම වූ මේ රුහුණේ පින්බිම ක්‍රමයෙන් වල්බිහි වී මහ ඝණ වනයෙන් වැසී යන්නට විය. කල් යත්ම මිනිසුන්ගෙන්ද තොර වූ මහා වනයක් බවටම පත්විය. මුල් යුගයේ ඉදිකරන ලද දෙව්රම් වෙහෙර, රජගහ නුවර මෙන්ම අනෙකුත් සියළුම සිද්ධස්ථානද වල් බිහි වී ජන්බුද්වීපය මහා වනයෙන් වැසී මිනිසුන්ගේ මතකයෙන් නම් ගම් පවා ඉවත් වී සහමුලින්ම යටපත්ව ගියේය. මේ විනාශයට ස්වභාවිකව සිදු වූ සුනාමි ජල ගැලීම් හා නියඟයන් මෙන්ම මිනිසුන් විසින් ම නිර්මාණ කරගත් බොහෝ අකටයුතු ක්‍රියාවන්ද මුල් විය.

දේව හෙළයේ ඉදිකරන ලද වෙහෙර විහාර වල්බිහි වී ගියත් අශෝක මහා රජු විසින් පසුව ඉන්දියාවේ ඉදිකරන ලද බුද්ධ රාජ්‍යඅකෘතිය එතරම් ඉක්මනින් විනාශ නොවීය. ඒ බුද්ධ රාජ්‍යය ආකෘතියට අයත් සිද්ධස්ථාන පසුව හින්දුන් විසින් තම ආගමික සිද්ධස්ථාන ලෙසින්ද පවත්වා ගෙන යන ලදී. අනුරාධපුර රාජධානියේදී පොත පත ලීයු බොහෝ ඉන්දීය ජාතික මෙන්ම ලාංකික ගත් කතු වරුන්ද ඉන්දියාවේ පිහිටු වූ බුද්ධ රාජ්‍යයේ ආකෘතිය ගැන දැන සිටි අතර එදා හෙළ දිව ජන්බුද්වීපයේ බුද්ධ කාලයේ දී ඉදිකරන ලද මුල් ගොඩනැගිලි හෝ ඒවා පිහිටි ස්ථානයන් පිළිබඳව හෝ දැන නොසිටින්නට ඇත. මේ



අනුව අනුරපුර යුගයෙන් පසු එදා මෙදා තුර පොත්පත් ලියූ සමහර දෙනෙක් ජන්බුද්වීපය යනුවෙන් ලියා තැබුවේත් අදහස් කළේත් අශෝක රජු විසින් දෙවනුව ඉදිකරන ලද අකෘති බුද්ධ රාජ්‍යයේ නටඹුන් මිස හෙළ දිව පිහිටි මුල් බුද්ධ රාජ්‍යයේ නටඹුන් නොවේ. නමුත් හෙළ දිව ඉතිරි වූ නටඹුන් අදටත් විනාශ නොවී ධර්මතාවයෙන් ම රැකී පවතින බව පෙන්වා දිය යුතුය.

බුදුන් උපන් දේශය යන අර්ථය ඇතිව ජන්බුද්වීපය යනුවෙන් එදා බුද්ධ කාලයේ දී දේව හෙළයට භාවිතා කල නාමය, පසුව මේ රටේම විසූ ගත් කතු වරුන් හා අර්ථ කථා ලියූ අය ඉන්දියාවට භාවිතා කල නමකැයි අනුමානයෙන් සිතා ක්‍රියා කලහ. පසු කාලයක අපේ ඉතිහාසය ලියූ යුරෝපීය ජාතිකයන් විසින් එය පොත්වලද ලියූහ. ජන්බුද්වීපය යන නාමය පිළිබඳව මුල් බැස ගත් මේ වැරදි මතය වෙනස් කර මේ පිළිබඳව සත්‍ය නිවරුදි ලෙසින් ලෝකයාට හෙළි කර දෙන්නට දැන් නිසි කාලය පැමිණ තිබේ. මේ පිළිබඳ එදා මෙදා තුර කාලය තුළ බොහෝ අය යම් යම් උත්සාහ දැරුවද ඒ පිළිබඳ ව සත්‍යය හෙළි කරන්නට ඔවුහු අපොහොසත් වූහ. මෙයට මූලිකම හේතුව බුද්ධාගම හා බුද්ධ ධර්මය යනු එකක්ම යැයි තවමත් බෞද්ධ උගතුන් ලෙස පෙනී සිටින අපේම බොහෝ අය දැඩිව විශ්වාස කිරීමයි. බුද්ධ ධර්මය නොදැනීමයි.

පිරිසිදු පවිත්‍ර බුද්ධ ධර්මය යළිත් මතු වී නිවන් දකින්නට උපකාරීවන ලෙසින් ලෝකයාට යලිත් බුද්ධ ධර්මය දේශනා කරන්නට පටන් ගැනීමත් සමඟම "ජන්බුද්වීපය " හා එහි ඉතිහාසය පිළිබඳව මෙතෙක් පැවැති දුර්මතය බැහැරවී පිරිසිදු ලෙසම නියම සත්‍ය හෙළි කිරීමටද දැන් කාලය පැමිණ ඇත. මෙය යුග මෙහෙවරක් ඉටු කිරීමකි. සිංහනාද පැවැත්වීමකි.

අශෝක මහරජතුමා එදා ඉන්දියාවේ තම අධිරාජ්‍ය තුළ බුද්ධ රාජ්‍යයේ ආකෘතියක් ඉදිකළේ කිසිවෙකු නොමඟ යවන්නට හෝ වෙනත් වංක වැරදි අදහසකින් හෝ නොවේ. බුදුන් උපන් දේශය ඉන්දියාව යැයි ලෝකයාට පවසා සිටීමේ කිසිම අදහසක් එදා අශෝක මහා රජතුමා තුළ නොවීය. අශෝක ලිපි සියල්ලම පිහිට වූයේත් මේ ස්ථානයන් සිහිපත් කිරීම සඳහාම පමණි. අශෝක රජුට අවශ්‍ය වුයේ තමන් යුද්ධ කර අල්ලා ගත් විශාල අධිරාජ්‍ය දැහැමින් සාමයෙන් තම මුළු ජීවිත කාලය තුළම යුද්ධයකින් තොරව පාලනය කිරීමට සුදුසු ක්‍රම වේදයක් සකස් කිරීමයි. එය සාර්ථක විය. ඒ අතරම ලංකාවේම සමහර ගත් කතු වරුන් පසුකාලයකදී මෙය වැරදි ආකාරයෙන් ලෝකයාට ඉදිරිපත් කලහ. මේ විකෘති කිරීම ඉන්දියාවේ දී සිදු වුවක් නොවේ.

අශෝක මහ රජතුමා එදා හෙළ දිව ජන්බුදවිපයේ පැවති වැදගත් ස්ථාන ආකෘති ලෙසින් ඉන්දියාවේද ඉදිකරන අවස්ථාවේදී මේ ස්ථානයන් අතර දුර ප්‍රමානයන් ගැන පවා සලකා නැත. ඔහුට අවශ්‍ය වුයේ තම රාජ්‍ය පුරාම මේ ස්ථානයන් ඉදිකිරීමය. වංචාවක් කිරීමේ අදහසක් වුයේ නම් මේ දුර ප්‍රමානයන් ද සලකා කටයුතු කරන්නට තිබුණි.

කිඹුල්වත් නුවර සුද්ධෝදන මාළිගාවේ සිට දෙව්දහ නුවරට එදා සිදුහත් කුමාරෝත්පත්තිය සිදු වූ ස්ථානයට - හෙළදිව ජන්බුද්වීපයේ නියම වශයෙන්ම පැවැති දුර කිලෝමීටර් 40ක් 50ක් වූ දුරකි. ඒ අද දිඹුලාගල සිට තෙල්දෙනිය අසල ප්‍රදේශයටයි. නමුත් අද ඉන්දියාවේ කපිලවස්තු පුරය යැයි මුලින්ම හඳුනාගත් තැන සිට නේපාලයේ ලුම්බිනියට දුර කි.මී. 3000ක් පමණ වේ. (පසු කලෙක මේ දුර ගැනම සලකා, කපිලවස්තුපුරය ලෙස වෙනත් තැනක් ද අලුතින් හඳුනාගෙන නම්



කර ඇති බවත් පෙනේ. ඒ අද උගතුන් විසිනි) දරු ප්‍රසුතියට ආසන්නයේ ගැබ් පෙලහර පාන්නට තම දෙමවුපියන් වෙත ගමන් කරන මවු කෙනෙකුට යාන වාහන නොවු එවැනි යුගයක මෙවැනි දුරක් මඟ ගෙවා ගමන් කිරිම කිසිසේත්ම සිතාගත නොහැකිය. ගැබ් පෙලහර පෑම ලංකාවේ එදා මෙන් ම අදටත් පවතින සිරිතකි. ඉන්දියාවේ මෙවැනි සිරිත් නැත. ගැබ් පෙලහර පෑම යනු දරු ප්‍රසූතියට ළංවූ මවක තම දෙමවුපියන් කරා යෑමයි.

ඒවාගේ ම අද ඉන්දියාවේ බුද්ධගයාව යැයි හඳුනාගෙන නම් කළ ස්ථානයේ සිට පළමු ධර්ම දේශනය කළ ඉසිපතනය යැයි හඳුනා ගත් ස්ථානයට කිලෝමීටර් 450 ක් පමණ දුර ගමන් කළ යුතුය.

හෙළදිව ජන්බුද්වීපයේ ශ්‍රී මහා බෝධීන් වහන්සේ අදත් වැඩ සිටින හිරිවඩුන්නේ සිට කසි රට පිහිටි නියම ඉසිපතනයට (අද මැදවච්චිය අසල පිහිටි ඉසින් බැස්සගල නම් ස්ථානයට) ගෞතම බුදුන් එදා පස්වග මහණුන් සොයා ඇවිද්ද දුර කිලෝමීටර් 60ක් පමණ වූ දුරකි. මේ දුර ගමන් කරන්නටත් එදා ගෞතම බුදුපියාණන්ට දින 3ක් පමණ කල් ගතවිය. එදා කිලෝමීටර් 450ක් දුර ගෙවා යන්නට නම් ඒ අනුව දින 20ක් වත් ගත විය හැක. නමුත් වෙසක් පොහොය දින බුද්ධත්වයට පත් වු ගෞතමයන් වහන්සේ සත්සතියක් එහි ගතකොට අටවැනි සතිය අවසානයේ ඇසල පොහොය දින ඉසිපතනයේ දි පස්වග මහණුන්ට දහම් දෙසු බවද සඳහන්ය. මේ කරුණු ගැන තර්කානුකූලව නැතත් ධර්මානුකූලව කරුණු සලකා බැලිය යුතුය.

ඒ වාගේම එදා හෙලදිව ජන්බුද්වීපයේ විශාලා මහනුවර සිට කුසිනාරාව තෙක් ද රජගහ නුවර සිට විශාලා මහනුවර තෙක් ද පැවති දුර ප්‍රමාණයන් හා අද ඉන්දියාවේ ඒ ස්ථානයන් ලකුණු කර ඇති ස්ථාන වලට ඇති දුර ප්‍රමාණයන් ද සලකන විට මෙම ස්ථාන සියල්ල ම හිතාගත නොහැකි තරම් දුරින් පිහිටා ඇත. මේ කරුණු ද සසඳා බලා කෙනෙකුට ඇත්ත නැත්ත තේරුම් ගත හැකිය. ඉන්දියාවේ වන්දනා චාරිකාවල යන, චාරිකාවල ගිය, හැම කෙනකුට ම මේ ගැන අත් දැකීම් ද ඇත. (ඉදිරි පරිච්ඡේදයක මේ ස්ථානයන්ද විස්තර කර දී ඇත.)

එදා ඉන්දියාවේදී අශෝක රජතුමා විසින් ඉදිකරන ලද බුද්ධ රාජ්‍යයේ ආකෘතිය සහ ඊට වර්ෂ 300කට පමණ පෙර කාලයකදී මේ හෙළදිව ජන්බුද්වීපයේ මුල් බුද්ධ රාජ්‍යය තුළ ඉදිකරන ලද ගොඩනැගිලිවල පාදම ද අදටත් ඉතිරිව ඇත. මේ නටඹුන් සන්සන්දනය කර බලන කෙනෙකුට පහත සඳහන් වෙනස්කම් ද දැක බලා ගත හැකිය. සත්‍යාවබෝධයට මේවා බෙහෙවින් ම උපකාර කර ගත හැකිය.

1. බුද්ධ කාලයේ හෙළදිව ජන්බුද්වීපයේ රජකම් කළ රජදරුවන්, සිටුවරුන්, ධනවතුන් ඉදිකළ විවිධ ගොඩනැගිලි වෙහෙර විහාර ආදියේ අදටත් ඉතිරිව ඇති සුවිශේෂී නටඹුන් දෙස බලන විට ඒ සියලු ගොඩනැගිලිවල පාදම තනි කළුගලෙන්, පදම් කරන ලද කළුගල් පුවරුවලින් සකස් කර ඇති බව පෙනේ. ඒ සියලු ගල් පුවරු උසස් තාක්ෂණයක් යොදාගෙන සකස් කරගෙන ඇති බවත් පෙනේ.
   අද කළුගල් සකස් කර ග්‍රැනයිට් සාදන්නාක් මෙන් එදා හෙළදිව වැසියන් කළුගල් පදම්කර සකස් කර ගත් බව පෙනේ. අදටත් රිටිගල, හිරිවඩුන්න, අම්පාරේ බුද්ධංගල, රජගල, නිල්ගල, තිරියාය ප්‍රදේශවල හා බලංගොඩ බුදුගල, කුරගල ප්‍රදේශවලත්, සිතුල් පව්ව, තිස්සමහාරාමය, මාලිගාවිල, ,කුඩුම්බිගල, මුහුදු මහ විහාරය මෙන් ම විශේෂයෙන් ම සේරුවිලට දකුණෙන් ඇති කොට්ටියාරම් නුවරත් කටාරම් පුරයේත් එදා ඉදිකළ කළුගල් පුවරු හා ගොඩනැගිලිවල පදනම් අදටත් ඉතිරිව ඇති නිසා මේ කළුගල් තාක්ෂණය දියුණුව පැවැති ආකාරය සිතාගත හැකිය. නමුත් ඉන්දියාවේදී අශෝක මහරජ විසින් ගොඩනැගූ බුද්ධ රාජ්‍යයේ ආකෘතිය ගොඩනැගීමේදී භාවිතා කර ඇත්තේ ගඩොල් ය. අනුරාධපුර යුගයට පෙර බුද්ධ කාලයේ දී හෙළදිව ගඩොල් භාවිතා කර නැත.

2. අශෝක මහරජු විසින් එදා ඉන්දියාවේ ඉදිකළ බොහෝ ගොඩනැගිලිවල අදටත් ඉතිරිව ඇති නටඹුන් සියල්ල ම ගැන සලකන විට ඒවායේ හින්දු සංස්කෘතියට, හින්දු ගෘහ නිර්මාණ ශිල්පයට හෝ ග්‍රීක ගෘහ නිර්මාණ ශිල්පයට අයත් ලක්ෂණයන් හා ඒවායේ බලපෑම් ඇති බව පැහැදිලිවම දකින්නට ඇත. නමුත් එදා හෙළ දිව බුද්ධ කාලයේ ඉදිකරන ලද සියළුම ගොඩනැගිලි පාදම් වල දක්නට ඇත්තේ අපට ම ආවේණික වූ, ලොව වෙනත් තැනක දක්නට නැති ශිල්ප ක්‍රම හා ලක්ෂණයන් ය. මේ බව රිටිගල පුරා විද්‍යා නටඹුන් වලින් පමණක් ම වුවත් දැකගත හැකි ය. අද රිටිගල යැයි අප හඳුන්වන්නේ එදා සුදත්ත (අණේපිඩු) සිටුතුමා තම ධනය වැය කර ඉදිකරන ලද දෙව්රම් වෙහෙරේ නටඹුන් ය. එය ගෞතම බුදුපියාණන් වසර විස්සක් පමණ ම කාලයක් වැඩසිටි ජේතවනාරාමය යි. මේ අනුව ම එදා ජන්බුද්වීපය යැයි විරුදාවලිය ලැබූ, දේව හෙළයට අයත් ව තිබූ සොළොස් මහ ජනපදවල ම රජකළ රජදරුවන් හා මහ ධන සිටුවරුන් බුද්ධ ප්‍රමුඛ මහා සංඝයාට පූජා කළ වෙහෙර විහාර කිසිවක් ගඩොලින් සෑදූ ඒවා නොවේ. හින්දු හෝ ග්‍රීක සංස්කෘතික

ලක්ෂණවලින් යුතු ඒවා ද නොවේ. නමුත් පසු කලෙක අනුරාධපුර යුගයේ හෝ ඊට පසුව හෝ ඉදිකළ ගොඩනැගිලි වෙහෙර විහාර බොහොමයක් ගඩොල් භාවිතයෙන් ඉදිකළ හින්දු හා ග්‍රීක ගෘහනිර්මාණ ශිල්පීය බලපෑම් සහිත වූ ඉදිකිරීම්ය. ඒ ඉන්දීය බලපෑම් වලට පසු යුගයයි.

3. පිළිම නෙළීම, පිළිම වන්දනාව හෝ පිළිම තැනීම එදා බුද්ධ යුගයේ මුල් හෙළදිව ජන්බුද්වීපයේ දකින්නට නොලැබිණි. පිළිම නෙළීම හා පිළිම වන්දනාව භාවිතයට පැමිණියේ ග්‍රීක බලපෑමක් අනුවය. අනුරාධපුර යුගයේද පසුව ඉන්දීය බලපෑම් මත පිළිම නෙළීම, පුදසුන් සකස් කිරීම, ලංකාවේ ද ආරම්භ කළේ පසු කාලීනව ඉන්දියාවෙන් ලංකාවට පැමිණි ශිල්පීන්ගේ ක්‍රියාකාරකම් නිසා ය. පවිත්‍ර බුද්ධ ධර්මයේ මේවා කිසිවක් ම නොවීය. පසුව නිර්මාණය කර ගත් බුද්ධාගමේ, බෞද්ධ සංස්කෘතියේ මේවා සියල්ලම අඩංගුය. එදා හෙළදිව වැසියන් වන්දනාමාන පැවැත්වූයේ බුදුසිරිපතුලට හා ඇසතු බෝධියටය.

4. එදා හෙළදිව ජන්බුද්වීපයේ භාවිතා කරන ලද කළුගල් පදම් කර සකස් කර ගන්නා විශ්මිත තාක්ෂණය පිළිබඳවද මෙහි සටහනක් තැබිය යුතුය. මෙය ඉතාමත්ම දියුණු තාක්ෂණයකි. ගල් වඩුවන් විසින් ගල් කඩා, ගල්කොටා සකස් කළ, ගල් පුවරු සකස් කර ගත් ක්‍රමයක් මෙහි නැත. විශේෂයෙන්ම මෙම ගල් පුවරු භාවිතා කළේ ආගමික ගොඩනැගි තැනීමේදීම පමණක් බවද දක්නට ඇත. මෙසේ කළුගල් පාදම කර සකස් කර ගන්නට එදා භාවිතා කළේ කැළයෙන්ම සපයා ගත් කැළෑ කොළ තුන් වර්ගයක් යම් පදමකට කොටා මිරිකා



සකස් කර ගත් දියරකට තවත් කැළයෙන්ම සොයා ගත් ගෙඩි වර්ගද යුෂ ද මිශ්‍ර කිරීමෙනි. මෙම මිශ්‍රණය යොදාගෙන කළුගල් සියුම් ආකාරයට පැලීමටත් කිරිමැටි මෙන් කළුගල් මෙලෙක් කර කැමැති ආකෘතියකට ගල් සකස් කර, කැමැති හැඩයකින් ගල් පුවරු ලබා ගන්නටත් හැකි වූ උසස් ක්‍රමවේදයක් එදා හෙළ දිව තිබුණි. ඉන්දියාවේ ඍෂි වරුන් පවා මෙම උසස් ක්‍රමවේදය එදා දැන සිටියේ නැති බව මෙහිදී පැවසීය යුතුය.

බුද්ධ කාලයේ හෙළදිව මෙවන් උසස් තාක්ෂණයක් නොවූයේ නම් අද රිටිගල අක්කර 1000ක තරම් විශාල ප්‍රදේශයක් තුළ හා විශේෂ ස්ථාන 58 ක විසිරී පැවැති පවතින ලක්ෂ සංඛ්‍යාත වූ මට සිළිටු ගල් පුවරු සකස් කර ගන්නට වසර දහසකටත් වැඩි දීර්ඝ කාලයක් ගත වෙනු ඇත. නමුත් එදා මේ සියල්ල සකස් කර ගෙන ඇත්තේ වසරක් හෝ දෙකක් ඇතුලතදීය. අද මෙය විශ්ව කර්මයෙකුගේ ක්‍රියාවක් ලෙසින් දකින්නට ඇතත් එය එදා ජන්බුද්වීපයේ පැවැති උසස් තාක්ෂණය විදහා පෙන්වීමකි.

## 4. ආටානාටි සූත්‍රයෙන් හා මහාසමය සූත්‍රයෙන් විස්තර කෙරෙන එදා හෙළදිව

බුද්ධ දේශනාවක් ම වූ ත්‍රිපිටකයේ දීඝ නිකායේ සඳහන් වන ආටානාටි සූත්‍රය මෙන්ම මහා සමය සූත්‍රයෙහිද සඳහන් වන කරුණු කාරණා දෙස විමසිල්ලෙන් බැලුවහොත් එදා ගෞතම බුදුපියාණන් වැඩ සිටි ධර්මය දේශනා කල ජන්බුද්වීපය නම් වූ සිව් හෙළය පිළිඳව නිවැරදි වූත් සත්‍යම වූත් , කරුණු රාශියක් හෙළි දරව් කරගත හැකි වේ.

ත්‍රිපිටකයේ එන මෙම සූත්‍ර දෙක ම බෞද්ධයාට දැක ගත හැකි වන්නේ පිරිත් පොතෙන්ය. ඒවාගේම දිනපතාම ගුවන් විදුලියෙන් ආටානාටි සූත්‍රය අසා ගන්නටත් ලැබේ. මෙම සූත්‍රයෙන් දිනපතාම වාගේ ශ්‍රවණය කළත් මෙහි සඳහන් මාගධි පදවලින් කියැවෙන සත්‍යමය වූත් ඓතිහාසික කරුණු පිළිබඳව කවුරුන් හෝ තවමත් නිවැරදිව තේරුම් කර දී නැත. මේ ආටානාටිය සූත්‍රය කියන්නේ යකුන් භූතයින් එලවීමට කීදෙයක් යැයි කියමින් එහි අදහස යටපත් කිරීම අද උගත් බෞද්ධ පැවිද්දන්ගේ පවා සිරිතයි. සම්මත සම්ප්‍රදායයි.

දිනපතාම ඔබට අසන්නට ලැබෙන, හැම ගෙදරකම වාගේ පිරිත් පොතේ ද සඳහන් වන මෙම සූත්‍ර දෙකෙහිම සඳහන් වන විශේෂ ඓතිහාසික කරුණු රාශියක් පිළිබඳව විග්‍රහ කර ඒ අනුව අපේ හෙළ ඉතිහාසය ද නිරවුල් කරගත යුතුව ඇත. මෙම සූත්‍ර දෙකේ ම සඳහන් වන්නේ බිය උපදවන, ආශ්චර්යවත් වූ අත්භූත වූ යක්ෂ භූත ආදී නොපෙනෙන බලවේගයන් සමූහයක් පිළිබඳව යැයි සිතතොත් නම් එය බලවත්ම වැරදීමකි. ආටානාටි සූත්‍රය යනු එදා බුද්ධ කාලයේ හෙළ බිම පැවැති තත්වය පිළිබඳව කදිම චිත්‍රයක් ඇඳ කරුණු හෙළි දක්වන , සත්‍යමය කරුණු විස්තර කරන සූත්‍රයකි.

මාගධි භාෂාවෙන් ත්‍රිපිටකයේ ලියා ඇති මෙම ආටානාටි සූත්‍රය සම්පූර්ණයෙන්ම නැවතත් මාගධි බසින් ලියා දැක්වීමට මෙහි දී බලාපොරොත්තු නොවන අතර සමහර වැදගත් කොටස් පමණක් විස්තර සහිතව විග්‍රහ කර බැලීමට ලියා දක්වන්නට අදහස් කරමි.



**"එවං මේ සුතං ඒකං සමයං භගවා**
**රාජගහේ විහරති ගිජ්ජකූට පබ්බතේ**
**අථකෝ චත්තාරෝ මහා රාජා**
**මහතියාච යක්ඛ සේනාය**
**මහාතියාච ගන්ධබ්බ සේනාය**
**මහාතියාච නාග සේනාය**
**මහාතියාච කුම්භාණ්ඩ සේනාය"**

ගෞතම සම්මා සම්බුදුපියාණන් රජගහ නම් නුවරට නුදුරෙහි වූ ගිජ්ජකූට නමින් එදා ප්‍රකට වූ, පර්වත විහාරයෙහි වැඩ වසන එක්තරා දිනක මෙහි සඳහන් වන යක්ඛ ගෝත්‍රික මහ රජවරු හතර දෙනා තම සේනාවන්ද පිරිවරාගෙන බුදුපියාණන් බැහැ දකින්නට පැමිණියහ. මොවුන් මෙසේ පැමිණියේ යම් විශේෂ කථිකාවක් සඳහාය. වැදගත් යමක් ප්‍රකාශ කිරීමටය.

රටක පාලකයෙකු, මහරජකෙනෙකු මෙවැනි විශේෂ කාර්යයක් සඳහා තම පාලන ප්‍රදේශයෙන් පිටත පිහිටි තැනකට යෑමේදී තම සේනාවන් ද සහිතව ගමන් කිරීම එදා සිරිතක්ව පැවතිණි. ගෞතම බුදුරදුන් එදා වැඩසිටි රාජගහනම් නුවරත් ගිජ්ජකූට නම් පර්වත විහාරත් යක්ඛ රාජ්‍යයත් පිහිටියේ එකම දිපයක ය. ඒ බව මේ සූත්‍රයේ පැහැදිලිව ම සඳහන් වේ. නමුත් පාලන ප්‍රදේශ දෙකක ය. මෙහි නම් සඳහන් "වෙස්සවන" නම් කුවේර රජුත්, ධතරට්ඨ නම් ගාන්ධර්ව රජුත්, විරූපාක්ඛ නම් නාග ගෝත්‍රික රජුත් විරූල්හ නම් කුම්භාණ්ඩ ගෝත්‍රික රජුත් යන හතර දෙනාම මිනිසුන් ය .මේ රජවරුන් සමඟ පැමිණි සේනාවල සියලු ම දෙනාද මිනිස්සුය. ඔවුන් ඒ ඒ ගෝත්‍රවලට අයත් මිනිසුන් ම මිස වෙනත් නොපෙනෙන නොදන්නා අද්භූත බලවේග නොවේ.

මේ ගෝත්‍ර හතරට ම අයත් රජවරුන් ද ඔවුන් සමඟ පැමිණ සේනාවන් ද එදා හෙළදිව ම ජීවත් ව සිටි විවිධ ප්‍රදේශවලට අයත් වූ රාජධානිවලට අයත් වූ මිනිසුන්ම වූහ.

යක්ඛ හෙළය, නාග හෙළය, කුම්භාණ්ඩ හෙළය හා ගාන්ධර්ව හෙළය නමින් මේ හෙළදිව ම එදා කොටස් හතරකට බෙදී වෙන් විය. ඊට අමතරව ජන්බුද්වීපය යනුවෙන් ප්‍රකාශ කළ දේව හෙළයේ ශාක්‍ය ජනපද සොළසක්ද විය. මෙහි සඳහන් රජගහ නුවර එදා පිහිටියේ දේව හෙළයට අයත් මගධ නම් ශාක්‍ය ජනපදයේය.

යක්ඛ ගෝත්‍රික මහරජවරුන් හතර දෙනා එදා රාත්‍රි කාලයේ බුදුන් හමුවට පැමිණියේ මහ එළි දල්වාගෙන ය .මේ සියලු ම දෙනා ද අප වැනිම මිනිස්සුය. අපේ ම මී මුත්තෝය. මේ අපේ ම රටේ අතීතයේ විසූ ගෝත්‍රික ජන කොටසකට අයත් වු මිනිස්සුය.

දේව හෙළය හා යක්ඛ හෙළය නමිනුත් නාග හෙළය නමිනුත් එදා තුන් හෙළය ප්‍රසිද්ධ විය. යක්ඛ හෙළයේ යක්ඛ කුම්භාණ්ඩ හා ගාන්ධර්ව නමින් යක්‍ෂ ගෝත්‍රික ජනයා ම තුන් කොටසක් වූහ. ඔවුන්ට වෙන වෙනම රජවරු සිටියහ. යක්ඛ , නාග කුම්භාණ්ඩ හා ගාන්ධර්ව යන ගෝත්‍ර හතරට ම නායක වූ පාලක වූ මහරජ කෙනෙක් ද විය. ඒ මහරජු ආටානාටා නම් නුවර රජකළ වෙසමුණි නමින් හැඳින්වුණු කුවේර මහරජතුමාය. මේ යක්ඛ හෙළයේ පාලන මුලස්ථානය සහ රාජ්‍ය සභාව පිහිටියේ ආටානාටා නුවර ය. එය අද අනුරාධපුරයට ආසන්න විලච්චියේ පිහිටා තිබිණි.



යක්ඛ හෙළයේ රජකම් කළ මෙහි නම් සඳහන් වන රජවරුන් හතර දෙනාට ම පොදු වූ මෙම රාජ සභාවේදී, ආටානාටා නුවරදී රජවරු හා නායකයෝ එක් වී ආටානාටි ප්‍රඥප්තිය- නමින් ආඥාවක් සම්මත කර ගත්හ. මේ ආඥාව පනවා ගත් මහරජුන් හතර දෙනා ගෞතම බුදුපියාණන් හමුවන්නට පැමිණ මේ පනවාගත් ආඥාව හා මෙහි අඩංගු කරුණු ගැනත් ඒ ක්‍රියාත්මක කරන්නට බලය ලබා දුන් යක්ඛ ගෝත්‍ර හතරට අයත් නායකයින් හතළිස් දෙනකුගේ නම් පිළිබඳවත් ගෞතම බුදුපියාණන් වෙත දැනුම් දීමට මේ රාත්‍රියේ රජගහ නුවරට පැමිණි බව දැනුම් දුන්හ.

ආටානාටි නමින් ආඥාවක් පැනවීමට හේතුවද වෙසමුණි රජු බුදුපියාණන්ට විස්තර සහිතව දන්වා සිටියහ.

මෙම මාගධි පදවලින් එය විස්තර වේ.

**සන්තිහි භන්තේ උලාරා යක්ඛා, භගවතෝ අප්පසන්නා**
**සන්තිහි භන්තේ උලාරා යක්ඛා භගවතෝ පසන්නා**
**සන්තිහි භන්තේ මජ්ඣිම යක්ඛා භගවතෝ අප්පසන්නා**
**සන්තිහි භන්තේ මජ්ඣිම යක්ඛා භගවතෝ පසන්නා**
**සන්තිහි භන්තේ නීචා යක්ඛා භගවතෝ අප්පසන්නා**
**සන්තිහි භන්තේ නීචා යක්ඛා භගවතෝ පසන්නා**
**යේභුය්‍යෙන ඛෝ පන භන්තේ යක්ඛා**
**අප්පසන්නා යේව භගවතෝ**
**තං කිස්ස හේතු**
**භගවාහි භන්තේ පානාතිපාතා වේරමනියා ධම්මං දේසේති**
**අදින්නාදානා වේරමනියා ධම්මං දෙසේති**
**කාමේසු මිච්ඡාචාරා වේරමනියා ධම්මං දෙසේති**

**මුසාවාදා වේරමනියා ධම්මං දෙසේති**

**සුරාමේරය මජ්ජිමා දට්ඨානා වේරමනියා ධම්මං දෙසේති**

**යක්ඛා අප්පටිවිරතා යේව**

**පානාතිපාතා, අප්පටිවිරතා අදින්නාදානා අප්පටිවිරතා,**

**අප්පටිවිරතා කාමේසුමිච්ඡචාචාර**

**අප්පටිවිරතා මුසාවාදා**

**අප්පටිවිරතා සුරාමේරය මජ්ජිපමා දට්ඨානා**

**"තේ සං තං හෝති අප්පියං අමනාපං"**

වෙසමුණි රජතුමා ගෞතම බුදුපියාණන් අභියස මෙසේ පවසා සිටියේය.

භාග්‍යවතුන් වහන්ස, යක්ඛ ගෝත්‍රයට අයත් අපේ යටත් වැසි මිනිසුන් අතර බලවත් යක්ඛයෝ සමහරෙක් බුදුන් හා බුද්ධ ශ්‍රාවකයන්ට ප්‍රසන්න සිතකින් ගෞරවයෙන් සලකති. වැඳුම් පිදුම් කරති. තවත් සමහරෙක් එසේ නොකර සිත අප්‍රසන්න තාවයෙන් යුතුව බුද්ධ ශ්‍රාවකයන්ට හිරිහැර වන සේ කටයුතු කරති.

යක්ඛ ගෝත්‍රික වූ මධ්‍යම බලයක් ඇති අපේම සමහර මිනිසුන් බුදුන්ට හා බුද්ධ ශ්‍රාවකයන්ට ප්‍රසන්න භාවයෙන් සලකති. ගෞරව දක්වති. නමුත් සමහර මධ්‍යම බලයක් ඇති යක්ඛ ගෝත්‍රික ජනයා බුදුන් හා බුද්ධ ශ්‍රාවකයන් කෙරේ අප්‍රසන්නව වෙසෙති. එය බුද්ධ ශ්‍රාවකයන්ට හිරිහැරයකි.

එමෙන්ම හින වූ පහත් වූ යක්ඛ ගෝත්‍රික ජනයාගෙන්ද සමහරෙක් බුදුන්ට හා බුද්ධ ශ්‍රාවකයන්ට ගෞරවයෙන් හා ප්‍රසන්නතාවයෙන් සලකති. නමුත් සමහර හීන හා පහත් යක්ඛ ගෝත්‍රික මිනිස්සු එසේ නොකරති.



මෙසේ කොටසක් බුදුන් කෙරෙහි පැහැදීමටත් තවත් කොටසක් බුදුන් කෙරෙහි අප්‍රසන්න වීමටත් විශේෂ හේතුවක් ද ඇත.

භාග්‍යවතුන් වහන්ස ඔබේ ශ්‍රාවකයෝ නිතරම පංචශීලයේ අගය දේශනා කරති. පන්සිල් රකිනා ලෙසින් මිනිසුන්ට දන්වා සිටිති. සතුන් මැරීම නොකරන ලෙස සොරකම් නොකරන ලෙස සුරාපානය නොකරන ලෙස අපේ මිනිසුන්ට ද දන්වා සිටිති.

නමුත් භාග්‍යවතුන් වහන්ස බහු තරයක් වන අපේ ගෝත්‍රික ජනයා දඩයම් කරමින් , සතුන් මරමින්, මසුන් මරමින් එයම ජීවිකාව කරගෙන ජීවත්වෙති. ඔවුහු කෙත්වතු වගා නොකරති. නගුලෙන් සී සා ජල පාලනය කරමින් සතුන් ඇති කරමින් ජීවත් වන මිනිසුන් කොටසක් නොවේ. ඔවුහු සොරකම් කරති. සමහර අය මිනිසුන්වද මරාගෙන කන තරමට දරුණු අය වෙති. සුරා පානය කරති. මෙවැනි මිනිසුන්ට ඔබ වහන්සේගේ ශ්‍රාවකයින් දේශනා කරන බුද්ධ ධර්මය නොගැලපේ. ඔවුන්ට ඒ ධර්මය අනුගමනය කළ නොහැකිය. යක්ඛ ගෝත්‍රයට අයත් අපේ මිනිසුන් සමහරෙකු තුළ අත්තේ අමනුෂ්‍ය ගති ගුණයෝය. මෙවන් ගති මිනිසුන්ට නොගැලපෙන ගති සිරිත්ය. මේ නිසා එවැනි පහත් ගති ඇති අපේ යක්ඛ ගෝත්‍රික ජනයා ඔබ වහන්සේ හෝ ඔබ වහන්සේගේ ශ්‍රාවකයින් හෝ දේශනා කරන ධර්මයෙන් පාලනය කර නොහැකිය. ඔවුන්ට ධර්ම මාර්ගය නොගැලපේ. ඔවුන්ට ධර්මය තේරුම් ගත නොහැකිය. (මෙය අදටත් ගැලපෙන විග්‍රහයකි.)

"ආටානාටා නුවර පිහිටි යක්ඛ හෙළයේ රාජ සභාවේදී මේ සියළු කරුණු විස්තර සහිතව සාකච්ඡා කර පහත සඳහන් ප්‍රඥාප්තිය රාජ සභාවේදී අප විසින් සම්මත කර ගන්නා ලදී. මෙසේ අනුමත කරගත්

කරුණු ඔබ වහන්සේ වෙත දැන්වීමට අපි මෙසේ පැමිණියෙමු. මේ කරුණු ඔබ වහන්සේගේ සියළු ශ්‍රාවකයින්ටද දන්වා ඒ අනුව ක්‍රියා කරන ලෙසින් බුද්ධ ශ්‍රාවකයන් වෙත දන්වන ලෙස ද වෙසමුණි මහරජතුමා ගෞතම බුදුපියාණන්ගෙන් ඉල්ලා සිටියේය. මෙය "ආටානාටි" ප්‍රඥාප්තියයි. ආඥාවයි. මේ ආඥාව ක්‍රියාත්මක කිරීම සඳහා බුද්ධ ශ්‍රාවකයින්ට ගරු කරන, ඔවුන් කෙරෙහි ප්‍රසන්න වූ එමෙන්ම බුද්ධ ධර්මය පිළිගත් යක්ඛ ගෝත්‍රික ප්‍රාදේශිය නායකයින් 40 දෙනෙකු බලධාරීන් ලෙස පත් කරන බවද වෙසමුණි මහ රජ බුදුන්ට දැන්වීය. මේ යක්ෂ ගෝත්‍රික බලධාරීන් නායකයින් 40 දෙනා දේව හෙළය හා යක්ෂ හෙළයේ මායිම් වල, විශේෂයෙන් ම බුද්ධ ශ්‍රාවකයින් බණ භාවනා කරමින් ධම්මානු ධම්ම ප්‍රතිපදාවෙහි යෙදෙන ආරණ්‍යසේනාසන වලට ගල් ගුහා වලට වන පෙත් වලට මෙන්ම විශාල රුක් මුල් ආදියටද ආරක්ෂාව සපයා දෙනු ඇත. මිනී මරන මස් කන යක්ඛ ගෝත්‍රයේ දරුණු මිනිසුන් පලවා හැර බුද්ධ ශ්‍රාවකයින්ට අවශ්‍ය ආරක්ෂාව සපයා දීමටත් හැකිවන ලෙසින් ඔවුන්ට සියළුම රාජ්‍ය බලතල පවරා ඇත. මේ ප්‍රාදේශිය නායකයන් වෙත යම් පැමිණීල්ලක් කළ සැනින් ඔවුන් ක්‍රියාත්මක වී වරද කරුවන්ට දඬුවම් දී බුද්ධ ශ්‍රාවකයින්ට අවශ්‍ය ආරක්ෂාව සපයා දෙනු ඇත. යම් කරදරයක් හිරිහැරයක් ඇත්නම් එය හඬ නගා ඔවුන්ට දන්වන්න."
ආටානාටි සූත්‍රයේම මේ කරුණු අරභයා උපමාවක්ද ඉදිරිපත් කර ඇත.

**සෙයියතාපි මාරිස රඤ්ඤෝ මාගධස්ස**
**විජිතේ චෝරා,තේ නෙව රඤ්ඤෝ**
**මාගධස්ස ආදියන්ති න රඤ්ඤෝ මාගධස්ස**
**පුරිසකානං ආදියන්ති, තේ ඛෝ තේ මාරිස**
**මහා චොරා රඤ්ඤෝ මාගධස්ස**



**අවරුද්ධා නාම වුච්චන්ති**
**ඒව මේව ඛෝ මාරිස සන්තිහි**
**අමනුස්සා චන්ඩා රුද්දා රභසා**
**තේ නෙව මහාරාජානං ආදියන්ති**

රජගහ නුවරද අයත් මාගධ රාජ්‍යයේ මහ රජු, මගධය පාලනය කරන විට තම රටේ සොරුන්ට, මහා සොරුන්ට මං පහරන්නන්ට ඔවුන්ගේ තරාතිරම හෝ නිලතල හෝ ඥාති සම්බන්ධකම් හෝ වෙනත් කිසිම හේතුවක් හෝ නොසලකා දැඩි දඬුවම් දෙන්නාක් මෙන් යක්ඛ හෙළයේ රජකම් කරන මහ රජුන් හැටියට අපේ පාලන බල ප්‍රදේශය තුළ අවැඩ , අසාධාරණකම් කරන සොරකම් කරන බුද්ධ ශ්‍රාවකයින්ට කරදර කරන සියලුම යක්ඛ ගෝත්‍රිකයින්ට ද ඔවුන්ගේ තරාතිරම හෝ බලතල හෝ නෑදෑකම් හෝ කිසිවක් ම නොබලා නිසි දඬුවම් ලබාදෙන බවද වෙසමුණි රජතුමා ගෞතම බුදුන්ට දන්වා සිටියේය.

මෙතැනදී වෙසමුණි මහ රජතුමා උදාහරණයක් උපමාවක් ලෙස ගත්තේ මගධ මහ රජුවයි. මගධය යනු ශාක්‍ය වංශික රජු කෙනෙකුගේ එනම් මගධ රජුගේ පාලනය යටතේ තිබූ රජගහ නුවර අග නගරය කොටගත් දේව හෙලයට අයත් ජනපද දාසයෙන් ප්‍රධානම එකකි. එසේ නම් එදා මගධ රාජධානිය පිහිටියේ ද යක්ඛ හෙලය මායිම් කොටගෙනය. මේ සිව් හෙලයේම කොටසක් ලෙසිනි.

වෙසමුණි මහ රජතුමා ගෞතම බුදුන්ට ආටානාටි ප්‍රඥප්තිය ප්‍රකාශ කරද්දී තමා සමඟ පැමිණි අනිත් රජවරුන් තුන් දෙනා ගැනත් ඔවුන් පාලනය කරන ලද ප්‍රදේශයන් ගැනත් ඒ ඒ රජු විසින් පාලනය කළ ප්‍රදේශය පිහිටි ඉසව්ව පිළිබඳවත් ඔවුන්ගේ රට වැසියන් පිළිබඳවත්

ඔවුනගේ ජීවන රටාව පිළිබඳවත් ඔවුනගේ යම් යම් තොරතුරු ද විස්තර සහිතව දක්වා ඇත. මේ විස්තර ආටානාටි සූත්‍රයේ එන හත්වැනි ගාථාවේ පටන් 31 වැනි ගාථාව දක්වාම දීර්ඝ වශයෙන් විස්තර කර ඇත. එදා හෙළදිව පිහිටි යක්ඛ රාජ්‍යයන් හා ඒ ඒ රාජ්‍යයන් පිහිටි දිසාවන් ගැනත් මෙහි විස්තර කර ඇත. මේ ගැන පැහැදිලි තොරතුරු සමූහයක් ත්‍රිපිටකයේදී ම සොයා ගත හැකි තවත් එක් සූත්‍රයක් ද ඇත. ඒ නම් මහා සමය සූත්‍රයයි. මේ සූත්‍ර දෙකේම ඉතාමත්ම පැහැදිලිව දක්වා ඇති පරිදි එදා හෙළදිව පිළිබඳව සිතියමක් ඇඳ කරුණු දැක්වීම ඉතාමත් ම සුදුසුයි.(අංක 1 ලංකා සිතියම බලන්න).

වෙසමුණි මහ රජතුමා විසින් එදා කරන ලද විස්තරයට අනුව

1. ධතරට්ඨ නම් ගාන්ධර්ව රජුගේ නායකත්වයෙන් යුතු වූ ගාන්ධර්ව හෙළය රජගහනුවරට නැගෙනහිරෙන් මහ මුහුදට මායිම් ව පිහිටා තිබිණි. හිරු නැඟෙන විට දවස උදාවෙන, පූර්මා දිසාවේ (පෙරදිග) පිහිටි මෙම හෙළයේ ජීවත් වූයේ ගාන්ධර්ව ගෝත්‍රයට අයත් මිනිසුන්ය. ගාන්ධර්ව හෙළය ලෙසින් එදා හැඳින් වූයේ , තොප්පිගල මහ වනය හා මඩකලපුව අම්පාර දිස්ත්‍රික්ක වලට අද අයිති වන තරමක විශාල භූමි භාගයකි. එදා ගාන්ධර්ව ගෝත්‍රිකයන් වාසය කල මෙම යක්ඛ හෙළය බුදුන් වැඩ සිටි ගිජ්ජකූට පර්වතයට පෙරදිග දෙසින් පිහිටියේය. තොප්පිගල එහි අගනගරය විය.

**2. කුම්භාණ්ඩ හෙළය**

විරූළ්හ නැමැති රජු විසින් පාලනය කරන ලද රජගහ නුවරට දකුණු දිසාවෙන් පිහිටි මෙම රාජධානිය කුම්භාණ්ඩ ගෝත්‍රික ජනයාගේ වාස භූමියයි. මෙහි වසන ජනයා අමු මස් බුදින, අමු මාළු බුදින , පිටෙහි මස් ගලවා ගෙන කන තරමට දරුණු වූ, සතුන් මරා ජීවත් වන සොරකම් කරන සුරාපානය කරන දරුණු සොරුන්ගෙන් යුක්තය. ඔවුනගේ ගති ගුණ මිනිසුන්ට ගැලපෙන ගති ගුණ නොවේ. ඒ නිසා ඔවුහු අමනුෂ්‍යයන් මෙන්ද හැසිරෙති.

එදා කුම්භාණ්ඩ හෙළයට අයත් වුයේ අද කොළඹ, කළුතර, රත්නපුරය හා ගාල්ල දිස්ත්‍රික්ක වලට අයත් කොටස් හා අද සිංහරාජ වනයද ඇතුළු වූ විශාල වනාන්තර ප්‍රදේශයකි.

**3. නාග හෙළය**

විරූපාක්ඛ නැමැති රජු විසින් පාලනය කර රජගහනුවරට බටහිර දිසාවේ පිහිටි ( පශ්චිමා දිසා) මහා සමුද්‍රයට මායිම් වූ ප්‍රදේශයක් එකල නාග හෙළයට අයත් විය. එහි වැසියන්ගේ ජීවනෝපාය සරු කරගත්තේ මුහුදු ගොස් මසුන් මරා ආහාර සපයා ගැනීමෙනි. සමහරක් නාග ගෝත්‍රික ජනයා මහ මුහුදේ යාත්‍රා පදවමින් වෙළදාමෙහිද යෙදී සිටියහ. ප්‍රධාන වශයෙන්ම නාග හෙළයට අයත් වු ප්‍රදේශයක් වූයේ අද කල්පිටියේ සිට තංගල්ල දක්වාම බටහිර වෙරළ තීරයේ පිහිටි ගම් හා නගරයන් හා කැළණිය හා මීගමුව අතර ස්ථානයන්ය එහි අග නගරය කොට ගත් විරූපාක්ඛ රජු එහි රජ කළේය. මෙම නගර රාජ්‍යයට අයත් තවත් ප්‍රාදේශිය නායක රජුන් ගණනාවක්ම සිටි බවද ත්‍රිපිටකයේ ම සඳහන් වේ. අද නාග ද්වීපය, නයනතිවු , නයිනමඩම, ආදී සියළුම නම් වලින් හඳුන්වන ගම්මාන එදා නාග හෙළයට අයත්ව තිබුණි.

රට අභ්‍යන්තරයේද සමහර තැන් වල කුඩා ප්‍රමාණයේ රාජ්‍යයන් පාලනය කළ නාග ගෝත්‍රික රජුන් වාසය කළ බවත් පෙන්වා දිය හැකිය. බුලත් වැවුණේ (නාග ලොවින් ගෙන ආපු බුලත් ගැන තාම රටේ පවතී

යන්න මෙයයි) මෙම නාගද්වීපයේදී චුලෝධර , මහෝදර මනිඅක්ඛිත, මුචලින්ද ආදි සියලු රජවරුන් රජකලේ මෙම නාග ගෝත්‍රික ජනයා වාසය කළ විවිධ ප්‍රදේශ වලය. එදා ගෞතම බුදුන් දවස නාග ගෝත්‍රිකයන් රටේ ලෝකයේ බලවත්ම වෙළඳ ප්‍රජාවක් ලෙසින් ක්‍රියා කළ බවද මේ අනුව පෙනෙන්නට ඇත.

**යක්ඛ හෙළය**

යක්ඛ හෙළයේ අග රජු වුයේ වෙස්සවන මහ රජුය. මෙම යක්ඛ ගෝත්‍රික මහ රජු අනිකුත් සියලු ගෝත්‍රික රජවරුන්ගේ ද ප්‍රධාන නායකයා විය. මේ අනුව මුළු දිවයිනට ම අයත් සියලුම ගෝත්‍රික ජනයාගේ එනම් යක්ඛ , නාග, කුම්භාණ්ඩ, ගාන්ධර්ව යන ගෝත්‍ර සිවු කොටසේ ම මහරජු වෙස්සවන මහ රජු විය. ආටානාටි නුවර ඔහුගේ රාජ්‍යයේ පාලන මධ්‍යස්ථානය විය. ආලකමන්දාව (පසුව ලංකා පුරය) වෙස්සවන මහ රජුගේ මාලිගාව තිබූ ප්‍රධාන නගරයයි. මේ යක්ඛ රටේ මිනිසුන් දඩයම් කරමින් මස් හා මාළු ආහාරය කොට ගත් පිරිසකි. වෙස්සවන රජ ප්‍රකාශකල පරිදිම තම රටේ වැසියන් කෙත්වතු වැවුවේ නැත. නගුලෙන් සීසා කුඹුරු වැපුරුවේ නැත. කැළෑවෙන් සොයා ගත් මස් මාළු අල කොළ හා ධාන්‍ය වර්ග ආහාරයට ගත් හ.

ආලකමන්දාව හා ආටානාටි නුවර අගනගරය කොට එදා පැවැති යක්ඛ හෙළයට අද යාපනයේ පුනරීන් සිට මන්නාරම, අනුරාධපුර , පුත්තලම හා කුරුණෑගල දිස්ත්‍රික්ක වල මෙන්ම මහනුවර හා මාතලේ දිස්ත්‍රික්ක වල සමහර කොටස් ද අයත් විය. (සිතියම බලන්න.)



කුරුණෑගල දිස්ත්‍රික්කයේ අලව්ව දක්වාම පිහිටි ප්‍රදේශයෙන් සියල්ලමත් මේ යක්ඛ හෙළයට එදා අයත් විය. බුදුපියාණන් අලවි යකු (ආලවක යක්ෂයා)දමනය කළේ අද අලව්ව යන නමින් පිහිටි මෙම ස්ථානයේදීය. එදා මේ ප්‍රදේශයද වෙසමුණි මහ රජුගේ පාලනය යටතේ තිබූ ප්‍රදේශයකි. එදා උතුරු කුරු දිවයින ලෙසින්ද යක්ඛ හෙළය හැදින්වීය. අද මහා විලච්චිය නමින්ද විලච්චිය නමින් ද හඳුන්වන ස්ථානයේ අලකමන්දා නුවර පිහිටියේය. මෙහි එදා ස්වභාවිකවම සැදුනු විශාල ජලාශයක් වට කොට ආලකමන්දා නම් නගරය පිහිටා තිබුණි. පසු කළෙක විජය රජු ලංකාවට පැමිණ කුවේණියගේ ආධාරයෙන් යක්ෂ ගෝත්‍රික රජ කුමාර වරුන් 80ක් මරා දමා යක්ඛ හෙළයේ රාජ්‍ය බලය අල්ලා ගත් බව ඉතිහාසය කියයි. මෙසේ බලය අල්ලා ගත්තේ ආලකමන්දා නුවරයි. මේ නුවර එදා ලංකා පුර නමින්ද ප්‍රසිද්ධ විය. එම පුරවරයේ පැවැති අලංකාරය නිසාම එය ලංකා පුර විය.

වෙස්සවන රජු එදා ගෞතම බුදුපියාණන්ට දැන්වූ පරිදි යක්ඛ හෙළයේ දේශ සීමා රැක ගෙන බුද්ධ ශ්‍රාවකයින්ද ආරක්ෂා කර ගන්නට සමත් , බලවත් ශ්‍රද්ධාවෙන් යුක්ත වූ හා බුද්ධ ශ්‍රාවකයින් කෙරෙහි ගෞරවාදරයෙන් ක්‍රියාකරන යක්ඛ ගෝත්‍රික ප්‍රදේශීය නායකයෝ 40 දෙනෙක්ම මේ සඳහා පත් කරන ලදහ. මේ නායකයින්ගේ නම්ද ආටානාටි සූත්‍රයෙහිම සඳහන්ය.

ඉන්ද්‍ර , සෝම , වරුණ භාරද්වජ, ප්‍රජාපති , චන්දනෝ , කාම සෙට්ඨෝ , කින්ණු ගන්ඩු, නිගණ්ඩු, පනාදෝ , ඕපමඤ්ඤෝ, දේව සුතෝ මාතලී චිත්තසේනෝ, ගන්ධබ්බනලෝ, රාජාජනෝසභෝ, සාතාගිරෝ , හේමවතෝ, පුණ්ණකෝ, කරතියෝ, ගුලෝ, සීවකෝ, මුචලින්දෝ,

වෙස්සමිත්තෝ, යුගන්ධරෝ, ගෝපාලෝ, සුප්පගොධෝ, හිරිනෙත්ති, මන්දියෝ, පංචාලචන්ඩෝ ආලවකෝ, පජ්ජුන්නෝ, සුමනෝ, සුමුකෝ, දධිමුඛෝ, මනිමානිචරෝ, දීඝෝ, අථෝ, සෙරිස්සකෝ යන මෙම ප්‍රාදේශිය යක්ඛ ගෝත්‍රික නායකයින් සීමා රැකවලට පත් කර ආටානාටි ප්‍රඥප්තිය ද රැක බලා ගෙන ක්‍රියාත්මක කිරිම සඳහා ඔවුන්ව පත් කර ඇති බව වෙස්සවන රජු එදා ගෞතම බුදුන්ට ප්‍රකාශ කර දන්වා සිටියේය.

මේ සියළු කරුණු සාවධානව අසාගෙන සිටි ගෞතම බුදුපියාණන් වහන්සේ වෙස්සවන මහා රජු ප්‍රකාශ කල කරුණු පිළිගෙන පසුව තම ශ්‍රාවකයින් රැස්කර මේ ආටානාටි ප්‍රඥප්තිය ගැනත් එහි අඩංගු විධි විධාන ගැනත් ඒ රැක බලා ගන්නට පත් කර ඇති යක්ඛ නායකයින්ගේ නම් ගම් සියල්ලමත් බුදු මුවින්ම අනුමත කර භික්ඛු භික්ඛුණි, උපාසක උපාසිකා යන සිවු වනක් පිරිසට දේශනා කළ වදාළහ. මේ අනුව එදා වෙස්සවන රජු තම රාජ්‍ය සභාවේදී සම්මත කර පනවා ගත් ආටානාටි ආඥාව පසුව බුද්ධ ආඥාවක් බවටද පත් විය

අද ත්‍රිපිටකයේ මෙන්ම පිරිත් පොතේද ආටානාටි සූත්‍රය දෙවරක්ම සඳහන් වන්නේත් මේ හේතුව නිසාය.රජ අණ හා බුද්ධ ආඥාවයි.

මෙවන් වූ ආටානාටි සූත්‍රය එදා දේශනා කර වදාළේ මිනිසුන්ටය. එහි සඳහන් වන්නේ ද මිනිසුන් ගැනය . ඒ සියලු මිනිසුන් එදා මේ හෙළදිව ජීවත් වූ ගෝත්‍රික ජනයාය. එදා ගෞතම බුදුපියාණන් ජීවත් වූයේ ද මෙම දේව හෙළයේය.



එදා ගෞතම බුදුපියාණන් වැඩසිටි ආටානාටි සූත්‍රයෙහි සඳහන් වන ගිජ්ජකූට පර්වතය හා රජගහ නුවරද දැන් පැහැදිලිවම හෙළ දිව තුළින්ම සොයා මතුකර ගත හැකිය. රජ ගල , නිල්ගල , බුද්ධංගල, සමන්ගල හා නුවර ගල නමින් - වලල්ලක් සේ පිහිටා ඇති විශාල ගල් පර්වත සහිත වූ අද අම්පාර බදුල්ල හා මොණරාගල දිස්ත්‍රික්කයන්ට අයත් ප්‍රදේශයක් එදා මගධ රාජ්‍යයට අයත් විය. ගිජ්ජකූට පර්වතය පිහිටියේද රජගහ නුවරට නුදුරු වේළුවනාරාමය පිහිටි ස්ථානයේමය. මෙය මගධ රටේ අගනුවරට ආසන්න තැනක පිහිටා තිබිණි. අද අම්පාර දිස්ත්‍රික්කයට අයත් වන උහන, බක්කි ඇල්ල, හොණා ගල්ල, මහා ඔය හා පදිය තලාව යන ප්‍රදේශයනුත් බිබිල, මැදගම සිට බදුල්ල , මීගහ කිවුල මහියංගනය දක්වාත් අක්කර පත්තුව දක්වාත් විශාල ප්‍රදේශයක් එදා මගධ රාජධානියට අයත් ව තිබුණි. ගල්ඔය ජලාශයෙන් අද වගා කරන සියළු කෙත් වතු එදා මේ රාජ්‍යයටම අයත්ව තිබුණි. ගෞතම බුදුන් වැඩ සිටි යුගයේ බිම්බිසාර මගධ අධිරාජ්‍යා විය. පසුව අජාසත් රජු මෙහි රජු බවට පත්විය. හෙළ මාගධී බස මෙහි භාවිතා කළ භාෂාවකි. ත්‍රිපිටකයේ නම් සඳහන් රජවරුන් රජකම් කළේ මේ හෙළ දිවයිනේමය. ඉන්දියාවේ ලියු කිසියම් පොතක පතක ලියවිල්ලක මේ රජවරුන්ගේ නම් සඳහන් වී නැත.

මහා සමය සූත්‍රයේද මේ ආකාරයටම යක්ඛ රාජධානි හතර පිළිබඳව ඉතාමත් පැහැදිලි විස්තරයක් ගෙනහැර පා ඇත.

මිහිඳු හිමියන් එදා අනුරපුරයේ පිහිටි යක්ඛ හෙළයේ අගනුවරට (ලංකාපුරයට) බුද්ධාගම ගෙන එන දවස දක්වාමත් ඒ අනුරපුර රාජ්‍යයේ පැවතියේ දඩයම් කරමින් සතුන් මරමින් ජීවත් වූ මිනිසුන්ගෙන් හා රාජ්‍ය නායකයකුගෙන්ද සමන්විත වූ රාජධානියකි. මිහිඳු හිමියන් බුදු දහම

හදුන්වා දුන්නේ එදා ලංකාපුර, (අනුරාධපුර) රාජ්‍යයේ රජකම් කළ දෙවන පෑතිස් රජුටය. මිහිදු හිමියන්ට තිස්ස රජු හමුවූයේ පොසොන් පොහොය දිනයකදීය. එදා පොසොන් පොහොය දිනයේදී පවා රටේ රජුත් සමඟ 40000 පමණ ජනයා සතුන් දඩයමේ යෙදුන බව මහාවංශයේද සඳහන්විය. මේ අනුව මිහිදු හිමියන් බුද්ධාගම හඳුන්වා දුන්නේ අනුරපුරයේ පිහිටි යක්ඛ ගෝත්‍රික රාජ්‍යයේ මිනිසුන්ට මිස දේව හෙළයේ ජීවත් වූ ශාක්‍ය මිනිසුන්ට නොවේ. මිහිඳු හිමියන් එදා බුදුකැලි අටුවාද බුද්ධ ධර්මයද ලංකා පුරට (එදා අනුරාධ පුරයට) ගෙන ආවේ ජන්බුද්වීපයෙන්මය. (ජන්බුදීපා ඉධාගතා ලංකාපුර) යනුවෙන් මෙය මහාවංශයේම සඳහන්වේ. මේ සටහනද හරියටම හරි ප්‍රකාශයකි. එදා නියම නිවැරදි ජන්බුද්විපය ලෙසින් ප්‍රසිද්ධ වී පැවතුනි රජගහනුවර , සැවැත් නුවර ආදී බුදුන් උපන් දේශයට අයත් වූ දේවහෙළයේ පිහිටි ශාක්‍ය ජනපද සොළසකි. පිරිසිදු බුද්ධ ධර්මය සොයා ගෙන එදා ජන්බුද්විපයට (හෙළදිව රජගහනුවරට) පැමිණි මිහිඳු හිමියන් එහිදි බුද්ධ ධර්මය හා හෙළබස ඉගෙන ගෙන මඟඵල ලබා පසුව අනුරාධපුරයේ එදා පැවති අබෞද්ධ රාජ්‍යයට බුද්ධ ධර්මයත් ඊට පසුව බුද්ධාගමත් හඳුන්වා දුන් බව ඉතාමත් ම පැහැදිලිය. මිහිඳු හිමියන් එදා ජන්බුද්වීපයට පැමිණ බුද්ධ ධර්මය ඉගෙන ගත්තේ රජගහ නුවරදීය. ඒ අම්පාර රජගලදීය. මිහිඳු හිමියන්ගේ ආදාහනයෙන් පසුව තැන්පත් කල භෂ්මාවශේෂ හමු වුයේ රජගල මෙම ස්ථානයෙන් ම බව ඉතිහාසයේ සඳහන්ය. එසේ නම් මහා වංශයේ සඳහන් කළ "ජන්බුදීපා ඉධාගථා ලංකාපුර" යන වචන වලින් කියැවුණ දෙය නිවැරදිය. එදා හෙළ මහාවංශය ලියන යුගයේ ජන්බුද්වීපය වූයේ අම්පාර දිස්ත්‍රික්කයේ පිහිටි රජගලයි. ලංකාපුර වූයේ අනුරාධපුරයට ආසන්න මහවිලච්චියයි. මේ අනුව සඟමිත් මෙහෙණිය ශ්‍රී මහා බෝධීන් වහන්සේගේ දකුණු ශාඛාව



ගෙනාවේ ද ජන්බුද්වීපයේ සිට අනුරාධපුරයටය. එයද නිවැරදිය. අද හිරි වඩුන්න එදා ජන්බුද්වීපයට අයත් වූ තැනකි. එතැන සිට අනුරාධපුරයට බෝධි ශාඛාව ගෙන ආවේ (පාත්‍රය පා කර යැවූ නේරංජනා ගඟ දිගේ) ඔරුවක නැඟීගෙනය.

ජන්බුද්වීපය යනු බුදුන් ජන්මය ලැබූ, සියළුම බුදුවරුන් ජන්මය ලබන, දීපය යන්නයි. ආටානාටි සුත්‍රයේදි වෙසමුනි රජතුමා ගෞතම බුදුපියාණන්ට මතක් කර දුන්නේ පෙර සිටි බුදුවරුන් සත් නමක් ම මේ ජන්බුද්විපයේදි ම බුදු වු බවත් වෙසමුනි රජුගේ පරම්පරාවේ අතීත මී මුත්තන් ඒ සියලු බුදුවරයින්ට වන්දනාමාන කරන සිරිතක් අතීතයේ සිට පවත්වා ගෙන ආ බවත්ය. මේ අනුව අතීතයේ බුදු වූ සියලු බුදුවරයින් වහන්සේලාට ද මතු උපදින සියලු බුදුවරයින් වහන්සේලාට ද ඒ උතුම් බුද්ධත්වයට පත්වන්නට හැකි විශ්ව ශක්තිය රැඳී ඇත්තේ ජන්බුද්වීපය යැයි විරුදාවලිය ලත් මේ හෙළදිවේමය.

## 5. ගෞතම බුදුපියාණෝ තෙවරක් ලංකාවට වැඩම කළහ, යන කථාවේ නියම ඇත්ත.

එදා ගෞතම බුදුපියාණන් බුද්ධත්වයට පත් වූ ජන්බුද්වීපයේ සිට ලංකාපුරයට තෙවරක් වැඩම කළ බව ඉතාමත් ම ප්‍රසිද්ධ කථාවකි. බොහෝ ඉතිහාස කථා පොත්වල ද බෞද්ධ ඉතිහාසයේ ද මහානාම හිමියන් ලියූ මහාවංශ පාලි අටුවාවේ ද මෙය පැහැදිලිව ම සටහන් කර ඇත. නමුත් කිසිම ඉන්දිය ඉතිහාස පොතක පතක ලියවිල්ලක හෝ වෙනත් කිසි ම තැනක බුදුන් පිළිබඳව හෝ ලංකා ගමන ගැන හෝ ජන්බුද්වීපය ගැන හෝ කිසි ම දෙයක් ඉන්දියාවේ දී ලියා තබා නැත. බුදුපියාණන් තෙවරක් ලංකාපුරයට වැඩම කළ බව හෙළ බසින් ලියූ මුල්ම

මහාවංශයේ සඳහන් වී තිබීම නිවැරදිය. එහි තර්ක කරන්නට දෙයක් ද නැත. වරද සිදුවී ඇත්තේ මුල්ම හෙළ මහා වංශය ලියා වසර 300කට පමණ පසුව හෙළ මහා වංශයට ලියූ පාලි මහාවංශ අටුවාවේ මෙම කථාව ලිවීමේදීය. එදා බුද්ධ කාලයේ ලංකාපුර- ආලකමංදාව - අලංකාරපුරය ආදී විවිධ හෙළ නාමයන්ගෙන් හැඳින්වූයේ වෙසමුණි නම් මහරජු රජකම් කළ යක්ෂ හෙළ රාජධානියේ අගනුවරටයි. අද අපි ලංකාව යැයි හඳුන්වන්නේ මුළු සිවු හෙළයට මය. එදා හෙළ දිව, දේව හෙළය, යක්ඛ හෙළය හා නාග හෙළයයි. එදා යක්ඛ හෙළය හා නාග හෙළය එක් රාජ්‍යයක් ලෙසද, දේව හෙළයේ පිහිටි ශාක්‍ය ජනපද වෙනම රාජ්‍යයන් ලෙසද හැඳින්විණි.

එදා ලංකාපුරය වූයේ අද විලච්චිය, මහ විලච්චිය ප්‍රදේශවල පිහිටා තිබූ වෙස්සවන මහරජුගේ රාජධානියේ අගනගරයයි. එදා එය ඉතා මනරම් අලංකාර නගරයකි. එහි මනරම් බව අලංකාර බව ආටානාටි සූත්‍රයෙහිත් මොනවට වර්ණනා කර ඇත. මෙය කුවේර රාජධානිය ලෙසද නම් කර තිබිණි. විජය රජු ලංකාවට පැමිණෙන විටත් මෙහි පාලන බලයේ සිටියේ යක්ෂ ගෝත්‍රික රජවරුන්ය. විජය රජු කුවේනිය නම් යක්ෂ ගෝත්‍රික රජ කුමරියගේ උදව්ව ද ඇති යක්ෂ ගෝත්‍රික නායකයින් 80ක්ම මරා දමා පාලනය තමා යටතට ගත්තේ ද මෙම ලංකා පුරය අගනුවර කොටගත් රාජධානියේදීය.

එදා විජය රජු පැමිණියේ ද ලංකා පුරයටය. මේ නිසා ම එදා යක්ෂ රාජ්‍යයට පොදුවේ ලංකාපුර රාජ්‍යය යන නම ව්‍යවහාර විය. ඒ අතරම ශාක්‍ය ජනපද සොළොසක්ම දේව හෙළයේ තිබූ අතර ශාක්‍ය වංශයෙහි ඉපදී බුද්ධත්වයට පත් වූ ගෞතම මුනිඳුන් වැඩ සිටි ප්‍රදේශයට



එදා බුදුන් ජන්මය ලැබූ දේශය යන අර්ථයෙන් "ජන්බුද්වීපය" යැයි නම් කොට තිබිණි."ජන්බුද්වීපය" යන නම දේවහෙළයේ එදා පැවැති සොළොස් මහ ජනපදයට ම පොදුවේ ව්‍යවහාර කළ නාමයයි.

කැළණිය, නාගදීපය, මහියංගනය හා ශ්‍රීපාද කන්ද පිහිටි සමනල අඩවියත් එදා යක්ෂ ගෝත්‍රික නායකයින්ගේ ම පාලනයට නතු වූ ලංකාපුර රාජ්‍යයට ම අයත් ප්‍රදේශයෝයි. එදා පැවති දේවහෙළය හා යක්ෂ හෙළය යනු පැහැදිලි ව ම රාජ්‍යයන් දෙකකි. පාලන අධිකාරිය ද දෙවිධියක ම පැවතිණි. කැළණිය යනු නාග ගෝත්‍රිකයින් වාසය කළ යක්ෂ හෙළයේ ම ප්‍රාදේශිය පාලකයින් වාසය කළ නගරයකි. එදා ජන්බුද්වීපයේ සැවැත් නුවර සිට හෝ රජගහනුවර සිට හෝ මේ රටේ ම බටහිර වෙරළේ පිහිටි කැළණියට ගමන් කිරීම පිටරටකට ගමන් කරනවාට වඩා අපහසු කාර්යයක් විය. පාරවල්, මංමාවත් ,පාලම් ආදී කිසිවක් නොවූ එදා බුදුපියාණන් මේ මඟ ගෙවා කැළණියට පැමිණියේ. එදා හෙළදිවම පිහිටි ජන්බුද්වීපයේ සිටය. කැළණිය පිහිටියේ ලංකාපුර රාජධානියේය. එමෙන් ම නාගදීපයද පිහිටියේ ලංකාපුර රාජධානියේ ම ය. අද මහියංගනය පිහිටි තැනට ඔබ්බෙන් වූ ලග්ගල මහ වනය ද එදා යක්ෂ රාජධානියටම අයත් විය. අද ශ්‍රීපාද අඩවිය ද අයත් විශාල කැළෑ ප්‍රදේශය ද එදා යක්ෂ රාජධානියට අයත් ලංකා පුරයේ ම කොටසකි. ශ්‍රී පාද අඩවිය එදා පාලනය කළ "සමන" ප්‍රාදේශිය රජුගේ නම් ආටානාටි සූත්‍රයේ සඳහන් වූ නායකයින් හතළිස් දෙනාගේ නම් අතර විය. ඒ වාගේ ම බුදුන්ට මඟදී හමු වූ හේමවත, සාතාගිර යන ප්‍රාදේශිය පාලකයින් දෙදෙනා ද මේ ආටානාටි සූත්‍රයේ සඳහන් වෙයි.

චුලෝදර , මහෝදර , මනිඅක්ඛිත, ආදී නාග ගෝත්‍රයට අයත් වූ ප්‍රාදේශීය නායකයෝ එදා ලංකාපුර රාජධානියේ ම කොටස් කරුවෝ වූහ. ලංකාපුරයට අයත් කැළණිය පිහිටි ප්‍රාදේශය පාලනය කළ ප්‍රාදේශීය රජුන් දෙදෙනකු අතර සිදු වූ හබයක් නිරවුල් කිරීමට ගෞතම බුදුපියාණන් වැඩම කළේද මේ හෙළය තුළම එක් ස්ථානයක සිට තවත් ස්ථානයකටයි. එදා නම් ජන්බුද්වීපයේ සිට ලංකාපුරයටයි. අද නම් අම්පාරේ සිට කැළණියටයි.

"සමන" යනු එදා සමනල අඩවිය පාලනය කළ යක්‍ෂ ගෝත්‍රයට ම අයත් ප්‍රාදේශීය පාලකයෙකි. ඔහුද ලංකාපුර රාජධානියේ ම කෙනෙකි. "සමන" රජු පාලනය කළ ප්‍රදේශය සමනල කන්ද සිට මහියංගනය දක්වාම වූ වනගත ප්‍රදේශයකි. බුද්ධ ශ්‍රාවකයින්ට කරදර කළ යකුන් දමනය කරන්නට ගෞතම බුදුන්  මේ "සමන" රජුගේ පාලනය පැවති ප්‍රදේශයට පැමිණීමත් ලංකාපුරයට ම ආ ගමනක් විය. එදා බුදුන් ලංකාපුරයට පැමිණියේද ජන්බුද්වීපයේම සිටය. බුදුන් නාගදීපයට වැඩම කළේද ජන්බුද්වීපයේම සිටයි. එදා නාගදිපය යනු ද ලංකාපුර රාජධානියේ ම නාග ගෝත්‍රික ප්‍රාදේශීය පාලකයින් විසින් පාලනය කරන ලද ප්‍රදේශයන්ය. මේ අනුව මුල් ම මහා වංශයේ සඳහන් කළ මේ කථා පුවත් ඉතාමත්ම නිවැරදියි. වරද සිදු වුයේ මුල් හෙළ මහාවංශයට පාලි අටුවාවක් ලියූ අවස්ථාවේදීය. මහාවංශ පාලී අටුවාවට පසු කාලීනව අර්ථ කථා ලියූ පෘතග්ජන පුද්ගලයින් හා පාලි මහාවංශ අටුවාව සිංහලයට හා ඉංග්‍රිසියට පරිවර්ථනය කළ පුද්ගලයින් අතින් මේ ඉතිහාසය විකෘති වී ඇති බව දැන් පැහැදිලිව තේරුම් ගත යුතුය.  මේ පාලි අටුවා ව ලියා ඇත්තේ මුල් මහා වංශයට ලියා වසර 300කට පමණ පසු කාලයකදීය. එය ලියු කතුවරයාද . ඉන්දීය ජාතික මහානාම හිමි යනුවෙන් සඳහන් වුණු කෙනෙකි.



බුද්ධ පරිනිර්වානයෙන් වසර 600කට පසුවත්, අශෝක යුගයෙන් වසර 300ක් පමණ පසුව කාලයකදීත් මහානාම හිමියන් මේ අට්ඨ කතාව ලියන අවස්ථාව වන විට ඉන්දියාවේ අශෝක මහ රජු විසින් ඉදිකරන ලද බුද්ධ රාජ්‍යයේ ආකෘති ජනයා අතර ජනප්‍රිය වන්නට ඇත. හෙළදිව එදා පැවැති ශාක්‍ය ජනපද වල පාලනය ද මේ  වන විට දුර්වල තත්වයට පත් වී තිබිණි. මේ අනුව ජන්බුද්වීපය යන නමද ඉන්දියාවට ම ආරූඪ කරගෙන භාවිතා කර පොත් ලියු බවත් පෙනෙන්නට තිබේ. මේ සියල්ල ම විකෘති කළේ අනුරාධපුරයේදී පොත් ලියූ,අටුවා ලියූ පසුකාලීන අපේම රටේ ගත් කතුවරුන් මිස ඉන්දියාවේදී පොත් ලියූ අය නොවේ. ඉන්දියාවේ ලියූ කිසිම පොතක පතක ලියැවිල්ලක හෝ අශෝක ලිපියක පවා ඉන්දියාවෙහි කිසිම ස්ථානයකට හෝ ජන්බුද්වීපය යන නම එදා අතීතයේ භාවිතා කර නැත.

මේ අනුව ඇත්ත වශයෙන්ම සිදු වූයේ ගෞතම බුදුපියාණන් එදා වැඩසිටි ජන්බුද්වීපය නැමැති මේ හෙළ දිවේම එක් ස්ථානයක සිට ලංකාපුර නමින් එදා භාවිතා කළ හෙළයේම තවත් ස්ථානයකට ගෞතම බුදුන් වැඩම කිරීමයි. ලංකා ගමන් තුනම මේ ආකාරයේ ඒවාමය.

එදා ලංකාපුර යක්‍ෂ රාජධානියෙහි විසු බහුතර ජනතාව බුද්ධ ධර්මය පිළි නොගත් අතර බුද්ධ ශ්‍රාවකයින්ට ද මේ යක්ඛ ගෝත්‍රිකයින් යම් යම් හිරිහැර කළ බවත් ආටානාටි සූත්‍රයේ ද, මහා සමය සූත්‍රයේ ද, යක්‍ෂ දමනය , ආලවක දමනය, පාරිලෙයිය වනයේ කථා පුවත වැනි ත්‍රිපිටකයේ ම සඳහන් කථාවලින් ද මනාව පැහැදිලි වන දෙයකි. ඒවා ත්‍රිපිටකයේ ම සටහන් වන දේවල් මිස පෘතග්ජන පුද්ගලයින් විසින් පසු කාලයකදි අනුමානයෙන් ගොතන ලද කථා නොවේ. මේ අනුව ත්‍රිපිටකය අපේ සත්‍යම ඉතිහාසයද හෙළි පෙහෙළි කර ගන්නට උපකාර කර ගත යුතුය.

වසර හතළිස් පහක් තරම් දීර්ඝ කාලයක් පුරාම බුදුපියාණන් වහන්සේ දිවා රෑ නොතකා චාරිකා කරමින් ධර්මය දේශනා කළේ යාපනය, මුලතිවු සිට රුහුණේ තිස්සමහාරාමය, මාතර දක්වා එදා පැතිර පැවැති දේව හෙළයේ ජනපද දාසයක ජීවත් වූ ජනතාවටය. ත්‍රිපිටකයේ සඳහන් වන ශාක්‍ය ජනපද දාසය ම එදා පිහිටා තිබුණේ මේ හෙළ දිවෙහිම දේව හෙළය නමින් ඉතිහාස ගත වූ "ජන්බුද්වීපයේමය"

පසුව ආ කාලයකදී අශෝක මහ රජු විසින් කෘත්‍රිම වශයෙන් භාරත දේශයේ ගොඩනැගූ බුද්ධ රාජ්‍යයේ වෙහෙර විහාර අසූහාර දහසක් ගොඩනංවා ඉදිකළ කෘතිම ආකෘති බුද්ධ රාජ්‍යයට"ජන්බුද්වීපය" යන නම පසු කාලයකදී ආරූඪ කළ බවක් ද ඉතිහාසයෙහි පෙනෙන්නට ඇත. අශෝක අධිරාජයාගේ පාලන කාලයෙන් පසුව ආ යුගයේදී මේ විකෘති කිරීම කළේ මේ හෙළ දිවයින තුළදීම ඉතිහාසය ලියන ලද හා බුද්ධ සාහිත්‍යයට අදාළ පොත පත ලියන ලද මේ රටේ දී ම පොත් ලියූ ගත් කතුවරුන් විසින් මය. ඉන්දියයන් විසින් නොවේ.

මේ කරුණ පිළිබඳව කිවයුතු විශේෂ දෙයක් නැවතත් සඳහන් කළ යුතුය. එනම්, අප ජීවත් වන මේ මිහිතලය මත යම් දිනෙක ලොව්තුරා බුද්ධත්වයට පත් වන උත්තමයකුට සම්මා සම්බුද්ධ යන උතුම් තත්වයට පත් වීමට ස්වභාව ධර්මයෙන් ම ලැබෙන විශ්ව ශක්තිය ලැබෙන්නේ මේ මිහිතලයේ එකම ස්ථානයකදි පමණි. ඒ ස්ථානය නම් "ජන්බුද්වීපයේ මධ්‍ය මණ්ඩලයයි" මේ මධ්‍ය මණ්ඩලය පිහිටියේ ලංකාව නමින් අප අද හඳුන්වන මේ පුණ්‍ය භූමියේ මේ දිවයිනේ හරි මැද පිහිටි රමණීය ආරණ්‍ය භූමියකදීයි. බුද්ධ ධර්මයට අර්ථ, ධර්ම, නිරුක්ති, හා පටිභාන ධර්ම විග්‍රහ කරදීමත් සමඟ ජන්බුද්වීපයේ අර්ථය, ධර්මය හා නිරුක්තිය මතු වී එය බුදුන් උපදින ද්වීපය, ජන්මය ලබන දීපය, ලෙසින් දැන් හඳුනාගෙන ඇත.



## 6. දේවහෙළයේ ("ජන්බුද්වීපයේ ") පිහිටි ප්‍රධාන වන්දනීය ස්ථානයෝ

### 6.1 සිදුහත් කුමරු උපන් ලුම්බිණිය

අශෝක මහරජතුමා විසින් සිදුහත් උපත සනිටුහන් කරන්නට එදා තෝරා ගත්තේ ඉන්දියාවේ ඈත කෙලවරක පිහිටි කඳු සහිත ස්ථානයකි. මේ ස්ථානය අද "රුමින්දායි" නැමැති ගම්මානයකි. එය අද නේපාලයට අයත් ගමකි. මේ ගමට කිසිම දවසක අතීතයේදී ලුම්බිනිය යැයි නමක් ව්‍යවහාර කර නැත. නමුත් අපේම සමහරුන් මේ ස්ථානයට අද ලුම්බිනිය යන නම ලබා දි ඇත. මේ ස්ථානයේ අශෝක රජු විසින් ස්ථාපනය කරන ලද අශෝක ස්ථම්භයක් පිහිටුවා ඇත. එහි සටහන් වන කරුණු අනුව බුදුන්ගේ පරිනිවර්වානයෙන් වසර 300කට පමණ පසුව පිහිටුවා ඇති මෙම ලිපිය බුද්ධ උත්පත්තිය සිහිපත් කරුණු සඳහා සිවටනයක් ලෙසින් පිහිටුවන ලද බව සඳහන් කරන්නේ පෘතග්ජන මිනිසුන් විසින්ය. නමුත් එහි ඇති අකුරු අනුහතරෙන් කිසිම තැනක මේ ස්ථානයේදී සිදුහත් උපත සිදු වූ බවක් නම් ලියා තබා නැත.

අශෝකාවදානය නැමැති සංස්කෘත භාෂාවෙන් ඊට කාලයකට පසුව ලියූ බුද්ධ චරිතය පොතකද ඉන්දීය ගත් කතුවරයෙකු මේ ස්ථානය පිළිබඳව ලියා ඇති විස්තරයෙහි ද සිදුහත් කුමරු මෙම රුමින්දායි ගමෙහි දී උපන් බවක් හෝ ලුම්බිනිය යන නම මේ ස්ථානයට භාවිතා කළ බවක් හෝ සඳහන් කර නැත. එහි ලියා ඇත්තේ අශෝක රජ විසින් තම රාජ්‍යයේ කරන ලද ආගමික සංචාර වලදී මෙම ස්ථානයත් වන්දනා කර ගත් බවයි. එසේ වන්දනා කර ගන්නට පැමිණි අවස්ථාවේ ගම්වරක් පුදා එය සහතික කිරීමට මෙම අශෝක ලිපිය එහි ස්ථාපිත කළ බවත්

පැහැදිලිය. එදා ඉන්දියාවේ හින්දු රජවරුන් තීර්ථ ස්ථාන වන්දනා කළ බවත්, තීර්ථ යනු පව්සෝදා හරින තොටුපලවල් බවත් අශෝකාවදානයේ ම සඳහන් කර ඇත. මෙවැනි තීර්ථ ස්ථාන අටක් අශෝක රජතුමා මෙන්ම ශිලාදිත්‍යය රජතුමාද වන්දනා කළ බව ඉන්දීය ඉතිහාසයෙහිම දක්වා ඇත. (ලලිත විස්තරය) අශෝක රජතුමාද තමා ගොඩනැගූ ධර්ම රාජ්‍යය තුළ සියලු ම ආගම් වලට සමතැන් දී ගොඩනැගිලි ඉදිකළ බවත් ඉතාම පැහැදිලිය. මේ අනුව අශෝක මහ රජතුමා විසින් තම රාජ්‍යය තුළ එවකටත් වැඳුම් පිදුම් කළ එක් තීර්ථායතනයක් මේ නමින් හඳුන්වා ගොඩනැගිලි අලුතින් ඉදිකර තමන් වන්දනාවේ පැමිණි බව සිහිපත් කිරීමට ගල් ටැඹක ලියා තැබූ බව පැහැදිලිය. ඒ මිස ඒ ලිපියෙහි සිදුහත් උපතක් ගැන නම් කිසිවක් ම සටහන් කර නැත. මේ බව බෂාම් නැමැති ඉතිහාසඥයා ද තහවුරු කරයි. පසු කාලවලදී ඉන්දීය හින්දු රජවරු ද මේ ස්ථානය වන්දනා කිරීමට ගිය බවත්, ශිලාදිත්‍ය රජු ද මේ ස්ථානය වැදගත් බවත් චීන ජාතික හියුං සාං ද මේ ස්ථානයට ගොස් වැඳ පුදාගත් බවත් ඉතිහාසයේ සඳහන් වේ.

අශෝක මහරජතුමාගේ පුරෝහිතයන්ට බුද්ධෝත්පත්තියක් මිස සිදුහත් කුමාරෝත්පත්තියක් ගැන අසන්නට හෝ දැනගන්නට හෝ නොලැබුණු නිසාදෝ ඉන්දියාවේ වෙහෙර විහාර ගොඩනැගීමේදී මෙම රුම්න්දායි නැමැති ස්ථානයේ පිහිටු වූ අශෝක ලිපියේ ලියා තැබුයේ අශෝක මහ රජතුමාගේ සම්ප්‍රාප්තිය සිහිපත් කිරීම සඳහා මෙම ශිලා ලිපිය ලියා තබන බවයි. සිදුහත් කුමරු පිළිබඳව ඔවුන් දැන සිටියේ නැත. නමුත් නියම නිවැරදි සිදුහත් උපත සිදු වුයේ මේ හෙළදිව දේවහෙළයට අයත් ජන්බුද්වීපයේ ශාක්‍ය ජනපදයක් වු දෙව්දහ නුවරට ආසන්න සල්වනයකදීය. අද මේ ස්ථානය තෙල්දෙනිය අසල පිහිටි බඹරගල බව හඳුනාගෙන ඇත. එදා දෙව්දහ නුවර පිහිටියේ අද කුණ්ඩසාලය හා



ගන්නෝරුව පිහිටි ප්‍රදේශයේය. එදා දෙව්දහ නුවර පිහිටි ශාක්‍ය ජනපදයට අද උඩරට ප්‍රදේශයේ මහවැලි ගඟ ආශ්‍රිතව පිහිටි බොහෝ ප්‍රදේශ අයත් විය. ගෞතම බුදුන් බුද්ධත්වයට පත් වීමෙන් වසර කිහිපයකට පසුව මෙම තෙල්දෙනියේ තමන් උපත ලැබූ සල් වනය අසල වූ ඉන්ද්‍රසාල නම් ගුහාවේ එක් වසක් බුදුපියාණන් ගත කළ බව ත්‍රිපිටකයේ ම සක්ක පඤ්හ සුත්‍රයේ සඳහන් කර ඇත. එදා සල්උයන පසුව සල්වත්ත වී අද තල් වත්ත නමින් වෙනස් වී ඇත. මේ ඉන්ද්‍රසාල ගුහාව ද අද බඹරගල යනුවෙන් හැඳින්වෙයි. බඹරගලින් හමු වී ඇති සෙල්ලිපියක ද ගෞතම බුදුන් එහි වැඩ සිටි බව සඳහන් කර ඇත. පණීත සූත්‍රය යැයි සුත්‍රයක් ද මෙහිදී එදා දේශනා කර ඇතත් අද මේ පණීත සූත්‍රයද යම් කිසි හේතුවක් නිසා ත්‍රිපිටකයෙන් ද හැලී ගොස් ඇත. ගෞතම බුදුපියාණන් එක් වසක් මෙහි ගතකළ බව මහාචාර්ය පරණවිතාන මහතාද පිළිගෙන ඇත. (INSCRIPTION OF CEYLON - VOL 1.P 63:103)

හෙළබිම තුළදී හමු වූ සෙල්ලිපි රාශියකම පැහැදිවම ලියා දක්වා ඇති පරිදි ක්‍රි.පූර්ව 560 තරම් ඈත යුගයේදී, එනම් බුද්ධෝත්පත්තිය සිදු වූ යුගයේදී ලියා තැබූ සෙල්ලිපි කිහිපයකම ගෞතම බුදුන් ගැන සඳහන් වෙයි.

1. දෙකුන්දරා සෙල්ලිපිය
2. කොටා දැවුහෙල සෙල්ලිපිය
3. කොරවක්ගල සෙල්ලිපිය

නමින් නම් කර ඇති ශිලා ලේඛන රාශියකම සඳහන් කර ඇති පරිදි ඒ වන විටත් සිතුල්පව්ව ("චිත්තල පබ්බත") විහාරයේ මහරහතන් වහන්සේලා දොළොස් දහසක් විසූ බව සඳහන් වෙයි. (INSCRIPTION OF CEYLON VOL 1 NO. 1035, 1103,1104)

මහානාම හිමියන් ලියූ පාලි මහාවංශ අටුවාවෙහි ද මේ පුවත ම සඳහන් වෙයි. (පාලි මහාවංශය පරි. 24,8,9 ගාථාවල මෙය සඳහන් වේ)

"සඞ්ඝං සන්නිපාතයි භූපති, ද්වාදසෙත්ථ සහස්සාති භික්ඛු චිත්තල පබ්බතා , තතෝ තතෝ ද්වාදහස්සේව සහස්සාති සමාගමුං" ද්වාදසෙත්ථ සහස්සාති යනු 12000ක් යන්නයි. චිත්තල පබ්බත යනු සිතුල්පව්වයි. මේ යුගය ගෞතම බුදුන් ජීවමානවම වැඩ සිටි යුගයයි. මේ පුවත සඳහන් වන්නේ රුහුණේදී හෝ රජගහනුවරදී හෝ ලියූ මුල් ම හෙළ මහාවංශයේය.

ඉහත සඳහන් දෙකුන්දරා ලිපිය ඇතුළු සෙල්ලිපි 30කම "ගෞතම ශ්‍රමන" යන නම පැහැදිලිවම සටහන් වීමෙන් ගල්ලෙන් තනවා ගෞතම ශ්‍රමණයාණන් වහන්සේට ඒවා පූජා කළ බව පැහැදිලිව ම ඔප්පු වෙයි.

එදා සුද්ධෝදන රජතුමා රජකළේ ජන්බුද්වීපයේ කපිලවස්තු පුරයේය. හෙළදිව කපිලවස්තු පුරය එදා පිහිටා තිබුණේ අද දිඹුලාගලට පහළින් මාදුරු ඔයේ ජලයෙන් කෙත්වතු අස්වැද්දූ සරුසාර ප්‍රදේශයකය. සුද්ධෝදන රජු එදා රජකළ ශාක්‍ය ජනපදය මහවැලි ගඟේ (එදා රෝහිනී නදිය) නැඟෙනහිර ඉවුරෙහි පිහිටා තිබිණි. මාදුරු ඔය ජනපදයේ සිට මාවිල් ආරු සේරුවිල අල්ල ජනපදය ආදී විශාල ප්‍රදේශයක් දක්වා ම මේ ශාක්‍ය ජනපදය එදා පැතිර පැවතිණි. මහවැලි ගඟේ අනික් ඉවුරේ අද සෝමාවතිය, පොළොන්නරුව කන්තලේ රිටිගල දක්වා ප්‍රදේශවල එදා පිහිටා තිබුණේ කෝලිය ජනපදයයි. ශාක්‍ය හා කෝලිය ජනපද දෙක අතර එදා රෝහිනී නදියේ ජලයට යුද්ධයක් ඇතිවිය. මේ යුද්ධය ඇති වූයේ මෑතකදී වාගේම මාවිල් ආරු ප්‍රදේශයේදී ය. ගඟේ ජලය බෙදා



ගැනීම එදා ප්‍රශ්නයට මුල්විය. මේ ශාක්‍ය කෝලිය යුද්ධයේ පුනරාගමනයක් ලෙස මෑතදීත් මාවිල් ආරු ජල ප්‍රශ්නය ඇති වූ බව සිහිපත් කළ හැකිය. මේවා ඉතිහාසයේ නැවත නැවතත් සිදු වන විශේෂ සිදුවීම්ය. පුනරාගමනයන්ය.

එදා මහාමායා දේවිය ගැබ් පෙලහර පෑම සඳහා කපිලවස්තු පුර සිට දෙව්දහ නුවරට ගමන් කළ බව සඳහන්ය. දිඹුලාගල සිට මහවැලි ගඟ දිගේ දෙව්දහ නුවරට යන මාර්ගයක් එදා පිහිටා තිබිණි. මේ මඟ ඔස්සේ කිලෝමීටර් 40ක් පමණ දුර ගිය විට තෙල්දෙණියට ළඟාවිය හැකිය. එය දරුවෙකු ලැබෙන්නට ආසන්න මවු කෙනෙකුට යා හැකි දුරකි. නමුත් අද ඉන්දියාවේ කපිලවස්තු පුර යැයි ලකුණු කර ඇති තැන සිට නේපාලය ලුම්බිනිය යැයි ලකුණු කල ස්ථානයට කි.මී 300ක් පමණ දුරක් ගමන් කළ යුතු ය. එය මවු කෙනෙකුට ගමන් කළ හැකි දුරක් දැයි සාධාරණව කාටත් කල්පනා කර බැලිය හැකි කරුණකි.

ගැබ් පෙළහර පැම එදා මේ හෙළ දිව පැවැති සාම්ප්‍රදායික සිරිතකි. ඒ දරුවකු ලැබෙන්නට ආසන්න මවු කෙනෙකු තම දෙමාපියන් කරා යෑමයි.මේ සිරිත අදටත් මේ ලංකාවේ පවතී. නමුත් ඉන්දියාවේ මෙවැනි සිරිතක් නැත. මේ අනුව ලංකාවේ එදා "ජන්බුද්වීපයේ" සිදුහත් කුමාරෝත්පත්තිය සිදු වූ බවත් මෙම ස්ථානය අද තෙල්දෙණිය - කුණ්ඩසාලයේ අසල ස්ථානයක් බවත් අද එය යටපත්ව ගොස් ඇති බවත් පෙන්වා දිය යුතුය. බඹරගල රජමහා විහාරය නමින් අද නම්කර ඇත්තේ ලුම්බිනියයි.

සිදුහත් කුමාරයා උපත ලැබූ බඹරගල රජමහා විහාරයට යන ගමන් මාර්ගය  මහනුවර සිට මහියංගණයට යන පාරේ කිලෝමීටර් 10ක් පමණ ගිය පසු  දිගන හන්දිය හමුවෙයි. පරණ තෙල්දෙණියට යන පාරේ වික්ටෝරියා බැම්ම දෙසට කිලෝමීටර් 2ක් පමණ ගමන් ගන්නා විට වැව ගම, බඹරගල රජමහා විහාරයට යන පාර හමුවේ. එදා කපිල වස්තු පුරයේ සිට දෙව්දහනුවරට යන මාවත රජ මාවත ලෙසින් හැදින් වූහ. අද බඹරගල රජමහා විහාරය පිහිටියේ මෙම රජමාවත ආසන්නයේය. බඹරගල රජමහා විහාර භූමියේදී අදටත් දැක ගතහැකි පරිදි වසර දහස්ගණනක් පැරණි සල්ගස් පිහිටා ඇත. මෙම ස්ථානයේ සිදුහත් කුමාරෝත්පත්තිය සිදු විය.

කටාරම් කෙටූ ගල් ලෙන් 54ක්ම බඹරගල රජමහා විහාර භූමියේ අද වන විට සොයා ගෙන ඇත. මේ ගල් ගුහා අතරින් එක් ගුහාවක් ප්‍රසූ තලෙන (වැදු ලෙන) ලෙසින් නම් කර අතීතයේ භාවිතා කළ බවද ජනප්‍රවාද වලින් පැවසේ. මෙම විහාරස්ථාන භූමියේම ගෞතම බුදුපියාණන් 6වෙන වස වැඩසිටි ගල් ගුහාවත් ඉන්ද්‍රසාල ගුහාව යන නම යොදා  එම ලෙනෙහි මාගධී ප්‍රාකෘත අකුරෙන් කොටා ඇත. බුදුපියාණන් ජීවමානව වැඩ සිටි යුගයේම බුදුපියාණන් පරිහරණය කරන ලද සළුවක් හා පාත්‍රයක් තැන්පත් කර ගොඩනැගූ සළුමිණි සෑය පිහිටා තිබුණේද බඹරගල රජමහා විහාර භූමියේම කඳු මුදුනේය.

**6 (2). බුද්ධගයාව (ගයා බෝධිය)**

අද බෞද්ධයා සම්මතයෙන් අදහන, බුද්ධ ගයාව යැයි අනුමාන කරන ස්ථානයක් ඉන්දියාවේ බිහාර ප්‍රාන්තයේ ගයා දුම්රිය පලට



කිලෝමීටර් 11ක් දුරින්ද ඵාල්ගු නම් ගංගාවට කිලෝමීටර් 10ක් දුරින්ද පිහිටා ඇත. කලකට පෙර ධර්මපාල තුමන් විසින් මෙම ස්ථානය ගෞතම බුදුන් සම්මා සම්බෝධියට පත් වූ ස්ථානය ලෙසින් හඳුනාගෙන එය ලෝකයාට මෙසේ පෙන්වා දෙන ලදී. මෙම ස්ථානයේ එදා අශෝක රජතුමා විසින් බුද්ධ රාජ්‍යයේ ආකෘතියක් ගොඩ නගද්දී හින්දු හා ග්‍රීක සම්ප්‍රදායයන්ට අනුව එහි ගොඩ නැගූ ගොඩනැගිලි කිහිපයක්ද , ඇසතු බෝධිය සිහිපත් කිරීම සඳහා පසුව රෝපනය කරන ලද බෝධියක්ද අදටත් දකින්නට ඇත. එදා අශෝක මහා රජතුමා විසින් හෙළදිවෙන් ගෙන්වා රෝපනය කරන ලද මුල්ම බෝධීන් වහන්සේ අශෝක රජතුමාගේ ජීවිත කාලය තුළදීම අශෝක අධිරාජ්‍යයාගේ බිසවක විසින්ම කටු ගසා විනාශ කර මරා දමන ලද බවක්ද ඉතිහාසයේ සඳහන්ය.

ගෞතම බුදුන්ට උතුම් බුද්ධත්වයට පත්වීමේදී පිටදෙන්නට උපකාර වූ ඒ අති උතුම් ඇසතු බෝධිය පන්දහසක් කල් යන තුරුම ජන්බුද්වීපයේ මධ්‍ය මණ්ඩලයෙහිම ආරක්‍ෂා වී පවතින වෘක්ෂයකි. එය කිසිම භූමි කම්පාවකින්, ජල ගැලීමකින්, ගින්නකින්, කුණාටුවකින් හෝ යම්කිසි මිනිස් ක්‍රියාකාරකමකින් හෝ විනාශ කළ හැකි එකක් නොවේ. පන්දහසක් කල් යන තුරුම උතුම් බුද්ධ ධර්මය ආරක්‍ෂාවී පවතින්නාක් මෙන්ම නිවන් දකින්නට පින් ඇති ශ්‍රද්ධාවන්ත කුළ පුත්‍රයින්ට විශ්ව ශක්තිය සමඟින් අනුගත වී “බුද්ධ” බවට පත්වන්නට (අරහත් බුද්ධ බවට පත්වන්නට) මේ ඇසතු බෝධීන් වහන්සේද උපකාර වනු ඇත. තවත් දීර්ඝ කාලයක් ඉදිරියටත් මෙම උතුම් බෝධි වෘක්ෂය මෙම හෙළ දිවයින තුළ ජීවමානව පවතිනු ඇත. ඒ සද්ධස්ස තුළ පුත්‍රයන්ට බුද්ධ ශක්තියට අනුගත වීමට උපකාරක වනු සඳහාය.

අශෝක මහරජතුමා විසින් හෙළදිව ජන්බුද්වීපයෙන් එදා ඇසතු බෝ පැලයක් ගෙන්වා ගෙන ඉන්දියාවේ අද බුද්ධගයාව නමින් සම්මත කරගත් ස්ථානයේ එය රෝපනය කරවූ බවට නිවැරදි සාක්ෂි ඉන්දීය ඉතිහාසයේම සඳහන් ව ඇත. අශෝක රජුගේ ආගමික ක්‍රියාකලාපයන් අගය කරන්නටත් ලෝකයාට ප්‍රදර්ශනය කරන්නටත් එදා ඉදි කරන ලද සාංචි තොරණේ අදටත් දකින්නට ඇති රූ සටහන් වලින් පැහැදිලිවම දැක්වෙන්නේ ජන්බුද්වීපයෙන් එදා වැඩමවා ගෙන ආ ඇසතු බෝ පැලය මහරජ විසින් පිළිගෙන එය රෝපනය කළ බවයි. එය සාංචි තොරණේ අශෝක රජුගේ කාලයේදී ම සටහන් කර තබා ඇත. අද එයද වැරදි ආකාරයට අර්ථ කථනය කරන බව පෙනේ. සංචි තොරණෙහි දැක්වෙන චිත්‍ර සටහනෙහි ඇත්තේ බෝ අංකුරය පිළිගන්නා රූපයකි.

ගෞතම බුදුන්ට පමණක් නොව මේ මිහිතලය මත සම්මා සම්බුද්ධ තත්වයට පත්වෙන සියළුම ලොවුතුරා බුදුවරයින් වහන්සේලාට අතීතයේ මෙන්ම මතු අනාගතයේද බුද්ධත්වයට පත්විය හැක්කේ එකම තැනකදීය. ඒ ස්ථානය යහපත් විශ්ව ශක්තිය කේන්ද්‍රගතව පවතින ජන්බුද්වීපයේ (බුදුන් ජන්මය ලබන ද්වීපයේ හෙළ බිම) මධ්‍ය මණ්ඩලයයි. එම ස්ථානය මේ හෙල දිව හරිමැද ස්ථිර වශයෙන්ම පිහිටා අති රමණිය ස්ථානයකි.

ලංකාවේ සිතියමක් ගෙන අක්ෂාංශක දේශාංශක අතර ඇති හරස් කැපුමක් හරිමැද ලක්ෂය ලකුණු කරගෙන බලන්න. ඒ මධ්‍යලක්‍ෂය වන්නේ හිරිවඩුන්නයි. හෙළ බීමේ මධ්‍ය මණ්ඩලයේ අදටත් මේ උතුම් ඇසතු බෝධින් වහන්සේ කාටත් දැක බලා ගත හැකි ආකාරයෙන්ම රැකී රැළී ආරක්‍ෂා වී පවති. (සිතියම බලන්න) මේ ස්ථානය අදත් හෙළ බිමේ හරිමැදයි.



මෙම පැරණි ඇසතු බෝධීන් වහන්සේ දැනට වසර 2700 හෝ ඊටත් වැඩි වසර ගණනක් පැරණි බව එය දකින හැම කෙනෙකුටම මනාව වටහා ගත හැකිය. ගෞතම බෝසත්තුමා එදා මේ රමණිය බිම් කඩට පැමිණ තමන්ට පිට දීමට සුදුසු වෘක්ෂයක් සොයද්දි මෙම ඇසතු බෝධීන් වහන්සේ ඊට සුදුසු ප්‍රමාණයෙන් හැදී වැඩී උස් මහත් වී කදිම තත්වයෙන් පවතින්නට ඇත. එය ධර්මතාවයෙන්ම සකස් වූ බෝධිය මිස කවුරුන් හෝ කෘතිමව සකස් කළ එකක් නොවේ.

“හිරිවඩුන්න” නමින් මේ ස්ථානය අද හැදින්වෙයි. මේ ස්ථානය එදා හිමි වැඩ හුන්න “ස්ථානය හෝ සිරි වැඩ උන්න” ස්ථානය ලෙසින් ජන්බුද්වීප වැසියන්ගේ ව්‍යවහාරයට පැමිණ අද එය හිමිවැඩ උන්න වෙනුවට කටට හුරු ලෙසින් හිරිවඩුන්න බවට පත්ව ඇති බව පෙනේ. මේ ස්ථානය හබරණ දඹුල්ල පාරේ කිරෙලෝමීටර් 110 කනුව අසලින් බටහිර දෙසට සැතපුමක් පමණ දුර ගමන් කිරීමෙන් අදටත් දැක ගත් හැකිය.

පුරා විද්‍යා රක්‍ෂිතයක් ලෙසින් ද, අරඤ්ඤ සේනාසනයක් ලෙසින්ද අදටත් රැකී ආරක්‍ෂා වී ඇති මේ රමණීය බිම අද කාටත් දැක ගත හැකිය. එදා ගෞතම බුදුපියාණන්ට බුද්ධත්වයට පත්වීමට උපකාර වූ ඊට ම සම්බන්ධ ස්ථාන රාශියක් ද අදටත් මේ ස්ථානයේදීම දැක ගත හැකිය.

1. ගෞතම බුදුපියාණන් වහන්සේ බුද්ධත්වයට පත්වීමේදී පිටදුන් ඇසතු බෝධින් වහන්සේ (ජය සිරි මහා බෝධිය)

2. ගෞතම බුදුපියාණන් වහන්සේ වෙනුවෙන් මුචලින්ද රජු එදා සකස් කළ වජ්‍රාසනය (ශිලා ආසනය)

3. කුසතණ පදුරු (බෝධිය පිහිටි බිමේදීම දැක ගත හැකිය. මේ කුසතණ කවුරුන් හෝ වගා කර ඒවා නොවේ.) මේ කුස තණ ශාකය ඒක දේශික භෝගයකි.

4. රුවන් සක්මන (ගෞතම බෝසත් තුමා වෙනුවෙන් සකස් කළ සක්මන් මළුව )

5. මුචලින්ද රජු විසින් (නාග ගෝත්‍රික ) ගෞතම බුදුන්ට මහ වැස්සෙන් බේරෙන්නට සාදා සකස් කර දුන් කුටිය හා සැත පෙන්නට සකස් කර දුන් ගල් ආසනය(ඇඳ)රුවන් ගෙය (මුචලින් රජු යනු නාගයෙකු නොව නාග ගෝත්‍රිකයෙකි.

6. සුජාතා සිටුදුව කිරිපිඩු පිළිගැන් වූ අජපල් නුගරුක (මුල් නුගය විනාශ වී ඇතත් ඉන් පැනනැගී ආ නුගයත් අදටත් එහි දී දකින්නට ඇත.)

7. බුද්ධත්වයට පත්වීම අධිෂ්ඨාන කරමින් බෝසත්තුමා එදා තම පාත්‍රය උඩුගංබලා පා කර යැවූ නේරංජනා නදියේ පාත්‍රය උඩුගං බලා ගිය ගංගාවේ ඉතිරි වූ කොටස , හාස්කමකින් සේ අදටත් ඒ ගංගාවේ යාර 200 ක් පමණ වූ කොටසක් ඉතිරි වී ඇත. මහා පරාක්‍රමබාහු රජ සමයේ හිරිවඩුන්න වැව් බැම්ම බැඳීමෙන් නේරංජනා ගංගාව වෙනත් පැත්තකට හැරී ගලන්නට විය.

8. නදී කාශ්‍යප, ගයා කාශ්‍යප හා, උරුවෙල් කාශ්‍යප යන අරහතුන් වහන්සේලා විසින් එදා සකස් කර දුන් ආරාම වල බොහෝ නටඹුන් (හිරිවඩුන්න ගමේම කොටසක් අදටත් "කස්සප ගම" නමින් හදුන්වන්නේ කාශ්‍යප තුන් බෑයන් සිහිපත් කිරීම සඳහාය.)



ගෞතම බුදුපියාණන් එදා බුදුවන්නට අධිෂ්ඨාන කරමින් තම පාත්‍රය නේරංජනා ගගේ උඩුගම්බලා යැව් බව ඉතිහාසයේ සඳහන්ය. අදටත් හිරිවඩුන්නට උඩින් (ඉහත්තාවේ) ඇති ගම "උඩංගාව" නමින් හඳුන්වයි. (උඩ +ගං+ ආ) "උඩංගාව" යනු උඩු ගම්බලා ගිය පාත්‍රය සිහිපත් කිරීමට අතීතයේ විසුවන් විසින් තබන ලද නමකි. හිරිවඩුන්නට තරමක් දුරින් පිහිටි ඒ අසලම වූ තවත් ගමක් අදටත් "මා මිණියාව"නමින් හැඳින්වෙයි. මෙය "මහා මුනි ආව" යන අර්ථයෙන් තැබූ නමකි. මහමුනි යනු ගෞතම බුදුපියාණන්ය. බුද්ධත්වයට පත් වූ ගෞතම බුදුන් එදා පළමුවෙන්ම මේ මා මිනියාව නැමැති ගමට පැමිණි බව පෙන්වා දිය හැකිය.

මෙවැනි නම් ගම් තම මී මුත්තන්ගේ කාලයේ පටන්ම ධර්මතාවයෙන්ම රැකී රැඳී පවතින බව අදත් හිරිවඩුන්න ගමේ වැඩිහිටියෝ පවසති. එදා ගෞතම බුදුපියාණන්ට බුද්ධත්වයට පත් වීමට උරදුන්, උපකාර වූ මෙම සිරි මහා බෝධීන් වහන්සේත් රමණීය භූමියත් ඕනෑම කෙනෙකුට දැක බලා ගත හැකි ආකාරයෙන් අදත් විවෘත බව ප්‍රකාශ කළ යුතුය. මෙම මුල් සිරි මහ බෝධීන් වහන්සේගේ ආරක්ෂාව සලසා දෙන්නේ අති පුදුම නොපෙනෙන බලවේගයකිනි. එහි රනින් කළ රන් වැටවල් නැත. එදා ගෞතම බුදුන් බුදු වූ මොහොතේ පටන් ම මෙම අදෘශ්‍යමාන බලවේගයන් මෙම ස්ථානයට අරක් ගෙන ක්‍රියාත්මකව පවතින බව කිව යුතුය. සිරිමහ බෝධීන් වහන්සේ ලඟ මේ බලවේගය ජීවමානව අදටත් සිටින බව මෑතකදී සිදු වූ සිද්ධින්ගේන් කාටත් දැනගත හැකි විය. මෙම සිරිමහා බෝධීන් වහන්සේගේ දකුණු ශාඛාව එදා සංඝමිත්තා මෙහෙණිය විසින් හිරිවඩුන්නේ සිට අනුරාධපුර නගරය බලා වැඩමවා ගෙන එදා සිදු වූ සත්‍යයම සිදුවීමයි. මෙය මහා වංශයේද සඳහන්ය. මෙය "ජන්බුද්වීපා ඉධා ගතා ලංකාපුර" යනුවෙන් මාගධී බසින්

බෝධීන් වහන්සේ වැඩම වීම ගැන මහා වංශයේ සටහන් වේ. ජන්බුද්වීපය යනුවෙන් එදා අදහස් කළ ප්‍රදේශය බුදුන් ජන්මය ලැබූ මේ හිරිවඩුන්න ප්‍රදේශයයි. එහි සිටි සංඝමිත්තා මෙහෙණිය විසින් පාත්‍රයක් තුළ පැල කරන ලද මෙම බෝ අංකුරය ඔරුවක පටවාගෙන මහා කන්දරාව තෙක් ගඟ දිගේ ගෙන වුත් දෙවනපෑතිස්ස රජුට එහි දී භාර දුන් බව පෙන්වා දිය යුතුය. එදා නේරංජනා ගඟ නමින් නම් කරන ලද විශාල ගංගාවත් හිරි වඩුන්න ආරඤ්ඤ සේනාසනය අසල ප්‍රදේශයේ සිට සැවැත් නුවර හරහා ගලා ගොස් කෝකිලායි කලපුව ලඟින් මුහුදට ගලා ගිය බවද පෙනේ.

අද ඒ විශාල ගඟ ඔයක් (හුරුළු ඔය) බවට පත් වූයේ මහා පරාක්‍රම බාහු රජතුමා විසින් පසු කාලයකදී ඇලහැර දී අඹන් ගඟ හා සුදු ගඟ හරවා එහි ජලය පරාක්‍රම සමුද්‍රයට හැරවීමයි. ඊට පහල ප්‍රදේශවලදී මෙම ගඟ හරස්කර හිරිවඩුන්න වැව, හුරුළු වැව මහගල් කඩවල වැව වාහල්කඩ වැව හා පදවිය වැව වැනි විශාල වැව් ගණනාවක් පසු කාලයකදි සෑදීමත් නිසාය. අද මේ විශාල වැව් ගණනාවක්ම පසු කාලයකදි සෑදීමත් නිසාය. මේ විශාල ගංගාව කුඩා ජල පහරක් බවට (යාන්ඔය හුරුළු ඔය ) පත් වී තිබේ. නමුත් එදා සැවැත් නුවරට වෙළඳ බඩු පවා ප්‍රවාහණය කළේ මේ ගඟේ ගමන්කල ඔරු පාරු හා කුඩා නැව් වලින්ය. සඞමිත් තෙරණිය ද එදා හිරිවඩුන්නේ සිට අනුරාධපුරයට සිරි මහ බෝධින් වහන්සේගේ දකුණු ශාඛාව වැඩමවා ගෙන ගියේද මේ නේරංජනා ගඟ දිගේම ඔරුවකිනි. ඒ හෙළ දිව ජන්බුද්වීපයේ සිට ලංකා පුරයටයි. ලංකාපුර පසු කලෙක අනුරපුර ලෙසින් ව්‍යවහාර විය.



එදා බුදුපියාණන් පිටදී බුද්ධත්වයට පත් වූ මෙම ජය සිරි බෝ සමිදුන්ගේ දකුණු ශාඛාව ගලවාගෙන ගිය ස්ථානයේම අදටත් සමහර වර්ෂවල මහා ආශ්චර්යයන් පාමින් සුදු බෝධීන් වහන්සේ නමක් මතුවී ඉන් බුදු රැස් විහිඳුවන බව කවුරුත් දන්නා කරුණකි. 2009 මැයි මස 08 වැනි දින වෙසක් පුන් පොහොය දිනයේ හිරිවඩුන්නේ ශ්‍රී මහාබෝධිරාජයාගේ මුලින් මතු වු මෙම විශ්මිත සුදු බෝ අංකුරයේ සේයාරුවක් (2009.05.17) ගන්නා ලද මෙහි ඇතුළත් කර ඇත. මෙම බෝ අංකුරය සති හතක් ජීව මානව පවතී. ඉන් පසුව අපවත් වී යාමද සිදු වෙයි. මෙම සුදු බෝධි අංකුරය මතු වන්නේ ද වෙසක් පොහොය දිනයට මය. මෙම සිරි මහා බෝ සමිඳුන්ගේ පත්‍ර පවා වෙනත් කිසිම බෝධියක දකින්නට නැති විශේෂ ලක්ෂණවලින් ද යුක්තය. අදත් මෙහි බෝපත් වලින් පවා රශ්මියක් කිරණයක් විහිදේ වෙනත් බෝගස් වල නැති විශේෂ ලක්ෂණ රාශියක් මෙහිදී දැක ගත හැක. මෙම ජය සිරි මහා බෝධින් වහන්සේ අනුරාධපුර වැඩ සිටින ජය සිරි මහා බෝධීන් වහන්සේගේ මව් බෝධින් වහන්සේ බැව් විද්‍යාත්මකව ද ඔප්පු කර පෙන්විය හැකි කරුණකි.

ගෞතම බෝසත්තුමාට එදා සුජාතා සිටු දේවිය කිරි පිඬු පූජා කළේත් මේ බෝධින් වහන්සේට නුදුරින් පිහිටි අජපල් නුගරුක මුලදීය. ඒ නුග රුක මෙන්ම නේරංජනා නදීයේ පාත්‍රය පාකර හැරිය පාත්‍රය උඩුගම් බලා ගිය අඩි 300ක් 400 පමණ ගංගාවේ කොටසක්ද අදටත් නිරුපත්ද්‍රිතව ඒ ආකාරයෙන් ම කාටත් දැක ගත හැකි සේ මෙම ආරණ්‍ය භූමියේම ආරක්‍ෂා වී පවති. ඒ ගඟේ උඩු කෙළවර ප්‍රදේශය අදටත් “උඩංගාව” ලෙසින් නම් කල ගමකි. එය උඩගම් ආව යන අර්ථයෙනි. උඩුගම් බලා ආවේ පාකර හැරිය පාත්‍රයයි එදා මේ ස්ථානයට කිට්ටුවම වූ

ප්‍රදේශයේ පාලකයා වූයේ මුචලින්ද රජුය. මුචලින්ද රජුගේ නම ආටානාටා සූත්‍රයේද සනිටුහන් විය . මේ රජු නාග ගෝත්‍රික රජ කෙනෙකි.(නයෙක් නොවේ.) මුචලින්ද රජු එදා පැවති උසස් තාක්ෂණය යොදා ගෙන බුදුපියානන්ට සකස් කර දුන් ගල් කුටිය හා ගල් ආසනයද (දිග අඩි 6.5 පළල අඩි 3යි) අදටත් එතැනම දක්නට ඇත. රුවන් ගෙය නමින් එදා එය හැඳින්වීය. බුදු පියාණන් එදා බුද්ධත්වයට පත් වී පස්වග මහණුන්ට පලමුවන ධර්ම දේශනාව පවත්වන්නට ගිය ගමන ආරම්භ කළේ මෙම බෝධි මූලයේ සිටය. පස්වග මහණුන් හා යසකුළ පුත්‍රයා හා පිරිස මහණකර වූ බුදුපියාණන් ටික කලකින්ම යලිත් සිරි මහා බෝධීය කරා පැමිණියේය. හිරි වඩුන්නේ සිරි මහා බෝධිය අසලම වූ කස්සප ගමේ එදා (අදටත් කස්සප ගම පවතී. ) ජීවත් වූ නදී කස්සප, ගයා කස්සප, ඌරුවෙල් කස්සප යන ජටිල තුන් බෑයන්ට ධර්මය දේශනා කළේත් මේ සිරි මහා බෝධි මූලයේදීමය. මේ අනුව ජටිල තුන් බෑයන් හා ඔවුන්ගේ පිරිස මඟඵල ලබාගෙන ඉන්පසුව හිරිවඩුන්න නම් වූ මෙම ස්ථානයේම ආරණ්‍ය සේනාසන සකස් කර ගෙන වැඩ සිටි බවත් පැහැදිලිය. අදටත් අක්කර 11 පමණ වු මෙම රමණීය භූමි භාගය තුල මේ අතීත ආරණ්‍ය සේනාසන වල සියළුම නටඹුන් දක්නට ඇත. ඒ සියළු නටඹුන් අනුරාධ පුර යුගයට වඩා වසර 300ක් වත් පැරණි ඒවාය.

එදා පැවති මුචලින්ද විල නමින් ප්‍රසිද්ධ වූ විල නේරංජනා නදියට බටහිරෙන් අදටත් දකින්නට ඇත. අද ඉන්දියාවේ වන්දනාවේ යන පිරිසට දකින්නට ලැබෙන්නේ බුද්ධ කාලයකට වසර 300කට පමණ කාලයකට පසුව අශෝක මහ රජතුමා විසින් ගඩොලින් සාදා ගොඩනැංවූ බුද්ධගයාවේ ස්මාරකයකි. එය ආකෘතියක් ම පමණි. නමුත් හිරිවඩුන්නේ ඇති සියළු අංග ධර්මතාවයෙන් රැකි ආරක්ෂා වූ දේවල්ය. අරිය



පර්යේෂණ සූත්‍රයේ ඉතාම පැහැදිලිව පෙන්වා දෙන පරිදි "ඉතාම රමණීය භූමි භාගයකින්ද සිත් ගන්නා නේරංජනා ගඟ අසලම පිහිටි වැලි තලාවද, ඒ අසලම පිහිටි ගොදුරු ගමද සිත් කළු යැයි බුදුපියාණන්ම පවසයි. අද හිරිවඩුන්න ආරණ්‍යයට යන ඕනෑම කෙනෙකුට තම දෑසින්ම මෙම සියළු දර්ශන අරිය පර්යේෂණ සූත්‍රයේ එන වර්ණනාවට බිඳ කුදු නොඅඩුවම දැක ගත හැකි අයුරු ආරක්ෂා වී පවති. ඒ අතරම ධම්මානු ධම්මපටිපදාවෙහි යෙදෙන යෝගාවචරයෙකුටම සුදුසු වූත් සියළු බුදුවරයින් වහන්සේලාටද අරහත්ඵල සමාපත්තියටම පත්වීමට උපකාර වූත් ඒ සමාපත්ති සුවය ලබා ගත හැකි වූ විශ්මිත විශ්ව ශක්තියක්ද මෙම ස්ථානයේ අදටත් පවතින බවත් මා ලැබූ අත් දැකීමෙන්ම ප්‍රකාශ කර සිටිමු.

ගෞතම බුදුන් ඒ උතුම් සම්මා සම්බුද්ධත්වය පූර්ණ කර ගත්තේ මේ ස්ථානයේදීම බව පෙන්වා දීමට මෙයට වඩා තවත් උපමා උදාහරණ සාක්ෂි අවශ්‍ය නොවේ.

උතුම් විශ්ව ශක්තිය මේ ආකාරයට කේන්ද්‍රගත වූ වෙනත් තැනක් මේ මිහිතලය මත නැති බවත් මේ ස්ථානයේදී ලබාගත හැකි මෙම බුද්ධ ශක්තිය ධර්ම මාර්ගයේ යන අයට පමණක්ම ලබා ගත හැකි එකක් බවත් අවංකවම පෙන්වා දිය යුතුයි. මෙතෙක් කාලයක් වසර 1200කටත් වැඩි කාලයක් මෙම උතුම් ස්ථානය සොයා ගත නොහැකි ආකාරයට මහ වනයෙන් වැසී යටපත්ව තිබිණ. එයට හේතුවද ධර්මතාවය මිස වෙනත් හේතුවක් නොවේ. පවිත්‍ර බුද්ධධර්මය යළි මතුවීමත් සමඟම මෙම උතුම් ස්ථානයන් ධර්මතාවයෙන්ම මතුවීම සිදු විය. ඔබත් ධර්ම මාර්ගයම අනුගමනය කර මේ සත්‍යයන් අත් දැක ගන්න.

හිරිවඩුන්න සිරි මහා බෝධින් වහන්සේ වැඩ සිටින තැනට යන ගමන් මාර්ගය: කොළඹ ත්‍රිකුණාමලය පාරේ දඹුල්ල පසු කර කිලෝ මීටර් 20ක් පමණ ගිය පසුව කිලෝ මීටර් 110 කණුව අසලින් වමට හැරී කිලෝ මීටර් 1ක් ගුරු පාර දිගේ යා යුතුය. හබරණ සිට හෝ අනුරාධපුර පොළොන්නරුව සිට හෝ පැමිණෙන විට හබරණ දඹුල්ල පාරේ කිලෝමීටර් 2ක් පමණ පැමිණ දකුණට හැරී කිලෝ මීටර් 1ක් ගුරු පාරේ ගමන් කළ පසුව සිරි මහා බෝධින් වහන්සේ වැඩ සිටින ආරණ්‍ය සේනාසනය හමුවේ. කොළඹින් පොළොන්නරුව ත්‍රිකුණාමලය, සෝමාවති පුදබිම, කන්තලේ හිඟුරක්ගොඩ, මැදිරිගිරිය, කදුරුවෙළ දෙහිඅත්තකණ්ඩිය, මඩකලපුව බලා යන ඕනෑම බස් රථයකට නැඟ හිරිවඩුන්නෙන් බැස මෙම පින්බිමට ළඟාවිය හැකිය. අක්කර 11 පමණ විශාල ආරණ්‍ය සේනාසන භූමිය පුරා විසිරුණු පුරා වස්තු ඇති අතර සත් සතියට අදාල සියළුම ස්ථාන අදටත් එහි දී දැක බලා ගත හැකිය.

**6. (3) ඉසිපතනයේ මිගදාය.**

වෙසක් පෝදා උතුම් සම්මා සම්බෝධියට පත් වූ ලොව්තුරා බුද්ධ වූ ගෞතමයන් වහන්සේ ජය සිරි මහා බෝධි මූලයේම සත් සතියක් ගත කර මෙතැන් සිට කසී රට ඉසිපතනයේ මිගදායෙහි ගල් ලෙනක සිටි පස්වග මහණුන් සොයා පා ගමනින්ම වැඩි සේක. මේ ගමන් විස්තර හා මගදී හමු වූ අය පිළිබඳවත් අරිය පර්යේෂණ සූත්‍රයේම සඳහන් කර ඇත.

ඉන්දියාවේදීද අශෝක මහ රජතුමා විසින්ද එදා මෙම සිදුවීම සනිටුහන් කිරීම සඳහා ඉසිපතනය නමින්ද එක් ස්ථානයක් නම් කර එහි ඉදිකිරීම් කරවන ලදී. ඒ ධම්සක් පැවතුම් සූත්‍රය දේශනා කළ යුගයට



වසර 300කට පමණ පසු කාලයකදීය. ඉන්දියාවේ ගයා බෝධිය යැයි අද හඳුන්වන ස්ථානය හා ඉසිපතනය යැයි අද හදුන්වන ස්ථාන දෙක අතර අද දුර කිලෝ මීටර් 400ක් පමණ වේ. මෙවැනි දුරක් එදා පාගමනින්ම යාමට නම් දින 20ක් වත් ගමන් කළ යුතුය. වෙසක් මස පුන් පෝදා ශ්‍රී මහා බෝධී මූලයේදී උතුම් සම්මා සම් බෝධියට පත් වූ ගෞතම බුදුපියාණන් ඇසල මස පුන් පොහෝ දා එනම් බුද්ධත්වයට පත් වී මාස 2කට පමණ පසුව ඉසිපතනයේ දී ධම්සක් පැවතුම් සූත්‍රය දේශනා කළ බව අරිය පර්යේෂණ සූත්‍රයේ පොතෙහි සඳහන්ය. සති හතක්ම බෝ මැඩ අසලම කාලය ගත කළ බවත් සඳහන්ය. මේ අනුව පැහැදිලි වන්නේ ඉතිහාසය ලියුවන්ට කොහේ හරි වැරදී ඇති බවයි. කෙසේ වුවත් එදා ජන්බුද්වීපයේ (හෙළදිව) දුර ප්‍රමාණයන් අනුව සලකා බලන විට මේ සියළු ප්‍රශ්න විසඳා ගත හැකිය. හෙළ දිව එදා ඉසිපතනය වූයේ අද මැදවච්චිය අසල පුනෑව පාරේ පිහිටි "ඉසින්බැස්ස ගල" යන නමින් අදටත් හඳුන්වන ස්ථානයයි. එදා කසී රට වූයේ අද වවුනියාව, මුලතිවු, පදවිය ඇතුළු ප්‍රදේශයකි. එහි අගනුවර වරනාසී විය. අද එය වවුනියාව නම් වේ. එදා පස්වග මහනුන් වැඩ සිටි ස්වභාවික විශාල ගල් ලෙනක් එහි ඉදිකළ සෙල්ලිපිත් බුදුපියාණන් පස්වග මහණුන්නට දම්සක් පැවතුම් සූත්‍රය දෙසූ ස්ථානයත් යන සියල්ලමත් අදටත් මේ "ඉසින් බැස්සගල " යන නමින් ප්‍රසිද්ධ වූ ස්ථානයේදී ම දැක බලා ගත හැකිය. එවකට ඉසිපතනයේ මිගදායට බටහිරෙන් පිහිටි සාතාගිරි, හේමවත යන යක්ඛ ගෝත්‍රික ප්‍රාදේශිය රජුන් පාලනය කළ ප්‍රදේශයකි. මෙම රජවරුන් දෙදෙනා ම එදා ගෞතම බුදුපියාණන් බැහැ දැක බණ අසා පැහැදුණු බව අරිය පර්යේෂණ සූත්‍රයේ ද සඳහන්ය. සාතාගිරි හේමවත යන මේ නම් දෙකම ආටානාටි සූත්‍රයේ ද සඳහන් හෙළදිව ගෝත්‍රානායකයන්ගේ නම්වලටද ඇතුළත්ය. අදටත් සන්තාන කන්ද නමින්ම මේ ප්‍රදේශය හඳුන්වයි.

ත්‍රිපිටකයේ සඳහන් වන තවත් වැදගත් පුවතක්ද මෙහිදී මතක් කළ යුතුය. එනම් ගෞතම බුදුන් හිරි වඩුන්නේ සිරි මහා බෝධි මුලයෙන් ඉසිපතනය බලා වැඩම කරන අතර මඟදී "තපස්සු භල්ලුක, නම් වෙළඳ දෙබෑයන් හමු වූ බවයි. මොවුන් හමු වූයේ එදා ඉසිපතනයත් සිරි මහා බෝධියත් අතර මාර්ගයේදීය. අද එය මිහින්තලයට කිට්ටු හොරෙව්පතාන මොරවැව ප්‍රදේශයේදීය. එහිදි තපස්සු භල්ලුක දෙබෑයන්ට ගෞතම බුදුපියාණන් ලබා දුන් පූජා භාණ්ඩ වුයේ කේශ ධාතුය. ඒවා තැන්පත් කර ඒ වෙළෙඳ දෙබෑයන් විසින් එදා ඉදිකරන ලද ස්තූපය ගිරිහඬු සෑය, තිරියාය යන නම් වලින් අදටත් ප්‍රසිද්ධය. මේ ගිරිහඬු සෑය හා තිරියාය යන ස්ථාන දෙකම පිහිටියේ මේ හෙළ දිවය. ඉසිපතනයටත්, සිරි මහා බෝධියටත් අතර ප්‍රදේශයේය. අදටත් මේ ස්ථානවල ඉදිකල ගොඩනැගිලිවල නටඹුන් විශාල ප්‍රමාණයක් දැකබලා ගත හැකිය.

යසකුල පුත්‍රයා හා ඔහුගේ මිත්‍රයන් 54 දෙනෙකුද බුද්ධ ධර්මය අවබෝධ කරගෙන එදා මඟඵල ලැබුවේද කසී රට නම් වු මෙම ස්ථානයේදීමය. ඒ අනුව ගෞතම බුදුන් බුද්ධ ධර්මය දූත සේවය ආරම්භ කළේ අද වව්නියාවට නුදුරින් පිහිටි ඉසින් බැස්ස ගල (ඉසිපතනය) නම් මෙම පින්බිමේදීය. අදටත් මේ ස්ථානයන් ධර්මතාවයෙන්ම වැසී යටපත්ව රැකී පවති. ඒ ධර්ම මාර්ගයේ යන අයටද දැක බලා වැඳ පුදා ගැනීම සඳහාමය.

**ඉසින් බැස්ස ගල හෙවත් ඉර්ෂින් පතනය වූ ඉසිපතනය.**

ගෞතම බුදුපියාණන් වහන්සේ තමන් වහන්සේ අවබෝධ කරගත් උතුම් බුද්ධ ධර්මය පස්වග මහණුන්ට දේශනා කර දහම් බෙරය



හැඬ වූ ස්ථානය මෙම ඉසිපතනය හෙවත් ඉසින් බැස්ස ගල රජමහා විහාර භූමියයි. අද එහි රජ මහා විහාරයක් ඇත. මහනුවර යාපනය අංක 9 පාරේ මැදවච්චියේ සිට කිලෝමීටර් 2ක් පමණ වව්නියාව දෙසට ගමන්කළ විට පාරේ දකුණු පැත්තේ මෙම පින්බිම පිහිටා ඇත.

**6 (4) කුසිනාරා නුවර**

ගෞතම බුදුපියාණන් වහන්සේගේ පරිනිර්වාණය සිදුවූයේත්, ශ්‍රී දේහය ආදාහනය කළේත් ද්‍රෝණ බමුණා විසින් සර්වඥ ධාතුන් බෙදීම සිදුකළෙත් කුසිනාරා නුවරදීය. ඒ කුසිනාරා නුවර එදා පිහිටියේ මල්ල රජුන්ගේ රටේහිය.

අශෝක මහ රජතුමාද බුද්ධ පරිනිර්වානය සිහිපත් කිරීම සඳහා ඉන්දියාවේ "කාසියා" නමින් අද හඳුන්වන ස්ථානයක ස්මාරකයක් කරවීය. ස්තූපයක්ද කරවීය. පසුව එහි බුදුපිළිමයක්ද ඉදිකර ඇත.

ගෞතම බුදුන් පිරිනිවියේත් , ශ්‍රී දේහය ආදාහනය කළෙත් ද්‍රෝණ බමුණා ධාතු බෙදා දුන්නේත් මේ හෙළ දිවේදීමය. එදා මල්ල රට අගනුවර අද බලංගොඩට පහළින් පිහිටි රජවක, මහවලතැන්න, උග්ගල් කල්තොට, වේලිඹය සිට සංඛපාල තෙක් ඇති ප්‍රදේශය මල්ලව රාජධානියට අයත් ප්‍රදේශ විය. අද "බුදුගල" කුරගල නමින් බලංගොඩට පහළින් කල්තොට පාරේ පිහිටි ප්‍රදේශය එදා ගෞතම බුදුන් පිරිනිවි ස්ථානයයි. අදටත් මේ ස්ථානයේ විශාල ප්‍රමාණයක් නටඹුන් දැකගත හැකිය. එකල මල්ල රජදරුවන් ඉදිකළ සිහිවටන හා සෙල්ලිපි සියල්ලමත් ආදාහනය සිහිපත් කිරීමට ඉදිකළ පංචාවාසයත් අදටත්

මෙහි දක්නට ඇත. ගෞතම බුදුපියාණන් කුසිනාරා නුවරදී (හෙළදිව බුදුගල දී)පිරිනිවන් පා වදාළ පසුව එහිදී ම ආදාහනය කළ බවත් ඒ සඳහා මූලික වී කටයුතු කළේ මල්ලව රජ දරුවන් බවත්, මහා පරිනිබ්බාන සූත්‍රයේම සඳහන් වී ඇත. ද්‍රෝණ බමුණා විසින් ධාතු බෙදීමේදී මල්ල රජදරුවන්ට ලැබුණු දන්ත ධාතූන් වහන්සේ කුසිනාරා නුවරම(එනම් බුදුගල නමින් අද හඳුන්වන ස්ථානයේම) දන්ත ධාතු මන්දිරයක් තනවා ආරක්ෂා සහිතව තැන්පත් කර මල්ලව රජ පරපුර විසින් පුද පූජා පවත්වමින් රැක ගත් බව පෙනේ. හෙළදිව ඉදිකල පළමුවෙනි දන්ත ධාතු මන්දිරයේ මුල් අඩිතාලම අදටත් බලංගොඩ බුදුගලදී කාටත් දැක ගත හැකිය. (පින්තූරය බලන්න)

දන්ත කුමරු හා හේමමාලා කුමරිය යනු මෙම මල්ලව රජපරපුරෙන් බිහි වූ දන්ත ධාතූන් වහන්සේව රැක බලා ගත් හෙළ දිව උපන් දෙදෙනෙකි.මල්ලව රටේ රාජ බලය දුර්වල වී යෑමත් සමඟම අනුරාධපුරය බලවත් රාජ්‍යයක් බවට පත් වීමත් සමඟ ම තමන් මෙතෙක් කල් සඟවා ආරක්ෂා කරගෙන සිටි දන්ත ධාතූන් වහන්සේ ව අනුරාධ පුරයේ රජකම් කළ කිත්සිරි මෙවන් රජුට හොර රහසේම ගෙන ගොස් භාරදුන්නේ මේ හෙළයේම උපන් දන්ත කුමරු හා හේමමාලා කුමරිය යන දෙදෙනාය.

මහාවංශ අටුවාවේද මේ කථා පුවත නිවැරදිව ම සටහන් වී ඇත. ඒ දන්ත කුමරු හා හේමමාලා කුමරිය ලංකාපුරයට ජන්බුද්වීපයේ සිට දන්ත ධාතූන් වහන්සේව වැඩමවා ගෙන ආ පුවතයි. අද බුදුගල යනු එදා කුසිනාරා නුවරයි. කුසිනාරා නුවර පිහිටියේ බුදුන් ජන්මය ලබන ජන්බුද්වීපයේ හෙළ දිවයිනේ ය. ලංකාපුර වුයේ අනුරාධපුර නගරයයි.



අදටත් බුදුගල නමින් ඇති අක්කර 15 පමණ විශාල භූමි ප්‍රදේශයක මල්ලව රජ දරුවන් විසින් එදා ඉදිකරන ලද ගොඩනැගිලි වල නටඹුන් කාටත් දැක ගත හැකිය.

මහා පරිනිබ්බාන සූත්‍රයේ දක්වා ඇති පරිදි රජගහනුවර සිට විශාලා මහ නුවරටත් එතැන් සිට බේළුව ගමටත්, එතැන් සිට පාවා නුවරටත් ගඟෙන් එතෙර වී කුසිනාරා නුවරටත් පැමිණි ගෞතම බුදුන් එහිදී පිරිනිවන් පෑ සේක. රජ ගහ නුවර වේළුවනය එදා පිහිටියේ අම්පාර නිල්ගල පාරේ පිහිටි රජගල තැන්න නම් ස්ථානයේය. එතැන් සිට බිබිලටත් මැද ගම හා මොනරාගලටත්, එතැන් සිට මාළිගාවිල හරහා විශාලා මහා නුවරටත් පැමිණියහ. අද විශාල මහනුවරක් දකින්නට නැත. එය යාල අභය භූමියේ වනය හරි මැද කුඹුක්කන් ඔය අසල පිහිටි තැනකි. එහිදී ද විශාල නටඹුන් රාශියක් අදටත් දකින්නට ඇත. ඒවා මහා වනයේ තවමත් යටවී ගොස් ඇත. අද මේ ස්ථානය කැබලිත්ත දේවාලය ලෙසින් හඳුන්වයි.

විශාලා මහනුවර සිට බේළුව ගමට (බුත්තල) පැමිණ එතැන් සිට වැල්ලවායට පහලින් පිහිටි ඇතිළිවැව ප්‍රදේශය හරහා හම්බේ ගමුවටත් පැමිණියහ. එදා පාවා නුවර වුයේ අද හම්බේ ගමුව නම් මහ වනයෙන් වැසුනු ප්‍රදේශයයි. ඇතිලි වැව හා හම්බේ ගමුව අතර මාර්ගයේ එදා බුදුපියාණෝ රෝගීව දින දෙක තුනක් ගත කළහ. ඒ විශාල ගල් ලෙන් අදටත් එහි දකින්නට ඇත. මේ සියල්ලම දැන් මහ වනයෙන් වැසී ගිය ප්‍රදේශයන්ය. පාවා නුවරින් ගඟෙන් එතෙරව මල්ල රජදරුවන්ගේ රටේ කුසිනාරා නුවරට පැමිණි බව සඳහන්ය. එදා එගොඩ වූ ගඟ අද වේලිඔය නමින් නම් කළ වළවේ ගඟේ ම තැනකි. එදා මල්ල රජ දරුවන්ගේ රාජධානියේ අගනුවර වුයේ බලංගොඩ, රජවක මහවල

තැන්න ප්‍රදේශයයි. බුදුගල නම් වූ ගෞතම බුදුන් පිරිනිවන් පෑ ස්ථානය මහවල තැන්නට සැතපුම් 10ක් පමණ පහලින් පිහිටියේය. එදා එය කුසිනාරා නම් නියංගම විය. අද එය බුදුගල කුරගල යන නමින් හැදින් වේ.

මේ අනුව සිදුහත් උපත, ගෞතම බුදුන්ගේ සම්මා සම්බෝධියට පැමිණීම, පළමු ධර්ම දේශනය පැවැත්වීම මෙන්ම පිරිනිවන් පෑම යන මේ වැදගත් අවස්ථාවන් හතරම සිදු වුයේ එදා මෙම හෙළ දිවම පිහිටි ජන්බුද්වීපයේදීය. ඉන්දියාවේදී එදා අශෝක මහ රජු විසින් ඉදිකරන ලද්දේ මේවායේම ආකෘතීන්ය. අද ලංකාවේ බෞද්ධයා ඉන්දියාවේදී දැක බලාගෙන වඳින්නට යන්නේ මේ ගඩොලින් කල ආකෘති වලට මිස නියම වශයෙන් ම නියත වූ තැනකට නොවේ. මෙය අනුමානයෙන් කරනු ලබන ප්‍රකාශයක් නොව සත්‍ය දැකීමෙන්ම කරන ප්‍රකාශයකි. සද්ධාවන්ත කුල පුත්‍රයින් සඳහාම මතු කර පෙන්වා දෙන සත්‍යයකි.

## ගෞතම බුදුපියාණන් වහන්සේ පිරිනිවන් පා වදාළ කුසිනාරාව හෙවත් බුදුගල

බුදුගල පිහිටා ඇත්තේ රත්නපුර දිස්ත්‍රික්කයේ කල්තොට ප්‍රාදේශිය ලේකම් කොටසේය. රත්නපුර සිට බලංගොඩ ට ගොස් බලංගොඩින් දකුණට හැරී කල්තොට පාරේ කිලෝමීටර් 30ක් පමණ ගිය පසු නැවතත් දකුණට හැරී දියවින්න පාරේ කිලෝමීටර් 3ක් පමණ ගිය පසු බුදුගල රජමහා විහාරය හමුවේ. ගොඩකවෙල සිට වැලිගෙපොලටත් වැලිගොපොළ සිට කල්තොට පාරේ දියවින්න පසුකර කිලෝමීටර් 5ක් ගිය පසු බුදුගල රජමහා විහාරය හමුවේ. තණමල්විල හම්බේ ගමුව හරහා බලංගොඩ යන පාරෙන්ද මෙම ස්ථානයට පැමිණිය හැකිය.



## 6(5) සැවැත් නුවර හා දෙව්රම් වෙහෙර

සැවැත්නුවර එදා කොසොල් රටේ අගනුවරයි. කොසොල් මහ රජතුමා ගෞතම බුදුන්ට සම කාලීන වූ කොසොල් රටේ පාලකයාය. එදා හෙළ දිව ජන්බුද්වීපයේ පිහිටි ශාක්‍ය ජනපද අතරින් විශාලම ජනපදය වූ යේත් , ධනවත්ම මිනිසුන් ජීවත් වුයේත් විශාල ජනගහනයකින් යුතු වූයේත් මෙම කොසොල් රටේය. නැගෙන හිරෙන් සුද්ධෝදන රජුගේ ශාක්‍ය ජනපදයත් (මහවැලි ගඟත්)උතුරින් අංග හා කසී රටත්, බටහිරෙන් වෙසමුණි මහ රජු පාලනය කළ යක්ෂ හෙළයත්, දකුණෙන් දෙව්දහ රජු පාලනය කළ දෙව්දහ රාජධානියත් පිහිටියේය. අද ගලෙන් බිඳුනු වැව , හුරුළු වැව , පළුගස් වැව හා රිටිගල වැනි විශාල ප්‍රදේශයක් තුල එදා ධනවත් සැවැත්නුවර පිහිටියේය. සැවැත්නුවර මැදින් එදා නේරංජනා නදිය ගලා ගියේය. (හුරුළු ඔය යාං ඔය ලෙසින් එය අදත් ගලා යයි.) කන්තලේ පොළොන්නරුව කහට ගස් දිගිලිය, පදවිය ආදී විශාල ප්‍රදේශ රාශියක්ම එදා කොසොල් රටට අයත් විය. එදා නේරංජනාවද මහවැලි ගඟ හා සමාන වූත් විශාල ජලයක් ගලා ගිය තවත් ගඟකි. අද ඒ ජලය මේ ප්‍රදේශයට ගලන්නේ නැත. ඊට හේතුව ඒ ගඟ ඉහලින් හරස් කර වැව් බැඳීමත් ඇලහැරදී ගඟ හරවා ජලය මින්නේරි වැවට හරවා යැවීමත්ය. ගිරිතලේ, මින්නේරිය, කවුඩුල්ල, කන්තලේ යන සියළු වැව් වලට අදත් ඒ ජලය ගලා යයි. මොරගහ කන්ද ජලාශය තනා නැවතත් ඒ ජල කඳ පෙර පරිදි ගලා යන්නට කරුණු දැන් සකස් වෙමින් පවති. මෙයද ධර්මතාවයෙන් ම සිදුවන්නකි. නේරංජනා ගඟ අසබඩ පිහිටි සැවැත් නුවර එදා පෙර දිග වූ විශාලම වෙළඳ නගරයක් විය . කුඩා නැව් මගින්ද ඔරු පාරු මගින්ද පිට රටින් පවා මෙම නගරයට වෙළෙඳ බඩු ප්‍රවාහනය සිදු විය. සංඝමිත්තා මෙහෙණිය විසින් එදා හිරිවඩුන්නේ සිට සිරි මහා බෝධි ශාඛාවත් අනුරපුරයට

වැඩමවාගෙන එන ලද්දේද මෙම ගඟ දිගේම කුඩා නැවකිනි. භද්ධකච්චායනා නම් ශාක්‍ය කුමරිය එදා පාවී ආවේද මෙම ගඟ දිගේය. ඒ පඩුවස් රජුගේ කාලයේ දීය. භද්ධකච්චායන කුමරියත් ඇගේ සොහොයුරන් 18 දෙනෙක්මත් එදා ජීවත් වුයේ මේ ශාක්‍ය ජනපදවලමය. එදා පඩුවස් රජ රජ කලේ හෙළයේ මහවිලච්චිය අගනගරය කොට ගත් යක්ඛ රාජ්‍යයකය. එසේ නම් බද්ධ කච්චායනාත් එදා ජන්බුද්වීපයේ සිට ලංකා පුරවරයට කැන්දා ගෙන ආ බව සත්‍යයකි.

එදා හෙළ දිව ජන්බුද්වීපයේ ජීවත් වූ මහා ධනවත් වූ ගෞතම බුදුපියාණන් වහන්සේටත් බුද්ධ ශ්‍රාවකයින්ටත් තම ධනය වැය කර සැවැත් නුවර ජේතවනාරාමය, පූර්වාරාමය , ඝෝෂිතාරාමය ආදී වෙහෙර විහාර සාදා පුජා කළහ. ගෞතම බුදුපියාණන් වහන්සේ තමාගේ අන්තිම කාලයේ වසර 20ක් තරම් දීර්ඝ කාලයක්ම ධර්මය දේශනා කරමින් වැඩ සිටියේ සුදත්ත සිටුතුමා ඉදිකර දුන් මෙම ජේතවනයේ පිහිටි දෙව්රම් වෙහෙරේය. මාගධී භාෂාවෙන් “ජේත”යනු “නාගසට” භාවිතා කල නමයි. ජේතවනය යනු නාගස්වලින් ගහන වූ නා වනයක් යන්නයි.

හෙළදිව ජන්බුද්වීපයේ  රිටිගල නම් කඳු සහිත ප්‍රදේශයේ අදටත් අක්කර 2000 ක තරම් විශාල ප්‍රදේශයක මෙම ජේතවනය (නා වනය ) පැතිරී ඇත. දැනට වසර 2500 - 3000 තරම් හෝ ඊටත් වඩා පැරණි නාගස් මෙම ජේතවන භූමියෙහි අදටත් දැක ගත හැක. මෙම ජේතවනය එදා පිහිටා තිබුණේ සැවැත් නුවර බටහිර මායිමේය. මෙම ජේතවනය අදටත් රිටිගල රක්ෂිතය ලෙසින් නම් කර පුරා විද්‍යා දෙපාර්තමේන්තුවෙන් ආරක්‍ෂා කෙරේ. එදා සුදත්ත සිටු තුමා(අනේ පිඩු සිටුතුමා) විසින් තම ධනය අසූ කෝටියක් වැය කරමින් ගෞතම බුදුන් උදෙසා ඉදිකරන ලද ඒ විශ්මිත දෙව්රම් වෙහෙරේ බොහොමයක්



ගොඩනැගි වල නටඹුන් හා පාදම් අදටත් ඒ ආකාරයෙන්ම ඉතිරිව ඇත. දෙව්රම් වෙහෙරට යෑම සඳහා එදා ඉදිකරන ලද පදම් කළ කළු ගල් අල්ලා සකස් කළ සැතපුමක් පමණ දිග විසිතුරු මාර්ගයක්, බුද්ධ ප්‍රමුඛ මහා සංඝයාට ජලය සැපයීම සඳහා කරවන ලද බණ්දානම් විශාල පොකුණක් බුදුපියාණන්ට පූජා කරන ලද දෙව්රම් වෙහෙරේ ගඳ කිළියත් එහිම ආනන්ද හිමියන් විසූ කුටිත් සක්මන් මළුවත් ,දාන ශාලා , බෙහෙත්ශාල, මෙන්ම එදා ගෞතම බුදුන් බුද්ධ ධර්මය දේශනා කළ දම් සභා මණ්ඩපයත් අදටත් පැහැදිලිවම නටඹුන් ලෙස රිටිගල පුරා විද්‍යා භූමියේදී දැක ගත හැකිය. මීට අමතරව වෙන් කොට හඳුනා ගත නොහැකි ගොඩනැගිලි විශාල ගණනක පාදම් ද අදටත් දැක ගත හැකිය. මේවා අතුරින් බොහොමයක් කුටි එදා දෙව්රම් වෙහෙරේම වැඩ සිටි අරහතුන් වහන්සේලා 500 නමකට සාදා දුන් කුටි බවත් හඳුනා ගත හැකිය.

මේ ආකාරයට එදා සුදත්ත සිටු තුමා විසින් තම ධනය වැය කරමින් ඉදිකරන ලද මෙම වෙහෙරට එදා දෙව්රම් වෙහෙර යැයි නම් තැබීම මගින් ම එහි ඇති පුදුම එළවෙන විශ්මිත දේ ගැන කෙනෙකුට සිතා ගත හැකිය. අශෝක යුගයටත් වසර 300කට පමණ පෙර කාලයකදී ගොඩ නැගූ මෙම විශ්මිත හා මනරම් ගොඩනැගිලි වල පාදම් සමූහය ලෝකයේ පුදුම හත පරදවන තරම් විශ්ව කර්ම වැඩක් බව අදටත් මෙහි නියම ස්වරූපය දකින විට කෙනෙකුට තේරුම් ගත හැකිය. අදහා ගත හැකිය.

මේ සියළු දේ අදටත් අපට අපේ ඇස් වලින් ම දැක බලා ගත හැකි ආකාරයෙන් ම රැකී ආරක්‍ෂා වී පවතින්නේ ධර්මතාවයේ බලයෙන්මය. එදා පෘතුගීසීන් , ඉංග්‍රීසින් , ලන්දේසී යුගවල මේ ප්‍රදේශ

මහ වනයෙන් වැසී නොගියේ නම් මේ ප්‍රදේශවල ඇති වටිනා නටඹුන් අද අපට අහිමි වන්නට ම ඉඩ තිබුණි.

දෙවුරම් වෙහෙරට අමතරව එදා රිටිගල කන්ද ආශ්‍රයෙන්ම ඉදිකර පිහිටුවා තිබූ පූර්වාරාමය, යශෝදරා මෙහෙණි ආරාමය හා වෙනත් වන වාසී ආරණ්‍ය සේනාසන වල නටඹුන් ද අද දක්වාම මේ ප්‍රදේශය තුළ ම පවතී. අද රිටිගල කන්ද ලෙසින් සලකන අක්කර 5000ක් පමණ විශාල වූ වනයෙන් වැසුනු කඳුමුදුණේ ජේතවනාරාමයට ඉහලින් එදා බුදුපියාණන් වැඩ සිටි යුගයේදීම මාගධි ප්‍රාකෘත භාෂාවෙන් ලියූ අති විශාල සෙල්ලිපියක් අදත් එහි ඇති බව පුරා විද්‍යාඥයින් හෝ නොදන්නවා විය හැකිය. මෙහි සටහන් වන අකුරු ගණන දස දහසකට වැඩි මිස අඩු නම් නොවේ. මේ සෙල්ලිපි තවම කිසිවෙකුත් කියවා ඇතැයි සිතිය නොහැකිය. මෙය විනාශ කරන්නට කවුරුන් හෝ අතීතයේදී උත්සාහ දරා ඇති බව ද පෙනේ. ඉංග්‍රීසි පාලන සමයේදී මේ සෙල්ලිපි දුටු යමෙකු විසින් මෙය කඩාගෙන රැගෙන යාමට දැරූ උත්සාහයක් හෝ විය හැකිය. නමුත් එහි විශාලත්වය අනුවත්, ධර්මතාවය අනුවත්, එය කෙනෙකුට ගෙනයා නොහැකි ලෙසින් අදටත් රැකී ඇත.

මෙහි ලියා ඇති දේ කියවා තේරුම් ගෙන එදා හෙළ දිව ජන්බුද්වීපයේ නිවැරදි ඉතිහාසය සහමුලින්ම විවෘත කර ගැනීම රජයේත් පාලන බලධාරීන්ගේත් යුතුකමකි. වගකීමකි. රිටිගල යනු එදා හෙළ දිව ජන්බුද්වීපයේ පිහිටි අසිරිමත්ම ස්ථානයයි. අදටත් ඒ අසිරිමත් බව එසේම අදටත් රැඳී රැකී පවති. සුදත්ත යන නම ඇති, අනේපිඬු සිටාණන් යන නමින් විරුදාවලි ලැබූ මේ මහා දානපතියා එදා වාසය කළේ ඔබත් මමත් අද ජිවත්වන මේ හෙළබිම ජන්බුද්වීපයේම කොසොල් රටේ මිස ඉන්දියාවේ නොවන බව දැන් සහතික කොට ප්‍රකාශ කළ හැකිය.



එදා අනේ පිඬු සිටුතුමා විසින් ඉදිකරන ලද මෙම විශ්මිත දෙවුරම් වෙහෙර ගැන තම පුරෝහිතයන් අතින් තොරතුරු ඇසූ අශෝක මහ රජතුමාද තමාගේ රාජ්‍යයෙහි එවන් දෙව්රම් වෙහෙරක් ඉදිකරන්නට යම් උත්සාහයක් දරා ඇති බව පෙනේ . රිටිගල පිහිටි මුල් දෙව්රම් වෙහෙරේ බුදුපියාණන් වැඩ සිටි ගඳකිලිය හා ඒ අවට වූ ගොඩනැගිලි සියල්ලමත් ඒ දිග ඒ පලල හා එම සැලැස්මද සහිත ව ඉන්දියාවේ අද දකින්නට ඇති දෙව්රම් වෙහෙරේ ආකෘතියේ පාදම් වලද දකින්නට ඇත. නමුත් මෙහි ඇදහිය නොහැකි මූලිකම වෙනස නම් රිටි ගල පිහිටි බුද්ධ කාලයේ ඉදිකල දෙව්රම් වෙහෙරේ පදනම සකස් කර ඇත්තේ පදම් කරන ලද තනි කළු ගලෙනි. අදනම් ග්‍රැනයිට් වලිනි. අශෝක මහ රජු ඉදිකළ ආකෘති දෙව්රම් වෙහෙර ගඩොලින් නිම කළ එකකි. ඊට හේතුව බුද්ධ කාලයෙන් වසර 300කට පමණ පසුව අශෝක මහ රජතුමා ඉදිකළ දෙව්රම් වෙහෙර ග්‍රීක ආභාෂයෙන් ගඩොලින් තැනීමය. රිටිගල දෙව්රම් වෙහෙරේ බිත්ති සඳුන් ලීයෙන් කළ බවත් පෙනේ. ඉන්දියාවේදී බිත්තිද ගඩොල් යොදා ඉදිකර තිබුණි. අදටත් ඉන්දියාවේ දඹදිව වන්දනා යන අයට රිටිගලටත් ගොස් මේ ඉදිකිරීම් දෙකත් සසඳා බලා මුල් ජන්බුද්වීපය හා පසුව ඉන්දියාවේ සෑදු ජන්බුද්වීප ආකෘතිය යන දෙකෙහි ම වෙනස්කම් පැහැදිලිවම හඳුනා ගත හැකියි. මේ ඇත්ත කවදා හෝ මතුවිය යුතුමය. අශෝක රාජ්‍ය යුගයේ ඉන්දියාවේ සෑදු වෙහෙර විහාර අසූ හාර දහසෙහි මත් ගොඩනැගිලි නිර්මාණ වල ග්‍රීක හා හින්දු බලපෑම් දැකිය හැක. ඉන්දියාවේ හින්දු දේවාල හා අශෝක මහ රජු ඉදිකළ වෙහෙර විහාර අතර එතරම් විශාල වෙනසක් නැත. නමුත් බුද්ධ යුගයේ , එදා ජන්බුද්වීපයේ , දේව හෙළයේ , ගොඩනැගූ සියලු ඉදිකිරීම්වලට භාවිතා කර ඇත්තේ අපටම ආවේණික වූ ගෘහ නිර්මාණ ශිල්ප ක්‍රමයකි. වෙනත් කිසිම රටක මෙම ශිල්ප ක්‍රමයන් දකින්නට නැත. ලංකාවේ ම

අනුරාධපුර යුගයේදී පවා දකින්නට ඇත්තේ අශෝක යුගයේ ඉන්දියාවේ ඉදිකිරීම් වලට සමාන ලක්ෂණයන්ය. බුද්ධ යුගයේ ජන්බුද්වීපයේ , එනම්, දේව හෙළයේ කිසිම ගොඩනැගිල්ලක ගඩොල් එදා භාවිතා කළ බවක් දකින්නට නැත. යම් තැනක ගඩොල් භාවිතා කර ඇත්නම් ඒ ඉදිකිරීම ඒ අනුරාධපුරයට හෝ පොළොන්නරු යුගයට අයත් ප්‍රතිසංස්කරණයකි. බුද්ධ යුගයෙන් පසුව මේ කළු ගල් තාක්ෂණය හෙළ දිවෙන් ද අහෝසි වී ගිය බව පෙනේ.

## 7. බුද්ධ කාලයේ හෙළදිව භාවිතා කළ භාෂාවන්

එදා හෙළදිව (දේව හෙළය) පාලනය කළ සියළුම රාජ්‍ය පාලකයන් විසින් භාවිතා කළ ප්‍රධාන භාෂාවන් 2ක් විය.

1. මාගධී ප්‍රාකෘත භාෂාව හා
2. හෙළ බසයි

සමස්තයක් වශයෙන් එදා මුළු හෙළ දිවයිනේම පොදු මහජනතාවගේ ව්‍යවහාර භාෂාව වූයේ හෙළ බසයි. හෙළබස කථා කරන භාෂාවක් මෙන්ම ලිඛිත භාෂාවක් ලෙසින්ද එදා භාවිතා කර ඇත. පොදු මහජනයාගේ එදිනෙදා දිවි පැවැත්වීමෙහිදීත් වෙළහෙළදාම් කිරීමෙහිදීත් හෙළ බස හැම තැනකම භාවිතා විය.

ප්‍රාකෘත මාගධි භාෂාව ඊටවඩා උසස් උගතුන්ගේ භාෂාවක් විය.තාක්ෂණය , විද්‍යාව හා ශිල්ප ක්‍රම උගැන් වුයේත් දේව හෙළයේ රාජ්‍ය පාලනය සඳහා යොදා ගත්තේත් මාගධී භාෂාවම විය. රජගහ නුවර අගනගරය කොට ගත් මගධ රටේ ප්‍රධාන වශයෙන්ම මාගධි භාෂාව බහුලව භාවිතා කළ බව පෙනේ. උගත්තු රාජ්‍ය පාලකයෝ ශ්‍රමන



බ්‍රහ්මණයෝ, පූජකයෝ හා සමහර සිටු වරුන්ද මාගධි භාෂාව හදාරා භාවිතා කළහ. මාගධි භාෂාව භාවිතා කළ හැමෝම වාගේම හෙළ බස දැන සිටියහ. හෙළ බස හා මාගධි භාෂාව අතර පරතරයද එතරම් විශාල නොවීය. යම් විශේෂිත කාරණයක් ශිල්ප ශාස්ත්‍රයක්, විද්‍යාවක් පිළිබඳව හදාරන්නට මාගධී භාෂාවම භාවිතා කළහ. හුදී ජනයා බොහෝ දෙනෙකු ගැඹුරු මාගධි භාෂාව භාවිතා කළ බවක් දකින්නට නැත.

බුදුපියාණන් එදා හෙළ දිව ජන්බුද්වීපයේ දේව හෙළයේ පිහිටි ජනපද දහසයේම ජීවත් වූ අයට ධර්මය දේශනා කළේ මාගධී භාෂාවෙන්ය. මාගධි භාෂාවෙන් එදා දේශනා කළ බුද්ධ ධර්මය හෙළ බස භාවිතා කල පොදු බොහෝමයක් ජනයාටද පහසුවෙන්ම අවබෝධ කරගත හැකි විය. මාගධි භාෂාවෙන් දේශනා කල ගැඹුරු බුද්ධ ධර්මයට අර්ථ, ධර්ම , නිරුක්කි හා පටිභාන ඉදිරිපත් කළ හැකි හෙළ බසද උගත් උගත්තු එදා හෙළ දිවෙහි වාසය කළහ. මේ නිසාම ගෞතම බුදුන් මාගධි බසින් දේශනා කළ බුද්ධ ධර්මය විග්‍රහ කර ඒ යුගයේදීම හෙළ අටුවා ලිවීමද සිදු විය . මාගධි බස ලියා දක්වන භාෂාවක් නොවුවද හෙළ බස ලියා දැක්වීය. ඒ නිසාම ගෞතම බුදුන් විසින් දේශනා කරන ලද බුද්ධ ධර්මයට හෙළ බසින් අර්ථ කථා ලිවීමද එදා ඒ යුගයේදීම සිදු විය. හෙළ අටුවා , කුරුන්දි අටුවා, බුදුකැලි අටුවා, සීහල අට්ඨ කථා, මහට්ඨ කථා යනුවෙන් හෙළ බසින්ම එදා බුද්ධ දේශනාව විග්‍රහ කිරීමට ලියු අර්ථ කථා රාශියක්ම අතීතයේ හෙළ දිව භාවිතා වූ බව දකින්නට ඇත. මේ සියළුම අර්ථ කථා වලින් ලියා දැක්වූයේ එදා ගෞතම බුදුන් මාගධී බසින් දේශනා කර වදාළ බුද්ධ ධර්මයයි.මේ මුල්ම හෙළ අටුවා අනුරාධපුරයේදී දකින්නට ලැබිණි. මාගධි බසට හා හෙළ බසටද භාවිතා කළේ එකම පොදු අක්ෂර හෝඩියකි. වෙන වෙනම අක්ෂර හෝඩි 2ක් මෙහි නොවීය.

මේ භාෂාවන් දෙකටම එදා භාවිතා කළේ ප්‍රාකෘත අක්ෂර ක්‍රමයකි. නමුත් මේ යුගයේ ඉන්දියාවේ භාවිතා කළේ බ්‍රාහ්මී අක්ෂර හා සංස්කෘත භාෂාවයි. ඉන්දියාවේ පොදු ජනයා අතර කිසි දිනක මාගධී හෝ හෙළ බස භාවිතා නොවීය. මේ අනුව ලංකාවේ අතීත යුගයේදී එනම් අනුරාධපුර යුගයටත් පෙර බුද්ධ කාලයේ හෙළ බිම භාවිතා කළ අකුරු හා අශෝක යුගයේන් පසු අනුරාධපුරපුර යුගයේ දී භාවිතා කළ අකුරුවල යම් යම් වෙනස් කම් ඇති බවද පෙනේ මේ නිසාම බුද්ධ කාලයේ දී හෙළ දිව ලියු සෙල්ලිපි කියවීමට බැරි අපහසු තත්වයක් අනුරපුර යුගයේ සෙල්ලිපි කියවන්නාට ඇති විය හැකිය. නමුත් අනුරපුර යුගයේ හා අශෝක යුගයේ අක්ෂර රටාව බොහෝ දුරට එක සමානය . එය ඉන්දියාවෙන් ලැබූ බලපෑමකි. එදා හෙළදිව යක්‍ෂ ගෝත්‍රිකයින් වාසය කළ යක්‍ෂ හෙළයේත් , නාග හෙළයේත් විසූ රාජ්‍ය පාලකයෝ මෙන්ම සමහර උගත්තු හෙළ බස හා මාගධී බස යන භාෂා දෙකම දැන සිටියහ. ගෞතම බුදුපියාණන් මාගධී බසින් දේශනා කළ ධර්මය සාතාගිරි හේමවත යන යක්‍ෂ ගෝත්‍රික පාලකයෝ එදා තේරුම් ගත්තහ. සමන මහ රජුද තේරුම් ගත්තේය. එමෙන්ම එදා වෙස්සවන මහ රජු ගෞතම බුදුපියාණන්ට ආටානාටා ප්‍රඥප්තිය හඳුන්වා දුන්නේ මාගධී බසින්ය. බුදුපියාණන්ද එයම තම ශ්‍රාවකයින් ට මාගධී බසින්ම නැවත දේශනා කළ සේක.

මිහිඳු හිමියන් එදා (ලංකාවට) හෙළ දිවට පැමිණි මගධ රාජ්‍යයේ රජගහ නුවරට (අම්පාරේ) ගොස් වසර කිහිපයක් පුරාම මාගධී බසත් හෙළ බසත් යන භාෂා දෙකම ඉගෙන ගෙන හෙළ බසින් ලියූ මහා අට්ඨ කථා අටුවාද රැගෙන අනුරාධපුරයට ගොස් දෙවන පෑතිස් රජුට බුද්ධ ධර්මය දේශනා කළේ මාගධී හා හෙළ භාෂා දෙකෙන්මය.



මේ අනුව එදා අනුරාධපුර රාජධානියේ ජීවත් වූ බොහෝ අයද හෙළ බස මෙන්ම මාගධී බසත් හොඳින්ම දැන සිටි බව පෙනේ. කල් යත්ම හෙළබස පොදු ජනයාගේ භාෂාව බවටත් මාගධී බස උගතුන්ගේ භාෂාව බවටත් පත්වීමද ක්‍රමයෙන් සිදුවිය.

එදා හෙළදිව ජනපද දාසයයෙහිමත් යක්ෂ හෙළයේ මෙන්ම නාග හෙළයේත් උගතුන් භාවිතා කළ මෙම මාගධී භාෂාව ඉන්දියාවේ කිසිම ප්‍රදේශයක හෝ රාජ්‍යයක භාවිතා කළ භාෂාවක් නොවේ. එදා ඉන්දියාවේ පැවති සියළු භාෂාවන් සංස්කෘත හෝ දෙමළ පදනම් කර ගත් භාෂාවන් මිස ප්‍රාකෘත පදනම් කරගත් භාෂාවන් නොවේ.

ගෞතම බුදුන් හෙළදිව බුද්ධ ධර්මය දේශනා කලායින් පසු ක්‍රමයෙන් දකුණු ඉන්දියාවටත් නැගෙනහිර කේරලය වැනි ප්‍රදේශවලටත් බුද්ධ ධර්මය ව්‍යාප්ත විය. මෙසේ බුද්ධ ධර්මය ව්‍යාප්ත වීමත් සමඟම පසු කාලයකදී දකුණු හා නැගෙනහිර ඉන්දීය රාජ්‍ය වලද පාලි බස භාවිතා වන්නට විය. මේ අනුව එදා හෙළදිව මාගධී හා හෙළ බසින් ලියාතිබු පොත් පත් ඉන්දීය භාෂාවලටත් පරිවර්ථනය කරන්නටද විය. ඉන්දීය විශ්ව විද්‍යාල වල පවා අතීතයේ මාගධී බස උගන්වන්නටද පටන් ගත්තේ බුද්ධ ධර්මය ව්‍යාප්ත වීමත් සමඟමය. පෙළ යනු භාෂාවක් නොවේ. පෙළ දහම යනු මාගධී බසින් දේශනා කළ බුද්ධ: ධර්මය පෙළ ගස්වා පේළි ලෙසින් සකස් කර ගත් බුද්ධ ධර්ම පාඨයන්ය. එසේ බුද්ධ ධර්මය පෙළ ගස්වා සකස් කළේ වනපොත් කර කටපාඩම් කර ගෙන දිගින් දිගටම මතකයේ පවත්වාගෙන ඒම සඳහා උපකාර වන ලෙසිනි. ශත වර්ෂ හතකට පමණ පසුව, පෙළ දහම පාලි භාෂාවක් ලෙසින්ම අනුරපුර යුගයේ අවසානයේ දී ව්‍යාප්ත වී එය ව්‍යාකරණ සහිතව භාෂාවක් ලෙසින්ද සකස් කර ගැනීම සිදුවිය. අද භාවිතා කරන ඉගෙන ගන්නා මෙම පාලි භාෂාව කෘතිමව සාදා සකස් කර ගත් භාෂාවක් මිස

බුදුන් එදා ධර්මය දේශනා කළ මාගධී භාෂාවම නොවේ. මේ දෙක අතර වෙනස් කම් බොහෝය. බුද්ධ භාෂිතයේ එන මාගධි පද වලට අර්ථ ධර්ම, නිරුක්ති දැක්වීම කළ හැකිය. පාලි භාෂාවට ඇත්තේ ව්‍යවහාර අර්ථයන් පමණි.

## 8. එදා හෙළදිව පැවැති සෙල් ලිපි තාක්ෂණය හා වාරි සංස්කෘතිය

අනුරාධපුර යුගයට වසර 300කට පමණ පෙර එදා ගෞතම බුදුන් ජීවත් වූ යුගයේදී මේ හෙළදිව, දේව හෙළයේ පැවැති සෙල්ලිපි, ගල්ලිපි, කල්කටාරම්, කෙටීමේ ලිවීමේ ක්‍රමවේදය හා කළුගල් පදනම් කර සකස් කර ගැනීමේ ක්‍රම වේදය ලෝකයේ වෙනත් කිසිම රටක කිසිම යුගයකදී දැක ගන්නට නැති දෙයකි. අනුරාධ පුර යුගයට පෙර යුග වලදී හෙළ දිවයින පුරාම ලියා තිබූ සෙල්ලිපි වලින් අදවන විට සොයා මතු කර ගත් සෙල්ලිපි ප්‍රමාණය සිය දහස් ගණනින් නොව දසදහස් ගණනට වඩා වැඩිය. තවත් කැලෑවලට යට වී තවමත් වන ගහනයෙන් වැසී ඇති සොයා ගත යුතු සෙල් ලිපි, කටාරම් හා ඒ ආශ්‍රිත දේ, සොයා ගත් ප්‍රමාණය මෙන් කිහිප ගුණයකි.

අශෝක රජතුමා ඉන්දියාවේ (සෙල්ලිපි), ශිලාලිපි 32ක් ලියා තබන තුරු ඉන්දියාවේ වෙනත් කිසිදු ප්‍රදේශයකින් කිසිදු සෙල්ලිපියක් සොයා ගෙන නැත. (මොහෙන්ද්‍රජාරෝ හරප්පා යුගයේ සොයා ගත් දේ හැර) එදා අශෝක රජු ඉන්දියාවේ ලියා තැබූ මෙම සෙල්ලිපි 32කම ලියා ඇත්තේ ලංකාවේ ගල්වඩුවන් හා ඔවුන්ගේ උපදේශ ඇතිවම බව ඉතාමත්ම පැහැදිලිය. සාංචි , වෙල්ලෝරා, අජන්තා ආදී ස්ථාන වල දකින්නට ඇති ගල් වලින් කළ බොහෝ දේ හතරවැනි හා පස්වැනි සහ හත්වැනි සියවස් වලදී නිර්මාණය කරන ලද දේවල් බව අද සොයාගෙන



ඇත. ගෞතම බුදුන් ජීවත් වූ යුගයට සමකාලීනව ඉන්දියාවෙන් සොයා ගත් කිසිම සෙල්ලිපියක් හෝ වෙනත් සාක්ෂියක් සොයා ගන්නට නැත. නමුත් ලංකාවේදී ඒවා ඉතාමත්ම බහුලය. අශෝක සෙල්ලිපි හැරුණු විට ගල්කටාරම් හෝ ගල් ගුහාවල කෙටූ අකුරු හෝ ඉන්දියාවේ දකින්නට නැත. නමුත් ලංකාවේ හැම ගමකම වාගේ ගල් ගුහාවල ගල් ලෙන්වල ගල් කටාරම් කොටා ඒවා බුද්ධ ප්‍රමුඛ මහා සංඝයා වෙත පූජාකළ බවට සාක්ෂි අනන්තය. ගෝතමශමන යනුවෙන් ලියා ගෞතම බුදුන් වහන්සේටම ගල්ලෙන් 30කට වඩා පූජා කර ඇති බව "ගෝතම සමන" යන නම කෙටූ සෙල්ලිපි 30කටත් වඩා අද වන විට සොයා ගෙන ඇති නිසා ප්‍රකාශ කළ හැකිය. මේ සියළු ගල් ලිපි ලියා ඇත්තේ අනුරාධ පුර යුගයට පෙර බුද්ධ යුගයේදීය. එදා දේවහෙළයේ සැම තැනකම මුලතිව් සිට තිස්සමහාරාමය දක්වාම ලියා තැබූ විශාල සෙල්ලිපි ප්‍රමාණය පමණක් සලකා බලන කෙනෙකුට හෙළදිව එදා පැවැති තත්වයත් අනිකුත් තොරතුරුත් ත්‍රිපිටකයේ සඳහන් තොරතුරුත් සංසන්දය කර මේ බුද්ධ රාජ්‍යය එදා හෙළ දිව පැවැති බව මොනවට තේරුම් ගත හැකිය. එය තේරුම් ගැනීමට යමෙකු මැළිවෙතොත් ඔහු බුද්ධ වචනයෙන්ම නියත මිච්ඡා දෘෂ්ඨිකයෙකි.

එදා දේව හෙළයේ රට පාලනය කල හැම ප්‍රාදේශීය පාලකයාම ඒ ඒ ප්‍රදේශවල පිහිටි ගල්ලෙන් වල කටාරම් කොටා තමන්ගේ නමද සඳහන් කර බුද්ධ ප්‍රමුඛ මහා සංඝයා වෙත පූජා කළේය. අනුරපුර ප්‍රදේශයටත් වඩා කටාරම් කෙටූ ගල්ලෙන් ඇත්තේ සබරගමුවේ රුහුණේ හා නැගෙනහිර ප්‍රදේශවල බවත් ඒ හැම ගල් කටාරමක්ම බුද්ධ යුගයට අයත් වන බවත් පෙන්වා දිය යුතුම කරුණකි. මේ අනුව ගෞතම බුදුපියාණන් එදා ජීවත් වුයේත් ධර්මය දේශනා කළේත් මේ හෙළ දිවම දේවහෙළයට එදා අයිති වූ ප්‍රදේශවලය.

මෙසේ බුද්ධ ධර්මය දේශනා කළේ ඉන්දයාවේදී යැයි කියන සිතන කිසිවෙකුට ඒ සඳහා ඉදිරිපත් කල හැකි මෙවන් ස්ථිරසාර සාක්ෂි කිසිවක් පෙන්වා දීමට හැකියාවක් නැත. මේ කරුණු විමසිල්ලෙන් කියවා බලා මීට අදාළ අනෙකුත් පොත පතද කරුණුද සලකා බලා මේ සඳහන් කරන ලද ස්ථානයන්ට ගොස් ඒවාද පරීක්ෂා කර බලා සත්‍යය කුමක්ද කියා තේරුම් ගැනීම ඔබ සැමගේ වගකීමයි. ජාතියේ පිනෙන් පහළ වූ දෙය දැක බලා ගැනීමයි. හෙළබිම ජන්බුද්වීපයේ උපත ලැබූවෙකු ලෙස ඔබ ලබන නියත උරුමය වන්නේ බුද්ධ ධර්මයි. පරම පවිත්‍ර බුද්ධ ධර්මය එදා මෙන්ම අදටත් ක්‍රියාත්මක වන්නේ මේ ධර්මද්වීපයෙහිම පමණි. මේ නිසා හෙළ උරුමය යනු නිවන් දකින්නට උපකාර ගත හැකි උතුම් බුද්ධ ධර්මයයි.

## වාරි සංස්කෘතිය

එදා බුද්ධ යුගයේ හෙළදිව පැවැති වාරි සංස්කෘතිය වැව් ආශ්‍රිත වූ ජීවන රටාව, ත්‍රිපිටකයේ බොහෝ සූත්‍ර ධර්ම වලදී ද විග්‍රහ කර පෙන්වා දී ඇත. නගුලෙන් සී සා, කෙත්වතු වපුරා ජල පාලනය කළේ හෙළ දිව එදා ජීවත් වූ මිනිසුන්ය. වැව් පිළිබඳව නිතර නිතර ත්‍රිපිටකයේ බොහෝ තැන්වල ගෞතම බුදුපියාණන්ම ඒවා උපමා ලෙසින් දක්වා ඇත.

නමුත් ඉන්දියාවේ කිසිම තැනක මේ යුගය වන විට වැව් හෝ වාරි සංස්කෘතියක් හෝ නොතිබිණ. අනුරාධපුර යුගයටත් පොළොන්නරු යුගයටත් පෙර හෙළදිව බුද්ධ යුගයේ වාරි සංස්කෘතියක් පැවැති බවත් එය නැගෙනහිර හා රුහුණේ ගම්නියම්ගම් සියල්ලගෙන්ම දැක ගත හැකි බවත් පෙනේ. පසුකාලීනව අනුරපුර යුගයේ හා පොලොන්නරු යුගයේදී වැඩි දියුණු කර ගත්තේ පිටරටින් ගෙන ආ වාරි සංස්කෘතියක් නොව අපටම ආවේණික වූ අපේම වාරි ක්‍රමයකි. එය බුද්ධ යුගය වන විටත් මේ හෙළදිව තුළ ඉතාමත්ම දියුණු තත්වයක පැවතිනි. ඒ බව මාදුරු ඔය ජලාශය ඉදිකළ ඉන්ජිනේරුවන්ට හමු වූ අති පැරණි සොරොව්වෙන්ද පැහැදිලිය. ඒ සොරොව්ව එදා සුද්දෝධන මහ රජුගේ කාලයේ දී කිඹුල්වත් පුර ඉදිකළ එකකි. මාදුරු ඔය පැරණි ජලාශය අනුරාධපුර යුගයට වඩා වසර 500කටත් පෙර ඉදිකළ එකක් බව තහවුරු වී ඇත.

## අර්ථාන්විත නිගමනය

එදා ගෞතම බුදුපියාණන් මේ රටේ ජීවමානව වැඩ සිටි සමයේ, එනම් මෙයට වසර 2600කට පමණ පෙර යුගයේදී, මෙම හෙළ දීපය පැහැදිලිවම පාලන අධිකාරීන් අනුව කොටස් දෙකකට බෙදී තිබිණි.

1. ආලකමන්දාව (ලංකා පුර) අගනගරය කොට ගෙන යක්ෂ , නාග, කුම්භාණ්ඩ, ගාන්ධර්ව ගෝත්‍රිකයින් විසූ යක්ෂ හෙළදීපය , උතුරු කුරු දීපය හා

2. ආර්යයන් ජීවත් වූ සොළොස් මහා ජනපද පිහිටුවා තිබූ දේව හෙළය නමින් ප්‍රසිද්ධ වූ ජන්බුද්වීපය යන දෙකොටසයි.

සිදුහත් ගෞතම බෝසතාණන් උපත ලැබුවේත් ගෞතම බෝසතාණන් වහන්සේ උතුම් සම්බෝධියට පත් වුයේත්, පළමු ධර්ම දේශනාව පැවැත් වූ දා පටන් වසර 45 ක්ම ලෝකයාට දහම් බෙරය හඬ නැංවුයේත්, අවසානයේ පිරිනිවන් පා වදාළේත් මෙම හෙළ දිවයින

තුළදීමය. ඔබත් මමත් උපදින මේ හෙළ දිවයින තුළදීම මේ සියළු දේ අතීතයේදී සිදුවිය. මෙම කල්පය තුළ පහළ වූ බුදුවරුන් සිවු නමක්ම මෙම ජන්බුද්වීපය තුළ පහල වූ බව ත්‍රිපිටකයේ පැහැදිලිවම සඳහන්ය. ගෞතම බුදුන් උපත ලැබූ යුගයේදී ජන්බුද්වීපයට "හෙළදිව" යනුවෙන් භාවිතා කළ අතර කකුසඳ බුදුන් උපත ලැබූ යුගයේදී එය "ඕජ දීපය " විය. කාශ්‍යප බුදුන් උපත ලැබූ යුගයේදී "මණ්ඩදීපය" විය. දීපංකර බුදුන්ගේ පටන්ම මේ මිහිතලය මත උපත ලැබූ සියළු බුදුපියාණන් වහන්සේලාට නිජබිම වුයේ මේ ජන්බුද්වීපයමයි. අප අද ශ්‍රී ලංකාව යැයි හඳුන්වන මේ හෙළ දිවයින තුළ මිස වෙනත් කිසිම දිවයිනක මේ මිහිතලය මත නම් මිනිසෙකුට බුද්ධත්වය නැමැති ඒ උතුම් තත්වයට පත්වන්නට නොහැකිය. ඊට හේතුව මේ මිහිතලයේ ක්‍රියාත්මක වන විශ්ව ශක්තිය කේන්ද්‍රගත වූ මධ්‍ය මණ්ඩලය පිහිටියේ ශ්‍රී ලංකාව කේන්ද්‍ර ගත කොට ගෙන වීමයි. බුද්ධත්වයට පත්වන සියළුම බුදුවරයින් වහන්සේලාට නියත වශයෙන්ම මෙම විශ්ව ශක්තිය ලබා ගත හැකි වන්නේද ශ්‍රී ලංකාව නම් මේ ජන්බුද්වීපයේ හරි මැද පිහිටි මධ්‍ය මණ්ඩලයකදීම පමණි.(ලංකා සිතියම බලන්න.)

මේ හෙළදිව තුළ අද උපත ලබා සිටින, මතුවට තවත් වසර 700ක් පමණ කාල පරාසයක් තුළ උපත ලබන පින්වත් මිනිසුන් කොටසකට ඒ බුද්ධ ශක්තියේ බලයෙන් නිසිඵල ලබා සංසාර දුකින් සදාකාලිකවම මිදී නිදහස් වීම නිවන් අවබෝධ කර ගැනීමේ අවස්ථාවද දැන් මේ සත්‍ය ධර්මය මතු කර පෙන්වීමත් සමඟම උදාවන බව නියතයි. ඔබද මෙවන් වාසනාවන්ත කෙනෙකු බව සිතා "පරම පවිත්‍ර බුද්ධ ධර්මය" කියවා අසා දැන ධර්ම මාර්ගයම අනුගමනය කර බුද්ධ ශක්තියට අනුගත වී නිවන් අත්විඳ ගන්න.



## 10. හෙළබිමදී ලියූ ත්‍රිපිටකය හා පාලි භාෂාව

විජය නැමැති සංකල්පිත ඉන්දියානු රජු එදා හෙළබිමට පය තබන්නට පෙර පටන්ම මේ හෙළ බිමේ විසූ දේව ගෝත්‍රික ජනයාද , යක්ෂ හෙළයේ විසූ යක්ෂ ගෝත්‍රික ජනයාද, නාග හෙළයේ විසූ නාග ගෝත්‍රික ජනයාද , කුම්භාණ්ඩ හෙළයේ විසූ කුම්භාණ්ඩ ගෝත්‍රික ජනයාද, සාමයෙන් හා සමාදානයෙන් මේ රටේම වාසය කළ ජනතාවය. මේ නම් සඳහන් කළ සියළුම ගෝත්‍රවලට අයත් මනුෂ්‍යයින් කිසිවෙකුත්ම අද්භූත, අශ්චර්යය, අමනුෂ්‍යයෝ නම් නොවෙත්, වැද්දෝ ද නොවෙත්. විශේෂයෙන්ම දේව හෙළයේ එදා ජීවත් වූ ජනතාව විද්‍යා ශාස්ත්‍ර දැනුමෙන්ද, ශිල්ප ක්‍රම දැනුමෙන්ද දැන උගත් කමෙන්ද, වාරි කර්මාන්තය පිළිබඳ ව උසස් දැනුමෙන්ද යුතුව කටයුතු කළ මිනිස්සුම වූහ. ජන්බුද්වීපයේදී බුද්ධත්වයට පත්වූ සිද්ධාර්ථ ගෞතම බෝසත් කුමාරයාත් උපත ලැබුයේ මහාමායා දේවිය කුසින් මෙම දේව හෙළයේම ප්‍රාදේශිය රජ කෙනෙකු ලෙසින් එදා ප්‍රසිද්ධියට පත්ව සිටි සුද්ධෝදන රජතුමාට දාවය. හෙළබිම දේව හෙළයේ කිඹුල්වත් පුරය නමින් එදා ප්‍රසිද්ධව තිබූ, අද දිඹුලාගල නමින් ප්‍රසිද්ධව ඇති මහවැලි ගඟෙන් දකුණේ පිහිටා තිබු නගරයක ශාක්‍ය වංශික රජ පරපුර එදා රජ කම් කරන ලදී. ඒ වාගේම අද සතර වරම් දෙවියන් ලෙසින් හඳුන්වාදෙනු ලබන අපේ ජනයා අදත් වැදුම් පිදුම් කරනු ලබන, චත්තාරෝ මහා රජවරුන් ත්‍රිපිටක සාහිත්‍යයේත් ආටානාටි සූත්‍රයේත් සඳහන්වන , වෙසමුණි, විරුඪ, විරූපක්ඛ, දතරාශ්ඨ යන නම් ඇති මහා රජවරුන් එදා රජකම් කළේද මේ හෙළබිමේම යක්ෂ හෙළයේ හා නාග හෙළයේය.

ඒවාගේම ත්‍රිපිටක පොත්පත් වල හා මහා වංශයේත්, දීප

වංශයේත් නම් සඳහන් වන කොසොල් මහා රජතුමා, බිම්බිසාර මහා රජතුමා අජාසත්ත මහා රජතුමා, සුද්ධෝන , අමිතෝධන , දෝතෝධන මහ රජවරුන් , සුප්‍ර බුද්ධ රජතුමා, මහාසේන රජතුමා, අභය රාජ කුමාරයා, ආලවක, හේමවත, සාතාගිරි, සමන් ආදී රජවරුන්ද , චූලෝදර , මහෝදර, මුචලින්ද, මණිඅක්ඛිත යන නාග ගෝත්‍රික රජවරුන් මෙන්ම සුදත්ත සිටුතුමා, විශාඛා, නන්දාමාතා, චිත්ත ගෘහපති ආදී ත්‍රිපිටකයේ නම් සඳහන් සියළුම රජ සිටුවරුන්ද එදා මේ හෙළ බිමේම උපත ලබා මේ හෙළබිමේම ජීවත් වී මෙහිදීම මිය පරලොව ගිය අපේම මී මුත්තන්ය. අපේම අතීත ඥාති වර්ගයාය. මේ හැම කෙනෙකුගේම නම් ගම් සඳහන් වන්නේත් ඒ නම් ගම් ලිය වී ඇත්තේත් අතීතයේදී හෙළබිමේදීම ලියූ ඓතිහාසික ත්‍රිපිටක ග්‍රන්ථ වල හා දීප වංශය, මහා වංශය වැනි හෙළදිවේදීම ලියූ ඉතිහාස වංශ කථා පොත්වලමය. එදා ගෞතම බුදුපියාණන් වහන්සේ ජීවමානවම වැඩසිටි සමයේ ඉතාමත්ම දියුණු නගර හා ගම් වශයෙන් සඳහන් වන රජගහ නුවර , සැවැත් නුවර, කොසැඹෑ නුවර, කිඹුල්වත් පුරය, විශාලා මහ නුවර, බරණැස් නුවර ආදී සියළු නම් ගම් සඳහන් වන්නේද ත්‍රිපිටක සාහිත්‍යයේම පමණක්මය. ඒ ලංකාවේදීම ලියූ ත්‍රිපිටක පොත්වලමය.

ත්‍රිපිටකය ලෙසින් ලේඛන ගත කළ සියළුම ග්‍රන්ථයන් මුල්වරටම ලියා ලේඛන ගත කර ඇත්තේ මේ හෙළබිමේම "අළු ලෙන" නම් ස්ථානයකදීය ත්‍රිපිටක ග්‍රන්ථ වල හෝ දීප වංශයේ හෝ මහා වංශයේ හෝ සඳහන් වන පුද්ගලයින්ගේ, රජුන්ගේ සිටුවරුන්ගේ හෝ නගරයන්ගේ හෝ ගම්වල හෝ නම් ගම් ඉන්දියාවේදී- මහා භාරතයේදී- ලියූ කිසිම සමකාලීනව හෝ ආසන්න කාලීනව හෝ ලියූ ග්‍රන්ථයක පොතක පතක ලියවිල්ලක හෝ සඳහන් නොවන්නා සේම වෙනත් කිසිම



ආකාරයකින් හෝ අසන්නට හෝ පිටරටකදී ලියූ කිසිම පොත පතක සඳහන් වන්නේ හෝ දැක ගන්නට හෝ ලැබෙන්නේ ද නැත. එවන් ප්‍රසිද්ධ පුද්ගලයින් ඉන්දියාවේ එවකට වාසය කළේ නම් පිටරටක පොත් වල ඒවා ලියවෙන්නට පෙර ඒ ඉන්දීය පොත් පත් වල ඒවා ලියා සටහන් කර තබන්නට හැකියාව තිබිණි. බුද්ධ කාලයේ හා ඊට සමකාලීනව ඉන්දියාවේදි ලියූ බොහෝ පුරාණ ග්‍රන්ථ , වේද ග්‍රන්ථ හා රාමායනය ආදී වෙනත් පොත් පත් අද පවා ඉන්දියාවේ දක්නට ඇත.

ඉන්දියාවේදී ලියූ මේ කිසිම පොතක පතක ලියවිල්ලකවත් ත්‍රිපිටකයේ සඳහන් වන මේ කිසිම නමක් ගමක් නගරයක් සඳහන් වී නොමැත. දැනට වසර 2000කටත් වඩා අතීතයේ දී ලියා තැබූ මුල්ම ත්‍රිපිටකයේ සඳහන් වන සියළුම ස්ථාන හා නගර නාම , පුද්ගල නාම ආදියෙහි තොරතුරු මේ හෙළබිම හා සම්බන්ධ වූ පුද්ගලයින්ගේ නම් ගම්ය. තොරතුරුය. ත්‍රිපිටකයේ සඳහන් වන මේ තොරතුරු ලේඛන ගත කර ලියා තබන්නට පෙර මේවා අපේම සිංහල භික්ෂුන් වහන්සේලා විසින් වර්ෂ 400කටත් වඩා දීර්ඝ කාලයක් තිස්සේ කටින් කට වනපොත් කරගෙන කටපාඩම් කරගෙන පරම්පරාවෙන් පරම්පරාවට රැකගෙන පවත්වාගෙන ආ දේවල්ය. තොරතුරුය. ධර්මයය.

ගෞතම බුදුපියාණන් වහන්සේ උතුම් බුද්ධ ධර්මය දේශනා කළේ ඉන්දියාවේ දී යැයි යමෙකු ප්‍රකාශ කරන්නේ නම් එදා ඉන්දියාවේ ජීවත් වූ භික්ෂුන් වහන්සේලා පිරිසක් ගැන හෝ මේවා වනපොත් කරගෙන, කටපාඩම් කරගෙන පරම්පරාවෙන් පරම්පරාවට රැකගෙන ආ පිරිසක් ගැන කොතනකදී හෝ සඳහන් විය යුතුය. නමුත් ඉන්දියාවේ එවැනි ඉතිහාසයක් පැවැති බව හෝ කිසිම කෙනෙකු හෝ කිසිම භික්ෂුවක් හෝ

මෙවන් ධර්මයක් ගැන හෝ දැන සිටි බවක් පිළිබඳව එවකට අසන්නට වත් නොතිබිණි. විශේෂයෙන්ම සඳහන් කළ යුතු කාරණය වන්නේ , අශෝක රාජ යුගයට පෙර භාරතයේ කාවේරි නදියෙන් එහා උතුරේ, එනම් , උතුරු ඉන්දියාවේ විසූ කිසිම බෞද්ධ භික්ෂුවක් ගැන හෝ මඟ ඵල ලැබූ කෙනෙක් ගැන හෝ කිසි තැනක සඳහන් නොවීමය. අශෝක රජතුමාටත් පළමු වරටම බෞද්ධ භික්ෂුවකගේ දර්ශනය දැක ගන්නට ලැබුණේ කාලිංග යුද්ධයෙන් පසුව කාවේරි නදියෙන් දකුණු ඉන්දීය ප්‍රදේශයේදීය. හෙළබිමේදී දහම් ඉගෙන ගෙන මඟ ඵල ලැබූ බෞද්ධ භික්ෂූන් වහන්සේලා අශෝක යුගය වන විට (කාවේරි නදියෙන් මෙපිට) දකුණු ඉන්දියාවේ නම් විසූහ.

ලොවුතුරා බුද්ධත්වයට පත් වූ සියළුම බුදුවරයින් වහන්සේලා උපත ලැබූ බුද්ධත්වයට පත් වූ මේ හෙළ බිමේ සත්‍යම වූ ඉතිහාස කථාව පෘථග්ජන ඉතිහාසඥයෙකුට, විද්‍යාඥයෙකුට, පුරා විද්‍යායෙකුට හෝ වෙනත් පෘතග්ජන පැවිද්දෙකුට ඔහුගේ උගත්කම අනුව දැනුම අනුව අවබෝධය අනුව අනුමානයෙන් වත් සිතා ගත නොහැකි තරම් ගාම්භීරය, විශිෂ්ඨය, ලොව පහළ වූ සියළුම බුදු වරයින් වහන්සේලාත් අරහතුන් වහන්සේලාත් පසේ බුදුවරයින් වහන්සේලාත් පමණක් නොව සියළුම චක්‍ර වර්ථි රජ වරුන්ද උපත ලබන්නේත්, ජීවත් වන්නේත් ලෝකයෙන්ම උතුම් රට වූ මේ හෙළ දිවයිනේ දීමය. මේ හෙළ බිමේ අතීත ඉතිහාසයෙන් අද වන විට වත්මන් ලෝකයා සොයා දැනගෙන, අසා දැනගෙන ඇත්තේ ඉතාමත්ම සුළු කොටසක් පමණි. ලෝකයාට තවමත් සොයා දැන ගන්නට නොහැකි වූ කාලයේ වැලි තලාවෙන් යටපත් වූ, මේ හෙළබිමේ ශ්‍රී විභූතිය වචනයෙන් කියා, පොතක පතක ලියා නිම කළ නොහැකි තරම් විශ්මිත එකකි. දීපංකර බුද්ධ කාලය තෙක්ම අතීතයට දිව යන්නකි.



ත්‍රිපිටක පොත් වල ලියැවී ඇත්තේ මේ හෙළබිමේම එක්තරා අතීත යුගයක නියම නිවැරදි ඉතිහාසයයි. අදටත් අපේ යැයි කියා පෙන්වා දිය හැකි හොඳම නිවැරදිම ලේඛන ගත ලිඛිත ඓතිහාසික සාක්ෂි සටහන් වන්නේ ත්‍රිපිටක පොත් පෙළෙහිය. වසර 2000කටත් වඩා පැරණි අතීත යුගයකදී  මේ රටේදීම පුස්කොළ පොත් වල ලියා තිබූ සූත්‍ර ධර්ම දහ හත් දහසකටත් වැඩි ප්‍රමාණයකුත් ජාතක කථා 550 කිනුත් කියා පාන සියළුම තොරතුරු සියයට සියයක්ම මේ හෙළදිවට සම්බන්ධ වූ අපේම ඉතිහාසයට සම්බන්ධ වූ අදාළ වූ, ලිඛිත සාක්ෂි බව මෙහිදී සහතික කර පෙන්වා දී ප්‍රකාශ කර සිටිමි. මේ එකද පොතක හෝ ලේඛනයක් හෝ ඉන්දියාවේ දී හෝ භාරත දේශයේදී හෝ ලියූ ඒවා නොවේ. මේ අනුව මේතරම් වැදගත් ලෙසින් , සත්‍ය වශයෙන්ම සහතික කර පෙන්වා දිය හැකි, ඉතිහාසයක් ලොව වෙනත් කිසිම රටකට උරුම වී නැත. අපේම මුතුන් මිත්තන් උගතුන්, මගඵල ලාභින් ධර්ම ධරයින් එදා මෙසේ ලියා තැබූ අපේම මේ ඉතිහාසය පිටරටකට පාවා දී, වෙනත් රටක ඉතිහාසයක් ලෙසින් සරලවම බැහැර කරන්නට හෝ යටපත් කර දමන්නට හෝ කිසිම සාධාරණ හේතුවක් ඉදිරිපත් කරන්නට හෝ කිසිදු ජගතෙකුට නොහැකිය.

මේ ආකාරයෙන් නැවත අළුතින් මතු කර පෙන්වා දෙනු ලබන ප්‍රකාශ කර සහතික කරනු ලබන මේ පරම සත්‍යයන් පිළිබඳව යම් කිසි ආකාරයක හෝ සැක සංඛාවක් ඔබටත් ඇත්නම් මෙහි මා අසා සටහන් කර තබන ප්‍රශ්න කිහිපයකට ඔබම කල්පනා කර විමර්ශනාත්මක හා මධ්‍යස්ථව පිළිතුරු සොයා දැන සපයාගෙන මේ ප්‍රකාශණයේ ඇත්ත නැත්ත හොඳින් සොයා බලන ලෙසින් කරුණිකව මම ඔබට ආරාධනා කර සිටිමි. ඔබ හෙළයකු ලෙසින් සිතන්නට පුරුදු වන්න. අපේම ඉතිහාසය යටපත් කර දමන්නට තරම් අදම නොවන්න. දීන නොවන්න.

i ගෞතම බුදුපියාණන් වහන්සේ විසින් මාගධී බසින් දේශනා කරන ලද බුද්ධ ධර්මය ත්‍රිපිටක පොත් ලෙසින් හා ජාතක කථා ලෙසින් වසර 2100කට පෙර යුගයකදී ලේඛන ගත කර ලියා තබන ලද්දේ කුමන රටකදීද?- මේ හෙළබිමේදීය.

ii. මේ ත්‍රිපිටටක ධර්මය හා ජාතක පොත් වසර 2100කට පමණ පෙර ලියා තබනන්ට භාවිතා කරන ලද හෙළ අක්‍ෂර (අකුරු) එදා මොන රටේ භාවිතා වූ අකුරුද?- හෙළබිම එදා භාවිතා කළ පැරණි හෙළ අකුරුය.

iii. මාගධී බසින් දේශනා කරන ලද බුද්ධ ධර්මය පේළි ලෙසින් පෙළ දහම ලෙසින්- පෙළ ගස්වා කඩ පාඩම් කරගෙන පරම්පරාවෙන් පරම්පරාවට වසර 450ක් පමණ දිගු කාලයක් තිස්සේ පවත්වාගෙන ආවේ කුමන රටක භික්ඛු පරපුරක්ද? හෙළබිම විසූ හෙළ භික්ඛු පරපුර විසිනි.

iv. හෙළබිමේ කෑගල්ලේ පිහිටි අළු ලෙනෙදී ක්‍රි.පූ. 76 වන වර්ෂයේ දී බුද්ධ භාෂිතය ලියා තැබීමට සහභාගි වූ භික්ෂුන් වහන්සේලා පැමිණියේ කොහි සිටද? එම ධර්ම සංගායනාව පැවැත්වීමට සහභාගී වූ සියළුම භික්ෂුන් වහන්සේලා හෙළදිව විවිධ ප්‍රදේශවලින් වැඩම කළ බව ඔබ දන්නවාද?

v නිවන් දකින්නට උපකාර වන උතුම් බුද්ධ ධර්මය හා ඇදහිල්ලක් ලෙසින් අද අදහන බුද්ධාගම යන දෙකෙන් කුමන කොටසකට ත්‍රිපිටකයේ ලියා සටහන් කර ඇති දේ අයත් වන්නේද? ත්‍රිපිටක ග්‍රන්ථවල සඳහන් වන්නේ පටිච්චසමුප්පාද ධර්මය මිස ඇදහිලි ගැන නොවේ.



vi. එදා ගෞතම බුදුන් උපන් ජන්බුද්වීපයේ ලක්ෂ සංඛ්‍යාත අරහතුන් වහන්සේලාත් එහි විහාර ආරාම වල වැඩ සිටි බව ත්‍රිපිටකයේම සඳහන්ව ඇත. ඉන්දියාවේ කාවේරි නදියෙන් උතුරේ පිහිටි කිසියම්ම ප්‍රදේශයක කිසිම අරිහතුන් වහන්සේ කෙනෙකුන් ජීවත්ව සිටි බවත් හෝ ඒ ගැන සඳහනක් හෝ මොනයම්ම ඉතිහාස පොතක ලියවිල්ලක හෝ සටහන්ව නැත්තේ ඇයි? එවන් මඟ පල ලාභීන් එහි නොවු හෙයිනි.

ගෞතම බුදුපියාණන් වහන්සේ එදා ශුද්ධ මාගධි බසින් ලෝකයාට දේශනා කරන ලද උතුම් බුද්ධ ධර්මය පේළි වශයෙන් පෙළ ගස්වා කට පාඩම් කරගෙන , වන පොත් කරගෙන, ගුරු ශිෂ්‍ය පරම්පරාවෙන් පරම්පරාවට වසර 450 ක් පමණ ක්‍රි.පූ. 543 සිට ක්‍රි.පූ 76 දක්වාම කටින් කට පවත්වාගෙන එන ලද්දේ අපේම හෙළ බිම විශේෂයෙන්ම දේව හෙළයේ වාසය කළ භික්ෂුන් වහන්සේලා විසින්මය. එදා කෑගල්ල, මාතුල, අළුලෙනේදී පැවැත්වූ ධර්ම සංඝායනාවට වැඩමවා වදාළ භික්ෂුන් වහන්සේලා එදා එහි පැමිණියේ රුහුණේ තිස්සමහාරාමය, සිතුල්පව්ව, හඹුරුගල, බුදුගල, කුසිනාරා නුවර, කුඩිම්බිගල, රජගල, දීඝවාපිය මෙන්ම රුහුණේ සබරගමු පළාතේ හා නැගෙනහිර පළාතේ ආරණ්‍ය සේනාසන වලින්ය. දඹුල්ලේ එඬේර ගල, පිදුරංගල , රංගිරි ගල හා තවත් කිහිප ස්ථානයකින් ද පැමිණියහ. ඉන්දියාවේ සිට හෝ භාරතයේ සිට හෝ පැමිණි කිසිම කෙනෙකු මෙයට සහභාගී වූ බවක් මහාවංශයේ හෝ දීපවංශයේ හෝ කිසිම පොතක පතක හෝ සඳහන්ව නැත. ඊට හේතුව ඉන්දියාවේ සිටි කිසිම කෙනෙකුට මේ

බුද්ධ ධර්මය , බුද්ධ භාෂිතය ත්‍රිපිටකය ගැන කිසියම්ම අවබෝධයක් හෝ දැනුමක් නොවු නිසයි. මිහිඳු කුමාරයාද එදා ඉන්දියාවේ සිට දේව හෙළයේ රජගහනුවරට (අම්පාරට ) පැමිණ රජගහ නුවර පිහිටි බෞද්ධ විද්‍යායතනයේදී සිංහල භාෂාව මාගධී භාෂාව හා බුද්ධ ධර්මයයද ඉගෙන ගෙන මහණ වී මඟ ඵල ලබා ගත බවත් ඉතාම පිරිසිදුවම මෙහිදී පෙන්වා දිය යුතුය.

බුදුපියාණන් වහන්සේ දේව හෙළයේදී මෙන්ම, යක්ෂ හෙළයේ යම් යම් තැන් වලදීත් , නාග හෙළයේ යම් යම් තැන් වලදී වසර 45ක්ම පුරාම දේශනා කර වදාළ උතුම් බුද්ධ ධර්මය , පේලි වශයෙන්ම පෙළ ගස්වා සකස් කර ගෙන සංගායානා කරමින් කට වහරට පුරුදු කරගෙන කටින් කට රැක ගෙන පවත්වාගෙන ආ සිරිතක් අපේ මේ හෙළ බිමේ එදා පටන්ම පවැතිණි.

අම්පාරේ රජගල නමින් අද නම්කර ඇති ඓතිහාසික ස්ථානය එදා මගධ රටේ අගනුවර වූ රජගහ නුවර නම් විය. මගධ රටේ මාගධී භාෂාව මෙන්ම පැරණි හෙළ භාෂාවද එදා භාවිතා කළ බවත් පෙනේ එදා විශ්ව විද්‍යාල වල විද්‍යස්ථාන වල ශිල්ප ශාස්ත්‍ර හැදෑරීමේදී උගතුන් එදා ශුද්ධ මාගධි භාෂාව භාවිතා කළ අතර සාමාන්‍ය පොදු මහජනයාගේ ව්‍යවහාර භාෂාව වුයේ හෙළ බසයි. අදත් හෙළ බසට ඉතාමත්ම සමීප භාෂාව වන්නේ මාගධී භාෂාවයි. ඒ යුගය වන විට ඉන්දියාවේ භාවිතා වූ භාෂාවන් සියල්ලටම පාදක  වුයේත්  මුල් භාෂාව වූයේත් සංස්කෘත භාෂාවයි. එදා දකුණු ඉන්දියාවේ භාවිතා වූ දෙමළ බස පවා මේ සංස්කෘත භාෂාවන්ට වඩා වෙනස් මූලාශ්‍රයකින් පැවත ආ භාෂාවකි.

ගෞතම බුදුපියාණන් වහන්සේගේ පරිනිර්වාණයෙන් පසුවත්



අපේ හෙළබිම , විශේෂයෙන්ම දේව හෙළයේ ජීවත් වූ ධර්ම ධර, උගත් වියත් භික්ෂු පරපුර නිහඬවම තම පනමෙන් ත්‍රිපිටක ධර්මය ආරක්ෂා කරගෙන වනපොත් කරගෙන කටපාඩම් කරගෙන පරම්පරා ගතව පවත්වාගෙන ආ මේ උතුම් ත්‍රිපිටක බුද්ධ ධර්මයට එදා රාජ්‍ය අනුග්‍රහයක් පවා ලැබී තිබුණේද නැත.

ක්‍රි. පූ. 76 වන වර්ෂයේදී දේව හෙළයට අයත් කෑගල්ලේ අළුලෙන් නම් ස්ථානයකදී ත්‍රිපිටක ධර්මය ලේඛන ගත කලත් ඊට වලගම්බා රජු මුල් වී ක්‍රියා කල බවක්ද පෙනෙන්නට නැත. උතුම් බුද්ධ භාෂිතය රැකගෙන ආ හෙළ දිව භික්ෂු පරපුරේම මූලිකත්වයෙන් මෙම ත්‍රිපිටකය ලේඛන ගත කිරීමක්ද සිදුවිය. ඒ අතීත යුගයේ, එනම් අශෝක රාජ්‍ය යුගයටත් වසර 280කට තරම් පෙර යුගයේ දී ඉන්දියාවේ මේ උතුම් බුද්ධ ධර්මය ප්‍රචලිතව පැවැතියේ නම් එදා ඉන්දීය ජනතාව තුළ මේ උතුම් ධර්ම සංකල්පනා තරයේම මුල්බැස ගන්නට ඉඩ තිබිණි. එදා ඉන්දීය ජනතාව තුළ වේද ආගම් සංකල්ප, ජෛන ආගම් සංකල්ප, ශිව ආදී දේව ආගම් සංකල්පයන් ගැන මිස මේ උතුම් බුද්ධ ධර්මය ගැන දැනුමක් හෝ අවබෝධයක් හෝතිබු බවත් පෙනෙන්නටද නැත.

අශෝක අධිරාජ්‍යාගේ රාජ්‍ය කාලය තුළදී ඔහු උත්සාහ ගත්තේ බුද්ධ ධර්මයේ දේශනා කරන ලද යම් යම් යහපත් වත් පිළිවෙත් එකතු කරගෙන එදා ඉන්දියාවේ ඇදහූ හින්දු, ශිව , වේද හා ජෛන ආදී ආගම් සංකල්ප වලටම පංච ශීල ප්‍රතිපදාවද ඇතුළු කරගෙන කාටත් සාමයෙන් හා සමාදානයෙන් ජීවත් වන්නට ගැලපෙන ආකාරයේ යහපත් සමාජයක් නිර්මාණය කරන්නට උපකාර වන විධියේ ආගමක් ඉන්දියාවේ නිර්මාණය කරන්නටය. ධර්ම රාජ්‍යයක් නිර්මාණය කරන්නටය. එය දේශපාලන

උපක්‍රමයක් ලෙසින් ක්‍රියාත්මක කළ බව පෙනෙන්නට ඇත. ඉන්දියාවේ බුද්ධාගම බිහි වුයේ ඒ ආකාරයෙන්ය. බුද්ධ ධර්මය හා ආගම යනු දෙකකි.

බුද්ධ ධර්මය යනු ඇදහිල්ලක් නොවේ. දේශපාලනය හා සමඟ සැසඳෙන්නක් ද නොවේ. ආර්ය තුස්නිම්භූතභාවය බුද්ධ ධර්මයේ මූලිකම ලක්ෂණයයි. ඒ නිසාම ආරණ්‍ය ගත වී රුක් මුල් වලට වී ශූන්‍යාගාර ගත වී වන ගත වී ධම්මානුධම්ම පතිපදාවෙහි නියැළුණු කෙළෙස් දවන්නටම උත්සාහ දරණ බුද්ධ ශ්‍රාවකයින් පිරිසක් මගින්ම බුද්ධ ධර්මය ආරක්‍ෂා වෙයි. ධර්මය රැකෙයි. එය ඒ ඒ පුද්ගලයා විසින්ම පෞද්ගලිකවම අනුගමනය කර අත්දැක ගත යුතු මාර්ග චර්යාවකි.

අශෝක රාජ්‍ය පාලන කාලයේදී මෙන්ම ඊට පසුව ආ යුගවලදීද ඉන්දියාවේ බලවත් අධිරාජ්‍යයන් වූ ගුප්ත අධිරාජ්‍ය යුගයේත් කුෂාන් අධිරාජ්‍ය යුගයේත් සාතවාහන රජ පරපුර රජකම් කළ යුගයේත් ඉන්දියාවේ බුද්ධාගම බලවත්සේම ප්‍රචලිත විය. නමුත් බුද්ධ ධර්මය නම් නිවන් දකින්නට උපකාර වන අයුරින් නම් ප්‍රචලිත වු බවත් දකින්නට නැත. ඉන්දියාවේ චන්ද්‍ර ගුප්ත පාලන යුගය වන විටත් ලංකාවේ හෙළ බිමේ රජගල අම්පාරේ, සිතුල් පව්වේ, දීඝවාපියේ හා මාළිගාවිල මෙන්ම සබරගමු පලාතේ රත්නපුර හා කෑගල්ල වැනි ප්‍රදේශ වල උතුම් නිර්මල බුද්ධ ධර්මය භාවිතයේ පැවතුන බවත් පෙන්වා දිය යුතුය. ඒ බුද්ධ ධර්මය එදා භාවිතයේ පැවතුන බවට හොඳම සාධකය කැගල්ල ප්‍රදේශයෙන් බිහි වූ මලියදේව මහා අර්හතුන් වහන්සේ පිළිබඳ කථා පුවතයි.

පාලි භාෂාව හා පාලී යන වචනය ගැනද මෙහි යමක් ලියා තැබිය යුතුය. එදා හෙළ දීපයේදී සිංහල අකුරෙන් ලියා තැබූ ගෞතම



බුදුපියාණන් හා බුද්ධ ශ්‍රාවකයින් වහන්සේලා විසින් මාගධි බසින් දේශනා කළ බුද්ධ ධර්මය කටපාඩමින් පාඩම් කරගෙන කටින් කට පවත්වාගෙන ඒ මේ පහසුව හා අවශ්‍යතාවය සඳහා ධර්මය පෙළ ගස්වා, ජේලි ලෙසින් සකස් කර ගන්නා ලදී. මෙසේ පෙළ ගස්වා තිබූ නිසාත් ජේලි වශයෙන් සකසා කටපාඩම් කර ගැනීමටත් හැකි වූ නිසාත් මේ මාගධි බසින් දේශනා කරන ලද උතුම් බුද්ධ භාෂිතය පසුව පෙළ, පෙළ දහම යන නම් වලින්ද ප්‍රසිද්ධ විය. පෙළ දහමටත් පාදක වූයේ අතීත සිංහල ව්‍යාකරණ හා භාෂා රීතීන්මය. ඒ අප අද භාවිතා කරන නවීකරණය කළ හෙළ භාෂා රීති නොව මිහිඳු මා හිමියන් වැඩ සිටි යුගයටත් පෙර යුගයේදී මේ හෙළදිව භාවිතා වූ පැරණි හෙළ බසෙහි ව්‍යාකරණ හා නීතී රීතින්ය පසු කලෙක මේ මාගධි භාෂාවම පාලී භාෂාව ලෙසින් අනුරාධපුර අවසාන යුගයේදී අනුරාධපුයේදීත්, පොළොන්නරු යුගයේදීත්, විවිධ ආකාරයෙන් පොත් පත් වලද ලියන්නටත් භාෂාවක් ලෙසින් උපයෝගී කර ගන්නටත් පුරුදු වූ බව පෙනේ. ත්‍රිපිටකය ලේඛන ගත කරන්නට පෙර යුගයේදී පාලි නමින් භාෂාවක් ලෝකයේ කොතැනක වත්ම නොවීය. ඊට පසුව ආ යුගයේදී බුද්ධ ධර්මයට අදාළ කරුණු මෙන්ම හෙළදිව ඉතිහාසයට අදාළ යම් යම් ඓතිහාසික කාරණාද ලියුවේ පාලී නමැති භාෂාවෙනි. මෙම පාලි නම් භාෂාව ලිවීම ආරම්භ වූයේ ලංකාවේදීය. දියුණු වූයේත් ලිපි ලේඛන ලියුවේත් ලංකාවේදීය. පසු කාලයකදී එනම් තුන්වන හා අටවන සියවස් අතර කාලයකදී ඉන්දියාවේ උගත්තුද හෙළදිව රජගහනුවරට (අද අම්පාරේ රජගලට) පැමිණ පාලි බස හදාරා හෙළ බස හදාරා බුද්ධ ධර්මයට අදාළ බොහෝ දේ ඉගෙන ගත්හ. පසු කාලයකදී මේ පෙළ දහමට අදාළ බොහෝ දේ සංස්කෘත ආදී ඉන්දිය භාෂා වලටද පරිවර්ථනය කරන්නටද පටන් ගත්හ.

මේ අනුව පස්වන සියවස පමණ වන විට ඉන්දියාවේ අජන්තා, වේල්ලෝරා, නගර්ජුනකොංඩ, මථුරා, ගන්ධාර ආදී ප්‍රදේශවලත් පාලී භාෂා උගත්තු බිහි වී සිටියහ. විශ්ව විද්‍යාල වල හා විද්‍යායතන වලත් බෞද්ධ ආගම ඉගැන්වූයේ පාලී භාෂාවෙන්මය. හියුං සාන්, පාහියන් වැනි චීන සංචාරයින් ඉන්දියාවට හා ලංකාවට එන අවධියේත් පාලි උගතුන් ලංකාවේ මෙන්ම ඉන්දියාවේත් සිටි බව ඔවුන්ද සඳහන් කරන්නේ මේ අනුවය.මේ අනුව පාලි භාෂාව යනු කවදාවත් මිනිසුන්ගේ පොදු ව්‍යවහාරයට පත් වූ ව්‍යවහාර භාෂාවක් නොව , ලංකාවේදී බුද්ධ ධර්මය ලියන්නට භාවිතා කළ නිර්මාණය කරගත් භාෂාවකි. එහි පදවැල් මාගධී පදවැල්ය. ලංකාවේ දී ලියූ පාලි වචන සිංහල අකුරෙන් ලියූ අතර ඒ ඒ රට වලදී පාලී වචන ලියුවේ ඒ ඒ රටේ අක්ෂර වලිනි. පසු කලෙකදී ඉංග්‍රීසි අක්ෂර වලින්ද පාලී භාෂාවම ලියන ලදී. මේ හැම තැනකදීම ලියා ඇත්තේ එදා හෙළබිමේදී ගෞතම බුදුපියාණන් දේශණා කළ මාගධි වචන ලිවීමය. මාගධි පද වැල්ය.

ශුද්ධ මාගධී භාෂාව යනු සියළුම භාෂාවන්ට පොදු මුල් වූ භාෂාවයි. හෙළ බස සකස් වූයේද මුල් ශුද්ධ මාගධී භාෂාවෙන්මය. සියළුම බුදුවරයින් වහන්සේලා විසින් උතුම් බුද්ධ ධර්මය දේශනා කරනු ලබන්නේද ශුද්ධ මාගධි භාෂාවෙන්මය. එයට හේතුව මාගධී භාෂාව විපරිනාමයට පත්වන විකාෂණයට පත්වන කාලයෙන් කාලයට අර්ථය ධර්මය වෙනස් වන ව්‍යවහාරික භාෂාවක් නොවන නිසයි. එදා භාවිතා කළ මාගධි වචන , පදවැල් අදටත් එසේම වලංගුව පවතී. ව්‍යවහාරික භාෂා සියල්ලම කාලයාගේ ඇවෑමෙන් ව්‍යවහාරයෙන්ම විකාශණය වී විපරිනාමයට පත්වී වෙනස් වෙයි. අප දන්නා මෑත යුගයේම ක්‍රි.ව. 1900-1950 වැනි යුගයේදී භාවිතා කළ සිංහල භාෂාව අද රටේ භාවිතයේ නැත.



අද එය විවිධ ආකාරයේ වෙනස් වීම් වලට භාජනය වී ඇත. නමුත් මාගධි භාෂාව එසේ වෙනස් නොවන භාෂාවකි. එදා ගෞතම බුදුපියාණන් වහන්සේ දේශණා කළේ ඊට වසර 7000කට පෙර කාශ්‍යප බුදුපියාණන් වහන්සේ දේශනා කල මාගධී පද වැල් වලින් මය. අද අපි කියවන්නේද ඒ අතීත මාගධි පදවැල්ය. ඒවා භාවිතයෙන් වෙනස් නොවේ අනිත් අතට ශුද්ධ මාගධි පදවැල් වලට බුද්ධ භාෂිතයේ දේශනා කර වදාළ ශුද්ධ පද වැල් වලට අර්ථ, ධර්ම , නිරුක්ති යන පටිභාන යන සිව් පිළිසිඹියා විග්‍රහයන් ඉදිරිපත් කළ හැකිය.

ශුද්ධ මාගධි පදවැල්වලට මිස වෙනත් කිසිම ව්‍යවහාර භාෂාවක වචන වලට මෙවැනි අර්ථ නානාත්වයක් ධර්ම නානාත්වයක් නිරුක්ති නානාත්වයක් හෝ පටි සංභිදා නානාත්වය ඉදිරිපත් කරමින් අර්ථය ධර්මය විග්‍රහ කල නොහැකිය. ඒ නිසා ශුද්ධ මාගධි භාෂාව අනෙක් සියළු භාෂාවලට වඩා වෙනස් ආකාරයේ උතුම් භාෂාවකි. මාගධි පදවලින් සියළු බුදුවරයින් වහන්සේලා දේශනා කර වදාරනු ලබන බුද්ධ ධර්මය නිවන් දකින්නට උපකාරවන ආකාරයෙන් තේරුම් ගන්නට නම් එහි අඩංගු අර්ථයන් ධර්මයන් නිරුක්තීන් හා පටිසම්භිදා නානාත්වයද තේරුම් ගත යුතුයි. පදපරම ලෙසින්ම මාගධි පදවැල් වලට අර්ථ දක්වන්නට පටන් ගත් පසුව අද නිවන් දකින්නට උපකාර වන ලෝකෝත්තර ධර්මය ඉන් විග්‍රහ වන්නේද නැත. පසු ගිය වසර දහසකටත් වැඩි කාලයක් තුල මේ මාගධි පදවැල් පාලි භාෂාව ලෙසින් පදපරම අර්ථයෙන් පදපරම ලෙසින්ම භාවිතා විය. නිවන් දකින්නට උපකාර වන ලෙසින් මාගධි පද වලට අර්ථ ධර්ම නිරුක්ති පටිසම්භිදා දැනුමක් මතුකර ගන්නටද අපොහොසත් විය. නිවන් දකින්ට උපකාර වන්නේ අර්ථ, ධර්ම නිරුක්ති පටිසම්භිදා විග්‍රහයක් සහිත වූ මාගධි

පදවැල් තේරුම් ගැනීමය. මාගධී භාෂාව යනු අරුම පුදුම අර්ථ , ධර්ම, නිරුක්ති හා පටිසම්භිදා විග්‍රහයක් ලබා දෙන පරමාර්ථ ධර්ම ප්‍රකාශන මාධ්‍යයක් බව තේරුම් ගත හැක්කේ ධර්මාවබෝධය ලබා ගත් මඟඵල ලබාගත් කෙනෙකුටමය. පෘථග්ජන පුද්ගලයෙකුට මේ ධර්ම අර්ථයන් තේරුම් ගත නොහැකිය.

## 11. අටුවා, ටීකා ටිප්පනි හා සම්මත

එදා ගෞතම බුදුපියාණන් වහන්සේ විසින් මාගධි පදවැල් වලින් දේශණා කරන ලද ගාම්භීර බුද්ධ ධර්මය ඒ යුගයේ ජීවත් වූ අසූ මහා ශ්‍රාවකයින් වහන්සේලා අතරින් කිහිප නමක් විසින් හෙළ අර්ථ කථා ලෙසින් හෙළ බස් වහරින් අර්ථ ධර්ම විග්‍රහ කර ලේඛන ගත කරන ලදී. මෙසේ බුද්ධ භාෂිතය අර්ථ කථා යන නමින් (අටුවා) සිංහල ජනතාවට තේරුම් ගන්නට හැකි වන පරිදි ලියා තබන්නට පටන් ගත්තේ ගෞතම බුදුන් ජීවමානව වැඩ සිටි ඒ අතීත යුගයේදීමය. එදා ලියූ මුල්ම හෙළ අට්ඨ කථාවන් ලෙසින්ම භාවිතයේ පැවැති රජගලදී ලියූ බුදකැලි අටුවාව හෙළ අට්ඨ කථා, මහා අට්ඨ කථා, සීහල අට්ඨ කථා කුරුන්දි අට්ඨ කථා යනුවෙන්ද නම් කර අටුවා රාශියක්ම එදා භාවිතයේ පැවැති බව අපේ අතීත හෙළ පොත් වල සඳහන් වී ඇත. මේ අට්ඨ කථා ලියන ලද්දේ අගසව් වූ සැරියුත් අරහතුන් වහන්සේ, මහා කච්චායන අරහතුන් වහන්සේ, මහා කොටඨීත අරහතුන් වහන්සේ ආදී බුද්ධ කාලයට සමකාලීනව මේ හෙළබිමේ රජගහ නුවර (අම්පාරේ රජගල) වැඩ සිටි මහා ප්‍රඥා බුද්ධ ශ්‍රාවකයින් වහන්සේලා විසින්ය. මෙම හෙළ අටුවාවල නිවන් දකින්නට උපකාරවන නියම නිවැරදි බුද්ධ ධර්මය හෙළ බසින් විග්‍රහ කර සිංහල මිනිසුන්ට නිවන් අවබෝධ කර ගන්නට උපකාර වන ආකාරයටම සරළ ලෙසින් සම්පූර්ණවද ලියා තිබිණි. බුද්ධ



පරිනිර්වාණයෙන් පසුවද රුහුණේ මෙන්ම නැගෙනහිර රජගල හා දීඝවාපියේත්, සැවැත් නුවර ජේතවනාරාමයේත් ලියා තැන්පත් කර තිබූ මෙම සිංහල අර්ථ කථා පොත් දුටුගැමුණු රාජ්‍ය යුගයේදී අනුරාධපුර මහා විහාරය කරා ගෙන වුත් එහි තැන්පත් කර තිබූ බවද මහා වංශයේ සඳහන්ය. මිහිදු හිමියන් අම්පාරේ රජගල (රජගහ නුවර සිට) අනුරාධ පුරයට බුද්ධාගම ගෙන ආ මුල් ගමනට පසුව අනුරාධපුරයට පැමිණි දෙවන ගමනේදී රජගල දී ලියා තිබූ සිංහල අර්ථ කථාවක් (අටුවා) වන මහාඅට්ඨ කථාවද මිහිදු හිමියන්ම අනුරාධපුරයට ගෙන ආ බවත් මහා වංශයේ සඳහන් කර ඇත. රුහුණේ, නැගෙනහිර හා රටේ වෙනත් කලාප වල බෞද්ධ මධ්‍යස්ථානවල පුස්තකාල වල ලියා තැන්පත් කර තිබූ හෙළ අටුවා හා වෙනත් වටිනා හෙළ පොත්පත් විශාල ප්‍රමාණයක් මෙසේ වරින් වර අනුරාධපුරයට ගෙනවිත් අනුරාධපුර මහා විහාරයේ තැන්පත් කර තිබිණි. බු.ව . 915 ලංකා වට පැමිණි බුද්ධ ඝෝෂ හිමියන් එදා පාළි භාෂාවට පරිවර්ථනය කළේ මෙසේ අනුරාධපුර මහා විහාරයේ තැන් පත් කර තිබූ හෙළ බසින් ලියා තිබූ අටුවා පොත් වලින් සමහර කොටසකි. මෙම හෙළ අටුවා කථාවන්හි පාලි පරිවර්ථනයේදී සිදු වූයේ මුලින්ම ආර්යයන් වහන්සේලා විසින් ලියූ සිංහල අර්ථ කථාවල ගැබ් වී තිබූ නිර්මල උතුම් බුද්ධ ධර්මය ලෞකික දේව ආගම් සංකල්ප වලට හැරවීමයි. පෘතග්ජන ලෝකයාට ගැලපෙන සේ සකස් කර ලිවීමයි. මේ අනුව මෙතෙක් සිංහල උගත් අයට සිංහලෙන් විග්‍රහ කර තිබූ සිංහල මිනිසුන්ට තේරුම් ගත හැකිව තිබූ හෙළ අර්ථ කථා දේව ආගම් සංකල්ප සමගින් සම්මිශ්‍රණය කර විශේෂයෙන්ම එවකට ඉන්දියාවේ ප්‍රචලිතව තිබූ පතංජලී දේව ආගම් සංකල්ප වලට ගැලපෙන අයුරින් සකසා පාලි භාෂාවෙන් ලියා තැබීමයි. විශුද්ධි මාර්ගය ඇතුළු පොත් 17ක්ම ලියා තැබූ බුද්ධ ඝෝෂ හිමියන් අවසානයේදී අනුරපුර මහා විහාර

පුස්තකාලයේ තැන්පත් කර තිබූ ඇතුන් 07 දෙනෙකුගේ බරට සමාන වූ සිංහල පොත් පත් සියල්ලම ගිනිබත් කරන ආකාරයට උපක්‍රම යොදා කටයුතු සකස්කර රටින් පිටවී ගිය බවද ඉතිහාසයේම සඳහන්ව ඇත.

නමුත් බුද්ධඝෝෂ හිමියන් විසින් පරිවර්ථනය කර ලියූ විශුද්ධි මාර්ගය ඇතුළු පාලි අර්ථකථා පොත් අභය ගිරියේ ආරක්ෂා සහිතව රැකී පැවතිනි. මහා විහාරයේ පුස්තකාලයේ ගබඩා කර තිබූ හෙළ අටුවා පොත් පත් සියල්ල විනාශ වී ගිය පසු මහා විහාරයද බිමට සමතලා කර උදුවපුරන්නටත් ක්‍රියා කල පසුව බුද්ධාගම ලෙසින් මේ ලක්දිව තුල ඉතිරිවූයේ බුදුඝෝෂ හිමියන් විසින් ලියූ පාලි අටුවාපොත් පමණි. ඉන්පසුව අනුරපුර යුගයේත් පොලොන්නරු යුගයේත් විවිධ අටුවා ලියූ හා ඒවාටම ටිකා ලියූ ටිප්පනී ලියූ සම්මත ලියූ පාලි හා සිංහල අර්ථ කථා කරුවන් හැම කෙනෙකුම වාගේ භාවිතා කලේ ගුරු කොට ගත්තේ බුද්ධ ඝොෂ හිමියන් විසින් ලෞකික අර්ථයොදා වැරදි ලෙසින් පරිවර්ථනය කර ලියා ඉදිරිපත් කරන ලද පාලි විශුද්ධි මාර්ගය ඇතුළු පොත් පත් මිස නියම නිවැරදි බුද්ධ ධර්මය නම් නොවේ. මේ අනුව පොලොන්නරු යුගය වන විට සම්පූර්ණයෙන්ම පිරිසිදු බුද්ධ ධර්මය වෙනස් වී නිවන් දැකීම යනු පැතීමකට පමණක්ම සීමා වී ඉන්දීයාවේ එදා පැවැති ආගම් සංකල්පයන් හෙළදිව පුරාමත් තදින්ම පැතිරී යන්නට විය. නිවන් දකින්නට උපකාර වු උතුම් බුද්ධ ධර්මය සහමුලින්ම ආගම් සංකල්ප වලින් යටපත් වී අභාවයටම ගියේය. බුද්ධාගම නමින් අදහන්නට යමක් පමණක් ඉතිරිවිය. මේ අනුව ඉන්දීය ආගම් සංකල්ප වල හා දේව ආගම් වල හා ඇදහු ඇදහිලි පුද පුජා, ගායනා, ශාන්තිකර්ම ආශිර්වාද පූජා ආදී විවිධ දේ පොදු ලාංකික මහ ජනයා අතරේද ප්‍රචලිත වන්නට පටන් ගත්තේ මහා විහාරයේ ගබඩා කර තිබූ හෙළ පොත් පත් ගිනිබත් කර විනාශ කිරීමත් සමගමය. අභයගිරි විහාරයේ වාසය කළ මහායානිකයෝ



තරඟය ජයගත්හ. මහා විහාරිකයෝ සහමුලින්ම විනාශ වී ගියහ. නිවන් දකින පිරිසිදු බුද්ධ ධර්මයත් හෙළ බසින් සරළ ලෙසින් ලියා තිබුත් හෙළ අටුවාත් විනාශ වී ගොස් දේව ආගම් සංකල්පවලට බර ආමිස පුජා සහිත වූ බුද්ධාගමක් පමණක් හෙළබිම ලංකාවාසීන්ටද ඉතිරිවිය. උරුම විය. නිවන් දකින්නට පිරිසිදු උතුම් බුද්ධ ධර්මය අනුගමනය කරන පිරිස වනගත විය. දේව ආගම් සංකල්ප ඇදහූ අභය ගිරියට සම්බන්ධ මහායානික පිරිස රජමාලිගාව වටා රොක් විය. රජ සැප සිටු සැප වලටත් වඩා සැප පහසුකම් ලැබූ ජීවිතයක් ගත කරන භික්ෂුන් පිරිසක් එදා අනුරපුර රාජධානියේදී ලංකාවේද බිහිවිය. පොළොන්නරු යුගය වන විට මේ තත්ත්වය තව තවත් දරුණු තත්වයට පත්විය. බුද්ධාගම සහමුලින්ම ලෞකික දේව ආගම් සංකල්ප වලට යට වී උතුම් බුද්ධ ධර්මය ක්‍රමානුකූලව අභාවයටම ගිය බවත් ඉතාම පැහැදිලිය. පූජා වලිය කව් සිළුමිණ බුත්සරණ වැනි බෞද්ධ සාහිත්‍ය පොත්පත් ලියැවුණේ මේ යුගයේදීය . එවැනි පොත් පත් බෞද්ධ සාහිත්‍ය ඉතිහාසයේ නම් ස්වර්ණමය යුගයයේදී ලියූ පොත්පත්ය. බෞද්ධ සාහිත්‍ය බෞද්ධ සංස්කෘතිය බෞද්ධ කලා ශිල්ප ආදිය මේ යුගයේදී ඉතාමත්ම දියුණු තත්වයටකට පත්විය. මෙහි නියත ප්‍රතිඵලය වූයේ ආගම් සංකල්ප වලට මුල්තැන දී නිවන් දැකීම යන්න ප්‍රාර්ථනාවක් පමණක් බවට පත්වීමයි. උතුම් බුද්ධ ධර්මය යටපත් වී ඇදහිලි පුද පූජාවලට මුල් තැන දීමයි. ඉන්පසුව ආ යුගයන් හි තව තවත් තත්ත්වය පිරිහී මහනුවර යුගයේදී බුද්ධ ධර්මය සම්පූර්ණයෙන්ම නැති වී අභාවයටම ගිය බවද පෙන්වා දිය යුතුය.

## 12. අනුරපුර රාජධානිය ආරම්භ වීමට පෙර හෙළබිමේ පැවැති ශ්‍රී විභූතිය.

අනුරාධපුර රාජධානි යුගයේ විවිධ අවස්ථාවලදීත්, ඊට පෙර ප්‍රාග් විජය යුගයේදී දේව හෙළයේ පැවැති ඉතාම දියුණු රාජ්‍යය යුගයන් වලදීත්, රුහුණේ සහ නැගෙනහිර ප්‍රදේශවල පැවැති දියුණු රාජධානි වලදීත්, හෙළ බසින් හා මාගධි බසින් ලියා එතෙක් රැකගෙන තිබූ බොහෝ වටිනා පොත්පත් හා ලිපි ලේඛන මේ රටේ අතීතයේ විසූ උගතුන් හා වියතුන් අතරේ පරිශීලනය විය. එවැනි පොත් පත් එදා හෙළ දිව පොත් ගුල් වලද ගබඩා කර තිබුණි. මේ පොත් පත් සියල්ලම වාගේ රටට එල්ල වූ විවිධ දේශපාලනික හා සංස්කෘතික ආක්‍රමන වලදී කිහිප අවස්ථාවකදීම ගිනිබත් කර විනාශ කර දැමූ බවද අපේ ඉතිහාසයම පෙන්වා දෙයි.

මුල්ම සුර- අසුර යුද්ධයේදී, රාම රාවණා යුද්ධයේදීත් විජයගේ ආක්‍රමණ වලදීත්, මෙවැනි විශාල විනාශයන් සිදුවීය. මාඝ හා පණ්ඩව සොලි ආක්‍රමණ  වලදීත් ඉන් පසුව දකුණු ඉන්දියාවේන් එල්ලවූ විවිධ ආක්‍රමණ වලදීත් අපේ රටේ ලියා පලකරන ලද වටිනා පොත් පත් විනාශ වී ගියේය. මහායානික , හීනයානික මතභේද නිසාත් වටිනා පොත් පත් බොහෝමයක් විනාශ විය. ලංකාපුරයට අනුරාධ පුරයට එදා හෙළ දිව අගනගරය ගෙන යන්නට පෙර මෙම හෙළ දිවේ ඉතාමත්ම දියුණු නගර හා ගම් පිහිටා තිබුණේ නැගෙනහිර වෙරළ තීරයේ, රුහුණේ සහ රට මැද ප්‍රදේශවලය. රජගහනුවර අගනුවර කොට ගත් මගධ රාජ්‍යයද (අද අම්පාරේ රජගල) විශාලා මහනුවර කොට ගත් ලිච්ඡවි රාජ්‍යයද (අද යාල අභය භූමියට යට වු ප්‍රදේශය) කැගල්ල රත්නපුර මෙන්ම මහනුවර



ප්‍රදේශයන් අයත් වූ රාවණා රජ පරපුරට අයත් රාජධානියද, කසී රට බරණාසී නුවර පිහිටි රාජධානියද (අද වවුනියාව, මුලතිව් ප්‍රදේශය) සැවැත් නුවර අගනගරය කොටගත් කෝසල රාජධානියද,(අද රිටිගල ප්‍රදේශය) එදා හෙළ දිව බලවත්ම රාජ්‍යයන් විය.

කිඹුල්වත් නුවර අගනගරය කොට ගත් ශාක්‍ය රාජධානිය පිහිටියේද අද මහවැලි ගඟට දකුණෙන් පිහිටි දිඹුලාගල ප්‍රදේශයේය. මෙවන් වූ දියුණු ඉතිහාසයක් සහමුලින්ම වැසී යටපත් වන්නට  හේතු භූත වූ මූලික කරුණුද අප සොයා බැලිය යුතුය.

ලංකා ඉතිහාසය යැයි අද අප සම්මතයෙන් ඉගෙන ගන්නා පිළිගත් ඉතිහාසය ලෙසින් පොත්වල ලියා තැබූ, අප දන්නා වූ ලංකා ඉතිහාසය නිර්මාණය කර අපට උරුම කර දෙන ලද්දේ, එවකට සිටි ඉංග්‍රීසි පාලන මහත්වරුන් විසින්ය. ඉන්දියාවේ මෙන්ම ලංකාවේද එදා පාලනය භාරව සිටි සමහර සුදු සිවිල් නිළධාරි මහත්වරු ලංකා ඉතිහාසය ලිවීමේ කාර්යයෙහිද යෙදුනාහ. කෑගල්ලේ සහකාර දිසාපති ධූරය දැරූ ජෝර්ජ් ටර්නර් සහ ජේම්ස් ප්‍රින්සස්, ස්ට්‍රෝන්ග් රීස් ඩේවිස් කනිංග්හැම් මෙන්ම විශේෂයෙන්ම කොඩ්රිංග්ටන් හා එච්. සී. පී. බෙල් වැනි සුදු සිවිල් නිළධාරි මහත්වරු ඔවුන්ට තේරුම් ගන්නට හැකි වූ පරිදි පොතපතින් කියවා ඔවුන් ලැබූ අල්ප දැනුම අනුව ලංකා ඉතිහාසයක් ලියා අටවා අමුණා නිර්මාණය කර අපට භාර දුන්හ. පසුව පොත් ලියූ සිංහල උගතුන්ද මහා චාර්යවරුන්ද බටහිර මතයන්ටම ගරු කළ නිසා ඉංග්‍රීසීන් විසින් නිර්මාණය කර දුන් ඉතිහාසය දෙස විමර්ශනාත්මකව බැලුවේ නැත. යමෙකු එසේ මැදිහත්ව විමර්ශනාත්මකව බලා යම් පර්යේෂණාත්මක ස්වාධීන මතයක් ඉදිරිපත් කළේ නම් එවන් මත වලට

විරුද්ධ වීමට නම් ඔවුන් වග බලා ගත්හ. සුදු මහත්වරුන් පෙන්වා දුන් මතය රැක ගැනීමත් ඊට විරුද්ධව එන මත වලට විරුද්ධ වීමත් අපේ ඉතිහාසඥයින්ගේ හා පුරා විද්‍යාඥයින්ගේ රාජකාරිය විය. අදටත් එය එසේම වෙමින් පවතී.

"විජය රජුට පෙර මේ හෙළබිමේ ඉතාමත්ම දියුණු රාජ්‍ය සමයන් පැවතියේය. " යන්න මේ උගතුන්ට පිළිගන්නට නොව සිතා ගන්නට බැරි තරම් අභ්‍යව්‍ය මතයන් සේ බැහැර කිරීම ඔවුන් පුරුද්දක් කොට ගත් බව නම් ඉතාම පැහැදිලිය. අරිසෙන් අහුබදු මහතා, සූරිය ගුණසේකර මහතා මෙන්ම මහාචාර්ය පරණවිතාන මහතාද තවත් බොහෝ අයද වරින් වර මෙවැනි විමර්ශනාත්මක මත එල කළත් අපේම උගත්තු ඒවාට විරුද්ධව රාජ්‍ය බලය හා ආගමේ බලය යොදාගෙන ඒ මැදහත් මත යටපත් කර දමන්නට තරම් සැහැසි වූහ. පරම සත්‍ය සොයා ගන්න නම් කිසිවෙකුවත්ම අවංකවම උත්සාහයක් නම් ගත්තේම නැත. ඒ සමාජ සම්මත බලවේග වලට , ලාභ ප්‍රයෝජනවලට යටත් වීම නිසාය. සත්‍යය එළි දක්වන්නට යමෙකු උත්සාහ දරණ හැම අවස්ථාවකම එවැනි නව මත දරන්නන්ව නිර්දය ලෙසින් විවේචනය කර සත්‍ය යටපත් කරන්නට නම් බොහෝ අය ඉදිරිපත් වූහ. අදත් රටේ එවැනි ගිහි පැවිදි අය නම් බහුලය.

නිවැරදි ලෙසම දින වකවානු ඉදිරිපත් කරන්නට බැරි වුනත්, අනුරපුර රාජධානියේ මුල්ම යුගයේදී, දුටුගැමුණු මහරජතුමාගේ රාජ්‍ය කාලයට පසුව "මහා වංශය " නම් හෙළ බසින් ලියූ අපේම හෙළ ඉතිහාස පොතත් සිංහල ගත් කතුවරයෙකු විසින් හෙළ බසින් ලියා එලකරනු ලැබ



තිබිණි මෙය ඉතිහාස තොරතුරුද අඩංගු ප්‍රශස්ති රචනාවකි. එදා රජකම් කළ සිංහල රජවරුන්ගේ ක්‍රියාකාරකම් හා හැකියාවන් ප්‍රශස්ති ලෙසින් වර්ණනා කිරීම මේ හෙළ මහා වංශයෙන් එදා සිදුවී තිබේ. නමුත් මෙය පසු කලක වටිනා ඉතිහාස පොතක් බවටද පත්විය.

මේ හෙළ බසින් ලියූ මහා වංශය ලිවීමෙන් වසර 300කට පමණ පසුව කාලයකදී අද අපට මහා වංශය නමින් කියවන්නට ඇති පාලි බසින් ලියූ ,පාලි මහා වංශය" ලියා එළි දැක්වීය. මුලින් හෙළ බසින් තිබූ මහා වංශය ආශ්‍රයෙන් ම එහි පාලි පරිවර්ථනයක් ලෙසින් පාලි බසින් ලියූ පොතක් වන මේ පාලී මහාවංශය රචනා කල මහානාම හිමියන්ගේ පෞද්ගලික මතයන්ද පාලි මහා වංශයට ඇතුලත් කර ඇත. මහානාම හිමියන්ගේ සිත් ගත් රජවරුන් පිළිබඳව දීර්ඝ ලෙසින් වර්ණනා කර ඇති අතර සමහර රජවරුන් පිළිබඳව ගාථා කිහිපයකින් යාන්තමට පමණක් සඳහන් කර ඇත.

දීපවංශය නමින් ද හෙළ ඉතිහාස පොතක් පාලි බසින්ම ලියා තිබූ අතර අදටත් අපට මේ දීප වංශයද (පාලි) පරිශිලනය කරන්නටත් ඉතිරි වී ඇත. මේ දීප වංශයද ලියා ඇත්තේ මුල්ම සිංහල (හෙළ) මහා වංශය ලියුවාට පසු යුගයේදීය. නමුත් පාලි මහා වංශය ලියන්නට නම් පෙර යුගයකදීය. දීප වංශය ලියූ කතුවරයාද මුල්ම සිංහල (හෙළ) මහා වංශය කියවා එහි අදහස් ද ලබා ගෙන පාලි දීප වංශය ලියා ඇති බවද පෙනේ.

අනුරාධපුර යුගයට පසු පොළොන්නරු යුගයේ අගභාගයේදී හෝ ඊටත් පසු කාලයකදී හෝ ලියැවුණු ධාතු වංශය, ථූප වංශය හා බෝධි

වංශය යැයි තවත් වංශ කථා පොත් තුනක්ද අද අපට කියවා ගන්නට ඉතිරි වී ඇත. නමුත් මේ පොත් ලියැවී ඇත්තේ දඹදෙණි යුගයේදී බව බොහෝ අය විශ්වාස කරති. සිංහල මහා වංශය ලියූ ආදී යුගයේම ලියූ තවත් හෙළ වංශ කථාවක් පිළිබඳව තොරතුරු අසා දැනගන්නට ඇතත් අද මේ වැදගත් ඉතිහාස පොත අස්ථාන ගත වී ඇත. “උත්තර වංශය” නැමැති මේ ඉතිහාස පොත මගින් අනුරාධපුර ඉතිහාසයත් ඊට පෙර යුගයන්හි පැවැති හෙළ රාජධානී ගැන යම් යම් තොරතුරු සඳහන් කර තිබීම නිසා මේ ඉතිහාස පොත හිතා මතාම අස්ථාන ගත කළේද විනාශ කර දැමුවේද, යන්න අපට තවමත් හිතා ගත නොහැකිය. උත්තර වංශය ලියා දැක්වූයේ බුද්ධ ධර්මයේ ඉතිහාසයයි. විශේෂයෙන්ම මෙහි අතීත බෞද්ධ ඉතිහාසය ලියා තැබූ නිසා එය “උත්තර වංශය” යන නමින් ම හැඳින්වීය. උත්තර වංශය නැමැති හෙළ බෞද්ධ ඉතිහාසය ලියා තැබූ මෙම පොත මහනුවර යුගය දක්වාම භාවිතයේ පැවැති බවට සාධක රාජාවලිය නම් පොතක් ලියූ කතු වරයාද එහි සඳහන් කරයි. රාජාවලිය ලියුවේ මහනුවර යුගයේදීය. සුදු මහතුන් ලියූ ඉතිහාසයට වඩා වෙනස් තොරතුරු සඳහන් වූ නිසා මේ “උත්තර වංශය” නැමැති පොත හිතා මතා අස්ථාන ගත කරන්නට ඇත. යන මතයක්ද අද පවතී.

කෙසේ වෙතත් අද අපට කියවන්නට ඇති අපේ අතීත හෙළ ඉතිහාසයේ අසම්පූර්ණ වූ, පැලැස්තර දමා අමුණාගෙන නිර්මාණය කර ගත්තා වූත් හෙළ ඉතිහාස කථාවකි. විශේෂයෙන්ම දුටු ගැමුණු මහා රජතුමාට පෙර ලංකා ඉතිහාසය මේ අයුරින් කෘතිමව නිර්මාණය කර ගත් අනුමාන තොරතුරු වලින් ගහනය වී ඇත. අපේ අතීත හෙළ ඉතිහාසයේ පැවැති ස්වර්ණමය යුගයන් කාලයේ වැලිතලාවෙන් වැසී යටපත් වී ගොස් තිබුණත් ඒවායේ නටඹුන් මේ හෙළබිම තුළ අදටත් අපට



සොයා ගන්නට ඉතිරි වී ඇති නිසා හෙළ බිම ඉතිහාසය සහමුලින්ම වසා දමා නිහඩ වී සිටිය නොහැකිය. අද මේ පොත ලියා එළි කරන්නට මාස 15කට පෙර එනම් 2009 පොසොන් මාසයේදී මා විසින්ම ලියා එළි දැක්වූ මෙහි පළමුවැනි පොතේ “අප උපන් මේ හෙළබිම බුදුන් උපන් ජන්බුද්වීපයයි” පෙන්වා දුන් පරම සත්‍යයන් සහතික කර පෙන්වන්නට උපකාර වූ සොයාගැනීම් රාශියක් පසුගිය මාස 15ක සුළු කාලය තුළදී මේ හෙළබිමේම විවිධ ප්‍රදේශ වලින් විවිධ පුද්ගලයින් විසින් මතුකර සොයා එළි දක්වා පෙන්වා දෙන ලදී.

මෙසේ සොයා මතුකර ගත් නටඹුන් හැම එකකින්ම වාගේ සහතික කරන්නේ, පෙන්වා දෙන්නේ, බුදුන් බුද්ධත්වයට පත් වූ එදා පැවැති හෙළබිම පිළිබඳව සත්‍යය තොරතුරුය. පසුගිය මාස 15ක පමණ සුළු කාලයක් තුළදී පමණක් අපේම පරීක්ෂකයින් විසින් පුරාවිද්‍යාඥයින් විසින් හෝ වෙනත් පුද්ගලයින් විසින් අහම්බෙන් හෝ සොයා මතුකර ප්‍රසිද්ධ කරන ලද ඓතිහාසික තොරතුරු ප්‍රමාණය අති විශාලය මෙසේ සොයාගත් සියළුම දේවල් විජය රාජ සමයටත් පෙර, එනම් අනුරාධපුර රාජධානිය පටන් ගන්නටත් පෙර අතීත රාජ්‍ය යුගයන්ට අයත්වීම මෙහිදී විශේෂයෙන් සලකා බැලිය යුතු කරුණකි. මේ සියළුම පුරා විද්‍යා තොරතුරු ගෞතම බුදුපියාණන් උපන් බුද්ධත්වයට පත්වූ බුද්ධ යුගයට අයත් ඒවා හෝ ඊට පෙර යුගයන්ට අයත් ඒවාය. මේ සියල්ලම ධර්මතාවයෙන්ම නිසි කලට මතුවී හෙළබිමේ ඉතිහාසය පිළිබඳව සත්‍ය හෙළි කරන්නට උපකාරක වන පරිදි මතු වූ බවද පෙන්වා දිය යුතුය. මේ සියල්ල මතු වූයේ ජන්බුද්වීපයෙන්මය.

1. 2009 නොවැම්බර් මාසයේදී පමණ ලංකාවේම පුරා විද්‍යාඥයින්

පිරිසක් විසින් අනුරාධපුර නගරයට ආසන්නයේදී කරන ලද කැණීම් වලදී මතු කර ගන්නා ලද පැරණි විශාල නගරයක නටඹුන් මෙහිදි මතුකර ගත් පුරා වස්තු කි.පු. 600 පමණ කාලයට අයත් බව එනම් බුදුන් උපන් යුගයට අයත් වූ බව සහතික කර ඇත. ගෞතම බුදුපියාණන් වහන්සේ ක්‍රි.පූ. 589 දී පමණ බුද්ධත්වයට පත් වී පළමු ධර්ම දේශනාව පවත්වන ලද්දේ මේ නටඹුන් සොයාගත් පැරණි නගරයට තරමක් ආසන්නයේ පිහිටි ඉසිපතනාරාමයේදීය. අද මැද වච්චිය අසල පිහිටි ඉසින්බැස්සගල රජ මහා විහාර භූමිය එදා ඉසිපතනාරාමය විය. මෙසේ සොයාගත් නටඹුන් හා තොරතුරු දේවානම්පියතිස්ස රජුගේ පාලන යුගයටත් පෙර, විජය රජු ලංකාවට පැමිණෙන්නටත් පෙර යුගයක පැවැති දියුණු නගරයකට අයත් වන නටඹුන්ය. ලංකාපුරය නමින් එදා ප්‍රචලිත වූ අනුරාධපුර නගරය දේවානම්පියතිස්ස රජු විසින් ගොඩනැගූ බව මහාවංශයේ සඳහන් වෙතත් මේ පැරුණි නගරයන් ගැන මහා වංශයේ සඳහන් නොවන්නේ ඇයි? මහා වංශය ලියන යුගය වන විට මේ නගර වලට සිදු වුයේ කුමක්ද?

2. මුලතිව් හා වව්නියාව දිස්ත්‍රික්ක වලට අයත් මහඝණ වනාන්තර ප්‍රදේශ වලින් ශ්‍රී ලංකා යුධ හමුදාව විසින් මෑතකදී සොයාගත් අති පැරණි පූජා භූමි ගණනාවකම නටඹුන් එදා පැරණි කසීරටට අයත් ප්‍රදේශ වලින් හමු වූ මෙම පැරණි නටඹුන් බුද්ධ කාලයට අයත් බෞද්ධ සිද්ධස්ථාන බවද දැනට හඳුනාගෙන ඇත. මේවා විජය රජු ලංකාවට පැමිණෙන්නටත් පෙර යුගයකට අයත් ඒවා නිසා හෙළබිම පිළිබඳව ඉතිහාසය අළුතින් යළි ලියන්නටම මතු වූ සාධකයන්ය.

3. ඇඹිලිපිටිය ආසන්නයේ "රංචාමඩම " නම් ස්ථානයේ මෑතකදී හමු වූ



අති පැරණි පුරාවස්තු හා විශාල පැරණි නගරයක නටඹුන් මෙහිදී හමු වූ පුරාවස්තු අනුරාධපුර රාජධානියට වඩා වසර දහසක් තරම් පැරණි බව දැන හඳුනා ගෙන ඇත. මේ අනුව අනුරපුර රාජාධානිය පටන් ගන්නටත් පෙර රුහුණේ හා දකුණේ දියුණු නගර හා ගම් පැවැති බවට මෙයද හොඳම සාක්‍ෂයකි. ගෞතම බුදුපියාණන් එදා ක්‍රි.පූ. 543 දී පිරිනිවන් පා වදාළේ මේ රංචමඩම ප්‍රදේශයට තරමක් කිට්ටුවෙන් පිහිටා ඇති බුදුගල කුසිනාරාවේදීය.

4. සේරුවාවිල හා සෝමාවතී පුදබිම් සම්බන්ධ කරමින් අලුතින් පාරක් කපන්නට ගිය ශ්‍රී ලංකා යුද්ධ හමුදාවට 2009 අග භාගයේ දී හමු වූ බුදු සිරිපතුල් හා වෙනත් පුරා වස්තුඃ- මේ ප්‍රදේශය එදා ශාක්‍ය රාජවංශය විසින් පාලනය කරන ලද කිඹුල්වත් පුර රාජධානියට අයත් බිම් ප්‍රදේශයන්ය. මේ බුදුසිරිපතුල් හා වෙනත් නෂ්ඨාවශේෂ පැරණි ශාක්‍ය රාජ යුගයට අයත් ඒවාය.

5. වාකරෙයි හා වෙරුගල් අතර නැගෙනහිර ප්‍රදේශයන් 2010 ජුනි මාසයේදී පමණ හමු වූ අක්කරයක පමණ විශාල රජ මාලිගාවක නටඹුන් අද ඉලච්චලන්පත්තුව නමින්ද එදා කොට්ටියාරම් නුවර නමින්ද ප්‍රසිද්ධ වූ මේ ප්‍රදේශය අතීතයේ අමිතෝදන රජු විසින් පාලනය කරන ලද ශාක්‍ය වංශික රාජධානියකි. මෙහිදී හමු වී ඇති මාලිගාව එදා අමිතෝදන රජුගේ මාලිගාව විය හැකිය. අමිතෝදන රජු සුද්ධෝදන රජුගේ සොහොයුරෙකි. මේ ප්‍රදේශ වල එදා දේව හෙළයට අයත් දියුණු රාජධානි පැවැති බවට හොඳම සාක්ෂි මෙයින් මතු වෙයි. කොට්ටියාරම යනු කෝටියක් ආරාම තිබු ප්‍රදේශයයි. බුදුපියාණන්ගේ උපන් ගම වූ කපිලවස්තු පුරයට එදා අයත් වූ කොට්ටියාරම් නුවර ඒ කාලයේ බෞද්ධ ආරාම කෝටියක් පමණ තිබූ

බවට මෙයද සාක්ෂියකි. කොටිය යන මාගධි පදයේ තේරුම කෙළවරක් නැති යන අර්ථයයි.

6. 2010 ජූලි මාසයේ දිනක පුරා විද්‍යා දෙපාර්තමේන්තුව විසින් පුවත්පත් සාකච්ඡාවක් පවත්වා හෙළබිම පිහිටි විශාලතම පුරාවිද්‍යා නටඹුන් සහිත බිම පිළිබඳව කරන ලද විග්‍රහයක් අක්කර 1600 කටත් වැඩි භූමි ප්‍රදේශයක් පුරා විසිරී පැතිරී පවතින මේ නටඹුන් එදා ගෞතම බුදුපියාණන් විසින් තම මුල් කාලයේ වැඩවාසය කරන ලද රජගහ නුවර නටඹුන්ය. අද මේ ස්ථානය "රජගල" නමින් හැඳින්වුවත් එදා එය රජගහනුවර නමින් ත්‍රිපිටකයේ හා මහාවංශයේද සඳහන් කරන ලද පැරණි බෞද්ධ නගරයයි. ගෞතම බුදුපියාණන්ට බිම්බිසාර රජතුමා විසින් අත්පැන් වත්කොට පූජා කරන ලද වේළුවනාරාමයත් ඒ ආශ්‍රිත බෞද්ධ නටඹුන් සහිත ස්ථාන 28කුත් රජගලින් දැන් මතුවී ඇත. දැනට පුරා විද්‍යා දෙපාර්තමේන්තුව විසින් මෙහි අක්කර දහයක පමණ සුළු ප්‍රදේශයක කැනීම් කර සොයාගත් පුරාවස්තු ප්‍රමාණය ගැන සලකා බලන විට අක්කර 1600ක් වැනි විශාල ප්‍රදේශක මොන තරම් තවමත් සොයා නොගත් පුරාවස්තු ඇද්දැයි තවම කාටවත්ම හිතාගත නොහැකිය.

7. රජගහ නුවරට - රජගලට - දකුණෙන් පිහිටි "නෑල්ල" (අම්පාර) පුරා විද්‍යා නටඹුන් , මෙයද රජගහ නුවරට පූජා භූමියේම කොටසක් බව පෙන්වා දිය යුතුය. අද බුද්ධංගල පුරාවස්තු ඇත්තේද "නෑල්ල" යන ස්ථානයටම සමීපයේය. ඉතා ඈත අතීත යුගයකදී නෑල්ල යන ස්ථානයට "දීඝවාපිය" යන නම ව්‍යවහාර කරන ලද බවත් එය මුල්ම දීඝවාපිය බවත් සමහරුන්ගේ මතයයි. මුළු දිගාමඩුල්ල ප්‍රදේශයම එදා බුදුන් වැඩසිටි යුගයේ ඉතාම දියුණු තත්වයක පැවතුණු මගධ



රාජධානියයි. මගධ රාජධානියට අයත් බෞද්ධ පුරාවස්තු අම්පාර ප්‍රදේශයෙන් දැන් දැන් විශාල වශයෙන්ම මතුවෙමින් පවතී.

මගධ රටේ රජගහ නුවර යනු බුද්ධත්වයට පත් වූ ගෞතම බුදුපියාණන් වහන්සේ මුල් වසර 25ක් පමණම කාලයක් වාසය කළ එදා ලෝක බෞද්ධ මධ්‍යස්ථානයයි. බුදුපියාණන් ජීවත් වූ සමයේත්, අනුරාධපුරයේ රාජධානියක් පැවැති සමයේත් වසර 800ක් පමණ දීර්ඝ කාලයක් පුරාවටමත් බෞද්ධ ලෝකයාගේ මුල්ම බෞද්ධ විද්‍යා ස්ථානය වූයේ (මුල්ම බෞද්ධ විශ්ව විද්‍යාලය) මේ රජගල වේළුවනාරාමයයි. එදා ලෝකයා බුද්ධ ධර්මය ඉගෙන ගත්තේ රජගහ නුවර නම් වූ මේ ස්ථානයේදීය.

8. ගෞතම බුදුන් පිරිනිවන් පා වදාළ බුදුගල කුසිනාරා නුවර ආසන්නයේ කොස්ලන්ද හා හල්දුම් මුල්ල කඳු බෑවුම් පාමුල 2010 අගෝස්තුවේදී හමු වූ ඉපැරණි සොහොන් කොත් සමූහය හා ඒ ආශ්‍රිත නටඹුන් මේවාද මල්ලව රටේ රජදරුවන්ට අයත් සොහොන් කොත් හෝ ඒ ආශ්‍රිත දේවල් බව පෙන්වා දිය හැකිය. බුදුගල කුරගල ආශ්‍රිත කඳුබෑවුම්වල පිහිටි ගල්ලෙන් හා නටඹුන් තවදුරටත් පර්යේෂණය කළ යුතුව ඇත. එදා දේව හෙළය නමින් ප්‍රසිද්ධ වූ බුදුන් උපන් දීපය ජන්බුද්වීපය තුළින් දැන් මේ ආකාරයෙන් මතුවන පුරා විද්‍යා නටඹුන් පිළිබඳව අපේ විද්වතුන් මීට වඩා සැලකිල්ලෙන් කටයුතු කර මේවා පිළිබඳව නිවැරදිව හා මධ්‍යස්ථ මත ඉදිරිපත් කරන්නේ නම් වඩාත් යහපත්ය. ඉංග්‍රීසීන් විසින් අපට උරුම කර දුන් වැරදි ඉතිහාස නිගමන වලින් බැහැර වී නිදහසේ සිතන්නටත් දැන් කාලය පැමිණ ඇත.

1970 - 2006 දක්වා කාලය තුළ විවිධ බටහිර රටවල විවිධ පුරා විද්‍යා ගවේෂකයින් විසින්, පර්යේෂකයින් විසින්, ලංකාවේදී හා ලෝකයේ වෙනත් පැරණි ඓතිහාසික තොරතුරු ඇති රටවලදිත් කරන ලද විවිධ පර්යේෂණ වලින් සොයාගත් තොරතුරු පිළිබඳවද අප විමසිලිමත් විය යුතුය. මේ හෙළබිම හා සම්බන්ධ වු අප මවිතයට පත් කරවන බොහෝ සත්‍ය තොරතුරු මෙම ඇමෙරිකන් හා ජර්මන් පර්යේෂකයින් විසින් සොයා මතුකර ගනු ලැබුවද ඔවුන් ඒවා ප්‍රසිද්ධියට පත් කළේ නැත. නමුත් මේ පර්යේෂකයින් විසින්ම මේ සම්බන්ධ වූ යම් යම් තොරතුරු විවිධ අවස්ථාවලදී හෙළිදරව් කළ අවස්ථාවන්ද ඇත. මෙසේ සොයාගත් බොහෝ තොරතුරු අනුරාධපුර යුගයට පෙර හෙළබිමේ අතීත රාජ්‍ය යුගයකට අයත්වීම එසේත් නැතිනම් අතීත හෙළබිමට (ක්‍රි.පු. 600- 3000) කාලයට සම්බන්ධ වීමද අප විසින් සලකා බැලිය යුතු කරුණකි. අපේ අතීත හෙළබිම පිළිබඳව බොහෝ වැදගත් තොරතුරු අපට වඩා ඔවුන් දන්නා බව නම් සත්‍යයකි.

## 13. බුද්ධ වන්දනාව හා බුදු පිළිම වන්දනාව

ක්‍රි.පු. 589 දි ගෞතම බුදුපියාණන් ලෝකයාට බුද්ධ ධර්මය දේශනා කරන්නට ආරම්භ කළ දිනයේ පටන් ඉන්දියාවේ රජකම් කළ කණිෂ්ක රජුගේ රාජ යුගය දක්වාම වූ වසර 650ක් පමණම තරම් දිගු කාලයක් ඇතුළත බෞද්ධ ලෝකයා අතරේ බුදු පිළිම වන්දනා කිරීමේ සිරිතක් හෝ චාරිත්‍රයක් හෝ පැවතුණේම නැත. පිරිසිදු බුද්ධ ධර්මයට අනුව “රූපය” දිරා යන, අනිච්ච වූ දෙයක් නිසා රූපය වන්දනා මාන කරන්නට තරම් වටිනා හෝ සුදුසු හෝ දෙයක් ලෙසින් බුද්ධ ධර්මයේ



පෙන්නා දුන්නේ නැත. මේ අනුව මුල්ම බුදු සමය තුළ ගෞතම බුදුපියාණන්ගේ හෝ වෙනත් කිසිම බුද්ධ ශ්‍රාවකයෙකුගේ හෝ පිළිමයකට වැඳුම් පිදුම් කළ බවක් නම් පෙනෙන්ටද නැත. ඉන්දියාවේ එදා අශෝක මහරජ විසින් කෘතිමව නිර්මාණය කරගත් ආකෘති බුද්ධ රාජ්‍යයේවත් ඒ යුගයට අයත් වන කිසිම බුදු පිළිමයක් හෝ බුද්ධ ශ්‍රාවකයෙකුගේ පිළිමයක් හෝ වන්දනා මාන සඳහා එදා යොදාගත් බවක් පෙනෙන්නට නැත.

ලෝකයේ පළමු වරට බුද්ධ රූපයක් භාවිතා කළ බව දකින්නට ඇත්තේ ඉන්දියාවේ රජකම් කළ “කණිෂ්ක” රජුගේ රාජ සමයේදීය. එයද රටේ වෙළදාම සඳහා භාවිතා කළ රන් කාසියක එක පැත්තක බුදුරුවක් සටහන් කර භාවිතා කර තිබීමයි. මේ අනුව අපට හමු වී ඇති මුල්ම බුද්ධ රූපයද භක්තියෙන් හෝ ගෞරවයෙන් වන්දනා මාන කිරීම සඳහා භාවිතා කරන ලද්දක් නොව ලෞකික වාණිජ කටයුත්තක් සඳහා භාවිතා කළ එකක් බවද තේරුම් ගත යුතුය.

කණිෂ්ක රාජ යුගයට පසුව කි.ව. 3 වන සියවසේදී පමණ ඉන්දියාවේ කුෂාන් රජ පරපුර පැවැති යුගයේ ඉන්දියානු මහායාන බුද්ධාගමේ බෞද්ධයින් විසින් පළමු වරට බුදු පිළිමවලට වන්දනා මාන කරන්නට පටන්ගත් බව පැහැදිලිය. පසුව මිථුරා, ගාන්ධාර, අමරාවති, නාගර්ජුනකොංඩ වැනි ස්ථාන වලත් ඊට පසුව 5 වැනි සියවස පමණ වන විට නාලන්දා , වෙල්ලෝරා වැනි ස්ථාන වලත් මේ සමගම ලංකාවේ හා ලෝකයේ බොහෝ පෙරදිග රටවලත් බුදු පිළිම නෙලා බුදුපිළිම වලට වැඳුම් පිදුම් කරන්නටත් පටන් ගත් බව පෙනේ.

මෙම බුදු පිළිම වන්දනාව පැහැදිලිවම දේව ආගම් සංකල්ප වල ආභාශයෙන් බුද්ධාගමට ඇතුළු කරගත් සංකර ආගම් සංකල්පයකි. ග්‍රීකයින් ඉන්දියාව පාලනය කළ සමයේ බොහොමයක්ම බටහිර දේව ආගම් සංකල්පයන් ඉන්දියාව තුළඳ ප්‍රචලිත විය. ග්‍රීකයින් ඇපලෝ දෙවියාගේ පිළිමයක් තනා ඊට වන්දනා මාන පවත්වන සිරිතක් එදා භාවිතයේ පැවතිණි. මේ අනුව ඉන්දියාවේදී ග්‍රිකයෝ දේව පිළිම වන්දනාව පටන් ගත්හ. මේ ආභාෂයෙන් ක්‍රි.ව. 2 වන 3 වන සියවස පමණ වන විට ඉන්දියාවේ මහායාන බෞද්ධයෝ බුදු පිළිම වන්දනාවක් ආරම්භ කළහ. ඉන්දියාවේ තැනූ මුල්ම බුද්ධ ප්‍රතිමා වල ඇපලෝ දෙවියාගේ පිළිම වලට සමාන ලක්ෂණ ප්‍රතිරූපණය වන බවද බොහෝ අය පෙන්වා දී ඇත. මාල පැළඳු බුදු පිළිම, රැලි සහිත සිනිදු ඇඳුම් ඇන්ද වූ බුදුපිළිම, හිස සැරසූ බුදු පිළිම ආදිය දේව ආගම් සංකල්ප වලින් ලත් ආභාෂයයි.

මෙම මුල්ම බුදුපිළිම ජෛන මහාවීර නම් ජෛන මුනිවරයෙකුගේ පිළිමයක් බවත් පසුව ජෛන මුනිවරයාගේ පිළිම ආශ්‍රයෙන්ම ගෞතම බුදුන්ගේ යැයි සලකන බුදුපිළිම මහා යානිකයින් විසින් නිර්මාණය කරගත් බවටත් පිළිගත් මතයක්ද ඇත.

ඉන්දියාවේ සිට ලංකාවට බුද්ධාගම ගෙනවාය කියන මතය තහවුරු කරන්නට බලවත් සේම පාදක කරගත්තේද මෙවන් බෞද්ධ සංස්කෘතිකාංගයි. බුද්ධාගම යැයි භක්තියෙන් ඇදහූ ආගමක් එදා අනුරාධපුර යුගය තෙක්ම මේ හෙළබිමේ නොවීය. පිරිසිදු බුද්ධ ධර්මය පිළිවෙතින් පෙළගැසීමක් මිස වැඳුම් පිදුම් පැතුම් යැඳුම් සහිත වූ ඇදහිල්ලක් හෝ ආගමක් හෝ නොවේ. මේ සියලු ආකාරයේ ආගමික සංකල්පයන් ලංකාවට ගෙන ආවේ නම් ඉන්දියාවෙන්ය. මේ අනුව නම් එදා බුද්ධාගම ඉන්දියාවේ සිට ලංකාවට ගෙනාවේය. යන මතයට අපි දු



එකඟ වෙමු. නමුත් නිවන් අවබෝධ කරගන්නට උපකාර වන උතුම් බුද්ධ ධර්මය නම් මේ හෙළ බිමේදීම ගෞතම බුදුපියාණන් විසින්ම වසර හතළිස් පහක් පුරා දේශනා කර වදාළ බුද්ධ ධර්මයයි. එය මේ හෙළ බිමේදීම උපත ලැබූ උතුම් බුද්ධ ධර්මයයි.

බුද්ධ ප්‍රතිමාව වැඳපුදා ගැනීම ආරම්භ වීමත් සමඟම බෞද්ධයාගේ භක්තිය - බුද්ධ භක්තිය- ඇති වූවා වාගේම බෞද්ධයාගේ අනන්‍යතාවයද රැකුණු බවත් පෙන්වා දිය යුතුය. බුද්ධ ධර්මය පිරිසිදු වූ තරමට නිවන් දකින්නට උපකාර වන්නා සේම පරම්පරාවෙන් පරම්පරාවට එය පවත්වාගෙන එන්නට නම් බුද්ධාගම මිස බුද්ධ ධර්මය සමත් නොවන බවත් පෙන්වාදිය යුතුය. ඊට හේතුව බුද්ධ ධර්මය ඒ ඒ පුද්ගලයාම තම තමන්ගේම මනසිකාරය දියුණු කරගෙන පෞද්ගලිකවම අවබෝධ කරගත යුතු දෙයක් මිස ඇදහිල්ලක් නොවන නිසයි. මෙසේ සලකා බලන විට බුද්ධාගම යනු වාහනයක් බඳුය. ඒ වාහනයේම ගෙන ආ බුද්ධ ධර්මය වන පරමාර්ථ ධර්මයම නිවන් දකින්නට උපකාර වෙයි. දැනට වසර 2600කට පමණ පෙර යුගයකදී ගෞතම බුදුපියාණන් විසින් දේශනා කරන ලද උතුම් බුද්ධ ධර්මය රැඳී රැකී පවතින්නේ ලංකාවේදී ලියූ ත්‍රිපිටක බුද්ධ දේශනාවේ තුළ පමණි. සංස්කෘතික අංගයන්, සාහිත්‍යමය අංගයන් හා වෙනත් බොහෝ සැරසිලි සහිත වූ අලංකාර අද්භූත දේ අන්තර්ගත වන්නේ හා අයත් වන්නේ බුද්ධාගමට මිස උතුම් බුද්ධ ධර්මයට නම් නොවේ. සියලුම ආමිස පූජා පෙරහර , උත්සව වැඳුම් පිදුම් පිළිවෙත්, ශාන්ති කර්ම , ආශිර්වාද පූජා ආදිය මෙන්ම සජ්ඣායනා ක්‍රමයන්ද අයත් වන්නේ බුද්ධාගමටයි. බුද්ධ ධර්මය නිවන් දකින්නට උපකාර වන පිළිවෙතින් පෙළ ගැසීමයි. මාර්ග චරියාවයි.

බුද්ධාගමත් විනාශ නොකරම, ඇදහිල්ලක් ලෙසින් අද පවතින බුද්ධාගම නැමති සම්මත ආගම් සංකල්පයන් තුළින්ම, පරමාර්ථ ධර්මය තේරුම් ගැනීම මගින්ම, නිවන් අවබෝධ කරගන්නට උපකාර වන ධම්මානුධම්ම ප්‍රතිපදාව අවබෝධ කර ගැනීම නියම බෞද්ධයෙකුගේ උත්සාහය විය යුතුයි. සම්මතය තුළින්ම පරමාර්ථය දැක ගත යුතුයි.

බුද්ධ යුගයට පසුව වසර 800කට පමණ පසුව ඉන්දියාවේදී ලියූ "දිව්‍යාවදානය, "ලලිත විස්තරය" ආදී සංස්කෘත පොත් වල පළමුවෙන්ම බුද්ධ චරිතයට අදාළ  සිතුවම් ඇඳ මේ දක්වා බුද්ධ රූප හා එවන් සංකල්පයන් ලෝකයාට හඳුන්වා දී ඇත. මේ පොත් ලියා ඇත්තේද අශෝක  යුගයටත් පසුව ආ ශිලාදිත්‍ය රාජ යුගයේදීය. ග්‍රීක හා රෝම කලා ශිල්ප හා සංස්කෘතික අංගයන් මෙන්ම  දේව ආගම් සංකල්පයන්ද බහුල ලෙසින්ම බුද්ධාගම තුළට වැද්ද ගත්තේ මේ යුගයේදීය. මේ දේව ආගම් සංකල්ප හා සංස්කෘතික අංගයන් මෙන්ම දේව ආගම් සංකල්පයන් ද බහුල ලෙසින්ම බුද්ධාගම තුළට වැද්ද ගත්තේ මේ යුගයේදීය. මේ දේව ආගම් සංකල්ප හා සංස්කෘතික අංගයන් හුදී ජන පහන් සංවේගය සඳහා බලවත් සේම උපකාර වූ නිසා ඉන්දියාවේදී ආරම්භ වූ ඉන්දියාවේදී පටන්ගත්, මෙවැනි දෑ අනුරාධපුර රාජධානිය කරාද සංක්‍රමණය වූ බව පෙනේ. මේ අනුව මහායාන බුද්ධාගමේ බොහෝමයක් අංග හා උපාංග ලංකාවේ බෞද්ධ ජනයා අතරද, විශේෂයෙන් ඉන්දියාවේ සිට මෙරටට පැමිණි ප්‍රභූ පිරිස් අතරද ප්‍රචලිත වූ නිසා ඒවා ජනප්‍රිය වන්නට විය. අනුරාධපුර යුගයේ දී අභයගිරි විහාරයේ ආරම්භය මෙහි ප්‍රතිඵලයකි. නිකාය භේදයන්ට මුල්වූයේ ද මෙයයි.

තොලුවිල බුදු පිළිමය, මාලිගාවිල බුදු පිළිමය, අවුකන බුදුපිළිමය, තන්තිරිමලේ බුදු පිළිමය, රැස්වෙහෙර බුදු පිළිමය ආදී



විශාල ප්‍රමාණයේ බුදු පිළිම නෙලීම ලංකාවේ ආරම්භ කළේ 3 වන සියවසට ආසන්න කාලයකදීය. නමුත් රුහුණේ පිරිසිදු බුද්ධ ධර්මය ඒ වන විටත් ආරක්ෂා වූ පූජනීය ස්ථාන වල මෙවන් බුදු පිළිම වන්දනාවක් එදා පැවති බවක් නොපෙනේ.

මේ අනුව සලකා බලන කල අපට අද බුද්ධාගම යැයි අදහන්නට ඉතිරි වී ඇති, අදත් බෞද්ධ ජනයා අගය කොට අදහන හා අගය කොට සලකන බොහෝ සංස්කෘතික අංගයන් එදා ඉන්දියාවේ සිට ලංකාවට ගෙනා දේවල්ය. මේ හේතුව නිසාම එදා පැරණි සිංහලයන් මෙන්ම අද වර්තමාන බොහෝ ගිහි පැවිදි බෞද්ධයින්ද බුද්ධාගම ඉන්දියාවෙන් ලංකාවට ගෙනා බව පැවසීම තරමක් දුරට සාධාරණ ප්‍රකාශයකි. නමුත් උතුම් බුද්ධ ධර්මය නම් ලංකාවේම ආරම්භ වී ඉන්දියාවටත් ගෙන ගිය දෙයක් බවත් තේරුම් ගත යුතුය. බුද්ධ ආගම හා බුද්ධ ධර්මය යනු එකක්ම ලෙසින් දකින, මේ දෙකෙහි වෙනසක් හඳුනාගන්නට බැරි, පෘථග්ජන පුද්ගලයින් තව දුරටත් මිථ්‍යා සංකල්ප හා මිථ්‍යා මත වල එල්ලී බුද්ධාගම ඉන්දියාවේ සිට ලංකාවට ගෙනා බවට තර්ක කිරීම පිළිබඳව පුදුම විය යුතු නොවේ. ඔවුන්ගේ නොදැනුවත්කම ගැනද අප අනුකම්පා කළ යුතුය.

### 14. හෙළබිම මුල්ම යුගයේ පැවති බුද්ධ වන්දනා ක්‍රම

ගෞතම බුදුපියාණන් එදා හෙළ බිම ජන්බුද්වීපයේ ජීවමානවම වැඩ සිටි යුගයේදීත් බෞද්ධ ජනතාවට බුදුන් වහන්සේ සිහිපත් කර වැඳුම් පිදුම් කරගැනීමට ගෞතම බුදුපියාණන්ම අනුදැන වදාළ, නිද්දේශ කර වදාළ පූජා වස්තූන් කිහිපයක් ම විය. මේවා කොටස් තුනකට බෙදා දැක්විය හැකිය.

i. පාරිභෝගික වස්තූන්
ii. උද්දේසික වස්තූන්
iii. ශාරීරික ධාතූන්

මේ කොටස් තුනටම එදා මුල්ම යුගයේ හෙළදිව බෞද්ධයා වැඳ පුදාගත් බව ත්‍රිපිටකයේත්, මහාවංශයේත්, දීප වංශයේත් පැහැදිලිවම සඳහන්ව ඇත.

මේ අනුව සිදුහත් බෝසත්තුමා උපත ලැබූ, ගෞතම බුදුපියාණන් බුද්ධත්වයට පත් වූ, වසර හතළිස් පහක් පුරාම බුද්ධ ධර්මය දේශනා කරන ලද මේ හෙළබිමේ මුල්ම බෞද්ධ ජනතාවද බුදුන් සිහිපත් කිරීම සඳහා මේ කොටස් තුනටම අයත් පූජා වස්තූන්ට ශ්‍රද්ධාවෙන් යුතුව හා ගෞරව භක්තියෙන් යුතුව වන්දනාමනා කරන සිරිතක් එදා පැවතිණි.

ගෞතම බුදුපියාණන් වහ්නසේ බුද්ධත්වයට පත්වීමේදී පිට දුන්, උන් වහන්සේ පරිභෝග කළ, ජය සිරි මහා බෝධිය හා ඒ බෝධීන් වහන්සේගේ අංකුර බෝධීන් වහන්සේලා මෙසේ මුල්ම යුගයේදී හෙළදිව ජනයා වැඳ පුදාගත් වැදගත්ම පූජා වස්තුවයි. ගෞතම බුදුපියාණන්ම ආන්නද හාමුදුරුවන්ට එදා උපදෙස් දී වදාළ පරිදි හිරිවඩුන්නේ සිට වඩම්මවා ගෙන ආ සිරි මහා බෝධි අංකුරයක් සැවැත්නුවර ජේතවනාරාම භූමියේ එනම් අද රිටිගල නමින් හඳුන්වන පුරාවිද්‍යා භූමියේ පිහිටි නා වනයේ (ජේතවනයේ) එදා රෝපනය කර වැඳුම් පිදුම් කරගත් බව අපේ රටේදීම ලියූ ඉතිහාස පොත් වලද සඳහන්ය. මේ ආන්නද බෝධිය එදා රෝපනය කර තිබුණේ අද රිටිගල පිහිටි නා උයනේය. අද එය වනයෙන් යටවී අභාවයට ගොස් ඇති බව පෙනේ.



මීට අමතරව ගෞතම බුදුපියාණන් පරිහණය කළ වජ්‍රාසනයටද එදා පටන්ම හෙළදිව බෞද්ධයා වැදුම් පිදුම් කළහ. හිරිවඩුන්න ජය ශ්‍රී මහා බෝධි මූලයේ අදටත් දකින්නට ඇත්තේත්, බෞද්ධ ලෝකයා අදටත් වැඳුම් පිදුම් කරන්නේත් එදා ගෞතම බුදුන්ගේ බුදු පහස ලැබූ වජ්‍රාසනයටමය. තවත් මෙවැනිම වජ්‍රාසන කිහිපයක්ම අතීත හෙළබිමේ වැදගත් පූජනීය ස්ථානවල තිබූ බව පෙනෙතත් අද ප්‍රසිද්ධියේ මේවා දැක ගන්නට නැත.

ගෞතම බුදුපියාණන් ජීවමානව වැඩසිටි කාලයේදීම බොහෝ බෞද්ධයින් වැඳපුදාගත් උද්දේශික පූජා භාණ්ඩය වූයේ බුදු සිරි පතුලයි. බුදු සිරි පතුලේ පිහිටා තිබූ විස්මිත ලකුණු නිසාම මේ විශේෂ ලක්ෂණ සිහිතවම ගලේ කොටා සකස් කරගත් බුදු සිරිපතුල් වලට වන්දනා කිරීමට එදා හෙළ දිව බෞද්ධයා පටන් ගත්හ. බුදුන් ජීවමානව සිටි කාලයේදීම ගෞතම බුදුන්ගේම බුදු පා පහස ලැබූ සිරිපාද ස්පර්ශය ලැබූ සිරි පතුල් අටක් හෙළබිමේ අට ස්ථානයක තැන්පත් කර වැඳුම් පිදුම් කරන්නට එදා හෙළබිම ජනතාව පටන් ගත්හ. සිරි පතුල් යුගලයන් වශයෙන් සමහර තැනක පිහිටූ අතර තනි සිරිපතුලක් ලෙස පිහිට වූ ස්ථානයන්ද තිබුණි. මේ ස්ථානයන් පසුව අට මහා ස්ථානයන් - අටමස්ථාන - වන්දනාව ලෙසින් එදා ලංකාවේ බෞද්ධයා අතරේද ප්‍රචලිත විය. අනුරාධපුර යුගයේදී පවා බොහෝ හෙළ රජ දරුවන්, ප්‍රභූවරුන් , සිටුවරුන් හෙළබිමේ පිහිටි මෙම පැරණි අටමස්ථාන වැදපුදා ගන්නට රජ පෙරහරින් ගමන් කළ බව “හස්තසාලිනී” නැමැති අනුරපුර යුගයේදී ලියූ පොතකද සඳහන් වී ඇත.

ගෞතම බුදුපියාණන් එදා ජීවමානව වැඩ සිටි යුගයේම ශාරීරික

ධාතු වන්දනාවද අනුදැන වදාළ අතර ලොව්තුරා බුදුපියාණන් වහන්සේගේ ශාරිරික ධාතු, පසේ බුදුවරයන් වහන්සේ කෙනෙකුගේ ශාරිරික ධාතු අරහතුන් වහන්සේ කෙනෙකුගේ ශාරිරික ධාතු හා චක්‍රවර්තී රජ කෙනෙකුගේ ශාරිරික ධාතු තැන්පත් කල දාගැබ් හා චෛත්‍යයන් ඉදිකර වන්දනා කිරීමට  බුදුපියාණෝ එදා අනුදැන වදාළහ. ගෞතම බුදුපියාණන් බුද්ධත්වයට පත් වූ නොබෝ දිනකට පසුවම වැඳුම් පිදුම් කරන්නට යමක් ඉල්ලා සිටි “තපස්සු භල්ලුක” වෙළෙඳ දෙබෑයන්ට ලබාදුන් ශාරිරික ධාතුන් වූයේ කේශ ධාතුන්ය. මේ කේශ ධාතු තැන්පත් කර ඉදිකල දාගැබ තිරියාය “ගිරිහඬු සෑය” නම් විය. මේ දාගැබ පිහිටියේ ලංකාවේ ත්‍රිකුණාමලය අසල අංග රටට අයත් වූ ස්ථානයකය. සියලුම බෞද්ධයෝ මේ බව අදත් පිළිගනිති. ගෞතම බුදුන් වෙනුවෙන් මේ හෙළබිමේම ඉදිකල දෙවන දාගැබ වන්නේද මහියංගනයේ සුමන රජු ඉදිකළ දාගැබයි. එහිද ගෞතම බුදුන්ගේම කේශධාතු තැන්පත් කර දාගැබක් ඉදිකළ බව ඉතිහාසයේ සඳහන්ය. ගෞතම බුදු පියාණන්ට පෙර පිරිනිවන් පා වදාළ අසුමහා ශ්‍රාවකයින් වහන්සේලා අතරින් සැරියුත් , මුගලන් ආදී මහ අරිහතුන් වහන්සේලා දස නමකගේම ශාරිරික ධාතු තැන්පත් කර රජගහ නුවර චෛත්‍යයන් ඉදිකර වන්දනා මාන කළ බව ත්‍රිපිටකයේ සඳහන්ය. අදටත් අම්පාරේ රජගල මේ චෛත්‍යයන් දහයේම නටඹුන් පැහැදිලිවම දැක ගන්නට ඇත. එසේ නම් මේ හෙළබිමේ අනුරාධපුර යුගයට බොහෝ පෙර යුගයයේදී ඉදිකරන ලද චෛත්‍යයන් හා දාගැබ් වැඳ පුදා ගැනීමද එදා හෙළ බෞද්ධයන්ගේ සිරිතක් විය.

ගෞතම බුදුපියාණන් වහන්සේගේ පිරිනිවන් පෑම සිදු වූ කුසිනාරා නුවරදී (බුදුගල) එදා සියලුම සර්වඥ ධාතුන් වහන්සේලා කොටස් අටකට බෙදා වෙන් කර භාර දුන්නේ එවකට මේ හෙළබිමේම



රජකරන ලද රජවරුන් අට දෙනෙකුටය. එදා පටන්ම මේ ධාතුන් වහන්සේලා හෙළබිම වැසියන්ගේ වැඳුම් පිදුම් වලට පාත්‍ර විය. ඉන්දියාවේ සිට ධාතුන් වහන්සේලා ලංකාවට වැඩම වු බවක් කිසිම ඉතිහාසය පොතක පතක හෝ මහාවංශයේ හෝ කොතැනක වත්ම සඳහන්ව නැත. හේමමාලා කුමරිය සහ දන්ත කුමරු දන්ත ධාතුන් වහන්සේ වැඩමවාගෙන අනුරාධපුරයට ආවේ බුදුගල කුසිනාරා නුවරින් මිස වෙනත් තැනකින් නොවේ. කුසිනාරා නුවර පිහිටියේ ද ජන්බුද්වීපයේය. අද නම් ඒ රත්නපුර දිස්ත්‍රික්කයේ බුදුගලයි.

ගෞතම බුදුපියාණන් ජීවමානව වැඩ සිටි යුගයේ පටන්ම ජයසිරි මහ බෝධීන් වහන්සේ වැදපුදා ගැනීමේ සිරිත හෙළ බෞද්ධ ලෝකයා අතරේ ප්‍රචලිත විය. මේ අනුව ගෞතම බුදුන් ජීවමානව වැඩ සිටි යුගයේම හිරිවඩුන්නේ පිහිටි ජය සිරි මහා බෝ සමිදුගෙන් බෝ අංකුර රැගෙන විත් රෝපණය කර වැඳුම් පිදුම් කිරීමේ සිරිත අනුව එහි පළමුවැනි බෝධි අංකුරය වඩම්මවාගෙන ගියේ  ඉසින්බැස්සගල ඉසිපතනාරාමයටය. මැදවච්චියේ පිහිටි ඉසින්බැස්සගල එදා කසී රටට අයත් වූ ස්ථානයකි. එදා රෝපනය කළ ජය ශ්‍රී මහ බෝ අංකුරය  අද දක්වාමත් ඉසින්බැස්සගල රජමහා විහාර භූමියේ ආරක්ෂා වී  පවතී. අදටත් බෞද්ධ හෙළ ජනතාව බෝධින් වහන්සේට වැදුම් පිදුම් කරති.

ජය සිරි මහා බෝධීන් වහන්සේගේ තවත් බෝ අංකුරයක් රජගහනුවර අම්පාරේ රජගල වේළුවනාරාමයේත් රෝපණය කර ඊට වැඳුම් පිදුම් කරන්නට පටන් ගත්තේද ගෞතම බුදුන් ජිවමාන කාලයේදීමය. මේ බෝධීන් වහන්සේ පිළිබඳව අදවන් විට තොරතුරු දැනගන්නට නොලැබෙන්නේ පසුගිය වසර 100 කටත් වැඩි කාලයක් ඒ රජගල ප්‍රදේශයේම මහ කැලයෙන් වැසී යටපත්ව ගිය හෙයිනි. ජය සිරි

මහ බෝ සමිදුන්ගේ තවත් ශාඛාවක් පසු කලෙක සිද්ධාර්ථ කුමාරෝත්පත්තිය සිදු වූ ලුම්බිණියේ (අද නම් බඹරගල) රෝපණය කරවූ අතර අදටත් බඹරගල වැවගම රජමහා විහාර භූමියේ මේ බෝධීන් වහන්සේ ජීවමානවම වැඩ සිටී.

ගෞතම බුදුපියාණන් පිරිනිවීමත් සමඟම කුසිනාරා නුවරටද ජය සිරි මහා බෝධීන් වහන්සේ ගෙන් බෝධි අංකුරයක් වඩම්මවාගෙන විත් එහි රෝපනය කර ගැනීම සිදුවිය. අදටත් බුදුගල හා කුරගල අතර කාටත් දැක වැඳ පුදා ගත හැකි ටැම්පිටයාය බෝධිය නමින් ප්‍රසිද්ධ අති පැරණි බෝධීන් වහන්සේ මෙසේ ලබාගත් බෝ අංකුරයකි. ගෞතම බුදුපියාණන්ගේ පිරිනිවීමෙන් වසර 280කට පමණ පසු යුගයක සංඝමිත්තා මෙහෙණිය විසින් අනුරාධපුරය කරා හිරිවඩුන්නේ ජය සිරි මහ බෝ සමිඳුන්ගෙන් ලබා ගත් බෝ අංකුරයක් වැඩමවීමේ සත්‍ය පුවත වටා ගෙතුණු කථාවද බෝධි වංශයේ සඳහන් වේ.

බෝධි වංශය ලියා පළ කළේ දඹදෙණි යුගයේදී වන අතර මේ පිළිබඳව එන කතා පුවත උත්තරවංශයේද, මහාවංශයේද , දීප වංශයේද කෙටියෙන් සඳහන් වෙයි.

4

මිහිඳු කුමාරයා, සඝමිත් කුමරිය හා සුමනා, සුනන්දා යන කුමරියන් තිදෙනාත් සමඟ අශෝක රජුගේ යුද්ධ සමයේ හෙළ බිමට පැන ආ අතර එම රජකුමර කුමරියන් එදා සැඟවී අත්තේ අම්පාරේ රජගල වේළුවනාරාම භූමියේය. මේ සතර දෙනාම කාලිංග ප්‍රදේශයේ ඉන්දීය රජ පවුලකට අයත් රජ කුමර කුමරියන්ය. අශෝක රජුටද නෑකම් ඇති මේ රජ කුමර කුමරියන් හෙළබිමට පැන ආවේ අශෝක රජුගේ යුද්ධයට බියෙන්ය. අශෝක රජු ඉන්දියාවේ රජකම් කළ ප්‍රාදේශීය රජ පවුල්වලට අයත් තමන්ගේම නෑදෑයින් සමූල ඝාතනය කළ බව ඉතාමත් ප්‍රසිද්ධය.



මේ කුමරියන් එදා හෙළබිමට පැන ආවේ තම ජීවිතය බේරා ගන්නටය. රජගලට ආ මේ කුමර කුමරියෝ සියලු දෙනාම පළමුව මහණ වූහ. මිහිඳු මහ රහතන් වහන්සේ නමින් මහණ වී මඟඵල ලබාගෙන සිංහල , මාගධි හා බුද්ධ ධර්මයද ඉගෙන ගෙන පසු කලෙක අනුරාධපුරයට බුද්ධ ධර්මය හඳුන්වා දෙන ලද්දේද රජගල අම්පාරේ රජගහනුවර වේලුවනාරාමයේ ජීවත් වූ මිහිඳු හිමියන් විසිනි. පසු කලෙක අශෝක රජු බුද්ධාගම වැළඳගෙන ධර්මාශෝක බවට පත් වූ පසුව ඉන්දියාවට ගොස් එහි බුද්ධාගම පැතිර වීමටද උන් වහන්සේ ක්‍රියා කළහ. මිහිඳු හිමියන් තම අවසාන කාලය ගත කළේත් පිරිනිවන් පා වදාළේත් අම්පාරේ රජගල නමින් ප්‍රසිද්ධ වූ රජගහනුවරදීය.

අම්පාරේ රජගලින් හමු වූ පිහිටි ගලක ලියා ඇති සෙල්ලිපියකුත් ඒ සෙල්ලිපිය ආසන්නයේම ඇති චෛත්‍යයක නටඹුන්ද අදටත් මේ පුවත සනාථ කරයි. මේ අනුව එදා මිහිඳු හිමියන් මහණ වූ ධර්මය ඉගෙන ගත මඟ ඵල ලබාගත් ලෝක බෞද්ධ මූලස්ථානය වූයේ අම්පාරේ අද රජගල නමින් ප්‍රසිද්ධ වූ එදා රජගහනුවර වේලුවනාරාමයේදීය. මිහිඳු හිමියන් ඉන්දියාවේ යම් තැනක සිට අනුරාධපුරයට වැඩම කර වදාළේ නම් උන් වහන්සේ පිරිනිවන් පෑම සඳහා සහ තම අවසාන ජීවිත කාලය ගත කිරීම සඳහා අනුරාධපුරයෙන් ඉතා ඈත පිහිටි රජගල තෝරා ගන්නට කිසිදු හේතුවක් නැත. රජගහ නුවරින් අනුරාධපුරයට වැඩම කළ මිහිඳු හිමියන් නැවතත් රජගහ නුවරටම ආපසු වැඩම කළ බවත් ඒ වන විටත් ඉතාම දියුණු හා ධනවත් තත්වයකින් රජගල පිහිටි හෙළ රාජධානිය පැවැති බවත්, බෞද්ධ විද්‍යා ස්ථානයක්ව එය පැවැති බවත් මේ සාක්ෂි වලින්ම ඔප්පු කළ හැකියි.

මිහිඳු හිමියන් එදා වැඩසිටි රජගල වේළුවනාරාමය භූමියේම පිහිටා තිබූ මෙහෙණි ආරාමයකදී මහණ වූ සඝමිත් කුමරියද පසු කලෙක මඟඵල ලබාගෙන මිහිදු හිමියන් සමඟ අනුරාධපුරයට වැඩමවා වදාළේ ලංකා පුරයේ මෙහෙණි සසුන පිහිටු වීම සඳහාය. මේ යන ගමනකදී අනුරාධපුර බෞද්ධ ජනතාවට වැදුම් පිදුම් කර ගැනීමට හිරිවඩුන්නේ ජයසිරි මහ බෝධින් වහන්සේ ගෙන් බෝධි අංකුරයක් අනුරාධපුරයට වඩම්මවා ගෙන ගිය පුවත බෝධි වංශයේම සඳහන් වෙයි.

එදා ගෞතම බුදුපියාණන් බුද්ධත්වයට පත් වූ දවස වන විට හිරිවඩුන්න ප්‍රදේශය පාලනය කළේ මුචලින්ද නම් නාග ගෝත්‍රික රජු විසිනි. මුචලින්ද නම් නාග ගෝත්‍රික රජු ගෞතම බුදුන්ට වැස්සෙන් බේරී වාසය කිරීම සකස් කර දුන් කුටියත් සැතපෙන්නට සකස් කර දුන් ගල් ආසනයත් අදත් හිරිවඩුන්නේ දකින්නට ඇත. බුද්ධත්වයට පත් වීමේදී භාවිතා කරන ලද ආසනය වූ වජිරාසනයද සකස් කර දුන්නේ මුචලින්ද රජුමය. සංඝමිත්තා මෙහෙණිය අනුරාධපුරයට ජය ශ්‍රී මහා බෝධියෙන් බෝ අංකුරයක් වඩම්මවාගෙන යන්නට හිරිවඩුන්නට පැමිණි අවස්ථාවේද එහි පාලනය භාරව සිටියේ නාග ගෝත්‍රයටම අයත් ප්‍රාදේශීය රජවරුන්ය. මේ බව සනාථ කරන සත්‍යම වූ පුවතක් බෝධි වංශයේත් මහාවංශයේත් සඳහන් වෙයි. මේ පුවත නම් ජය සිරි මහා බෝධින් වහන්සේ ගෙන් ලබාගත් බෝ අංකුරය අනුරාධපුරයට වඩම්මවාගෙන යන්නට පෙර නා ලොවදී පුද පූජා කළ බවයි.

"නා ලොව සතියක් පුද ලද බෝධිය " නමින් අදටත් බෝධි වන්දනාවේදී කවි පෙළක සඳහන් වන්නේද මේ පුවතයි. එදා නා ලොව වූයේ නාග ගෝත්‍රයට අයත් වූ මේ රාජධානිය එදා හෙළබිම නාග



රාජධානි ගණනාවක්ම තිබුණි.

රජගහ නුවර (අම්පාරේ) සිට හිරිවඩුන්නට පැමිණි සංඝමිත්තා කුමරිය නාග ගෝත්‍රික රජුගේ අනුග්‍රහයද ඇතිව එදා අනුරාධපුරයට ජයසිරි මහ බෝධිය වැඩම කර වූයේ නේරංජනා නදිය දිගේය. අද හුරුළුඔය හා යාන්ඔය නමින් හඳුන්වන ගඟ එදා විශාල ගංගාවක් ලෙසින් ගලාගෙන ගිය නේරංජනා නදියයි. මේ නදීය දිගේ ජයසිරි මහා බෝ අංකුරය වඩම්මවා ගෙන ගොස් දේවානම් පියතිස්ස රජුට මහ කනදරාව අසල තොටුපලකදී භාර දී ඇත.

අනුරාධපුයේදී එදා පැවැත් වූ මෙම ජයසිරි මහ බෝ අංකුර රෝපණ උත්සවයට එවකට නැගෙනහිර හා රුහුණේ රජකම් කළ හෙළ රජදරුවන්ටද ආරාධනය කළ බවත් මෙසේ ආරාධනා ලැබ එහි පැමිණි රුහුණු රජදරුවන් ආපසු යන ගමනේදී හිරිවඩුන්නේ පිහිටි ජය සිරි මහා බෝධියෙන් ලබාගත් බෝ අංකුර කිහිපයක් රුහුණට රැගෙන ගොස් එහි රෝපණය කළ බවත් මහා වංශයේම සඳහන් වෙයි. කතරගම බෝ සමිඳු මෙයින් එක බෝධියකි.

මීට ආසන්නම කාලයකදී එවකට ඉන්දියාවේ රජකම් කළ අශෝක රජතුමා වෙතද හිරිවඩුන්නේ පිහිටි ජය ශ්‍රී මහ බෝධියෙන් ලබාගත් බෝධි අංකුරයක් තෑගී කර යැවූ බවත් අශෝක රජතුමා ඒ බෝ අංකුරය තමන් නිර්මාණය කළ ආකෘති බුද්ධගයාවේ රෝපණය කරගෙන වන්දනා මාන කළ බවත් ඉතිහාසයේ සඳහන් වේ. සාංචි තොරණේ දැක්වෙන්නේද අශෝක රජු මෙම බෝ අංකුරය භාර ගන්නා චිත්‍ර සටහනකි.

මෙම බෝ අංකුරය අශෝක රජුගේ ජීවිත කාලයේම අවසාන

යුගයේදී අශෝක අධිරාජයාගේම බිසවක විසින් කටුගසා විනාශ කර දැමූ බවත් ඉතිහාසයේම ලියා තබා ඇත. පසු කලෙකදී ඉන්දියාවට තවත් ජයසිරි මා බෝ අංකුරයක් වැඩමවා ගෙන යන්නට ගත් උත්සාහයද වැළකී ගිය බවත් සඳහන්ය. මෙසේ පසුව වැඩමවාගෙන යන්නට උත්සාහ ගත් මෙම බෝධින් වහන්සේ තන්තිරිමලේ පූජා භූමියෙන් ඔබ්බට වැඩමවා ගෙන යන්නට නොහැකි වූ බවත් අදටත් ඒ බෝධි අංකුරය තන්තිරිමලේ පූජා භූමියේ බෞද්ධ ජනයාට වැඳපුදා ගන්නට සුදුසු සේ ජීවමානවම එහි වැඩ සිටින බවත් පෙන්වා දිය යුතුය.

බුදුන් වහන්සේ ජීවමානව වැඩසිටි යුගයේදීම මේ හෙළබිමේ අටමස්ථානයක බෝධින් වහන්සේලා අටනමක් බෞද්ධ මහජනයාගේ වැඳපුදා ගැනීම සඳහා සුදුසු සේ රෝපණය කර ස්ථාපිත කර තිබිණි. මේ ආකාරයට ජය සිරි මහ බෝධීන් වහන්සේගේ බෝ අංකුරයන් රෝපණය කළ සියලුම ස්ථානවලත් හිරිවඩුන්නේ ජයසිරි මහ බෝධින් වහන්සේ අසලත් එදා බුදු සිරිපතුල්ද සකස් කර ගෞතම බුදුපියාණන් වහන්සේගේම පාද ස්පර්ශය ලබාගෙන තැන්පත් කර වැඳ පුදා ගන්නට එදා බෞද්ධයෝ පටන් ගත්හ. හෙලබිම දේව හෙළයේ ජන්බුද්වීපයේ පිහිට වූ බුදු සිරි පතුල් යුගල වශයෙන් සිරි පතුල් දෙකම සිහිතව ස්ථාන හයක එදා තැන්පත් කර තිබුණ. ඒ හිරිවඩුන්න ජය සිරි මහ බෝධිය අසල ඉසින් බැස්සගල ඉසිපතනාරාමයේ , බඹරගල සිදුහත් උපත සිදු වූ භූමියේ, කුසිනාරා නුවර බුදුගල අසල ටැම්පිටයායේ , රිටිගල ජේතවනාරාමයේ හා රජගල වේළුවනාරාම පුදබිමේ යන ස්ථානයන් හයකය. ඊට අමතරව එදා නාග රාජ්‍යයට අයත් ව තිබූ මොක්කෙම(කල්පිටිය) නම් ස්ථානයේත්, සමනල කන්ද මුදුනේත් සිරිපතුල් පිහිටු විය. සමනල කන්දේ හා මොක්කොම තනි සිරිපතුලක් බැගින් තැන්පත් කළ අතර අනෙක් ස්ථාන වල සිරිපතුල් යුගලයන් බැගින්



තැන්පත් කරන්නටද විශේෂ හේතුවක් තිබෙන්නට ඇත.

එදා සංඝමිත්තා මෙහෙණිය විසින් සිරි මහ බෝ අංකුරයක් අනුරාධපුරයට වඩම්මවාගෙන ගොස් සුළු කලකට පසුව හිරිවඩුන්න සිරි මහ බෝ සමිඳු වැඩ සිටි භූමියේම බෞද්ධයාට වන්දනාමාන කරන්නට සකස් කර ගෙන තිබූ බුදු සිරිපතුල්ද අනුරාධපුරයට වඩම්මවාගෙන ගොස් අනුරාධපුරයේ රජ මාලිගය අසලම අලුතින් ගොඩ නගන ලද විහාරයක තැන්පත් කරණු ලැබිණි. අළුතින් රෝපණය කරන ලද සිරිමා බෝ අංකුරයටත් රජ මාලිගාව අසල සිරිපතුල් තැන්පත් කර ඉදිකළ විහාරයටත්, රජ පවුලේ අයත් මහජනයාත් එදා වන්දනාමාන පැවැත්වූහ. මේ අනුව අනුරපුර රාජධානියේ මුල්ම යුගයේදී බෞද්ධයින් වන්දනාමාන කරන ලද්දේ සිරි මහබෝ සමිඳුන්ට හා බුදු සිරි පතුලටත්ය.

රුවන්වැලි මහසැය, ථූපාරාමය ආදී මහ දාගැබ් ඉදිකළ පසුව සිරිපතුල් වන්දනාව ක්‍රමානුකූලව අහෝසි වී ගියේය. බුදුපිළිම වන්දනාව පටන් ගත් පසුව සමනල කන්දේ පහිට වූ සිරි පතුලට පමණක් වන්දනා මාන කළත් බුදු සිරිපතුලට වන්දනා මාන කිරිම සම්පූර්ණයෙන්ම අභාවයට ගියේය. සමනල කන්ද මුදුනේ පිහිට වූ බුදු සිරිපතුලටද අද බෞද්ධ ජනයා වන්දනාමාන කරන්නේ සමන් දෙවියන්ට පුදපූජා කිරීමේ දේව භක්තියකින් මිස බුදු බැතියෙන් නම් නොවේ.

එදා හෙළ රජදරුවන් හා හෙළබිමේ බෞද්ධයින් විසින් ගෞරවයෙන් වන්දනාමාන කරන ලද මේ උතුම් පාරිභෝගික වස්තූන්ට පසු කලෙක අත් වූ ඉරණම නම් අතිශය ඛේදජනකය.

එදා හිරිවඩුන්නේ සිරි මහ බෝ සමිඳුන් අසල නාග ගෝත්‍රික

මුචලින්ද රජු විසින් වැඳ පුදා ගන්නට සකස් කර තැන්පත් කර තිබූ බුදු පා පහස ලැබූ බුදු සිරිපතුල් යුගලයද පසු කලකදී අනුරාධපුර නගරයට ගෙනැවිත් අනුරාධපුර මහමෙවුනා උයනේ රජවාසල අසලම තැනූ විහාරයක තැන්පත් කර වන්දනා මාන පවත්වන්නට විය. ථූපාරාම දාගැබ අසලම අදටත් දැකබලා ගතහැකි පාද ලාංඡන චෛත්‍යය ලෙසින් නම් කර ඇත්තේ මෙසේ බුදු පා පහස ලැබූ සිරිපතුලයි. දේවානම්පියතිස්ස රජුගේ පටන් බොහෝ කාලයක් අනුරපුර රජකම් කළ හෙළ රජදරුවන් මෙම බුදු සිරිපතුල් වන්දනා කර ගත්තත් පසු කලෙක මහ දාගැබ් තනවා බුදුපිළිම ඉදිකර ඒවාට වන්දනාමාන කරන්නට පටන්ගත් පසුව උතුම් සිරිපතුල් වැඳීමේ බොදු සිරිත බෞද්ධ ජනයා අතරින් නැත්තටම නැතිවී ගියේය.

මීටත් වඩා ඛේදජනක සිදුවීම නම් එදා රිටිගල ජේතවනාරාමයේ බෞද්ධ රජදරුවන් හා පොදු ජනතාව විසින් වැඳ පුදාගත් බුදු සිරිපතුල් යුගලය සමඟ තවත් පුජනීය ස්ථාන වලින් සොයාගත් සිරිපතුල් යුගලයන් කිහිපයක්ම අද වන විට රුවන්වැලි සෑයේ සලපතල මලුවේ ගල් අතරට අල්ලා බිම සවි කර ඇත. ඒවා පොදු පොදු මහජනයාට පැගීමට සැලැස්වීමයි. මෙම බුදු සිරි පතුල් යුගලයන් රිටිගලින් හමු වූ කෞතුක වස්තූන් ලෙස සලකා ඒවා ආරක්‍ෂා කරන්නට රුවන්වැලි සෑ සලපතල මලුවේ බිම තැන්පත් කර තැබූ බවක් එච්.සී. පී. බෙල් මහතා තම දිනපොතේ සටහන් කර ඇති බව පරණවිතාන මහතාද සඳහන් කර ඇත.

හිරිවඩුන්නේ සිට එදා රාජ ගෞරව සහිතව අනුරාධපුරයට වඩම්මවාගෙන ආ සිරි පතුල් යුගලයන්ද අද වන විට අනුරාධපුර පුරාණ කෞතුගාරය ඉදිරිපිට එලිමහනේ අව්වට වෙලෙමින් වැස්සට තෙමෙමින් අනාරක්‍ෂිත ලෙසින් බිම දමා ඇත. අද එය කෞතුක භාණ්ඩයක් පමණක් සේ සලකති.

ඉසින්බැස්සගල පිහිට වූ සිරිපතුල් ද දැන් විශේෂයෙන් වන්දනා මාන සඳහා භාවිතා නොකරන අතර අද බුද්ධ රූපයක් තැබීමට පාදමක් ලෙසින් එය භාවිතා කරන බව පෙනේ. ඉසින් බැස්සගල සිරි මා බෝධිය අසලම ඇති බුදු පිළිමය අද තැන්පත් කර ඇත්තේ මේ සිරි පතුල් උඩය.

බුදුගල ද එදා සිරිපතුල් යුගලයක් සකස් කොට වැඳුම් පිදුම් කළ අතර අද ඒ සිරිපතුල් යුගලය යටකර සිමෙන්ති දමා සැතපෙන බුදුපිළිමයක් ඉදිකර ඇත. මොක්කෙම පිහිටුවා තිබූ සිරිපතුල් යටකර එහි කල්පිටියේ නාවුක හමුදා කඳවුරක් ඉදිකර ඇත්තේ පෘතුගීසි පාලන කාලයේදීමය.

රජගහ නුවර වේළුවන විහාරයේ එදා තැන්පත් කර තිබූ බුදු සිරිපතුල් යුගල දෙකම මෑතකදී සොයාගෙන ඇති අතර අද ඒවා පුරා විද්‍යා කාර්යාලය (රජගල) අසල බිම දමා මහජන ප්‍රදර්ශනය සඳහා තබා ඇත.

මේ ආකාරයට එදා බෞද්ධ ලෝකයා විසින් ද හෙළ රජ දරුවන් විසින් ද සද්ධාවෙන් වන්දනාමාන කරගත් බුදු පා පහස ලැබූ බුදු සිරිපතුල් පසුව කෞතුක වස්තූන් බවට පත් වී අභාවයට පත්වීම සිදුවිය. දැන් බුද්ධ ධර්මය නොදත් ආගම් අදහන හෙළදිව නාමික බෞද්ධයින්ද අද වන්දනාමාන කරන්නේ බුද්ධ පිළිමයන්ට මිස බුදු පා පහස ලද උතුම් පූජනීය වස්තූන්ට නම් නොවේ.

## 15. අටමස්ථාන සංකල්පය

එදා ගෞතම බුදුපියාණන් මේ හෙළබිම ජීවමානවම වැඩසිටි යුගයේදීත් අටමහා ස්ථානයක් වැඳපුදා ගැනීමේ සිරිතක් බෞද්ධ ලෝකයා අතරේ පැවතිණි. බුද්ධ ධර්මයේ එන අට්ඨාංගික මාර්ගයත් සිහිපත් කරමින් අටමස්ථානයන් වැඳපුදා ගැනීමේ සිරිත එදා පටන්ම හෙළබිම පැවැති බවට ලංකාවේ ලියූ හත්ථසාලිනී නම් අති පැරණි ග්‍රන්ථයේද සඳහන් වේ. වලගම්බා, භාතිය, දුටුගැමුණු, විජය බා මහා පරාක්‍රමබාහු මෙන්ම නිස්සංකමල්ල යන රජදරුවන්ද මෙම හෙළබිමේ පිහිටි අටමහ ස්ථාන වලින් කිහිපයක් හෝ වැඳ පුදා ගන්නට ඒවා කරා රජ පෙරහරෙන් ගිය බව ඉතිහාස පොත්වල සඳහන් වේ. මේ කිසිම හෙළ රජදරුවෙකු අටමස්ථාන වන්දනාව සඳහා ඉන්දියාවට හෝ භාරත දේශයට හෝ ගිය බවක් ඉතිහාසයේ නම් සඳහන්ව නැත. මහා පරිනිබ්බාන සූත්‍රයේ ගෞතම බුදුපියාණන්ම අනුදැන වදාළ පරිදි වැඳ පුදා දැකබලා ගත යුතු ස්ථාන හතරමත් මේ බෞද්ධ අටමස්ථාන සංකල්පයටද පාදක වන්නට ඇත. මේ අනුව සිරිපතුල් අටකුත්, බෝ අංකුර අටකුත් වැදීම බෞද්ධ අටමස්ථාන සංකල්පයට හා අෂ්ඨඵල බෝධි සංකල්පයටද මුල් වුවාට සැකයක් නැත.

අද වන විටත් බෞද්ධ ලෝකයා අනුගමනය කරන අනුරාධපුරයේදී අටමස්ථානයන් වන්දනා කර ගැනීමේ සිරිතටද මුල් වූයේ මේ මුල්ම අටමස්ථාන වන්දනාවයි. එදා ඉන්දියාවට බුද්ධාගම හඳුන්වා දුන් අශෝක මහරජතුමාත් ඉන්දියාව තුළදී මේ අටමස්ථාන වන්දනාව ආරම්භ කිරීමට ආකෘති වශයෙන් ස්ථාන අටක්ම ගොඩනංවා ඒවාට වන්දනා මාන කිරීමට ඉන්දීය ජනතාවටත් පුරුදු කළේය.



අටමස්ථාන වන්දනා සංකල්පය පසුව හින්දු හා වේද ආගම් වලටද ඇතුළත් වූ බව ඉන්දියාවේදී ලියූ ලලිත විස්තරය නැමැති පොතේ සඳහන් වේ. ඉන්දියාවේදී හින්දුන් හා බමුණන් පව් සෝදා හරින තොටුපල අටක් ලෙසින් තීර්ථ ස්ථානයන් අටක් නම් කර එම ස්ථානයන් වැඳපුදා ගත් බවත්, ශිලාදිත්‍ය නම් ඉන්දියාවේ රජකම් කළ රජු පවා මෙම තීර්ථ ස්ථානයන් වැඳපුදා ගන්නට ගිය බවත් “දිව්‍යාවදානය” නම් සංස්කෘත පොතේ සඳහන් වෙයි. බෂාම්තුමා ලියූ ඉන්දියා ඉතිහාසය පොතේද මෙම අටමස්ථාන වන්දනා පිළිබඳව පැහැදිලිවම සටහන් කර තබා ඇත.

ඉතා ඈත අතීතයේ පටන්ම මේ හෙළබිමේ ජන්බුද්වීපයේ අනුරාධපුර යුගයටත් පෙර යුගවලදී පවා හෙළබිම බෞද්ධයාට වැඳපුදා ගන්නට - අටමස්ථානයන්ම ඉදිකර, නම් කර, පැවැති බව පැහැදිලිය. මේ අටමහ ස්ථානයන් කලින් කලට වෙනස් විය. මෙසේ වෙනස් වූ බවට පැහැදිලිවම ලියා සටහන් කර ඇත්තේ අප අද භාවිතා කරන සිංහල පිරිත් පොතේය. මේ පිරිත් පොතේ “විහාර අස්න” යන නමින් ඒ ඒ යුගවල , ඒ ඒ ප්‍රදේශවල පිහිටුවා තිබූ අටමස්ථානයන් වෙන් වෙන්ව සඳහන් කර වෙන්ව පේළියට ලියා තබා ඇත. මේ ලෙසින් අටමස්ථානයන් ලියා තැබීම කවදා ආරම්භ වී දැයි තීරණය කරන්නට අපහසු නමුත් ඒ ඒ යුගයන්හීදී වැඳපුදාගත් ස්ථානයන්ගේ නම් වෙන් වෙන්වම එකම ඡේදයකට සඳහන් කර ලියා තබා ඇත.

විහාර අස්නෙහි එන අතීතයේදී වැඳපුදා ගත් විහාරයන් දක්වන නම්වල එක් පෙළකට ගොනුකර ලියා ඇති පහත සඳහන් වන මෙම පුජනීය ස්ථානයන්ගේ නම් දෙස විමසිල්ලෙන් බලන්න. “ජේතවන

විහාරය, කපිල විහාරය, ඉසිපතනාරාමය, කුසිනාරාමය, පූර්වාරාමය, දක්ෂිණාරාමය හා උත්තරාරාමය , සිළුමිණ සෑය යන අටමස්ථානයන් අනුරපුර යුගයට පෙර එක්තරා වකවානුව (බුද්ධ යුගයේදී) වැඳපුදාගත් විහාර ලේඛනයට ඇතුළත් කර ලියා තබා ඇත. මෙහි එන කපිල විහාරය යනු රජගල පිහිටි වේළුවනාරාමය අසල පිහිටි පැරණි බෞද්ධ මුලස්ථානයයි.

මෙයින් පැහැදිලි වන පරම සත්‍යය නම් මේ හෙළබිමේ යම් අතීත යුගයක මේ නම් වලින් සඳහන් වූ බුදු පා පහස ලැබූ මෙම උතුම් ස්ථානයන් පිහිටුවා තිබුණු බවය. අද මේවා ඉන්දියාවේ හෝ මහා භාරතයේ හෝ විහාරස්ථානයන් යැයි නම් කර අපේ හෙළ ඉතිහාසය යටපත් කරන්නට දරණ අසාර්ථක උත්සාහයක් ගැනද හෙළබිමේ ජීවත්වන අවංක බෞද්ධයින් හැටියට අප කල්පනා කළ යුතුය. මේවා අපේ පිරිත් පොතේ ලියා තබා ඇත්තේ ඇයි ?

කාලයාගේ ඇවෑමෙන් ඉසිපතාරාමය ඉසින්බැස්සගල යන නමින්ද, රජගහ නුවර, රජගල නමින්ද, ජේතවනාරාමය - රිටිගල නමින්ද කුසිනාරාරාමය - බුදුගල යන නමින්ද කටට පහසු ලෙසින් නම් සකස් වී භාවිතයට ගෙන ඇත. මේ සියලුම ස්ථානයන් අද වන විට සොයා දැන බෞද්ධ ලෝකයාට සද්ධා සිතින් වැඳපුදා ගෙන බුද්ධ ශක්තියට අනුගතවන්නට අවශ්‍ය පරිදි ස්ථාන (ඨාන) වශයෙන්ම හඳුන්වා දීම මේ පොත් ලියා එළිදැක්වීමේ එකම පරමාර්ථයයි.

එදා ගෞතම බුදුපියාණන් වහන්සේ මේ හෙළබිමේ ජන්බුද්වීපයේ වැඩසිටි යුගයේදීම සද්ධාවන්ත කුල පුත්‍රයින්ට වැඳපුදා ගන්නට අනුදැන වදාළ අනුරාධ පුර රාජධානිය දියුණු වන්නටත් පෙර වසර 600ක් පමණම



දීර්ඝ කාලයක් පුරාමත් රටේ පාලකයින් , රජ දරුවන් හා මහජනයාද වැඳපුදා ගත් අතීත අටමහා ස්ථානයන් වෙන් කොට හඳුනා දැක බලා ගැනීමේ පහසුව සඳහා මෙහි සටහන් කර තබමි.

## 1. ගෞතම බුදුපියාණන් වහන්සේ බුද්ධත්වයට පත් වූ ජයසිරි මහ බෝ සමිඳු පිහිටි ස්ථානය (උත්තරාරාමය)

අද වන විට හිරිවඩුන්න සිරිමහ බෝධින් වහන්සේ ලෙසින් පොදුවේ කවුරුත් හඳුන්වන මෙම ජයසිරි මහ බෝ සමිඳු පිහිටා ඇත්තේ මෙම හෙළදිව ලංකාද්වීපයේ හරි මැදය. එනම් මධ්‍ය මණ්ඩලයේය. ලංකාව පිහිටි දේශාංශක හා අක්ෂාංශක ගැන බලා ඒ අනුව හතරැස් කොටුවක් ලෙසින් සකස් කරගෙන එහි මුළු හතර යා කර කතිරයක් ගසා බලා ලංකාවේ හරිමැද ලක්ෂය ලබාගන්න. මෙම ලක්ෂය හිරියටම හිරිවඩුන්න බෝ සමිඳු දැනටත් වැඩවාසය කරන ස්ථානයයි. දඹුල්ල හඹරණ මාර්ගයේ 110 කිලෝමීටර් කණුව අසලින් වමට හැරී කිලෝමීටර් එකක් පමණ ගුරුපාර දිගේ ගමන් කරන විට මෙම රමණිය ස්ථානයට ළඟාවිය හැකිය. එදා පටන්ම මේ බෝධීන් වහන්සේට සුදු බෝධිය යන නම ව්‍යවහාර කර තිබූ බවට පෙන්වා දිය යුතුය.

"ජයෝ මුනින්දස්ස - සුබෝධි මූලේ
අහෝසි මාරස්ස- පරාජයෝහී."

යන බෝධි වන්දනා ගාථාවෙහි "සුබෝධි" යනු මේ සුදු බෝධියට එදා භාවිතා කළ විශේෂ නාමයයි. ලංකාවේ හෝ ලෝකයේ හෝ වෙනත් කිසිදු බෝධීන් වහන්සේ නමකට සුදු බෝධිය යැයි නම් කර නැත. අදත් වසරකට වරක් ජයසිරි මහ බෝ සමිඳුන්ගේ බෝධි මූලයෙන් වෙසක්

පොහොයට ආසන්න දිනයක සුදු බෝ අංකුරයක් මතුවීම මගින් මේ සුදු බෝධිය ලෝක සත්ත්වයාට ධර්මතාවයෙන් ප්‍රදර්ශනය කරනු ලැබේ.

මෙම ජයසිරි මහ බෝධි මූලයේ ගෞතම බුදුපියාණන්ට බුද්ධත්වයට පත්වීම සඳහා වැඩ හිඳින්නට මුචලින්ද නම් නාග ගෝත්‍රික රජතුමා විසින් කරවා දුන් වජ්‍රාසනයද අදටත් ඒ බෝධි මූලයේම නොසෙල් වි තැන්පත් වී පවතී. මේ වජ්‍රාසනය කිසිවෙකුටත් සොලවන්නට, වෙනස් කරන්නට හෝ විනාශ කරන්නට බැරි ආකාරයටම ස්ථාවරවම තැන්පත් වී ඇති ආකාරය එය දැක බලාගෙනම ඔබටද සහතික කර ගත හැකිය.

පුරාවිද්‍යා රක්ෂිතයක් ලෙසින්ද වනවාසී නිකායට අයත් ආරණ්‍ය සේනාසනයක් ලෙසින්ද අදටත් ආරක්ෂා වී පවතින මේ උතුම් පුණ්‍ය භූමිය එදා හෙළ රජදරුවන් විසින් වැඳපුදා ගත්, විහාර අස්නේද නම සඳහන් වන , උත්තරාරාමය ලෙසින් එදා හැඳින්වූ ජටිල කාශ්‍යප ඇතුළු භික්ෂූන් වහන්සේ දහසක් දෙනාද එකල වැඩ සිටි ස්ථානයයි.

අටමස්ථානයන්ට අයිති පළමුවන ස්ථානය වන මේ ස්ථානය පිළිබඳව වැඩි දුරටත් තොරතුරු දැන ගන්නට මුලින් ලියූ පළමුවන පොතද කියවා බලන්න.

ii. **සිදුහත් බෝසත් කුමරා උත්පත්තිය ලැබූ ලුම්බිණිය (සළුම්මිණි සෑය)**

එදා හෙළ රජදරුවන් විසින් ගල් කටාරම් කොටා ගෞතම බුදුරජාණන් වහන්සේටම පුජා කරන ලද මෙය උතුම් පූජනීය ස්ථානයකි. අටමස්ථාන අතරින් වැදගත් තැනක් ගත් මේ පූජනීය ස්ථානය පිහිටා ඇත්තේ මහනුවර දිස්ත්‍රික්කයේ තෙල්දෙණිය ප්‍රාදේශීය ලේකම්



කොට්ඨාශයේ බඹරගල රජමහා විහාරය, වැවගම රජමහා විහාරය යන නම් වලින් අද හඳුන්වන ස්ථානයේය.

ඉන්ද්‍රසාල ගුහාව ඇතුළු කටාරම් කෙටූ ගල්ගුහා 50කට අධික සංඛ්‍යාවක් මේ රජමහා විහාර භූමියේ අදටත් දකින්නට ඇති අතර මෙයින් ගල්ලෙන් 14කම මුල්ම යුගයේ හෙළ බසින් ලියූ අකුරු සහිත සෙල්ලිපි 14ක්ද ඇත. ගෞතම බුදුපියාණන් වහන්සේ බුද්ධත්වයට පත් වූ පසු 16 වැනි වසර ගත කළේ බඹරගල රජමහා විහාර භූමියේ පිහිටි ඉන්ද්‍රසාල ගුහාවේදීය. මෙම ගල්ගුහාවේ කොටා ඇති සෙල්ලිපියකින් එය ඉන්ද්‍රසාල ගුහාව බවට අද හඳුනාගෙන ඇත. එදා මේ ගුහාව ගෞතම බුදුපියාණන්ට වස් වසන්නට සුදුසු පරිදි අලංකාර ලෙසින් සකස් කර පිළියෙළ කර දුන් බවට අදත් එහි දකින්නට ඇති චිත්‍ර වල නෂ්ටාවශේෂ විලින් ද පැහැදිලි වෙයි.

ත්‍රිපිටකයේ දීඝ නිකායේ සඳහන් සක්ක පඤ්ඤහ සූත්‍රය ගෞතම බුදුපියාණන් එදා දේශනා කළේ මෙම ඉන්ද්‍රසාල ගුහාවේ වැඩ වාසය කරන අවස්ථාවේදීය. ඒ බව ත්‍රිපිටකයේම පැහැදිලිවම සඳහන් කර ඇත. මහාචාර්යය පරණ විතාන මහතාද මෙම ස්ථානය ඉන්ද්‍රසාල ගුහාව ලෙස හඳුනා ගෙන ඒ බව ප්‍රකාශ කර ඇත. සක්කස්ස දේවානමින්ද නම් වූ චක්‍රවර්ති රජ පරපුරෙන් පැවත ආ වේදේහ නුවර විසූ රජ කෙනෙකුට, එනම් "දේවයන් වහන්සේ" යැයි මහජනයා එදා ආමන්ත්‍රණය කළ හෙළදිව පැරණි චක්‍රවර්ති රජ පරපුරෙන් පැවත ආ රජෙකුට, මේ සක්ක පඤ්ඤහ සූත්‍රය ගෞතම බුදුපියාණන් වහන්සේ මෙම ඉන්ද්‍රසාල ගුහාවේදි දේශනා කර වදාළ සේක. පනිත නමින් වූ චක්‍රවර්ති රජ පුරපුරටම අයත් රජ කෙනෙකුටත්මෙම ඉන්ද්‍රසාල ගුහාවේදීම පනිත සූත්‍රය දේශනා කළ නමුත් එය අද ත්‍රිපිටකයේ දක්නට නැත. සක්කස්ස

දේවා නමින්ද සක්දෙවියන් ලෙසින් පසුව හැඳින්විය.

මෙම රජමහා විහාර තුළ අදටත් සල්ගස් දැකගන්නට ඇති අතර වසර 3000කටත් වඩා පැරණි විශේෂිත සල්ගසක් එහි අදටත් දක්නට ඇත. මේ සල්ගස් ආසන්නයේ විහාර භූමියේම ඇති ප්‍රසුත ගුහාවේදී ගෞතම සිද්ධාර්ථ කුමාරයාගේ උපත සිදුවිය. ඒදා ඒ ප්‍රදේශයේ රජකම් කල සක්කස්ස රජ පරපුරේ රජ දරුවන් සිදුහත් උපත සිහිපත් කරන්නට විශේෂ විහාරයක් කරවා ඊට වැදුම් පිදුම් කළ බවද ඉතාම පැහැදිලිව දක්නට ඇත. ගෞතම බුදුපියාණන් වහන්සේගේම බුදු පා පහස ලැබූ බුදු සිරි පතුලක් ද මෙම විහාර භූමියේම තැන්පත් කර එදා රජ දරුවන් හා මහජනතාව වැදුම් පිදුම් කර ගත් බව දක්වන චිත්‍ර සටහනක් මෙම බඹරගල රජමහා විහාරයේම ඇති පැරණි පොතක දක්නට ඇත.

මහනුවර රාජධානි කාලය තෙක්ම මේ විහාරය අටමස්ස්ථාන අතරින් එකක් ලෙසින් හෙළදිව වැසියන් වැඳපුදා ගත් බවත් පෙන්වා දිය යුතු කරුණකි. එදා පිරිත් පොතේ සඳහන් අටමස්ථානයන් අතරින් සළුම්ණි සෑය වෙනුවෙන් සඳහන් කළ ස්ථානය මෙයය. මෙහි අතීතයේ මෙවැනි සෑයක් තිබී පසු කලෙක විනාශ වී ගිය බවද පෙනෙන්නට ඇත.

මේ ස්ථානයට යන මාර්ගය හා ඒ පිළිබඳව වැඩි මනත් තොරතුරු පළමුවන පොතේද විස්තර වශයෙන් සටහන් කර ඇති නිසා එයද කියවා බලන්න.

**iii. පළමු දේශනාව පැවැත් වූ ඉසිපතනයේ මිගදාය.**



අනුරාධපුර දිස්ත්‍රික්කයේ මැදවච්චියට ආසන්නව පිහිටා ඇති ඉසින් බැස්සගල රජමහා විහාරය නමින් අද ප්‍රසිද්ධියට පත්ව ඇත්තේ එදා දම්සක් පැවැතුම් සූත්‍රය දේශනා කළ උතුම් පුදබිමයි. ගෞතම බුදුපියාණන් ජීවමාන කාලයේම මෙම ස්ථානය ඉසිපතනාරාමය ලෙසින් හෙළබිම බෞද්ධයින් අතරේ ප්‍රසිද්ධ විය. අටමස්ථාන අතරින් මේ ස්ථානයද වසර 800ක් පමණ දීර්ඝ කාලයක් තුළම අතීත බෞද්ධ රජදරුවන්ගේ හා මහජනතාවගේ ගෞරවයට හා වන්දනා මාන වලට යොදා ගන්නා ලදී.

මෙම ගල් තලාව එතරම් උස නැති වුවත් ලක්ෂ ගණනයට එක වර රැස්විය හැකි ස්ථානයකි. පස්වඟ මහණුන් එදා භාවනානුයෝගිව වැඩ සිටියේ මෙම ගල් පර්වතයේම නැගෙනහිර බෑවුමේ පිහිටා ඇති අරහත් ගුහාව නමින් අදටත් හඳුන්වන ස්වභාවිකව පිහිටා ඇති ගල් ගුහාවේය. කවදාවත්ම ජලය නොසිදෙන ලිඳක්ද එහි ඇත. අරහත් ගුහාවට නැගෙනහිර දෙසින් මහා අරුම පුදුම නුග යායක් වැනි විශාල ප්‍රදේශයක පැතිරුණු නුග ගසකි. නුග ගසට ඔබ්බෙන් අක්කර 100ක පමණ ප්‍රදේශයක් පුරා පැතිරුණු මුව වනයකි. මේ මුව වනයට අදත් මුවන් , මොණරුන් වැනි සතුන් පැමිණෙනු දැක ගත හැකි වෙයි. මෙය ස්වභාවික දසුනකි.

එදා ගෞතම බුදුපියාණන් පළමු ධර්මදේශනාව පැවැත් වූ ප්‍රදේශයේ පාලකයාව සිටියේ සාතාගිරි නම් යකෂ ගෝත්‍රික රජුය. හේමවත යනු සාතාගිරි රජුගේ මිත්‍ර රජෙකි. මේ ප්‍රදේශ එදා කසී රටට අයත්ව තිබූ බවද පෙන්වා දිය යුතුය.

සාතාගිරි ප්‍රාදේශිය රජු විසින් මෙහි විශාල ගල්තලාව මැද එනම්

එදා ගෞතම බුදුපියාණන් පළමු ධර්ම දේශනාව පැවැත්වූ ස්ථානයේම කුඩා දාගැබක් තනවා තමන්ගේ වැදුම් පිදුම් සඳහා යොදා ගන්නා ලදී. පසු කලකදී හිරි වඩුන්න ජය සිරි මහා බෝ සමිඳුගෙන් බෝ අංකුරයක් ගෙන්වා ගෙන එහි රෝපනය කළ අතර අදටත් ඒ අති පැරණි බෝධින් වහන්සේ වැදපුදා ගන්නට හැකි අයුරින්ම එහි රැකී ආරක්‍ෂා වී පවති. මේ ආසන්න කාලයකදීම ගෞතම බුදුපියාණන්ගේ බුදු පා පහස ලැබූ බුදු සිරි පතුල් යුගලයක්ද මෙම ස්ථානයෙහි තැන්පත් කර විහාරයක් කරවා වන්දනා මාන කිරීම සඳහා යොදාගත් අතර මෙම ස්ථානයද අටමස්ථානවලින් එකක් බවට එදා ප්‍රසිද්ධ විය. ඉසිපතනාරාමය ලෙසින් පිරිත් පොතේ විහාර අස්නෙහි මෙය නම් කර ඇත.

නයිපෙන සහිත නාගරූප කෙටු ගල් පුවරුවක්ද මේ ස්ථානයේම තැන්පත් කර ඇත්තේ නාගගෝත්‍රයේ රජ වරුන්ද මෙම ස්ථානය වැද පුදාගත් බවට සාක්‍ෂියක් වශයෙනි.

බුද්ධත්වයට පත්වූ ගෞතමයන් වහන්සේගේ පළමුවන ධර්ම දේශනාව අසා මේ බුද්ධ ශාසනයේ බිහිවූ පළමුවන සංඝයා වහන්සේත්, පළමු ශ්‍රාවකයින් වහන්සේලා 60 නමකුත් බිහි වුයේ ද මෙම උතුම් ස්ථානයේදීය. මේ නිසා බුද්ධ ශාසනයේ ආරම්භය සිදු වූයේ මේ පුණ්‍ය භූමියේදීය. පසු කලෙක හෙළබිම රජ සිටුවරු හා මහජනයා මේ උතුම් ස්ථානයද අටමස්ථාන වලින් එකක් සේ දීර්ඝ කාලයක් තුළ වැදුම් පිදුම් කර ගත්හ.



### iv. ගෞතම බුදුපියාණන් වහන්සේගේ පිරිනිවන සිදු වූ කුසිනාරානුවර

රත්නපුර දිස්ත්‍රික්කයේ බලංගොඩට නුදුරු කල්තොට ප්‍රාදේශිය ලේකම් බල ප්‍රදේශයට අයත් වලවේ ගංගාධාරයේ උඩකොටසේ පිහිටි ඉතාම රමණීය භූමි භාගයකි. (බුදුගල) කුසිනාරාමය. එදා මල්ලව රජදරුවන් මේ ප්‍රදේශයේ රජකම් කරන යුගයේදී ගෞතම බුදු පියාණන් වහන්සේ පිරිනි වී වදාළේ අද බුදුගල නමිනුත් එදා කුසිනාරා නුවර නමිනුත්, ප්‍රසිද්ධ වූ මෙම කුඩා නගරයේදීය.

බුදුගලට නුදුරින් පිහිටි අද රජවක නමින් හඳුන්වන ප්‍රදේශයේ එදා මල්ලව රජදරුවන්ගේ රාජධානියයේ අගනුවර පිහිටියේය. ඇඹිලිපිටියේ සිට වළව ගංතීරයේ උඩට පිහිටි සරුසාරවත් ප්‍රදේශයක් එදා මල්ලව රටට අයත් ප්‍රදේශ ලෙසින් සැලකිණි.

මහා පරිනිබ්බාන සූත්‍රයේ සඳහන් වන පාඨයන් සිහිපත් කරවන පරිසරයක් බුදුගල කුසිනාරානුවරදී අදටත් එහි ගිය කෙනෙකුට දැකගත හැකිය. මේ කුසිනාරාව කඳු දුර්ග සහිත කුඩා නුවරකි. මේ නුවර පිරිනිවන් පාන්නේ නැතිව රජගහනුවර , චම්පා නුවර, ශ්‍රාවස්ති නුවර හෝ වෙනත් ප්‍රධාන නගරයක පිරිනිවන් පාන්නට ආනන්ද හිමියන් ගෞතම බුදුපියාණන්ට ආරාධනා කළත් එය නොපිලිගෙන ගෞතමයන් වහන්සේ එහිදීම පිරිනිවන් පා වදාළ සේක. මේ ආකාරයෙන් මල්ල රජුගේ උපවර්තන නම් සල්උයනේදී පිරිනිවන් පා වදාළ බුදුපියාණන් වහන්සේගේ දේහය ආදාහනය කිරීමට සකස් කරන ලද ආදාහනාගාරය අදටත් එහිදී දැක ගත යහැකිය. බුදුගල විහාරස්ථානයට ආසන්නව පිහිටි ඉඩමේ එනම් පුරා විද්‍යා ආරක්‍ෂිත බිමේ දී අද මෙය දැක ගත හැකිය.

මල්ලවරජුන්ට ලැබුණු දන්ත ධාතූන් වහන්සේ ඇතුළු අනෙකුත් ධාතූන් වහන්සේලා තැන්පත් කර වැද පුදා ගන්නට දන්ත ධාතු මන්දිරයක් මුලින්ම හෙළ බිම ඉදිකළේද මෙම මල්ල රට කුසිනාරා නුවරය. අදටත් මෙම දළදා මාළිගාවේ නටඹුන්ද එහි දී දැක ගන්නට ඇත. හිරි වඩුන්න සිරි මහා බෝ සම්දුන්ගෙන් ලබා ගත් බෝධි අංකුරයක්ද මේ අසලම ස්ථානයක එදා රෝපනය කරවා පංච වාස නම් ස්තූප 5ක්ද එහි කරවා වැඳුම් පිදුම් කරන්නට පටන් ගන්නා ලදී. ඒ අනුව මෙයද අටමස්ථානවලින් එකක් බවට පත්විය.

ගෞතම බුදුපියාණන් පිරිනිවන් පා වාදාල කටාරම් කෙටූ එම් ගල්ලෙනෙහි ගෞතම බුදුපියාණන්ගේ පාද ස්පර්ශය ලැබූ බුදුසිරිපතුලක්ද තැන්පත් කර එයට වන්දනා මාන කිරීමක්ද ඒ යුගයේදීම ආරම්භ විය. මේ අනුව මේ හෙළබිමේ අටමස්ථානයන් අතරට කුසිනාරා නුවරද ඇතුලත් විය. මල්ල රජ පරපුරේ අන්තිම සාමාජිකයින් වූ දන්තකුමරු හා හේමමාලා කුමරිය දළදා වහන්සේ ආරක්‍ෂා කරගෙන පුදපූජා පවත්වන්නට තරම් තමන්ට හැකියාවක් හෝ හක්තියක් නොවූ නිසා මේ වන විට අනුරපුර රාජධානිය දියුණු වී බලවත් රජවරුන් යටතේ පාලනය වූ නිසාත් දන්ත ධාතූන් වහන්සේ හොර රහසේම කුසිනාරා නුවර සිට අනුරාධපුරයට වඩම්මවා ගෙන විත් එවකට අනුරපුර රජකළ කිත්සිරි මෙවන් රජුට භාර දුන්හ. අනුරපුර රාජධානියේ එතෙක් කාලයක් තුළ දන්ත ධාතූන් වහන්සේලා වැඳපුදාගත් බවත් ඉතිහාසයේ ලියවී නැත.

මේ අනුව කිත්සිරිමෙවන් රජු දවස වන විට අනුරාධපුරය අංගසම්පූර්ණ බෞද්ධ අගනගරය බවට පත්විය. ජය සිරි මහා බෝධී අංකුරය , බුදුසිරිපතුල , සිරි දළදා වහන්සේ හා සියළු හෙළ අටුවා පොත්



ද මේවන විට රුහුණේ සිට අනුරාධපුරයට රැගෙන විත් අනුරාධපුර නගරයේ තැන්පත් කර තිබුණි. ඒ ක්‍රි.ව. 303 පමණ වන විට දීය.

### V. සැවැත් නුවර ජේතවනාරාමය

අනුරාධපුර දිස්ත්‍රික්කයේ රිටිගල නමින් අද හදුන්වන කඳුවලින් වට වූ ප්‍රදේශය පුරා පැතිරුණු ඓතිහාසික පුරා වස්තූන් හමු වූ ප්‍රදේශය එදා සැවැත් නුවර ජේතවනාරාමය යනුවෙන් හැඳින්වූ අටමස්ථානයන්ගෙන් එකකි.

බුද්ධත්වයට පත් වූ ගෞතම බුදුපියාණන් වහන්සේ තම මුල් කාලය ගත කළේ රජගහ නුවර වේළුවනාරාමය ආශ්‍රය කරගෙනය. අනේපිඩු සිටුතුමා විසින් අලංකාර ලෙසත් , මහා ධනයක් වැය කරමින් රිටිගල කන්දේ හා මහ වනය තුළ ජේතවනාරාමය ඉදිකර දුන් පසුව අවසාන වසර 20ක්ම පමණ ගෞතම බුදුපියාණන් ජීවත්වූයේත් ධර්මය දේශනා කළේත් මෙම රිටිගල ජේතවනා රාමය මූලස්ථානය කර ගනිමින්ය.

කොසොල් රාජ්‍යය නමින් එදා හෙළ බිම දේව හෙළයට අයත් වූ ප්‍රධානතම රාජ්‍යයේ අගනුවර වූයේද සැවැත් නුවරයි. රිටිගලට නැගෙනහිරෙන් වූ අද මහ වනයක් සහිත වූ ප්‍රදේශයේ එදි කොසොල් රටේ අගනුවර වන සැවැත් නුවර පිහිටියේය. මේ ප්‍රදේශය පසුගිය වසර 1000කටත් වැඩි කාලයක්ම මහ වනයෙන් වැසී වන ගතව පවතින නිසා සැවැත් නුවරද ඉතිහාසයෙන්ම මැකී යන්නට ඇත. ගෞතම බුදුපියාණන් වහන්සේ ජීවමානවම වැඩ සිටි යුගයේදීම සැවැත් නුවර ජේතවනාරාම

භූමියේ මගඵල ලාභී භික්ෂූන් වහන්සේලා දහස් ගණනක් වාසය කළ බව අදටත් එහි දකින්නට ඇති නටඹුන් වලින් මනා සේ පැහැදිලි වෙයි. සුදත්ත සිටුතුමා විසින් කරවන ලද මෙම සුවිශේෂි පූජා භූමියේ විශේෂත්වය වන්නේ එහි සියළු ඉදිකල විහාර ආරාම තනි කළුගල් වලින් නිම කිරීමයි.

මේ යුගයට අයත් වන ගොඩනැගිලි ලංකාවේ හෙළ බිම සෑම ප්‍රදේශයකින්ම දැනට සොයාගෙන ඇති අතර මේ සියළුම තැන් වලදී දකින්ට ඇත්තේ එකම තාක්ෂණයක් උපයෝගි කොට ගෙන කළු ගලෙන්ම නිම වූ අති විශිෂ්ඨ නිර්මාණයන් එදා මේ හෙළ බිම පුරා විසිරී තිබුණු ආකාරයයි. රිටිගල ජයසේන යනුවෙන් අතීතයේ විසූ කෙනෙකු පිළිබඳව රිටිගල ඉතිහාස කථාවේ කවුරුත් සඳහන් කරති මේ රිටිගල ජයසේන යනු එදා සුදත්ත සිටු තුමාට ජේතවනාරාමය නිර්මානය කරන්නට අතහිත දුන් ප්‍රධාන තාක්ෂණ ශිල්පියාය. අදටත් රිටිගල පැරුන්නෝ ජයසේන යන නම සිහිපත් කරන්නේ ගෞරවයෙනි.

ගෞතම බුදුපියාණන්ට සුදත්ත සිටුතුමා ජේතවනාරාමය සාදවා පුජාකල ආකාරයටම එවකට සැවැත් නුවර විසූ තවත් මහධන සිටුවරයෙක් යශෝදරා අරහත් තෙරණියටද එවන් වූ විශ්මිත ආරාමයක් සාදවා පුජා කළේය. ඒ රිටිගල කන්දට  බටහිරින් පිහිටි "මානෑව කන්ද" නමින් අද හඳුන්වන ස්ථානයේය. මෙම කන්ද එදා "මෙහෙණි ආරාම කන්ද" යන නමින් ප්‍රසිද්ධ වී තිබුණි. රිටිගලට ආසන්නයේම පිහිටි මරදන්කඩවල නගරයට කි.මීටර් 1ක් පමණ දුරින් පිහිටා ඇති මානෑව කන්දේ ද රිටිගල ඉදිකළ විහාර ආරාම අංගයන් හැකිතාක් දුරට ඒ ආකාරයෙන්ම තනවා සකස් කර පුජා කරන්නට උත්සාහ ගෙන ඇති බවද



පෙනෙන්ට ඇත. ජලය රැස් කළ විශාල පොකුණු, ගල්ලෙන් , විහාර ආරාම හා ඊට අදාළ වෙනත් පහසුකම් මෙන්ම මෙහෙණින් වහන්සේලා 500කට පමණ ලැගුම් ගන්නට අවශ්‍ය කුටිද මෙහි අදටත් දකින්නට ඇත. මේ සියල්ලම රිටිගල මෙන්ම තනි කළුගලින් නිමවා තිබීම විශේෂ වූ ලක්ෂණයකි. මේ ස්ථාන දෙකම එකම යුගයක එකම තාක්ෂණයෙන් නිම කළ බවත් පැහැදිලියි. රිටිගල නමින් අද ප්‍රසිද්ධව ඇති ජේතවනාරාමය යනුවෙන් ත්‍රිපිටකයේ, පිරිත් පොතේ හා මහාවංශයේද නම් කර ඇති මෙම ඓතිහාසික පුජා භූමියද එදා අනුරාධපුර යුගයට පෙර යුගයේදී බෞද්ධයින් වන්දනා මාන කරගත් අටමස්ථාන වලින්ද එකක් විය. ගෞතම බුදුන්ගේම අනුදැනුම මත හිරිවඩුන්න ජය සිරි මහා බෝ සම්දුන්ගෙන් ලබා ගත් බෝධි අංකුරයක් මෙහි රෝපණය කර මෙයට ආනන්ද බෝධිය නමින් නම් කර ඒ අසල ම බුදු සිරිපතුල් යුගලයක්ද පිහිටුවා එදා වැදුම් පිදුම් කරගත් බව ඉතිහාසයෙන් පැහැදිලි වෙයි. ආනන්ද බෝධිය රෝපනය කර තිබුණේ දැන ට රිටිගල පුරා විද්‍යා වැඩ බිම ලෙසින් හඳුනාගෙන ඇති ගෞතම බුදුපියාණන් උදෙසා පිළියෙළ කර දුන් ගඳ කිළියට උතුරු දෙසින් වූ නා වනයේය. අද මේ බෝධීන් වහන්සේ පෙනෙන්ට නැත්තේ එය මහා වනයට යට වී අභාවයට ගිය නිසාය. රිටිගල කන්ද වටාම පිහිටි කඳුවැටි ආශ්‍රිතව තවත් පූජා භූමි 8ක්ද එදා මෙහි පැවැති බව ඉතිහාසයේ සඳහන්ය.

## vi. රජගහනුවර- වේළුවනාරාමය

රජගහනුවර වේළුවනාරාමය එදා පිහිටා තිබුණේ අද අම්පාර දිස්ත්‍රික්කයට අයත් , අම්පාර මහ ඔය පාරේ රජගල පුරා විද්‍යා නටඹුන්

නමින් අද සදහන් කරන විශාල බිම් ප්‍රදේශයකය. මේ මිහිතලය මත මේ බුද්ධ කල්පයට අයත් වූ විශාලතම බෞද්ධ උරුමය පිහිටා තිබුණේ මෙතැනය. ඒ අම්පාරේ රජගලය. අක්කර 1600කටත් වැඩි භූමි ප්‍රදේශයක් පුරා පැතිරී පැවැති විහාර, ආරාම , දාගැබ් වැව්, වන උයන්, පිරිවෙන්, විද්‍යායතන , බෙහෙත්ශාලා , දාන ශාලා ඇතුළු සියළු අංගයන්ගෙන් සමන්විත වූ රජගහනුවර වේළුවනාරාමය ඇතුළු ආරාමයන් 28 ක්ම පැවැති අතර එදා බෞද්ධ ලෝකයාගේ පළමුවැනි පූජණීය ස්ථානය බවටද පත්වී තිබුණි. අසූ මහා ශ්‍රාවකයින් වහන්සේලාගෙන් වැඩි දෙනෙකුම පැවිදි වී තම ඉතිරි ජීවිත කාලය ගෙවූයේ මෙම රජ ගල වන උයන මූලස්ථානය කරගෙනය. අගසවු සැරියුත්, මුගලන් යන අරිහතුන් වහන්සේලා දෙනමත් මහා ප්‍රාඥයින් වහන්සේ කෙනෙකු වූ මහා කච්චායන අරිහතුන් වහන්සේත් තම ජීවිතයේ වැඩිම කාලයක් ගත කර පිරිනිවන් පා වදාළේ රජගල පිහිටි මෙම ස්ථානයේදීය.

ගෞතම බුදුපියාණන් බුද්ධත්වයට පත් වී පළමුවන වස ඉසිපතනාරාමයේ (මැදවච්චිය අසල) වැඩ වාසය කළ බවත් ඉන් පසුව එළැඹුනු වසර 25ක් පමණම දිගුකාලයක් තුළම වරින් වර රජගහ නුවර වේළුවනාරාමයේ වැඩ විසූ බවද ත්‍රිපිටකයේම සඳහන්ය.

බිම්බිසාර රජු විසින් පාලනය කළ මගධ රාජ්‍යය එදා පිහිටා තිබුණේ මෙම ප්‍රදේශයේය. අම්පාර දිස්ත්‍රික්කය , මොණරාගල දිස්ත්‍රික්කයේ, බිබිල , මැදගම ආදී විශාල ප්‍රදේශයක්, බදුල්ල දිස්ත්‍රික්කයේ විශාල ප්‍රදේශයකුත් එදා මගධ රාජ්‍යයට අයත් විය. මගධ රට රජකම් කළ බිම්බිසාර රජු එදා රජගහනුවර වේළුවනාරාමය සාදවා



ගෞතම බුදුපියාණන්ට අතපැන් වත්කර පූජා කළ බව සඳහන් වී ඇත්තේ මේ හෙළ බිමේදීම ලියූ ත්‍රිපිටකයේය. මෙය මේ හෙළ බිම තුළ දීම සිදු වූ සිද්ධියක් මිස ඉන්දියාවේ දී සිදු වූවක් නොවේ. අනුරාධ පුරයේ රාජධානියක් ආරම්භ කරන්නට පෙර වසර දහස් ගණනක් පුරාම මේ හෙළබිමේ දියුණුම රාජ්‍යයක් ව පැවැතියේ මේ මගධ රාජ්‍යයයි. ඉන්දියාවට දුරින් පිහිටා තිබූ නිසාත් ස්වභාවිකව ම කඳුවළල්ලකින් හා මඩකලපුවේ කලපු වලින් වටවූ නිසාත් මගධ රාජ්‍යයට බාහිර ආක්‍රමණ හෝ වෙනත් බාහිර සංස්කෘතික බලපෑම් හෝ ඇති නොවීය. මේ නිසා කාශ්‍යප බුද්ධ ශාසනය පැවැති යුගයේදී පටන්ම ධර්මතාවයෙන්ම මාගධි භාෂාව රැකි රැදී පැවැතියේ මෙම මගධ දේශයේය. රජගල පිහිටි වේළුවනාරාමය ඇතුළු විහාර ආරාමයන් අද වල්බිහි වී කැලයට යටවී පැවතුනත් එදා මෙහි පැවැති සිරි විභූතිය විදහා පන්නට තරම් සමත් පුරා විද්‍යා නටඹුන් ලක්ෂ ගණනක් අදටත් එහි ඉදිරිව ඇත.

අශෝක රජු එදා ඉන්දියාවේ රජ පරම්පරාවලට අයත් සාමාජිකයන් සොයා සමූල ඝාතනය කළ අවස්ථාවේ මිහිදු කුමාරයා සහ සොහොයුරියන් තුන්දෙනා මේ හෙළ බිමට පැමිණවිත් තම දිවි බේරාගන්නට සැඟ වී ඇත්තේ මාගධ රාජ්‍යයේ රජ ගහ නුවරය. ඒ අද අම්පාරේ රජගලය. එදා මේ පුණ්‍ය භූමිය ඉතාමත්ම ආරක්ෂිත ස්ථානයක්ව පැවැති බවටත් මෙය හොඳම සාක්ෂියකි. මිහිදු කුමරු සංඝමිත්තා කුමරිය හා සුමනා, සුනන්දා කුමරියන්ද රජගහනුවරට පැමිණ හෙළ බස ඉගෙන ගෙන මගධ බස ඉගෙන ගෙ න බුද්ධ ධර්මය ඉගෙන ගත්තේද රජගල වේළුවනාරාමයේ පිහිටි බෞද්ධ විද ්‍යායතනයේන්ය. ගෞතම බුදුන්ගේ පිරිනිවීමෙන් වසර 280 කට පමණ කාලයකට පසුවත් මේ බෞද්ධ විහාරස්ථානය තුළ මඟඵල ලාභී අරහතුන් වහන්සේලා සිය දහස්

ගණනක් වාසය කළ බව මෙයින් මොනවට ඔප්පු වෙයි.

අම්පාරේ රජගහ නුවරදී ධර්මය ඉගෙන ගෙන මහණ වී මඟඵල ලැබූ මිහිදු මහ අරහතුන් වහන්සේ ඉන්දියාවේ රජ පවුලකට අයත්ය. අශෝක රජුගේද ළඟම නෑදෑයකි. නමුත් අශෝක රජුගේ පුත්‍රයෙකු නම් නොවන බව ඉන්දීය ඉතිහාසඥ බෂාම් තුමා ද පැහැදිලිව ප්‍රකාශ කරයි. මිහිදු මා හිමියන් අනුරාධ පුර පිහිටි ලංකාපුර රාජධානියට බුදු දහම පෙන්වා දෙන්නට එහි පැමිණියේ අම්පාරේ රජගහනුවර වාසය කළ කාලයේදීය. එනම් රජගල සිට අනුරාධ පුරයටය. කල කොලහාල යුද බිය හා අවුල් වියවුල් සහිතව අඳුරු තත්වයක් පැවැති උතුරු ඉන්දියාවේ මේ යුගය වන තුරාවටත් බුද්ධ ශ්‍රාවකයෙක් දැක ගන්නට වත් නොවීය. අශෝක රජතුමාද පළමු වරටම බුද්ධ ශ්‍රාවකයෙකු දැක ගත්තේ  කාලිංග යුද්ධය අවසන් වීමෙන් පසු කාවේරි නදිය අසලදීය. කාවේරි නදිය තෙක් දකුණු ඉන්දිය ප්‍රදේශවලටත් මේ වන විට හෙළබිමේ බලපෑම අනුව  බුද්ධ ධර්මය ව්‍යාප්ත වී තිබුණි. ඉසින්බැස්සගලදී පැවැත් වූ ධර්ම චක්‍ර බලය කාවේරි නදී මායිම් කොට ගත්  ප්‍රදේශය තෙක්ම බලපැවැත් වූ නිසා කාවේරි නදිය තෙක්ම ඉන්දීය ප්‍රදේශ වලද මඟඵල ලාභී බුද්ධ ශ්‍රාවකයින් වහන්සේලා මේ යුගය වන විටත් වැඩ සිටියහ.

අශෝක රජු යුද්ධය අතහැර දමා බුදුදහම වැළඳගත් පසුව මිහිඳු හිමියන් ඉන්දියාවටද ගිය බවත් සත්‍යයකි. නමුත් මිහිඳු      හිමියන්    මේ හෙළ බිමට යළි ආපසු පැමිණ තමන් මහණ වූ රජගහ නුවරම තම ඉතිරි ජීවිත කාලයද ගෙවා එහි පිරිනිවන් පා වදාල බවත් මිහිඳු හිමියන්ගේ



භස්මාවශේෂ තැන්පත් කළේ අම්පාරේ රජගල බවත් එහි ඇති සෙල්ලිපි මගින්ද ඔප්පු වී ඇත. රජගල පුරා විද්‍යා වැඩ බිමේ දැනට සොයාගෙන ඇති සෙල්ලිපි 48ක් අතරින්, පිහිටි ගලකම කොටා ඇති එක් සෙල්ලිපියක මිහිඳු හිමියන්ගේ භෂ්මාව ශේෂ මෙම ස්ථානයේ තැන්පත් කළ බව පැහැදිලිවම සඳහන් කර ඇත. පිහිටිගලක කෙටු මේ සෙල්ලිපිය අසලම දැනට නිදන් සොරුන් හාරා විනාශ කළ චෛත්‍යයක නටඹුන්ද අදටත් දක්නට ඇති අතර ඒ චෛත්‍ය මිහිඳු මහා සෑය බවටත් තහවුරු කරගෙන ඇත.

උතුම්  බුද්ධ ධර්මය එදා හෙළ බසින් ලිය වී තිබුණු හෙළ අටුවා ලීවේත් හෙළ අටුවා පොත් එදා තැන්පත් කර තිබුණේත් රජගල පිහිටා තිබූ වේළුවනාරාම පුදබිමේ බෞද්ධ විද්‍යස්ථානයේය. මෙම හෙළ අටුවා පොත් ලියා තිබුණේ පැරණි හෙළ බසිනි. මේවා ලියුවේ ත්‍රිපිටකයේ ලියා තබන්නටත් වසර සියගණනකටත් පෙර යුගයකදීය. ගෞතම බුදුපියාණන් ජීවත්ව සිටි යුගයේදීම බුදු කැලි අටුවා නැමැති හෙළ අටුවා ලියා තිබුණි. මහා ප්‍රාඥා මහා කච්චායන අරහතුන් වහන්සේගේ මුලිකත්වයෙන් ලියැවුණු බුදුකැලි අටුවාව මිහිදු හිමියන් අනුරාධ පුරයට එන විට රැගෙන ආ බව මහා වංශයේද සඳහන් වේ.

සංඝමිත්තා මෙහෙණින් වහන්සේ පැවිදි වුයේද රජගල වේළුවනාරාම පුදබිම අසල පිහිටා තිබු මෙහෙණි ආරාමයකදීය. සුමනා සුනන්දා යන සොහොයුරින්ද පසු කළෙක එහිදීම මහණ වුවත් පසුව ඒ දෙදෙනාම සිවුරු හැර බෝධි ගුප්ත නම් කුමරු සමඟ විවාහ වූ බවත් බෝධි වංශයේ සඳහන් වේ. සංඝමිත්තා මෙහෙණින් වහන්සේ හිරිවඩුන්න

ජය සිරි මහා බෝ සමිඳුන්ගේ බෝ අංකුරයක් අනුරාධ පුරයට පෙරහරින් වඩම්මවාගෙන යන්නට ගමන් ආරම්භ කළේද, රජගල අම්පාරේ වේළුවනාරාමයෙනි. හිරි වඩුන්න පිහිටියේ රජගල හා අනුරාධපුරය අතර මැද ස්ථානයකය.

ගෞතම බුදුපියාණන් වහන්සේ පිරිනිවන් පාන්නට පෙර දීම සැරියුත් මුගලන් ආදී අසූමහා ශ්‍රාවකයින් වහන්සේලා අතරින් කිහිප නමක්ම පිරිනිවන් පා වදාළහ. ගෞතම බුදුපියාණන්ගේ උපදෙස් වලට අනුව පිරිනිවන් පා වදාළ අරහතුන් වහන්සේලාගේ ධාතුන් තැන්පත් කිරීම සඳහා රජගල රජගහනුවර වේළුවනාරාම භූමියේ චෛත්‍යයන් ඉදිකර ඒ ධාතුන් වහන්සේලා එදා එහි තැන්පත් කරන ලදී. රජගල පුරා විද්‍යා වැඩ බිමේදී මෙවන් චෛත්‍යයන් දහයකට වැඩි ගණනක් දැනට මත් සොයාගෙන ඇත. මේ සියළු චෛත්‍යයන් අද වන විට නිදන් හොරුන් විසින් හාරා විනාශ කරදමා ඇත. ඊට හේතුව මේ ධාතුන් වහන්සේලා එදා තැන්පත් කර තැබුවේ රත්රන් කරඬුවල. රත්රන් සොරා ගැනීමට නිදන් හොරුන් විසින් චෛත්‍යයන් හාරා විනාශ කර ඇත.

අනෙකුත් අටමස්ථානවලද වන්දනා මාන කර ගන්නට පිහිටුවා තිබූ ආකාරයෙන්ම ගෞතම බුදුපියාණන් වහන්සේගේම බුදු පා පහස ලැබූ බුදු සිරි  පතුල් යුගලක්ම රජගහ නුවරද (රජගල) තැන්පත් කර විහාරයක් කරවා ඒ වන්දනා මාන කරගන්නට එදා බෞද්ධයා පුරුදුව සිටියහ. අදටත් මෙම බුදු සිරිපතුල් යුගලය රජ ගල පුරා විද්‍යා විැඩ බිමේ තැන්පත් කර ඇත. මෙම සිරි පතුල් යුගලයන් අනුරාධපුර කෞතුකාගාරයේ රුවන් වැලි මහා සෑ සලපතල මළුවෙහි සහ ඉසින්



බැස්සගල යන ස්ථාන වල තැන්පත් කර ඇති සිරි පතුල් හා සමඟද සසඳා බලා ඒවායේ එක සමාන වූ ලක්ෂණ දැන හඳුනා ගත හැකිය. හිරිවඩුන්න පිහිටි ගෞතම බුදුපියාණන් බුද්ධත්වයට පත්වීමේදී පිටදුන් ජය සිරි මහා බෝ සමිඳුන්ගෙන් ලබා ගත් සිරි මහා බෝ අංකුරයක් රජගහ නුවරද රෝපනය කර එදා මගධ රට සිටු වරුන් හා මහජනයාද වැදුම් කර ගන්නට ඒ අතීතයේදී පුරුදුව සිටියහ. අද දැඩි වනගහනයට යටවූ රජගල මහා වනයේ කොතැනක හෝ අදටත් මේ බෝධීන් වහන්සේ ජීවමානවම ඇති බව පෙන්වා දිය යුතුයි.

රජගහ නුවර එදා පිහිටි විහාර ආරම 28කම මඟඵල ලාභී භික්ෂුන් හා භික්ෂුනියන්ද එදා වැඩ සිටි බව මහා පරිනිබ්බාණ සූත්‍රයේ පැහැදිලිවම සටහන් වී ඇත. මහා පරිනිබ්බාන සූත්‍රයේ දැක්වෙන පරිදි ගෞතම බුදුපියාණන් රජගහනුවරින් පිටත් වී කුසිනාරා නුවරදී පිරිනිවන් පාන්නට යන අවසන් ගමන ආරම්භ කරන්නට පෙර රජගල විහාර ආරාම 28 කම වැඩ සිටි සියළුම භික්ෂුන් හා සංඝයා රැස් කර ඒ බව දැනුම් දී කුසිනාරා බලා ගිය අවසන් ගමන ආරම්භ කළ බව ත්‍රිපිටකයේ සඳහන් වේ.

ලංකාවේ දී - හෙළබිමේදී එදා ලියු ත්‍රිපිටකයේ මෙන්ම ලංකාවේදීම ලියු මහාවංශයේද (තුන්වන පරිච්ඡේදය ) ලියා දැක්වූ විශේෂ කාරණයක් පිළිබඳවද අපේ අවධානය යොමු කළ යුතුය.

එම කථා පුවත නම් 1 වැනි ධර්ම සංඝායනාව පැවැත්වීම පිළිබඳවයි. ගෞතම බුදුපියාණන්ගේ පිරිනිවීමෙන් මාස 3ක් ගත වූ අවස්ථාවේදි රජගහ නුවරදී පළමුවන ධර්ම සංඝායනාව පැවැත්වූ බව මහා වංශයේ සඳහන්ය. මහා වංශයේ මේ බව මෙසේ ලියා තැබුවේ එය

මේ හෙළ බිමේම ඉතිහාසය නිසායි. ඉන්දියාවේ සිදු වූ දෙයක් මහා වංශයේ ලියා තබා නැත මෙය හොඳ සිහියෙන් මධ්‍යස්ථ මනසකින් කල්පනා කරන්නෙකුට මනාව අවබෝධ කර ගත හැකිය. මෙවන් ධර්ම සංඝායනාවක් එදා ඉන්දියාවේදී සිදු වී නම් ඉන්දියාවේ ලියු පොත් වල හෝ ලේඛන වල මිස එදා ලංකාවේදී ලියු පොත පතක මේවා මෙසේ සඳහන් වන්නට හේතුවක් නැත. පළමුවන ධර්ම සංගායනාව පැවැත්වීමට අජාසත්ත රජු රජගහ නුවර වේළුවනාරාම භූමියේ සාදා සකස් කර දුන් සප්තපර්ණි ගල්ගුහාව අදටත් රජගල පුරා විද්‍යා භූමියේදී කාටත් දැක ගන්නට ඇත. එම ප්‍රධාන ගුහාව හා ඒ වටා ඇති ගුහා 6කෙ පන්සියයක් අරහතුන් වහන්සේලා එදා පැවැත්වූ පළමු ධර්ම සංඝායනාවට සහභාගී වීම සඳහා වැඩ සිටි බව මහා වංශයේ ත්‍රිපිටකයේ සඳහන් වේ. රජගල ගල් ගුහා මැද පිහිටි කුඩ ගල යනුවෙන් අද හඳුන්වන කුඩයක හැඩය ගත් ගල් ගුහාව අදටත් රජගලදී දැක ගන්නට ඇති විශ්මිත නිර්මාණයකි. රජගලට යන ඕනෑම කෙනෙකුට අදටත් මේ සප්ත පර්නි ගුහාව තම දෑසීන්ම දැක බලා ගෙන මහා වංශයේ සටහන් වන විස්තරයද කියවා සත්‍ය වටහා ගත හැකි වනු ඇත. එදා ලංකාවේදීම ලියු මහාවංශයේ මෙසේ සඳහන් වන මේ සියළුම කරුණු ලියා දැක් වූයේ එදා මේ හෙළබිමේම සිදු වූ සිද්ධීන්ම සම්බන්ධ කර ගෙනය. මේ හෙළ දිව සිදු වූ මෙවන් සත්‍ය සිද්ධීන් ඉන්දියාවට පවරා දෙන්නට අදත් ක්‍රියා කරන්නේ පරම මිත්‍ය දෘෂ්ඨිකයින්ය. රජගල පුරා විද්‍යා භූමියේ නැගෙනහිර මායිමේ පිහිටි අක්කර පන්සියයක් කරම් විශාල ගල් පර්වතයක් අදටත් එහි යන ඕනෑම කෙනෙකුට දැකබලා ගත හැකිය. පියන්ගල ආරණ්‍යසේනාසනය පිටුපස ඇති මේ විශාල ගල් පව්ව ත්‍රිපිටකයේ සඳහන් වන ගිජ්ජකූට පර්වතයයි. මේ ගිජ්ජකූට පර්වතය වටාම එහි පාමුල කටාරම් කෙටු ගල් ලෙන් විශාල සංඛ්‍යාවක් අදටත් දැක ගත හැකිය. රජගහනුවර



වේළුවනාරාම මායිමේම. මේ ගිජ්ජකූට පර්වතය පිහිටා ඇති බව ත්‍රිපිටකයේ සඳහන් වෙයි. ත්‍රිපිටකයේ ගිජ්ජකූට පර්වතය පිලිබඳව හා රජගහනුවර පිළිබඳව සඳහන් කළ සියළු කරුණු අදටත් එහි යන ඕනෑම කෙනෙකුට සහතික කර තම දෑසින්ම දැක බලා ගත හැකිය.

ගිජ්ජකූට පර්වතය පාමුල ඇති සීත වනය නමින් අදත් හඳුන්වන තැනකින් පානය සඳහා සුදුසු ඉතාම පිරිසිදු ජලය නොකඩවාම උල්පතකින් ගලා ගෙන එන බව අදටත් දැක ගත හැකිය.

මේ පිරිසිදු පානීය ජලය එදා එහි වාසය කළ භික්ෂූන් වහන්සේලාගේ පරිහරණය පිණිස ගබඩා කර රැස් කර ගන්නට ඒ යුගයේදීම සකස් කළ අති විශාල ප්‍රමාණයේ තනි කළු ගලින් නෙලූ පාත්‍රයක හැඩය ගත් ජල ටැංකි අදටත් මෙම වේලුවනාරාම භූමියේදී දැකගත හැකිය. මේ ආකාරයට සකස් කළ කළුගල් පාත්‍රයේ ජලය ගැලුම් සියයක් වත් ගබඩා කරන්නට හැකි බවද පෙන්වා දිය යුතුයි.

පුරාවිද්‍යා දෙපාර්තමේන්තුවටවත් නිවැරදි ලෙසින් කාල නිර්ණය කරන්නට නොහැකි වු තරම් පැරණි, අනුරාධපුර යුගයටත් පෙර යුගයක භාවිතා කළ හෙළ අක්ෂර වලින් ලියූ සෙල්ලිපි 28ක් පමණ දැනටමත් මෙම රජගල පුරාවිද්‍යා වැඩබිමෙන් සොයාගෙන ඇත. මේවායේ සඳහන් වන අකුරු අනුරාධපුර යුගයට පෙර යුගයේදී භාවිතා කළ හෙළ අක්ෂර බව විද්වතුන්ගේ මතයයි.

අනුරාධපුර යුගයට පෙර මගධ රාජ්‍ය යුගයේදී, එනම් ගෞතම බුදුපියාණන් ජීවමානව වැඩසිටි යුගයේදී ඉදිකරණ ලද රජගහනුවර ගොඩනැගිලි (මෙම පුරා විද්‍යා නටඹුන්) ඉදිකර, නිර්මාණය කර ඇත්තේ

සියයට සියයක්ම තනි කළුගල් වලිනි. ගෞතම බුදුපියාණන් ජීවත් වූ ඒ අතීත යුගයේදී මේ හෙළබිමේ ඉදිකළ සියළුම පූජනීය ස්ථානයන් හි පදනම ඉදිකර ඇත්තේ තනි කළු ගලෙනි. බුදුගල, රිටිගල, හිරිවඩුන්න, තිරියාය, මනෑව කන්ද ඉසින්බැස්සගල, මාලිගාවිල ආදී සියළුම ස්ථාන වලදීද අපට අදටත් දැක ගත හැක්කේ රජගලදීද දැකගත හැකි ආකාර වූ එකම රටාවක නිර්මාණයන්ය. ඒවා ගඩොලින් කර වූ නිර්මාණ නම් නොවේ. ඉන්දියාවේ ඉදිකළ සියළුම ආකෘති ගොඩනැංවූයේ ගඩොල් වලිනි. එදා හෙළබිම ගොඩනැංවූ සියළුම පූජනීය ස්ථානවල පදනම තනි කළුගලෙන්ම ගොඩනගා ඇති බව පෙන්වා දිය යුතුය.

පසු කලකදී ජන ශූන්‍ය තත්වයට පත් වූ රජගල පුරා වස්තු අද වන විටත් නිදන් හොරුන් විසින් හාරා වටිනා රන්රුවන් සොරාගෙන ගොස් ඇත. මේ රජගල පුරා විද්‍යා පුදබිම ඉන්දියානු ආක්‍රමණ වලින් කිසිදා විනාශ නොවීය. පාතුගීසින් , ලන්දේසින් හෝ ඉංග්‍රිසින් මේවා විනාශ කළේ නැත. කොඩ්රිංග්ටන් , එච්.සී.පී බෙල් වැනි අතීත පුරාවිද්‍යාඥයින් ද මේවා ගැන තොරතුරු දැන සිටියේ නැත. මහාචාර්ය පරණවිතාන මහතාටද අක්කර 1600ක් පමණ විශාල වූ රජගහනුවර නටඹුන් සියල්ලම දැක ගන්නට නොලැබිණි.

අම්පාර දිස්ත්‍රික්කයේ පිහිටි තවමත් ජනාවාස නොවූ රජගල , නිල්ගල පුළුකුණාව බුද්ධංගල , සමන් ගල , පියන්ගල හා නුවරගල යන කඳු වළල්ලකින් වට වූ මේ විශාල භූමි භාගය එදා මගධ රාජ්‍යයේ අගනුවර වූ රජගහනුවරය. ගෞතම බුදුපියාණන්ට පූජාකළ වේළුවනාරාමය හා ඒ ආශ්‍රිත විහාර ආරාම 28 පිහිටි ප්‍රදේශය බව දැන් සහතික කර පෙන්වා දිය හැකිය. රුහුණේ හා නැගෙනහිර මුල් හෙළ රාජධානි විනාශ වී ගිය පසුවද අනුරාධපුර නගරය අගනගරය බවට පත් වූ යුගයකදී මේ රජ ගල ප්‍රදේශයද ක්‍රමයෙන් වල්බිහි වී ගොස් මගධ



රාජධානිය, ලිච්ඡවි රාජධානිය හා වජ්ජි රාජධානියද ශාක්‍ය රාජධානියද යන සියල්ලම මහා වනයෙන් යටවී තොරතුරක් පවා දැන ගන්නටම නොහැකි ආකරයට ම යටපත් වී අභාවයටම ගිය බවද පෙන්වා දිය යුතුය.

මහා වංශයේ හා ත්‍රිපිටකයේ මේ ස්ථාන ගැන පැහැදිලි විස්තර ලියා තැබුවත් පසු කළෙක පොත පත ලියූ විද්වතුන්ට මේ පිළිබඳව සිතා ගන්නට හෝ ක්‍රමයක් නැති වූ නිසාත්, ඉන්දියාවේ අශෝක රජු ඉදිකළ ආකෘති ස්ථාන ගැන මධ්‍ය කාලීන බෞද්ධයින් අසා දැන සිටි නිසාත් මේ සියළු ස්ථාන ඉන්දියාවේ පිහිටි තැන් හැටියට සිතා කටයුතු කිරීමට සිදුවිය. අද ජීවත්වන හෙළදිව බෞද්ධයින්ටත් මේවා දැක බලා ගන්නට ධර්මතාවයෙන්ම පුරා විද්‍යා බිම් රැකුණේ මේ අයුරින්මය.

ගෞතම බුදුපියාණන් දේශනා කර වදාළ , නිවන් දැක ගන්නට උපකාර වූ, උතුම් බුද්ධ ධර්මය ඉගෙන ගන්නට එදා දෙස් විදෙස් වලින් මහජනයා රජගහනුවරට පැමිණියහ. පැරණි ලෝක බෞද්ධ මූලස්ථානය , මධ්‍යස්ථානය වූයේ මේ හෙළබිම පිහිටි එදා රජගහ නුවර නමින් ප්‍රසිද්ධ වූ අද රජගල නම් වූ ස්ථානයයි. ගෞතම බුදුපියාණන් පිරිනිවන් පා වදාළ කාලයටත් පසුව , තවත් වසර 1000ක් පමණ දිගුකාලයකුත් මේ බෞද්ධ විද්‍යාස්ථානය දියුණු තත්වයෙන් පැවැති නමුත් ඉන් පසුව මෙය කාටවත්ම සිතා ගන්නටවත් බැරි ආකාරයටම විනාශ වී අභාවයට ගොස් ජනශූන්‍ය ප්‍රදේශයක් බවටම පත්විය. අදටත් තවමත් එය ජන ශූන්‍ය ප්‍රදේශයකි.

### iii. සමනල කන්දේ පිහිට වූ සිරිපතුල

ගෞතම බුදුපියාණන් ජීවමානවම වැඩ සිටී අවධියේ සමනල

කන්ද හා කුරු රට ප්‍රදේශයන් පාලනය කල ප්‍රාදේශිය රජතුමා වූයේ "සමන " රජතුමාය. "සමන" රජතුමාගේ ආරාධනයෙන් එදා කුරු රටට වැඩම කර වදාළ ගෞතම බුදුපියාණන් එක් වසක් එහි වස් විසූහ. මෙසේ වස් විසු අවස්ථාවේදී කාලය ගත කළේ කුරු රට පිහිටි දිවා ලෙනෙහිය. අද දිවා ගුහාව යන නමින් ප්‍රසිද්ධව ඇති මෙම පර්වත ලෙන් විහාරය එදා සමන රජු විසින් ගෞතම බුදුපියාණන්ට වස්වසන්නට පිළියෙළ කර සකස් කර දුන් ස්ථානයයි. එදා සමන රජුගේ රාජධානිය මහියංගණයේ සිට කුරුවිට තෙක්ම පැතිරි පැවැති කඳු සහිත රාජධානියකි. මේ රාජධානියෙහි උසම හා රමණීය ස්ථානයක් වූ සමනල කන්ද මුදුනේ බුදු සිරිපතුලක් කොටා එම බුදු සිරිපතුලට ගෞතම බුදුපියාණන්ගේ පාද ස්පර්ශය ලබාගෙන ඊට වැද පුදා ගන්නට, මහජනයාට අවස්ථාවක් ලබා දුන්නේ සමන මහ රජුය. ගෞතම බුදුපියාණන්ගෙන් බුද්ධ ධර්මය අසා දැන ගෙන සෝවාන්ඵලයට පත් වූ සමන මහ රජ පසුව සමන් දෙවියන් විසින් ලාංකීක මහජනතාව අතරේ වන්දනා මානයටද පාත්‍ර විය. අනුරාධපුර හා පොළොන්නරු යුග වලදී පැරණි රජදරුවන් අටමස්ථාන යන් වැදපුදා ගැනීමේදී සමනල කන්ද මුදුණේ පිහිටුවා තිබූ බුදු සිරිපතුලද වන්දනා කර ගත් බව අපේ ඉතිහාසයේ පැහැදිලිවම සටහන් කර ඇත. නිශ්සංක මල්ල නම් පොළොන්නරුවේ රජ කළ රජුගේ කාලයේදී සමනල කන්දේ පිහිටි බුදු සිරිපතල තැන්පත් කර වන්දනා කිරීමට පැමිණි ඒම රජ විසින් එතෙක් අනාරක්ෂිතව පැවැති බුදු සිරිපතුලට ආරක්ෂක ආවරණයක් සකසා අද පවතින තත්වයට එය සකස් කරන ලදී. අද අප වන්දනා කරන්නේ නිශ්සංක මල්ල රජ විසින් ඉදි කරන ලද බුදු සිරිපතුල ආවරණය කරන ලද ගල් පුවරුවයටය. ගෞතම බුදුන්ගේ බුදු පා පහස ලැබූ බුදු සිරිපතුල ඇත්තේ ඊට වඩා අඩි 8ක් පමණ යටින් ආරක්ෂා සහිතවය.



## viii. මොක්කෙම සිරිපතුල

මෙම අටවැනි සිරිපතුල පිහිටියේ කල්පිටිය මුහුඳු තීරයේ කෙළවරය. කල්පිටිය යනු එදා අතීත හෙළයේ නාග රාජධානියට අයත් ප්‍රදේශයකි. නාග රාජධානියට - නාගදීපයට වැඩම කළ බුදුපියාණන්ගේ පාද ස්පර්ශය ලබාගෙන එදා කල්පිටියේ මුහුදු කෙළවරේ පිහිටි ගලෙක කෙටූ බුදු සිරිපතුලත් වන්දනා මාන කර ගැනීමට එදා නාග රාජධානියේ වැසියෝ පුරුදු වී සිටියෝය. මුහුදු වැල්ලේ මහ ගල් තලාවක විහාරයක් කරවා එහි බුදු සිරිපතුලක් කොටවා නාග රජදරුවන් හා මහ ජනයා ඊට වන්දනා මාන කරන බව දැක ගත් වෙළෙදාම සඳහා ලංකාවට පැමිණි ආරබි වෙළෙන්දෝද එදා බුදු සිරිපතුලට වන්දනා මාන කරන්නට පුරුදු වූහ.

පෘතුගීසීන් ලංකාවට පැමිණි පසුව එදා කල්පිටියේ මොක්කෙම පිහිටි  මුහුදු මහ විහාරය බලකොටුවක් බවට පත්කර එහි ගල් කඩා විහාරය විනාශ කළේය. දැන් මේ වන විට කල්පිටියේ මොක්කෙම ශ්‍රී ලංකා නාවික හමුදාවට අයත් නාවික හමුදා කඳවුරකි. මෙහි අදටත් ගෞතම බුදුන්ගේ පා පහස ලැබූ සිරි පතුල ආරක්ෂා වී පවතී.

අනුරාධපුර රාජධානිය ආරම්භ කරන්නට පෙර අතීත යුගයේදී මේ හෙළබිමේ ජීවත් වූ බෞද්ධ රජදරුවන් හා මහජනතාව වැඳපුදා ගත්තේ බුදු සිරිපතුලට හා ජයසිරි මහ බෝධින් වහන්සේටත්ය. ඒ යුගයේ බුදු පිළිම වන්දනාමාන කිරීමේ සිරිතක් මේ හෙළබිම තුළ නොවීය. නිවන් දැක ගැනීමේ ඒකායන පරමාර්ථයෙන් බුද්ධ ධර්මය අනුගමනය කළ (ධම්මානු ධම්ම ප්‍රතිපදාව අනුගමනය කළා) හෙළ බෞද්ධ පිරිස ගෞතම බුදුපියාණන් ගේ පිරිනිවීමෙන් වසර 900ක් පමණ කාලයක් ගතවන තුරුත් මේ අටමස්ථානයන් වැඳපුදා ගැනීමේ සිරිතක්

එදා හෙළදිව පැවතිණි. අනුරාධපුර රාජධානියේද පසු කලෙක අටමහා ස්ථානයන් ඉදිකර වන්දනා මාන කරන්නට පටන් ගත්තේ පැරණි අටමස්ථානයන් අනුරාධ පුරයට ඉතාම දුර බැහැර ප්‍රදේශවල පිහිටි බැවිනි. පසුව පොළොන්නරුවේද මෙවැනිම අටමස්ථාන ඉදිකර වන්දනා මාන කළ බවක් දැකගන්නට ඇත. රාජධානිය වෙනස්වීමත් සමඟම අටමස්ථානයන්ද වෙනස් වූ බව පිරිත් පොතේ සඳහන් විහාර අස්නෙන් පැහැදිලි වෙයි.

ලංකාවේදී බුදුපිළිම වන්දනාව පටන්ගත්තේ ක්‍රිස්තු වර්ෂ තුන්වන හෝ හතරවන සියවසේදී පමණය. ඉන්දියාවේ ආරම්භ වූ මහායාන බුද්ධාගමේ බුදුපිළිම වන්දනාව ඉතාම ජනප්‍රිය අංගයක් වූ අතර මේ සිරිත හෙළබිමට වැද්ද ගැනීම නිසා පසු කාලීන ලංකික බෞද්ධයාද අද මුල තැන දී ඇත්තේ බුදුපිළිම වන්දනාවටය. බුද්ධාගම ඉන්දියාවේ සිට ලංකාවට ගෙන ආවේ යන මතය ගොඩ නැගුණේද මෙවැනි වූ බොහෝ බෞද්ධ ආගමට සම්බන්ධ සංස්කෘතික අංගයන් පුද පූජා ක්‍රම ඉන්දියාවෙන් ලංකාවට ආනයනය කර ගෙනා නිසාය. මේ අනුව නම් අද ලංකාවේ අදහන බුද්ධාගමේ බොහෝ අංගයන් ඉන්දියාවෙන් ලංකාවට ගෙනා ඒවාය.

ගුප්ත පාලන යුගයේදීත් කුෂාන් රජ පෙළපත පැවැති යුගයේත් මහායාන බුද්ධාග ම ඉන්දියාව තුළ ඉතාම දියුණු තත්වයකට පත් විය. දේව ආගම් බලපෑම් ලෙසින් පොදු මහජනයාගේ භක්තිය කුළුගැන් වූ පුද පූජාක්‍රම , වත්පිළිවෙත් සජ්ඣායනා ක්‍රම පෙරහැර පැවැත්වීම , ශබ්ද පූජා, බෙර දවුල් ගැසීම හා වෙනත් බොහෝ ජනප්‍රිය අංගයන් හෙළ බිමටද ක්‍රමයෙන් ඇතුළු වී පිරිසිදු බුද්ධ ධර්මය හා නිවන් දකින පිළිවෙත් පිරීමේ මඟ වැසී ගියේය. නිවන් පතන , භක්තියෙන් ආගම ඇදහූ පිරිසක් ලංකාවේද බිහිවිය. හුදී ජන පහන් සංවේගය සඳහාත්, සංස්කෘතික



අංගයන් ලෙසත් සමාජ සුභ සාධනය සඳහාත් බුද්ධාගම නමට පමණත් අදහන පිරිසක් මේ හෙළබිම තුළ ද බිහි වීම මෙහි ප්‍රතිඵලයයි.

එදා බුද්ධ දේශය , ධර්ම දීපය, ධර්ම රාජ්‍යය , ලෝකයෙන්ම උතුම් රට, රත්න දීපය ආදී විරුදාවලි ලත් බුදුන් ජන්මය ලැබූ මේ උතුම් රට ධර්ම දීපය මේ ආකාරයෙන් විනාශය කර ගියේය.

අපේ ඉතිහාස කථාපොත් වල , මහා වංශයේ, දීප වංශයේ, බෝධි වංශයේ ථූප වංශයේ හෝ වෙනත් කිසිම පොතක හෝ නම් සඳහන් වන කිසිම හෙළබිම රජ කෙනෙකු අටමස්ථානය වැඳපුදා ගන්නට ඉන්දියාවට ගිය බව නම් කිසිම තැනක හෝ සඳහන් නොවේ. ලංකාවේ දීම ලියූ “අත්ථ සාලිනී” නැමැති ග්‍රන්ථයේ පැහැදිලිවම ලියා සටහන් කර ඇති පරිදි නම් අපේ හෙළ රජදරුවන් හෙළබිම පිහිටි අටමස්ථානයන් වැදපුදා ගන්නට රජපෙරහරෙන් එදා අටමස්ථාන කරා ගමන් කළ බව නම් (පහැදිලිවම ) සඳහන් වෙයි.

හෙළබිම එදා පැවැති අටමස්ථාන වැඳ පුදා ගැනීමේ මෙම සිරිතට අනුව අශෝක මහ රජතුමාද අටමස්ථානයක් ඉන්දියාවේද ඉදිකර ඒවාට වන්දනා ගමන් ගියබව ද පැහැදිලිවම පෙන්වා දිය හැකිය. අශොක් ශිලා ලිපිවල සඳහන් වන්නේ අශෝක රජුගේ මේ වන්දනා ගමන් ගැනය. අශෝක රජු මේ සියළු ආගම් සඳහා තැනවූ මෙම පොදු අටමස්ථානයන් ශිලාදිත්‍යය රජුගේ පාලන සමය වන විට, ශිව ආගමේ වේද ආගමේ, හින්දු ආගමේ අටමස්ථානයක් බවට පත්ව තිබූ බව දිව්‍යාවධානය , ලලිත විස්තරය වැනි සංස්කෘත පොත්වල පැහැදිලිවම සඳහන් කර ඇත.

## 16. සිරි සම්බුදු, සිරි සද්ධර්මය හා සිරි ලක් දෙරණ

අප උපන් මේ සිරි ලක් දෙරණෙහිම උපත ලබා, බුද්ධත්වයට පත් වූ එමෙන්ම සිරි සද්ධර්මයද දේශනා කළ ගෞතම බුදුපියාණන් ජීවත් වූ ඒ අතීත යුගයේදී මේ හෙළබිමේම ජීවත් වූ පොදු මහජනයා මෙන්ම රජසිටු වරුන්ද ගෞතම බුදුපියාණන් වහන්සේ හැඳින්වීම සඳහා භාවිතා කරන ලද ගෞරවනීය විශේෂණ නාමයක් විය. ඒ නාමය නම් "**සිරි**" යන නාමයයි.

"**සිරි** දළදා සමිඳු, **සිරි** දන්තධාතුන් වහන්සේ , **සිරි** දළදා, **සිරි** මහ බෝ සමිඳු **සිරි** මහ බෝ අංකුර, **සිරි** මා බෝ දක්ෂිණ ශාඛාව , බුදු **සිරි** පතුල , **සිරි** පා සමනොළ , **සිරි** පා , බුදු සිරිපා , **සිරි** දෙසුම , **සිරි** සද් ධර්මය , **සිරි** වරුණ , **සිරි** මළුව මහ **සිරි** සඟ ගණ

සිරි ලක්බිම, සිරිලක් දේශය , සිරි දේශය , සිරි ලංකා , සිරි සඟ මොක් , සිරි නිවන් , **සිරි** සැප, **සිරි** දෙස්ම"

මේ ආකාරයෙන් හැම යෙදුමකම "**සිරි**" යන විශේෂණ නාමය භාවිතා කළේ ගෞතම බුදුන්ට, ගෞතම බුද්ධ ධර්මයට , ගෞතම බුදුන්ගේ ශාරීරික ධාතුන්ට, පාරිභෝගික හා උද්දේශික වස්තුන්ට මෙන්ම ගෞතම බුදුන් වැඩ සිටි මේ ද්විපය හඳුන්වන්නට යෙදුන බව හැම විටකම ආදී හෙළයන්ගේ බස් වහරෙහි භාවිතා කළ මෙවන් විශේෂණ පද වලින් පැහැදිලි වෙයි.

"ගෞතම සිරිපාද වදිමි සමනොළ කන්දේ "



යනුවෙන් අතීතයේ මෙන්ම අදත් හෙළ දිව බෞද්ධයා සමනොළ සිරිපා වදින්නට යන බව කවුරුත් දන්නා දෙයකි.

බුදු **සිරි** පතුළ බුදු **සිරි** පා , සමනොළ **සිරි** පා **සිරි**පාද කන්ද ආදී පදවලින් එදා හෙළබිම බෞද්ධයා "**සිරි**" යන විශේෂණ පදයෙන් හැඳින්වූයේ ගෞතම බුදුපියාණන් වහන්සේටමය.

"චක්කවරංකිත රත්ත සුපාදෝ" ආදී වශයෙන් එදා ගාථාවන් පද බැඳ බුදු **සිරි** පාද පද්මයෙහි තිබූ එකසිය අටක් වූ විශේෂ ලක්ෂණ සිහිපත් කරමින් වන්දනා මාන කරගත්තේ මේ රටේම වැඩ වාසය කළ ගෞතම බුදුපියාණන් වහන්සේගේම **සිරි** පාද පද්මයන්ටමය.

ගෞතම බුදුපියාණන් වසර 45ක් පුරාවටම දේශනා කළ උතුම් බුද්ධ ධර්මය "**සිරි**" සද්ධර්මය "**සිරි** දෙසුම" යනුවෙන් එදා අතීත හෙළ පොත්වල සඳහන් විය. **සිරි** සඳහම් මඟ ආදී වශයෙන් අදටත් හෙළබිම බෞද්ධයෝ **සිරි** යන විශේෂණ පදය බුද්ධ ධර්මයටත් භාවිතා කරති.

**සිරි** මහා බෝ සමිඳු , **සිරි** මහා බෝ අංකුර , ජයසිරිමහා බෝධිය , අනුරපුර ජයසිරි මහා බෝධිය ආදී වශයෙන් අදටත් "**සිරි**" යන විශේෂණ පදයෙන් ඇසතු බෝධිය හඳුන්වනු ලැබේ. එදා ගෞතම බුදුපියාණන්ට ඒ උතුම් බුද්ධ තත්වයට පත්වීමේදී පිටදී මට උපකාර වූ ඇසතු ගසට පසු කළෙකදී හෙළ බිම වැසියෝ **සිරි** මහා බෝධීන් වහන්සේ යන ගෞරව නාමයෙන් ආමන්ත්‍රණය කළේ බුදුන් සිහිපත් කරන්නටමය. එතෙක් කාලයක් ඇසතු ගස ලෙසින් ලෝකයා හැඳින් වූ වෘක්ෂය මින් මතුවට **සිරි** මහා බෝධීන් වහන්සේ බවට පත්විය.

වසර 2600කට පෙර ගෞතම බුදුන්ට බුද්ධත්වයට පත් වීමට උපකාර වූ උතුම් ජය **සිරි** මහා බෝධීන් වහන්සේ පිහිටි ගමේ නමද මේ

ආකරයට වෙනස් විය.

**"සිරි** වැඩ උන්න ගම" යනුවෙන් මෙම ගමට එදා අළුතින් නමක් ආරෝපනය කර භාවිතා කළ අතර එය අද වන විට සිරි වැඩ "උන්නගම " හිරි වැඩ හුන්න ගම" නමින් ව්‍යවහාරයට පත් ව කටවහරට පුරුදු කර ඇත. මේ ගමේ නියම නිවැරදි නම "**සිරි**වැඩ උන්න ගම" යන්නයි. ගෞතම බුදුපියාණන් වහන්සේගේ ශාරීරික ධාතූන් හා කේශ ධාතූන් තැන්පත් කර ඉදිකල වෙහෙර විහාර ධාතු මන්දිර සියල්ලටමත් "**සිරි** දළදා මැඳුර, සිරි දන්ත ධාතු මන්දිරය, සිරි දළදා කරඬුව, සිරි ලලාට ධාතුව ආදී වශයෙන් හෙළ වැසියෝ අදටත් සිරි නමින් නම් කරති.

ගෞතම බුදුපියාණන් බුද්ධත්වයට පත් වී නොබෝ දිනකින්ම තපස්සු භල්ලුක නම් වෙළෙඳ දෙබෑයන්ට ලබා දුන් කේස ධාතූන් වහන්සේලා තැම්පත් කර ඔවුන් විසින් එදා ඉදිකරන ලද සෑය අද ගිරිහඬු සැය යැයි නම් විය. එය ඉදිකළ ස්ථානය අද තිරියාය නමින් නම් කර ඇත.

එදා මුල්ම යුගයේ මෙම සැය "සිරි හඬු සෑය" යන නමින් නම් කර තිබුණි. "සිරි හඬු සැය" යනුවෙන් මේ සැයට එදා නම් කළේ ගෞතම බුදුන්ගේම කේස ධාතු වලට " **සිරි** හඬු" යන නම එදා භාවිතා කළ බැවැනි. එදා මේ **සිරි** හඬු තැන්පත් කළ ප්‍රදේශය , සිරියාය" නමින් නම් කර තිබුණි. **සිරි** හඬු සෑය , ගිරි හඬු සෑය බවටත් සිරියාය , තිරියාය බවටත් භාවිතයෙන්ම වෙනස් විය. එදා ඈත අතීතයේ හෙළ බිම වැසියෝ බුදුගුණ වර්ණනාව ,"සිරි වරුණ" ලෙසින්ද බුදුන්ට වැඳුම් පිදුම් කළ තැන "සිරි මළුව" ලෙසින්ද ඒ පිළිවෙත් බුදු සිරිත් ලෙසින්ද නම් කර භාවිතා කරන්නට පටන් ගත්හ.



මේ අනුවම එදා ගෞතම බුදුන් ජීවත් වූ රට බුදු බණ දේශනා කළ දේශය, දීපය , **සිරි** ලක්බිම , **සිරි** දේශය යනුවෙන්ද භාවිතා වීම සිදුවිය. මේ සිරිලක , ඒ සිරිලක , ඒ සිරි බර මේ **සිරි** ලක "**සිරිලක් දෙරණ** " ආදී වශයෙන් "**සිරි**" විශේෂන පදය යොදා **සිරි** ලංකාව යනු මේ නම අප රටට මෙසේ භාවිතයට ලැබුණේ ගෞතම බුදුන් වහන්සේ නිසාමය ගෞතම බුදුන් මේ ද්විපයේ උපන් නිසාමය. මේ රටේදීම බුද්ධත්වයට පත් වූ නිසාමය. මේ ද්විපය බුද්ධ දේශය බව කියා පාන්නටම "**සිරි දේශය**" ලෙසින්ද එදා මේ නම භාවිතා කරන ලදී. "**සිරි දේසේ වැසියෝ කිපි**" යැයි පැරණි හෙළ කවියක්ද ඇත. මේ අනුව අපේ හෙළ දිවයිනට ගෞතම බුදුන්ගේ බුද්ධත්වයට පත්වීම නම් උතුම් සිදුවීමත් සමඟම **සිරි දේශය**, **සිරි ලක් දෙරණ**, **සිරි ලංකා** නාමයන්ගෙන් විශේෂණ පදයක්ද සහිතව එදා ලෝකයා පොත පතෙහි පවා ලියා තැබූ බව පෙනේ.

පසු කළෙක **"සිරි"** යන උතුම් නාමය "**ශ්‍රී**" යන සංස්කෘත පදය (වචනය)හා පටලවාගෙන සංස්කෘත සුන්ගාරාත්මක බලපෑම නිසාවෙන් සිරි ලංකා සිරි දේශය යන්න ශ්‍රී ලංකා යැයි නම් කෙරිණි. මේ රට "**සිරි ලක් බිම**" **සිරි දේශය**, සිරිලක් දෙරණ මිස **ශ්‍රී** ලංකා නොවේ. "**සිරි** " යනුවෙන් විශේෂයෙන්ම මේ රටට එදා භාවිතා කළේ ගෞතම බුදුන්ට සත් වරක් පුජා කළ මේ ද්විපයේ මේ දේශයේ ඇති සම්බන්ධය පෙන්වීම සඳහාම කළ පැරණි අර්ථ ගැන්වීමක් නිසා මිස මෙය අහම්බෙන් ලැබුණු නාමයක් නිසා නොවන බව අවධාරණයෙන්ම **සිරි** ලක්බිම වැසියන් සිහිපත් කර ගත යුතුයි. දැන ගත යුතුයි.

නිවැරදි හෙළවහර "**සිරි** යන්න" මිස ශ්‍රී යන්න නොවේ. "සිරි ධම්මාලංකාර " යන නාමයද මේ අනුව ධර්මතාවයෙන් ලැබුණු අර්ථ ධර්ම

සහිත වූ විශේෂණ නාමයකි. සිරි සද්ධර්මය මතුකර ලෝකයාට දේශනා කරමින් පෘථග්ජන ලෝකයාගේ දහම් පවස නිවා දමන්නට සංසාර ගැටළුවෙන් ලෝකයා මුදවා ගන්නට මඟ කියා දෙන්නට බුද්ධ ධර්මය දේශනා කිරීම "සිරි ධම්මාලංකාර" යන නාමයේ අර්ථ ධර්මයයි. අද මේ ආකාරයෙන් ඉටු කරනු ලබන මේ යුග මෙහෙවර සිරි සද්ධර්මය දේශනා කර **සිරි** සඝ මොක් සඳහා මඟ විවෘත කර දීමයි. මෙහි වෙනත් ලෞකික පරමාර්ථයක් ඇත්තේම නැත.

මේ අනුසාරයෙන් පැහැදිලි කර දෙන්නේ එදා අතීතයේ මේ හෙළ බිම ජීවත් වූ බෞද්ධයින් ගෞතම බුදුපියාණන්ට මෙන්ම ගෞතම බුදුපියාණන් දේශනාකළ ධර්මයට, උද්දේසික, පාරිභෝගික, හා ශාරීරික ධාතූන් වහන්සේලා සිරි යන නම භාවිතා කළ ආකාරයයි.මේ අනුව සිරි ලක් බිම යන නමද මේ හෙළ බිමට භාවිතා කෙරිණි. ලෝකයේ වෙනත් කිසිම රටකට **සිරි** යන නම මේ අර්ථයෙන් භාවිතා වන්නේද නැත.

## 17. චක්‍රවර්ති රාජ සංකල්පය හා සක්විති රජ පරපුර

චක්‍රවර්ති රාජ සංකල්පය පිළිබඳව කරුණු ලියැවී ඇත්තේ ලංකාවේදීම එදා ලියූ ත්‍රිපිටකයේය. චක්කවත්ති සීහනාද සූත්‍රය චක්කවත්ති සූත්‍රය ආදී සූත්‍ර කිහිපයකම චක්‍රවර්ති රජුන් පිළිබඳව තොරතුරු ත්‍රිපිටකයේ ලියැවී ඇත. මීට අමතරව බුද්ධ චරිතයේත් මේ පිළිබඳවම සටහන් වී ඇත.

බුදු සිරිතේ එන සිදුහත් කුමාරෝත්පත්තිය සිදු වීමෙන් පසුව නම් තබන්නට අසිත තවුසා ඇතුළු අභිඥා ලාභී තවුසන් රජ ගෙදරට කැඳවා



කුමරු පෙන්වූ කළ "මෙම කුමාරයා මතු සක්විති රජු වන්නේය. එසේ නැති නම් බුදු වන්නේය." යන ප්‍රකාශය තවුසන් බොහෝමකගේ මතය විය. මේ ප්‍රකාශය කරන තවුසන් අභිඥා ලත් අය නිසා මෙම ප්‍රකාශය තුළින් ගම්‍ය වන එක් සත්‍යයක් අපට මතුකර ගත හැකිය.

මේ සත්‍යය නම් ලොව්තුරා බුදු කෙනෙකු බුදු වන්නේ නම් ඒ යුගයේදී සක්විති රජකෙනෙකු රජනොවන බවත් සක්විති රජ කෙනෙකු රාජ්‍යත්වයට පත්වන්නේ නම් ඒ යුගයේදී බුදු කෙනෙකු බුද්ධත්වයට පත් නොවන බවත්ය. මේ සිදුවීම් දෙකම, එනම් බුදුන් බුද්ධත්වයට පත්වීමත් රජකෙනෙකු සක්විති රජ බවට පත්වීමත් යන දෙකම එක යුගයක, එකට සමගාමීව සිදු නොවන අභව්‍යය දෙයකි යන්නයි.

මේ මගින් ඔප්පුවන අනෙක් සත්‍යය නම් සියලුම බුදුවරුන් බුදු වන මේ හෙළ බිමේම මිස මේ මිහිතලය මත වෙනත් කිසිම තැනක රටක චක්‍රවර්ති රජ කෙනෙකුන් උපත ලබන්නේද, රජ කරන්නේද නැත යන්නයි.

තවත් එක වැදගත් කරුණක් මෙහිදී පෙන්වා දිය හැකිය, චක්කවත්ති, සීහනාද සූත්‍රයේ පෙන්වා දෙන පරිදි චක්‍රවර්ති රාජ සමයක ඒ චක්‍රවර්ති රජවරු දසරාජ ධර්මයෙන්ම රාජ්‍යය කරවති. මහජනයා බහුතරයක්ද ධර්මානුකූලව තම දිවිපැවැත්ම ගෙන යති. රජු සාධාරණය. පාලකයෝ සාධාරණය. ඒ නිසා මිනිසුන්ට පව්කම් කරන්නට කිසිම අවශ්‍යතාවයක්ද නැත. පින්කම් කරගන්නට හැකි සෑම පරිසරයක්ම සෑම අතින්ම එහිදී සකස් වෙයි. නමුත් පින්කම් කරමින් සැප සම්පත් විඳිමින් දිගුකල් ජීවත් වන පෘථග්ජන මිනිසුන්ට දුක අවබෝධ කරගන්නට

අවස්ථාවක් එහිදී නොලැබෙයි. ඒ නිසා පින්කම් මිසක් කුසල් කර කුසලස්ස උපසම්පදා කර ගැනීමට මිනිසුන්ට දැනීමක් ලබාගන්නට ක්‍රමයක් චක්‍රවර්ති රජෙකුගේ පාලන යුගයේදි නැති වෙයි. මෙවන් යුගයක නිවන් අවබෝධ කරගන්නට මිනිසුන්ට ක්‍රමයක් හෝ හැකියාවක්ද නැත. නිවන් දැකගැනීමේ අවශ්‍යතාවයක් ඇත්තේද නැත. ඊට හේතුව දුක අල්පවීමයි. දුක අවම වීමයි. සමාජය යහපත්ය. අග හිඟකම් නැත. රජු සර්ව සාධාරණය දසරාජ ධර්මයම රකිත් රජු අනුගමනය කරන සියලුම ඇමතිවරු හා රට වැසියෝද දස අකුසලයෙන්ම වැලකී පින්කම් කරමින් පින් පුරමින් දිගු කල් වාසය කර මිය පරලොව යති.

චක්‍රවර්ති රජවරුන් රාජ්‍යය කරන සමය මෙසේ පින් පුරාගත්, මතු නිවන් දැක ගන්නට තරම් වාසනාව ලැබූ දෙවි මිනිසුන් බොහෝ කොට බිහිවන යුගයක් නිසා ඉන් පසුව එළඹෙන යුගය නියත වශයෙන්ම බුදුකෙනෙකුගේ උපතක් ලබන බුද්ධ කල්පයක්ද වන්නේමය. චක්‍රවර්ති රාජ සමයකදි මිනිසුන්ට හෝ දෙවියන්ට හෝ නිවන් දැක ගන්නට ක්‍රමයක්ද නැත. කුසල් යනු කුමක්දැයි දන්නා කුසල් හඳුනන කෙනෙකුද එහි නැත. දහම්සොඬ ජාතකයේ ද මේ පුවත සඳහන්ව ඇත. පසේ බුදුවරයෙකුට මිස වෙනත් කිසිම කෙනෙකුට මෙවන් යුගයකදි නිවන් දැකගන්නටද නොහැකිය.

මේ අනුව ලොව්තුරු බුදු කෙනෙකු බුද්ධත්වයට පත්වන බුද්ධ කල්පයකට පෙර - බුදු කෙනෙකුගේ උපත ලබන්නට පෙර හැම විටම සක්විති රජ පරපුරක් බිහි වී රජ වී නිවන් දකින්නට තරම් බලවත් පින්කම් කරගත් පින්පිරූ විශාල මිනිසුන් දෙවියන් සමූහයක් සකස් වී බිහි වීමද ධර්මතාවයෙන්ම සිදුවිය යුතුමය. මෙය පුබ්බේත කථ පුඤ්ඤතා යුගය වේ.

මේ සියලු දේම සිදු වන්නේත් මේ හෙළබිම තුළදීමය. අතීතයේ සියලු බුදුපියාණන් වහන්සේලා බුද්ධත්වයට පත් වූයේත් අතීතයේ සියලු චක්‍රවර්ති රජවරුන් රජකම් කළේත්, මේ හෙළදීපය, ලෝකෙන්ම උතුම් රට මුලස්ථානය කරගෙනමය. ඉන්දියාවේ හෝ ලෝකයේ වෙනත් කිසිම රටක හෝ මෙවන් උත්තම සිදුවීම් සිද්ධවීමට නම් අවකාශයක් නැත්තේමය. එවන් විශ්ව ශක්තියක් කේන්ද්‍ර ගත වී පවතින්නේ මේ මිහිතලයේ මධ්‍ය ලක්ෂය වූ හෙළදීපය නමින් මේ යුගයේදී අප හඳුන්වන අප උපන් අපේම ජන්බුද්වීපයෙහිමය. සිරි ලක් බිමෙහිමය.

බුද්ධ සාහිත්‍යයේ ත්‍රිපිටක සාහිත්‍යයේ කේතුමති නම් රාජධානියක් මතු බිහිවන බව සඳහන්ව ඇත. ඒ ගැන බොහෝ විස්තර ද තොරතුරුද අප අසා දැන ගෙන ඇත. මේ බුද්ධ කල්පය එනම් ගෞතම බුද්ධ ශාසනය , අවසන් වී වසර (111) එකසිය එකොළහකට පසුව මේ හෙළබිමේම කේතු නමින් පරපුරක් බිහි වී දසරාජ ධර්මයෙන් රජකම් කරන චක්‍ර වර්ති රජවරුන් ලොව රජකරන්නට පටන් ගන්නා යුගයක් මතු වෙන්නේය.

ගෞතම බුද්ධ ශාසනය ජීවමානව පවතින තුරු කුසල් පුරාගෙන නිවන් අවබෝධ කර ගන්නට මාර්ගය ජීවමානව පවතින තුරු , (මේ යුගය පන දහසක් චතුරාර්ය සත්‍ය පන පවතින යුගය යැයි ත්‍රිපිටකයේ සඳහන්ව ඇත. එනම් එදා ඉසින්බැස්ස ගල ඉසිපතනාරාමයේදී ගෞතම බුදුපියාණන් පැවැත් වූ ධර්ම චක්‍රයේ බලය (පණ) පවත්වන තුරාවට දෙවි මිනිසුන්ට නිවන් අවබෝධ කර ගන්නටත් හැකිවෙයි. ඒ ගෞතම බුදුපියාණන් එදා පැවැත් වූ ධර්ම චක්‍රය පවත්වා ලොවට නිකුත් කල බුද්ධ ශක්තිය අවසන් වූ විට ඉන් පසුව එන යුගය කළි යුගයක් වන්නේය. කළි

යුගය යනු කෙළෙස් සහිත වූ මිනිසුන්ගෙන් පිරී පව්කම් කරන මිනිසුන් බහුල යුගයක්ය යන්නයි. කළි යුගයට පසු කල්ප විනාශයක් නැවතත් චක්‍ර වර්ති රාජ යුගයත් බිහි වෙයි. මේ අනුව සෑම ලොව්තුරා බුදු කෙනෙකුගේම බුද්ධත්වය ලබන්නට පෙර යුගය චක්‍ර වර්ති රාජ යුගයක් වීමද නියත වශයෙන්ම ධර්මතාවයෙන්ම සිද්ධ වන්නකි.

මෛත්‍රී බුදුන් මතු බුද්ධත්වයට පත්වන්නට පෙර කේතු නම් චක්‍රවර්ති රජපරපුරක් මතු මේ හෙළ බිමේ රජකම් කරන්නේය. මෙහිදී රජවරුන් හත් දෙනෙක්ම චක්‍ර වර්තී රජවරුන් ලෙසින් ධාර්මිකව රජකම් කර මිනිසුන්ට පින් පුරා ගන්නට , පින් කම් කර ගන්නට අවස්ථාව ලබා දෙති. ඉන්පසුව චක්‍ර වර්තී රජපරපුර අවසන් වී වසර 99කට පසුව , මෛත්‍රී බුදුපියාණන්ගේ බුද්ධත්වයට පත්වීමද සිදුවන්නේය.

ගෞතම බුදුපියාණන් බුද්ධත්වයට පත්වන්නට පෙර යුගයේ මේ හෙළබිමේම රාවණා නමින් චක්‍ර වර්ති රාවණ රජුන් 7දෙනෙකුම රජ කළේය. එම රාජ්‍ය කාලය අවසන් වීමෙන් පසුව චක්‍රවර්ති බල ශක්තිය අහිමි වී ගිය අටවැනි රාවණ රජු රාමායනයේ සඳහන් වන අද අප දන්නා රාවණා රජුය. බොහෝ තොරතුරු රාමායනයේද සඳහන්වන මෙම රාවණා රජතුමාද චක්‍රවර්ති පරපුරේම කෙනෙකි. නමුත් චක්‍රවර්ති බලතල සියල්ලම අහෝසී වී ගිය රාවණා රජ කෙනෙකු හා රාම නම් ඉන්දිය රජ කෙනෙකු අතරත් යුද්ධය ඇති විය. චක්‍ර වර්ති රජකෙනෙකුට යුද්ධ කර බලය පා රටවල් දිනාගැනීමක් අවශ්‍ය නොවේ. චක්‍ර රත්නය භාවිතා කර ධර්මතාවයෙන්ම ලොව සියළු රටවල් හා රජවරුන් තම පාලනයට ධර්මතාවයෙන්ම අවනත කර ගැනීමේ හැකියාවක් හා බලයක් චක්‍ර වර්ති රජුන් සතුව පවති. ලංකාවේ අප අසා ඇති රාමායණයේද සඳහන් වන



අද බොහෝ දෙනාගේ වාද විවාද වලට භාජනය වූ අටවැනි රාවණාරජු අන්තිම හත්වැනි චක්‍ර වර්ති රාවණා රජුට පසුව රජු වූ ඔහුගේම පුත්‍රයාය. දස රාජ ධර්මයන් බිඳීම නිසා ඔහුට චක්‍ර වර්තී බලය හා සක්විති රජ කම අහිමි විය. ඔහු සාමාන්‍ය පාරම්පරික රජ කෙනෙක් පමණි. මේ අනුව රාම-රාවණා පුවතේ සඳහන් වන රාවණා රජු සක්විති පරපුරටම අයත් සාමාන්‍ය රජ කෙනෙකි.

ගෞතම බුදුන් බුද්ධත්වයට පත්වන්නට 242කට පමණ පෙර යුගයක මේ හෙළ බිමේම ඒ අවසන් චක්‍ර වර්ති රාවණා රජු රජකම් කළේය. මේ ආකාරයට රාවණ පරම්පරාවටම අයත් වූ චක්‍ර වර්ති රජවරුන් හත් දෙනෙක්ම මේ හෙළ බිම් දීර්ඝ කාලයක් රජ කරමින් ගෞතම බුද්ධ ශාසනයේදී නිවන් දැක ගන්නට තරම් පින් කම් කර ගන්නටත් විශාල පිරිසකට අවස්ථාවක් සලසා දුන්හ.

කාශ්‍යප බුදුපියාණන් වහන්සේ බුද්ධත්වයට පත් වූ යුගයේදී මෙම ජන්බුද්වීපයම මණ්ඩ ද්වීපය නමින් හැඳින්වීය. මණ්ඩද්වීපයේ කාශ්‍යප බුදුපියාණන් බුද්ධත්වයට පත්වන්නට පෙර “තාරක” නමින් චක්‍රවර්ති රජවරු 14 දෙනෙක්ම අති දිර්ඝ කාලයක් රජකම් කළහ. කාශ්‍යප බුදුපියාණන් යුගයේ දී බොහෝ දෙවි මිනිසුන්ට නිවන් දැක ගන්නට අවස්ථාව ලැබුණේ අති දිර්ඝ කාලයක් තුළ පිංපිරූ මිනිසුන් බිහිවීමේ හේතුව නිසාමය.

මේ ආකාරයෙන්ම කෝණාගම බුදුපියාණන් බුද්ධත්වයට පත්වන්නට පෙර යුගයේදී “බලි, නමින් චක්‍රවර්ති රජ පරපුරක් මේ ජන්බුද්වීපය තුළම සක්විති රජකම් කළහ. එකල මේ දීපය ඔජ දීපය නමින් විය. “බලි” චක්‍රවර්ති රජවරු 7 දෙනෙක්ම ඒ යුගයේදීද රජකම් කළහ.

කකුසඳ බුදුන් බුද්ධත්වයට පත්වන්නට පෙර යුගයේදී මේ දීපය වර දීපය නමින් හැඳින්වීය. "මන්දාතු" නමින් සක්විති රජවරුන් 5 දෙනෙකු ඊට පෙර යුගයේදී රජකම් කළ බවද පෙන්වා දිය යුතුය.

මෛත්‍රී බුදුපියාණන් මතු බුද්ධත්වයට පත්වීමෙන් පසුව එම යුගයේදී මේ හෙළ බිමේ චක්‍ර වර්ති රජපරපුරක් බිහි නොවන නිසා ධර්මය විනාශ වී අධර්මයම රජ යන්නටම පටන් ගනී. මේ නිසා මේ යුගය අවසානයේ ලෝකවිනාශයක් සිදුවන්නටම සියළු මිනිසුන් අධර්මයෙන්ම ක්‍රියාකරන යුගයක් බවටත් පත්වෙයි. ලෝක විනාශයෙන් පසුව නැවත සත්ව වාසය සඳහා නුසුදුසු තත්වයට පත්වීම සිදුවන නිසා මහා භද්‍ර කල්පයක් පුරාවටම මේ මිහිතලය මත බුදු කෙනෙකුන් බුද්ධත්වයට පත් වීමක් සිදුවන්නේද නැත.

මහා සම්මත රජපරම්පරාවෙන් ආරම්භ වූ මෙම මහා බද්‍ර කල්පය මෛත්‍රි බුදුන්ගේ බුදුවීමත් සමඟම උදා වන බුද්ධ කල්පයද අවසන් වී යාමත් සමඟම ටික කලකින් අබුද්ධෝත්පාද කාලයද අවසන් වී ලෝක විනාශය වීමද සිදු වන්නේය. මහා වංශයේ පළමුවන පරිච්ජේදයේද මේ බව සඳහන් වෙයි.

අප උපන් මේ හෙළ බිමේ හැර මේ මිහිතලය මත වෙනත් කිසිම රටක , වෙනත් කිසිම දීපයක සක්විති රජ කෙනෙකුගේ රජවීම හෝ බුදු කෙනෙකුගේ බුද්ධත්වයට පත්වීම හෝ සිද්ධ වීමක්ද නොවන්නේය. මිහිතලයේ මධ්‍ය මණ්ඩලය එනම් පෘතුවියේ මධ්‍ය ලක්ෂයේ යහපත් කෙළවර පිහිටා ඇත්තේ මේ අප උපන් හෙළබිමේය. එහි අයහපත් අන්තය කෙළවර පිහිටා ඇත්තේ බර්මියුඩා ත්‍රිකෝණය නමින් අද ලෝකයා හඳුන්වන අනෙක් කෙළවරේය. මේ නිසාම මේ දිවිපය , මේ රට , ලෝකයෙන්ම උතුම් රට පෙර දිග මුතු ඇටය රත්න දිපය, ජන්බුද්විපය,



ධර්ම දීපය ආදී විවිධ විශේෂණ පද වලින් අතීතයේ පටන්ම ලෝකයා හඳුන්වා දී ඇත.

සක්විති රජවරුන්ගේ ගති ලක්ෂණයන් හා බලයන් ගැන ත්‍රිපිටකයේ චක්ක වත්තී සීහ නාද සූත්‍රයේ විස්තර වශයෙන්ම කරුණු සඳහන් කර ඇත. බෞද්ධ ත්‍රිපිටක සාහිත්‍යයේ හැර ලෝකයේ වෙනත් කිසිම ඓතිහාසික පොතක පතක සාහිත්‍යයක හෝ චක්‍රවර්ති රජු න් ගැන සඳහන් වන්නේ නැත. සක්විති රජු" යනු බුද්ධොත්පාද කාලයක් නොවන අබුද්ධොත්පාද කාලයකදී රජකම් කරන, දස රාජ ධර්මයම අනුගමනය කරන, අනාර්ය ධ්‍යානයන් හා අභිඥා බලයන් ලබා ගත් අති උසස් මානසික ශක්තියකින් හා චක්‍ර රත්නය , හත්ථි රත්නය, අස්ස රත්නය, මනි රත්නය , ඉත්ථි රත්නය, ගෘහපති රත්නය හා පරිනායක රත්නය යන රත්න 7ක් හිමි කරගත් රජකෙනෙකි. මෙවන් යුගයක සතර සති පට්ඨානය , සත්තබෝජ්ඣංග අට්ඨාංගික මාර්ගය ආදී බෝධිපාක්ෂික ධර්මයන් සම්පූර්ණ කර ගන්නට අවශ්‍ය දැනුම ප්‍රඥාව, මිනිසුන්ට ලබා ගත නොහැකිය. මේවා ගැන ඇසු පිරුතැන් ඇති අයද රටේ ලෝකයේ නැත. චක්‍ර වර්ථි රජ යුගය හැම කෙනෙකුන්ම ලෞකික සුවයන් විදිමින් පින් කම් කරමින් සුවසේ කාලය ගෙවන යුගයකි.

වර්තමානයේ ලෝකය තුළ සිදුවන්නාක් මෙන් මිනිසුන් තලා පෙලා යුද්ධ කරමින් දැඩි නීතිරීති පනවා වෛර සිතින් අධර්මයෙන් රටවල් යටත් කර ගැනීමක් හෝ අධිරාජ්‍යයන් බිහි කරීමක් හෝ චක්‍රවර්ති රාජ්‍යයක ගති ලක්ෂණ නොවේ. සියළු සැප සම්පත් ලැබෙන්නේ ධර්මතාවයෙන්මය. චක්‍ර රත්නය ක්‍රියාත්මක වීමෙන් ධර්මතාවයෙන්ම සියළු රටවල් , සියළු රජවරු චක්‍ර වර්ථි රජුගේ අනසකට අවනත

වෙයි.කිසිවෙකු චක්‍රවර්ති රජ කෙනෙකුට විරුද්ධ වීමට පවා නොසිතති. මෙවැනි ධර්මික, උතුම් සක්විති රජවරු අතීතයේ මේ හෙළබිමේ රජකම් කළහ. ලෝකයේම පාලනය කළහ. සක්විති - චක්‍රවර්තී- යන විරුධාවලිය, විරුදාවලි නාමය සාමාන්‍ය පෘථග්ජන පුද්ගලයෙකු විසින් තම භාවිතයට යොදා ගත්තොත් ඒ පදයේ නාමයේ ඇති බලය දරන්නට නොහැකි ඒ පුද්ගලයා ඉමහත් දුක් ගැහැටට පත් වීමද නියත සිදුවීමකි. මේ අනුව චක්‍ර වර්තී නාමය දැරීමට නම් දස රාජ ධර්මයෙන් හැසීරි ධර්මයේ බලය ලබා ගත යුතුමය.

## 18. මහා වංශය- ත්‍රිපිටකය හා බුද්ධ භාෂිතය

ගෞතම බුදුපියාණන් මාගධී බස් වහරෙන් වසර හතළිස් පහක් පුරාවටම මේ හෙළබිමේදී ලෝකයාට දේශනා කර වදාළ බුද්ධ ධර්මය පේලි වශයෙන් පෙළ ගස්වා කටවහරෙන් වනපොත් කරගෙන පරම්පරාවෙන් පරම්පාරාවට පවත්වාගෙන යන්නට සුදුසු ලෙසින් සකස් කරන ලද්දේ උන් වහන්සේ ජීවමානවම වැඩ සිටී යුගයේදීමය. අසුමහා ශ්‍රාවකයින් වහන්සේලා අතරින්ම ඒ වෙනුවෙන්ම ක්‍රියා කල මහා කස්සප මහ රහතන් වහන්සේ , මහා කච්චායන මහා ප්‍රාඥයින් වහන්සේ ආනන්ද රහතන් වහන්සේ ආදී පිරිසක් එදා මේ දහම් පෙළ ගස්වා පවත්වා ගෙන ආවෝය.

පළමුවන ධර්ම සංගායනාව පැවැත්වීමේ ඓතිහාසික පුවත ලෝකයාට හෙළි දක්වන්නේ මේ ලංකාවේදීම ලියූ මහා වංශයේ තුන්වන පරිච්ඡේදයෙනි. මහා වංශය ලංකාවේදීම ලියූ පොතක් බවත් සහතික නම් , එහි ලියා තැබුවේ ලංකාවේම ඉතිහාසය බවත් සහතික නම්, මහා වංශය ලියා දක්වන මේ පළමුවන ධර්ම සංගායනාව රජගහ නුවරදී



පැවැත්වීමේ කථා පුවතින් දක්වන්නේ මහා වංශයේම නම් මෙය මේ හෙළබිමේ දී, හෙළබිම , (රජගල ) රජගහ නුවරදී සිද්ධ වුවක් බව ඕනෑම කෙනෙකුට තීරණය කළ හැක මෙවන් සංගායනාවක් භාරත දේශයේදී එදා පැවැත්වී නම් ඒ බව භාරතයේදී සමකාලීනව ලියූ පොත් පත් වලද සඳහන් විය යුතු වම තිබිණි. නමුත් එසේ සඳහන් වී නැත. මෙම ධර්ම සංගායනාව පැවැත් විම සඳහා වැඩම කර උගත් වියත් පන්සියයක් වූ මහා අරහතුන් වහන්සේලා වැඩම කර වදාළේ රජ ගහ නුවර රජගල ආශ්‍රිතව එවකට පිහිටා තිබූ විහාර ආරාම 28 කින් හා රුහුණෙන් සිතුල් පව්ව, මාළිගාවිල, දීඝවාපීය, කුඩිම්බිගල, ආදී නම් වලින් අද ප්‍රචලිතව ඇති ආරණ්‍යසේනාසන වලින්ය. ඉන්දියාවේදී මෙවන් ධර්ම සංඝායනාවක් පැවැත් වූ බව ප්‍රකාශ කිරීම මහා මුලාවකි. කුසිනාරානුවරදී (අද බුදුගලදී) ගෞතම බුදුපියාණන්ගේ පිරිනිවන් පෑම සිදු වී මාස 3කින් පසුව රජගහ නුවරදී අම්පාරේ රජගලදී පළමුවන ධර්ම සංගායනාව පැවැත් වූ බව අළුලෙනේදී ලේඛන ගත කළ ත්‍රිපිටකයේද සඳහන් වේ. මේ අනුව ලංකාවේදීම ලියූ මහා වංශය හා ත්‍රිපිටකය යන පොත් දෙකේම සඳහන් වන මේ පළමුවන ධර්ම සංගායනාව පැවැත්වීමේ සිද්ධිය හෙළබිමේදී සිදුවූ ඓතිහාසික සිද්ධියක් මිස ඉන්දියාවේ හෝ භාරතයේදී සිදු වූ දෙයක් ලෙස ප්‍රකාශ කිරීම අමනෝඥ ක්‍රියාවක් බවත් පෙන්වා දීමට කැමැත්තෙමි.

එවකට මගධ දේශයේ පාලකව සිටි අජාසත්ත රජ විසින් පළමුවන ධර්ම සංගායනාව පැවැත්වීම සඳහා සකස් කර දුන් සප්ත පන්නි ගුහාව හා පරිවාර ගුහාපෙළ මෙන්ම අරහතුන් වහන්සේලා 500 නමකට අවශ්‍ය අනෙකුත් සියළු පහසුකම් සලසා දුන් ආකාරය අදටත් අම්පාරේ රජගලට යන ඕනෑම කෙනෙකුටත් දැක බලා ගත හැකිය.

ධර්ම සංගායනාවකට සුදුසු සේ විශාල ගල්කුඩයක හැඩයකට සකස් කර ගත් වටේටම වාඩි වී සැප පහසුවට අරහතුන් වහන්සේලාට වැඩ සිටිය  හැකි සේ සකස් කල මේ සප්තපර්නි ගුහාව මේ හෙළ බිමේ අදටත් දැක ගන්නට හැකි විශ්ම කර්ම නිර්මාණයකි. මෙය අදටත් දැක බලා ගත හැකි ආකාරයෙන්ම රජගල රැකී ආරක්‍ෂා වී පවතී.

මහා වංශය හා ත්‍රිපිටකය ලිවීමෙන් වසර 800කට පමණ පසුව ලියූ බෝධි වංශය , ථූප වංශය, ධාතු වංශය මෙන්ම පොළොන්නරු යුගයේ ලියූ බොහෝමයක් බෞද්ධ සාහිත්‍ය ග්‍රන්ථ වලද මේ සියළු දේ පිළිබඳවම අනුමාන වැරදි මත ප්‍රකාශ කර , මේ සියල්ලම ඉන්දියාවට පිටමන් කිරීම කර ඇත්තේද අපේම රටේදී පොත් ලියූ මධ්‍ය කාලීන ගත් කතුවරුන් විසිනි. ඒ පෘතග්ජන පද පරම සත්‍යය නොදන්නා ගතියයි. පොළොන්නරු යුගයේ දඹදෙණි යුගයේ ගම්පළ යුගයේ සිංහල හා පාලි පොත් ලියූ හැම කතු වරයෙකුටම ඉන්දීය බලපෑම් මෙන්ම, මහා යාන බුද්ධාගමේ බලපෑම් ද ඇති වීම නිසා බුද්ධාගම හා බුද්ධ ධර්මය වෙන්කොට අවබෝධ කර ගන්නට තරම් ඔවුන්ට ධර්මාවබෝධයක් නොවූ බවත්, එම යුගයේදී ලියූ සුංගාරාත්මක වර්ණානාත්මක ලෞකික බෞද්ධ සාහිත්‍ය පොත්පත් වලින් මනාව පැහැදිලි වෙයි.

උතුම් බුද්ධ ධර්මය උපත ලැබුවේත් එදා ජීවමානව පැවතුනේත් අද පවතින්නේත්, මතුවට පවතින්නේත්  මේ උතුම් හෙළ බිමේම පමණක් බව මම නැවතත් අවධාරණයෙන්ම ප්‍රකාශ කර සිටිමි.

බමුණු මත දරණ, බුද්ධාගම් ලේබලය ගසා ගත් බොහෝ පදපරම පුද්ගලයින් උතුම් බුද්ධ ධර්මයේ පෙන්වා වදාළ පරම



සත්‍යයයන් යටපත් කරන්නට, වසා තබන්නටත් අදත් තව දුරටත් බලවත් සේම උත්සාහයක යෙදෙන බවද අවංකවම පෙන්වා දෙනු කැමැත්තෙමි. ඉදිරියටත් ඔවුන් මේ දේම කිරීමට ඉදිරිපත් වීමද පුදුමයට කරුණක් ද නොවේ. නමුත් සත්‍යය ජය ගැනීමට සියල්ල හෙළි දරවු කර පෙන්වා දීමටත් කාලය දැන් එළඹී ඇත.

ගෞතම බුදුපියාණන් පිරිනිවන් පා වදාළ කාලයට පසුව වලගම්බා රජු දවස කෑගල්ලලේ මාතුල අළුලෙනේදී මේ උතුම් බුද්ධ ධර්මය ලේඛන ගත කිරීම දක්වාම වසර 400කට වැඩි කාලයක් මේ ත්‍රිපිටකය කට වහරින් වන පොත් කර ගෙන කටින් කට පවත්වාගෙන එන ලද්දේ රජගල , සිතුල් පව්ව, කුඩිම්බිගල, දීඝවාපිය, බුදුගල හා හබුරුගල මුල්කිරිගල ආදී රුහුණේ හා නැගෙනහිර  මෙන්ම රට මැද පිහිටා තිබු හෙළ තිබේ ආරණ්‍ය සේනාසන වල ජීවත් වූ මඟඵල ලාභී හෙළබිම භික්ෂු පරපුරක් විසිනි. භාරතයේ දී ධර්ම වචනයක්වත් මේ අතීත යුගයේදී කටපාඩම් කර ගෙන පවත්වාගෙන නොආවා පමණක් නොව අසා දැන ගෙන වත් සිටි කෙනෙකුන්ද නොසිටි බවත් අවධාරණයෙන්ම ප්‍රකාශ කර සිටිමි.

අනුරාධපුර මහා විහාරයේ පොත් ගුල්වල එදා තැන්පත් කර තිබූ බෞද්ධ හෙළ හා පාළිපොත් පත් සියල්ලම ගිනිබත් කර පිරිසිදු බුද්ධ ධර්මය ලියා තිබූ පොත් විනාශ කර දැමූ පසුව හෙළබිම බෞද්ධයාට කියවන්නට පරිශීලනය කරන්නට ඉතිරි වූයේ මහායානික අභය ගිරියේ ගඩබා කර ආරක්‍ෂා කර ගත් බුද්ධඝෝෂ හිමියන් විසින් ලියූ පොත් 17ක් පමණි. අභය ගිරි විහාරයේ ජීවත් වූ මහායානයට පක්‍ෂ වූ භික්ෂුන් වහන්සේලාත් මහාවිහාරය විනාශ කල එවකට රටේ රාජ්‍ය පාලනය කල අභය ගිරියට පක්ෂවූත් සිංහල රජුත් යන දෙකොටසම මහායානිකයන්ය. මේ හෙළ අටුවා පොත්පෙළ විනාශ කිරීමෙන් පසුව ආ යුගයේ දී හෙළබිම

බෞද්ධ භික්ෂූන් හා රජදරුවන් බොහෝ දෙනෙකුමත් අගය කොට සැලකුවේත් බුද්ධ ධර්මය ලෙසින් සැලකුවේත් මේ මහායානික මත සහිත පොත්පත්ය. ත්‍රිපිටකය ලියා තැන්පත් කර තිබුණේ අළුලෙනේය. අනුරාධපුරයේද එහි පිටපත් තැන්පත් කර තිබුණා නම් ඒවාද මහාවිහාරය ගිනි තැබීමේදී පිළිස්සී යන්නට ඇත. නමුත් අපේ වාසනාවට අළුලෙනේ තැන්පත් කර තිබූ ත්‍රිපිටකයේ මුල් පිටපත් සතුරන් අතට පත් වුයේ නැත. ඒවා ගිනිබත් නොවී දිගටම අලුතෙන් යළි යළිත් ලිය ලියා අද දක්වාම පවත්වාගෙන ඒමද සිදු වෙයි.

පසු කලෙක ත්‍රිපිටකය සිංහලයට පරිවර්තනය කළ අපේ බොහෝ උගතුන් ත්‍රිපිටකයේ සඳහන් මාගධි වචන වලට පදවලට අර්ථ දැක්වීමේදී උපකාර කරගත්තේ බුද්ධඝෝෂ හිමියන්ගේ ලෞකික ආගම් සංකල්ප සහිත වූ අර්ථ කථා පරිවර්තන වල එන අදහස් හෝ ඒ අර්ථ කථාවලටම පසු කාලයකදී ලියූ ටීකා ටිප්පනී සම්මත ආදී විග්‍රහයන්ය. මේ හේතුන් නිසා බුද්ධ ජයන්ති ත්‍රිපිටකය සම්පාදක මණ්ඩලයේ කටයුතු කළ උගත් භික්ෂූන් වහන්සේලාටත් බහුල ලෙසින්ම විශුද්ධි මාර්ගය ඇතුළු පොත් 17ක පෙන්වා දුන් වැරදි අර්ථ ධර්ම වලට වහල්වී සිංහලයට ත්‍රිපිටක පොත් පරිවර්තනය කරන්නට සිදු වූ බවද පෙන්වා දිය යුතුය. මේ අතරම එදා ත්‍රිපිටකය පරිවර්තනය කල අපේ උගත් ස්වාමීන් වහන්සේලා සංස්කෘත භාෂා විශාරදයින් වීම හේතු කොට ගෙන මාගධි භාෂාව සිංහලයට පරිවර්තනය කිරීමේදී වචන සියයට 50කට වැඩියෙන් භාවිතා කර ඇත්තේ සංස්කෘත භාෂාවේ පදයන්ය. මේ විකෘති වීම් නිසා සිංහලයාට පිරිසිදු ත්‍රිපිටක ධර්මය අවබෝධ කරගන්නට අද වන විට ඉමහත් අපහසු තත්වයක් උද්ගත වී ඇති බවත් කනගාටුවෙන් වුවද ප්‍රකාශ කල යුතුව තිබේ.



මාගධි භාෂාවෙන් කියවා , මාගධි භාෂාවෙන් ම ධර්මය සිතන්නට හැකි, ධර්මාවබෝධයක් ලැබූ උත්තමයා නියත වශයෙන් ම ආර්ය උත්තමයෙකු වන්නේය.

මේ අනුව අදින් වසර 2100 කට පමණ පෙර අතීත යුගයකදී වලගම්බා රාජ්‍ය පාලන සමයේදී, හෙළබිමේ වැඩ විසූ උගත් , වියත්, ධර්ම ධර මඟඵල ලාභී භික්ෂූන් වහන්සේලා විසින් ත්‍රිපිටක ග්‍රන්ථයන් ලෙසින් ලේඛන ගත කර එදා ලියා තැබූ ධර්ම කාරණා අතරින් අපේ හෙළ ඉතිහාසයට අයත් බොහෝ නම් ගම් හා තොරතුරු මෙන්ම එදා මේ රටේ ජීවන රටාවද විවෘත කර , වෙන්කර සොයා දැන ගන්නට , තේරුම් ගන්නට හැකි වන දිනය හා පිළිගන්නට සිදුවන දිනයද දැන් එළඹ තිබේ. ත්‍රිපිටක ග්‍රන්ථවල එන සියළුම නම් ගම්, රාජ්‍යයන් , රජවරුන් , සිටුවරුන්, මගඵල ලාභීන් අරහතුන් වහන්සේලා මෙන්ම අතීත අනාගත වර්තමාන සිද්ධීන්ද මේ සිවු හෙළයටම සම්බන්ධ වූ දේවල් මිස ඉන්දියාවට හෝ මහා භාරතයට හෝ සම්බන්ධ වූ දේවල් නොවන බව අවධාරණයෙන්ම ප්‍රකාශ කර සිටිමි.

ගෞතම බුදුපියාණන් ජීවත්ව සිටි යුගය යැයි අපි අද සම්මතයෙන් පිළිගන්නා රාජ්‍ය වර්ෂ වලින් ක්‍රි.පූ. 589- 543 අතර කාලයේදී හෝ ඒ ආසන්නම කාලයකදී හෝ භාරතයේ දේශපාලනය මහා අවුල් වියවුල් සහිත ග්‍රීක හා පර්ෂියන් ආක්‍රමණ වලින් රට අවුලට පත් වූ බුදුකෙනෙකුට උපත ලබන්නට කිසිසේත් සුදුසු නොවූ සාමයෙන් තොර වූ තත්වයක භාරතය පැවැති බව බෂාම් තුමාද තම ඉතිහාස පොතේ සඳහන් කරයි. බුද්ධ පරිනිර්වාණයෙන් වසර 283 කට පමණ පසුව කාලයකදී අශෝක අධිරාජ්‍යාය භාරත දේශයේ එක් සේසත් කරන

තුරුම එහි මහා අවුල් වියවුල් සහිත අරාජික යුගයක් පැවතිණි. ඒ යුගයේ භාරතයේ දේශපාලනය ගැන කිසිම පොතක පතක හෝ ලියවිල්ලක ලියවී නොතිබීමෙන්ම මේ බව මනාව පැහැදිලි වෙයි.

රීස් ඩේවිස්, ජේර්ජ් ටර්නර් ජේම්ස් ප්‍රින්සස් , එච්.සී. පී. බෙල්. හා කොඩ්රිංග්ටන් කණින්හ් හැම් වැනි සුදු මහතුන් කලේ ලංකාවේ ලියා තිබූ මහා වංශය , දීප වංශය ත්‍රිපිටකය වැනි පොත් වලින් ද පසු කාලීනව පොලොන්නරු දඹදෙණි යුගවල ලියූ පොත් පත් වලින්ද කරුණු කියවා දැන ලබාගත් පටු හා වැරදි අවබෝධයකින් ඉතිහාසය ලිවීමයි. මෙසේ අනුමානයෙන් ලියූ ඉන්දීය ඉතිහාසයක් අද ඉන්දිය ඉතිහාස පොත්පත් වලද , ලියවී ඇත. මේ අනුව මේ හෙළබිමේ ඉතිහාසයට විජයගේ යුගයෙන්, තිත තබා ඊට පෙර සියල්ලම ඉන්දීය ඉතිහාසයට පවරා දී භාරකරන ලද්දේ ඒ ඒ යුග වල වැරදියට ඉතිහාසය ලියූ පෘථග්ජන මිනිසුන් විසින්මය. මේ වරද නිවැරදි කරන්නට දැන් කාලය එළැඹී ඇත.

අපේ මේ හෙළ බිමේ දීම ඒ යුගයන් වලදී ලියූ පිරිසිදු ඓතිහාසික සාක්ෂි අපට අදටත් ඉතිරි වී ඇතත් අද අපේ ඉතිහාසඥයින්, පුරා විද්‍යාඥයින් හා ආගම් සංකල්ප දරණ ගිහි පැවිදි උගතුන්ද ඒවා පිළිගන්නට මැලි වන්නේ ඔවුන් ඉංග්‍රීසියෙන් සිතන බටහිරට ගැති අය හෝ භාරතයට ගැතිව සිතන්නන් හෝ වීම නිසායි. තම පෞද්ගලික ලාභ ප්‍රයෝජන තකා ජාතික ඉතිහාසය යටපත් කරන්නට උත්සාහ දැරීමයි.

එදා අපේ ඉතිහාසය ලීයු රීස් ඩේවිස්, ජේර්ජ් ටර්නර් ජේම්ස් ප්‍රින්සස් , එච්.සී. පී. බෙල්. හා කොඩ්රිංග්ටන් කණින්හ් හැම් විල් හෙල්ම් ගයිගර් වැනි සුදු මහතුන් කළ සේවයද අද අප යම් තරමකට හෝ අගය



කරන අතරම ඔවුන්ගේ නොදැනුම නිසා අපට සිදුවූ මහත් හානියද අපම කල්පනා කළ යුතුමයි. එය දැන්වත් නිවැරදි කර ගත යුතුයි.

ලෝකෝපකාරය නමින් වූ පොතක් රණස් ගල්ලේ හිමියන් විසින් පසු කලෙක ලියා පල කරන ලදී. මේ ලෝකෝපකාරයේ 189 වැනි කවියේ සඳහන් වන සතර දිවයින් පිහිටා තිබුණේ මේ හෙළබිම තුළමය. කරදිය වළල්ලෙන් වට වූ සතර දිවයින් ලෙස එදා ලෝකෝපකාරයේ දැක්වූයේ මේවාය.

i. උතුරු කුරු දිවයින
ii. ජන්බුද්වීපය (දඹදිව)
iii. පූර්ව විදේහය
iv. අපර ගෝයානය

අනුරපුර යුගයටත් පෙර අතීතයේ එනම් බුද්ධ කාලයේ මේ රට මෙවන් කොටස් 4කට බෙදා සම්මතයෙන් නම් කර ගෙන භාවිතා කලහ. මේ සතර දිවයින් (ප්‍රදේශ) ලෙසින් දැක්වූයේ සිවුහෙළයයි. ඒ ඒ හෙළයන්හි වාසය කළ ගෝත්‍රික රජවරුන්ගේ ගෝත්‍ර අනුව පසුව ජන්බුද්වීපයේ දේව හෙළය ලෙසින් ද උතුරු කුරු දිවයින් යක්ෂ හෙලය ලෙසින්ද,අපර ගෝයානය නාග හෙළය ලෙසින්ද පූර්ව විදේහය ගාන්ධර්ව හෙළය ලෙසින්ද නම් කෙරිනි.

ආටානාටා සූත්‍රයේත්, මහා සමය සූත්‍රයේත් පැහැදිලිව නම් කර පෙන්වූ චත්තාරෝ මහා රජවරුන් රජකම් කළේද මේ සිවුහෙලයට අදාල ප්‍රදේශවලමය. ගෞතම බුදුන් බුද්ධත්වයට පත් වුයේ ජන්බුද්වීපය

(දඹදිව) නම් දේව හෙළයට අයත් ප්‍රදේශයකදීය. මේ අනුව ජන්බුද්වීපය දඹදිව යන නම් මේ හෙළ බිමේම කොටසකට ඈත යුගයන්හීදීද භාවිතා කරන ලද නාමයකි. එයට ජන්බුද්වීපය යන නම ලැබුණේ සියළුම බුදුන් වහන්සේලා ජන්මය ලබන දීපය යන අර්ථයෙනි. දඹදිව යන නම ලැබුණේ ධර්මදිපය යන අර්ථයෙනි.

ලෝකෝපකාරයේ එදා ලියා පෙන්වූ සතර දිවයින් කරදිය වළල්ලෙන් වට වූ බව පවසා තිබීම නිසා මේ සතර දිවයින්ම මේ හෙළබිමේම එදා පිහිටා තිබූ බවත් සහතික කර ප්‍රකාශ කළ හැකිය.

ක්‍රි.පු යුගයේදී භාරතයේ ලියූ පොත් පත් දෙස බලන විට ඒ හැම සාහිත්‍ය කෘතියකම දැක්වෙන්නේ ලෞකික උපදේශනයන්ගෙන් හා සුංගාර රසය උපදවන පෘථග්ජන ලෝකයාට ගැලපෙන ආකාරයේ ලෞකික කරුණු කාරණාවෝය. ඍග්වේද ග්‍රන්ථයන්, විෂ්ණු පුරාණය, ස්කන්ධ පුරාණය හා තවත් බොහෝ පුරාණ ග්‍රන්ථ බ්‍රාහ්මණ හා උපනිශද් ග්‍රන්ථ මෙන්ම බගවත් ගීතාව නම් විශේෂ ග්‍රන්ථයද ලෞකික දියුණුව සඳහා උපදෙස් දීමටම ලියූ ඒවාය. මේවා ලෝකයක් හදන්නට උපකාර වන විධියේ සාහිත්‍ය ග්‍රන්ථ හෝ උපදේශාත්මක ග්‍රන්ථයන්ය. නමුත් මේවාට සමකාලීන වූ යුගයේදී හෙළබිමේදී ලියූ ත්‍රිපිටක ග්‍රන්ථ හා හෙළ අට්ඨ කථා සියල්ලම ලියූවේ ලෝකයෙන් එතෙර වන ලෝකොත්තර මාර්ගය පෙන්වා දෙන්නටය. සඳහටම දුකින් මිදෙන්නට අනුගමනය කළ යුතු ධම්මානුධම්ම පටිපදාව පහදා දෙන්නටය. මෙය අරමුණු 2ක දෙයාකාර වූ දෙවිදියක අරමුණු 2කි. ඉන්දියාවේ හෝ භාරතයේ හෝ උතුම් බුද්ධ ධර්මය එදා ව්‍යාප්ත වී තිබුණේ නම් එහි ඒ යුගයේ ලියූ මේ පොත් පත් වලද යාන්තමින් හෝ මේ ලෝකෝත්තර ධර්මය ගැනද සටහන්



වන්නට ඉඩ තිබිණි. නමුත් ඉන්දියාවේ ලියූ පොත් වල එසේ සඳහන් වී නොමැත.

භාරතයේ ලියූ පැරණි සාහිත්‍යයේ අරමුණ ජීවත් වීමට අවශ්‍ය උපදේශණය ලබා දීම බව භගවත් ගීතාව කියවන ඕනෑම කෙනෙකුට පහසුවෙන්ම අවබෝධ වනු ඇත. භගවත් ගීතාවේ එන සුංගාරාත්මක උපදේශාත්මක රසවත් කවි කටපාඩම් කරගෙන භජන් ගී ලෙසින් ඒවා සජ්ජායනා කිරීම අදටත් ඉන්දීයයන්ගේ චාරිත්‍රයකි. සිරිතකි. නමුත් ත්‍රිපිටකයේ සඳහන් වූ උතුම් බුද්ධ ධර්මය අසා දැන, ධාරණය කරගෙන , අත්විඳ ගත යුතු යාථාවාදි තථාකාරි , ධර්මතාවයකි. මේ අනුව බුදු දහම දුක අවබෝධ කරගෙන දුකට නිදාන හේතුවම සොයා දැන ගෙන , හේතුවම නිරුද්ධ කරන්නට මඟ කියා දුන් දහමකි. එසේත් නැතිනම් හේතුඵල දහමට බහා බලා ගලපා අනුගමනය කර අත්විද ගත යුතු දහමකි. භාරතීය දේව සංකල්ප වලට අනුව තාවකාලිකව ඵලය වෙනස් කර ගත්තේ හේතු ව ගැන සලකා බලා නොවේ. මේ නිසා එදා ලියූ භාරත සාහිත්‍ය උපදේශාත්මක සාහිත්‍යයක්ම පමණක්ම විය.

බුදු දහමින් දේශනා කළේ මිනිසාට තම මනස මෙහෙයවා ක්‍රියාකර යෝනිසෝමනසිකාරයෙන් ක්‍රියාකරන්නෙකු බවට පත් වී විමුක්තිය සොයා ගන්නට මඟපාදා දෙනු සඳහාය. භාරත ආගම් වල විමුක්තිය සොයන ලද්දේ ලෝකය තුලම ඇති දේ වෙනස් කර දුක තාවකාලිකව යටපත් කිරීමෙනි. ලෝකයෙන් එතෙර වන්නට උපකාර වන ආකාරයේ ලෝකෝත්තර දහමක් ඒවායේ නොවීය .

බුද්ධඝෝෂ හිමියන් පරිවර්ථනය කල පාලි අර්ථ කථා වලත් ඊට පසුව ආ යුගයේදී අනුරාධපුරයේදී ලියූ පොතපතේදීත් විශේෂයෙන්ම පොළොන්නරු යුගයේ හා දඹදෙණි යුගයේදි ලියූ බොහෝ සිංහල පොත් පත් වලත් දක්නට ඇත්තේ බුදු දහමේ පෙන්වා දුන් හේතුඵල දහමට බහා ගලපා ක්‍රියාකරන්නට විනයට සසඳා බලා කටයුතු කරන්නට උපකාර වන විදියේ පරමාර්ථ ධර්මයක් නොව ලෝකය හදන්නට , බව උපාදානය කර ගැනීම සඳහාම උපකාර වූ විදියේ සම්මත ධර්මයකි. එවකට භාරත දේශයේ ප්‍රචලිතව තිබූ ලෞකික ආගම් සංකල්ප වල හා උපදේශක කාව්‍යයන්හි බලපෑම් තදින්ම හෙළ බිමටද දැනුණු යුගයයි.

මේ අනුව අද අපට ඉතිරි වී ඇති මධ්‍යකාලීන ඓතිහාසික බෞද්ධ සාහිත්‍ය ග්‍රන්ථ , අටුවා කථා හා වෙනත් සාහිත්‍ය පොත් පත් බොහොමයක්ම වාගේ භාරතයේ බලපෑම් නිසා පසු කාලීනව බිහි වූ ඒවා මිස උතුම් බුද්ධ ධර්මයේ හෝ ත්‍රිපිටකයේ හෝ පෙන්වූ ආකාරයෙන් නිවන් මඟට උපකාරක වන පරමාර්ථ ධර්ම විග්‍රහ කළ පොත් පත් නම් නොවේ. පසු කලක දඹදෙණියේදී ලියැවුණු ජාතක කථා සාහිත්‍යයද හුදී ජන පහන් සංවේගය සඳහාම ලියැවුණු ඒවා මිස මිනිසාගේ මනස මෙහෙයවා හේතුඵල දහමට බහා ගලපා බලා ක්‍රියාකරන්නට උපකාර වන ඒවා නොවන බවත් පෙන්වා දිය යුතුය. ඒවාද උපදේශාත්මක කොටසටම අයත් වන බව නම් පැහැදිලිය.



## 19. දේව හෙළය හා දේව සංකල්ප

අනුරාධපුර යුගයට පෙර මේ හෙළදිව දීප හතරකට බෙදා උතුරුකුරු දීපය, ජන්බුද්වීපය, අපරගෝයානය හා පූර්ව විදේහය යන නම් වලින් මේ රටේම ජනයා සිවු හෙළය ලෙසින් භාවිතා කළ අතර ජන්බුද්වීපයේ දඹදිව වාසය කළේ දේව ගෝත්‍රික ජනතාවය. මොවුන් ආර්යයන් ලෙසින් ලෝකයා එවකටත් පිළිගෙන තිබිණි. බ්‍රාහ්මණ, ක්ෂත්‍රිය, ඛත්තිය (කැත්තුලය) හා ශුද්‍ර නමින් කුල හතරකටම අයත් මිනිසුන් එදා වාසය කළේ දේව හෙළයේ ජන්බුද්වීපයේය. යක්ෂ හෙළයේ එවන් කුළ බෙදීමක් නොතිබිණි. යක්ෂ හෙළයේ තද බල ලෙසින් කුලගොත්‍ර අනුව මිනිසුන් බෙදා වෙන් කළ සමාජයක් නොවීය නාග හෙළයේද යක්ෂ හෙළයේද රජ පෙළපත් වල රජවරු රාජ්‍යය පාලනය කළහ.

ආර්යයන් විසින් පාලනය කරන ලද දේව හෙළය යාපනයේ සිට මාතර දක්වාම රට දෙකට මැදින් බෙදු කළ නැගෙනහිර අර්ධයට අයත් ප්‍රදේශවල ව්‍යාප්තව තිබිණි. නමුත් නාග ගෝත්‍රයට අයත් ජනතාව රට හැම තැනම වාගේ වෙළදාම , ප්‍රවාහණය වත්කම් පාලනය කරමින් නගරවල වාසය කළ බවක් පෙනේ.

නා+ගර යනු නාග ගෝත්‍රිකයින් ගෘහයන් හදාගෙන ජීවත්වූ ප්‍රදේශයයි. න+ගර නමින්ද, පසුව නගර බවට ද ඒ ප්‍රදේශ පත්විය. දේව ගෝත්‍රකයින්ගේ වාසස්ථාන නුවර හෝ පුරයන් විය. කපිලවස්තු පුරය, ශ්‍රාවස්ති පුරය, වරානාසී පුරය ආදී වශයෙනි. විශාලා මහනුවර , රජගහනුවර , සැවැත්නුවර ආදී වශයෙන් නුවරවල් තිබුණේද දේව හෙළයේය, ආටානාටා, පරනාටා , කුසිනාටා ආදී වශයෙන් නාටා නමින්

නගර පිහිටා තිබුණේ යක්ෂ හෙළයේය. (ආටානාටා සූත්‍රයේ 23 ගාථාව බලන්න)

දේව හෙළයේ රජකම් කල බලවත් ප්‍රාදේශීය රජුන්ට නායකයින්ට "දේවයන් වහන්සේ" යන නමින් පොදු ජනයා දේවත්වයෙන් ආමන්ත්‍රණය කිරීමේ පුරුද්දක් එදා තිබිණි. මේ අනුව බුද්ධ දේශනාවට අනුවද අංගුත්තර නිකායේ තික නිපාතයේ පෙන්වා දෙන ආකාරයට එවකට ජන්බුද්වීපයේම දේව කොට්ඨාශයන් තුනක් ගැනම සඳහන් වෙයි. ඒ

i. විශුද්ධි දේව ii. උත්පත්ති දේව iii. සම්මත දේව යන දේව කොටස් තුනයි. එදා විශුද්ධි දේව යන නාමය භාවිතා වූයේ ද්වේශයෙන් තොර වූ රහතුන් වහන්සේලාටය. ද්වේශයෙන් වෙන් වූ නිසා "දෙවි" යන නම භාවිතා කළ බව ත්‍රිපිටකයේම සඳහන්වෙයි. උත්පත්ති දේව යනු අද අප විශ්වාස කරන දෙව්ලොව යනුවෙන් සලකන සදෙව් ලෝකයේ උපදින ඕපපාතික දේව කොට්ඨාශයන්ය. ඔවුහු උපතින්ම දේව ලෙසින් හඳුන්වනු ලැබූහ.

සම්මත දේව යනුවෙන් හැදින් වූයේ දේව ගෝත්‍රය යැයි සම්මතයෙන් පිළිගත්, "දේවයන් වහන්සේ" යන සම්මත පදයෙන් එදා පොදු ජනයා හැඳින්වූ රජවරුන්ටය. ද්වේශයෙන් තොරව, මහජනයා කෙරෙහි මෛත්‍රීයෙන් කරුණාවෙන් රටපාලනය කල බොහෝ රජවරුන් එදා සම්මතයෙන්ද දේවයන් වහන්සේ යන ගෞරව නාමයෙන්ද අමතනු ලැබූහ. එවැනි උතුම් රජවරු පසුව දේව නාමයෙන්ම පොදු ජනතාවගේ පුද පූජාවලටද වන්දනා මාන වලටද පාත්‍රවූහ.



එදා රුහුණේ කාචාරගාම ප්‍රදේශයේ රජකම් කළ මහාසේන නමැති දේව ගෝත්‍රික රජතුමාට පොදු මහජනයා දේව සංකල්පයක් ආරූඪ කළහ. රජුගේ මරණයෙන් පසුවද අද වන තෙක්ම මහාසේන රජු දේවත්වයෙන් මහජනයා අතර පිළිගැනීමක් ඇත. කතරගම කිරිවෙහෙර ඉදි කළේද මහාසේන රජතුමාය. එම කිරිවෙහෙර භූමියේම මහාසේන රජතුමාගේ පිළිමයක් අදටත් දකින්නට ඇත. පසු කලෙක මහාසෙන් රජු මහාසේන දෙවියන් බවටත් ඊට පසු කලක කතරගම දෙවියන් ලෙසටත් හෙළ මහජනයා අතර ප්‍රසිද්ධ විය. ඒ අනුවම වැදුම් පිදුම් කරන්නටද විය. දෙමළ හා හින්දු භක්තිකයෝ ස්කන්ධ පුරාණයේ සඳහන් ස්කන්ධ දෙවියන් , කතරගම දෙවියන් ලෙසින් අදටත් අදහති.

එදා කුරුවිට හා ශ්‍රී පාද අඩවිය අයත් වූ කුරු රට රජකම් කළ "සමන" රජතුමා ගෞතම බුදුපියාණන්ටද නෑදෑකම් ඇති රජ කෙනෙකි. ජනප්‍රවාදයට අනුව සුද්ධෝදන රජුගේ බාල සොයුරිය සරණපාවා ගත්තේ සමණ මහ රජතුමාය. ගෞතම බුදුපියාණන්ගේ වාසයට සුදුසු පරිදි දිවා ගුහාව සකස් කර එහි එක් වසක් වැඩ හිදුවාගෙන ඇප උපස්ථාන කළේද සමන මහ රජුය. ගෞතම බුදුපියාණන්ගේ බුදු සිරිපතුල තම රාජ්‍යයට අයත් උසම ස්ථානයේ කොටවා එයට ගෞතම බුදුපියාණන්ගේ බුදු පා පහසද ලබාදෙන හුදී ජනතාවට වැදුම් පිදුම් කරන්නට ස්ථානයක් සකස් කර දුන්නේද "සමන" මහ රජ තුමාය. ගෞතම බුදුපියාණන්ගේ කේෂධාතූන් මිටක් ලබාගෙන මහියංගනයේ දාගැබක් කරවා වැඳුම් පිදුම් කරන්නට පටන් ගත්තේද සමන මහ රජතුමාය. ගෞතම බුදුපියාණන්ගේ ධර්මය අසා සෝවාන් මාර්ග ඵලයට පත් වූ සමන මහ රජතුමාට එතුමාගේ අභාවයෙන් පසුව මේ රටේ වැසියන් දේවත්වයෙන් වැදුම් පිදුම් කරන්නට පටන් ගත්හ. අද දක්වාම සමන් දෙවියන් සුමන සමන් දෙවියන්

යනුවෙන් දේවාල ගොඩනංවා දේව පිළිම තැන්පත් කර වැඩුම් පිදුම් කරන්නේ එදා සමන් මහ රජු නමින් කුරු රට රජකම් කල හෙළ දිව රජකම් කල රජතුමාය. එදා කුරු රට වෙළදාම සඳහා පැමිණි අරාබි වෙළදුන් පවා සමන දෙවියන්ට මෙන්ම බුදු සිරිපතුලටද වන්දනා මාන කරගත් බව ඉතිහාසයෙන් පැහැදිලි වෙයි.

ගෞතම බුදුපියාණන් සැවැත්නුවර ජේතවනාරාමයේ වැඩ වාසය කරන යුගයේ රුහුණේ රජකම් කලේ උත්පල වණ්ණ නම් රජ කෙනෙකි. උපුල්වන් දෙවියන් ලෙසින් පසු කලෙක දෙවිනුවර දේවාලයක් කර වැඩුම් පිදුම් කරන්නට පටන් ගත්තේ මේ රජතුමාටය. පසුව විෂ්ණු පුරාණය ලියා එළි දැක් වූ පසුව විෂ්ණු දෙවියන් යැයි දේවාල සකස් කර වැඩුම් පිදුම් කරන්නේද මේ රජතුමාගේ නාමයටය. මේ අනුව උපුල් වන් දෙවියන් විෂ්ණු දෙවියන් බවට පත්විය.

විභීෂණ දෙවියන් , අයියනායක දෙවියන්, ගලේ බණ්ඩාර දෙවියන් , මින්නේරිය දෙවියන් , රන්වල දෙවියන් පත්තිනි මෑණියන් , ආදි වශයෙන් හෙළබිම පොදු මහජනයා අතරේ අදත් දේවත්වයෙන් සලකා ගෞරවයෙන් වැඩුම් පිදුම් කරන්නේ එදා දේව හෙළයේ ජීවත් වූ සාමාන්‍ය පුද්ගලයෙකුට වඩා වැඩි මනත් විශේෂ බලයකින් කටයුතු කල මිනිසෙකුගේම නාමයටය. මෙවන් දෙවියන්ගෙන් මිනිසුන් උදව් උපකාර ඉල්ලා සිටීමද පැතීමද පැරණි හෙළ ජනතාවගේද පුරුද්දක් විය. මේ ආකාරයෙන් දේවාලයන් තනා දෙවියන්ට පුද පූජා පවත්වා භාරහාර වී සිත සනසවා ගන්නට හෙළ බිම වැසියෝ අතීතයේ පටන්ම පුරුදු වූහ. මෙවන් දේව ඇදහිලි හා පුද පූජා කාටවත්ම වරදක් හෝ පාපයක් හො 'නොවන නිසා අහිංසක ක්‍රියා සේ සලකා බුද්ධාගමද මේවා ඇතුළු කර ගත්



බවද පෙනෙන්නට ඇත. ඉන්දියාවේ අතීතයේ පටන්ම දේව ඇදහිලී, පුදපූජා පැවැති අතර ඉන්දියාවේ බලපෑම නිසාද ලංකාවේ බුද්ධාගමටද දේව ඇදහිල්ල පසු කලෙක තදින්ම ඇතුළුවිය.

උතුරු කුරු දිවයින , යක්‍ෂ හෙළය යන නම් වලින් එදා අතීතයේ හැඳින්වූයේ යාපනයේ පුනරීන් සිට අලව්ව, ගිරිඋල්ල දක්වා ම වූ මහානේරු නම් විශාල කදුවැටියෙන් ඔබ්බෙන් වූ වනගත ප්‍රදේශයයි. මහනුවර හා මාතලේ දිස්ත්‍රික්කවල සමහර ප්‍රදේශයන්ද යක්ෂ හෙලයේම පාලකයින් විසින් පාලනය කරන ලදී. ගෞතම බුදුපියාණන් බුද්ධත්වයට පත් වී ටික කාලයකින්ම ගෞතම බුදුන් මහියංගනයට වැඩම කළේ එහි වාසය කළ යක්ෂ ගෝත්‍රික මිනිසුන්ගෙන් බුද්ධ ශ්‍රාවකයින්ට කරදර වූ නිසා යක්ෂ ගෝත්‍රිකයින්ට කරුණු කියා යකුන් දමනය කර ඔවුන් මෙල්ල කරන්නටය. ගෞතම බුදුපියාණන් මහියංගනයට වැඩම කළේ අම්පාරේ රජගල රජගහ නුවර බලා යන අතර තුරදීය.

රාවණා පරපුරෙන්ම පැවත එන යක්ෂ ගෝත්‍රික රජවරුන් අතරින් වෙස්සවන මහා රජතුමා ඉතාම බලවත් සියළු යක්ෂ ගෝත්‍රික රජවරුන්ගේද නායක රජු ලෙසින් එදා කටයුතු කල බවද ආටානාටා සූත්‍රයේ මහා සමය සූත්‍රයේත් පැහැදිලිවම සඳහන් වෙයි. මේ අනුව පසු කලෙක වෙසමුණි රජතුමාද, දේවත්වයක් ආරූඪ කර සතර වරම් දෙවියන් යන නාමය පටබැදී අදවනවිට දේවත්වයෙන් සලකන්නට වන්නියේ ඇත්තෝ ක්‍රියා කරති.

යක්ෂ ගෝත්‍රිකයින් කුම්භාණ්ඩ ගෝත්‍රිකයින් හා සමහර නාග ගෝත්‍රිකයින්ද එදා වෙසමුණි රජු තමන්ගේ මහරජු ලෙසින් සලකා ක්‍රියා කළ බවද ත්‍රිපිටකයේම සඳහන් වෙයි. එදා බුදු පියාණන් ජීවමානවම මේ

හෙළබිමේ වැඩ වසන යුගයේහි දේවත්වය සම්මතයෙන් ලබා ගත් , පොදු ජනයා දේවත්වයෙන්ම සැලකූ තවත් දේව කොටසක් මේ රටේම සමහර තැන් වල විසූහ. විශේෂයෙන්ම උඩරට මහනුවර ප්‍රදේශයේ එදා විසූ ඒ ප්‍රදේශයන්හි අධිපති කම් කල මේ රජුන් මේ රටේ අතීතතයේ විසූ රාවණා චක්‍ර වර්ති රජපරපුරෙන් පැවත එන පාරම්පරිකව නමින් පමණක් සක්විති රජවරුන්ය. හෙළබිම විසූ , හෙළබිමේම රජකම් කළ, රාවණා පරම්පරාවට අයත් වූ චක්‍ර වර්ති බලතල සහිතව ලොවම පාලනය කළ සක්විති රජවරුන් හත් දෙනාගෙන් පසුව සක්විති බලය නොලැබූ චක්‍ර රත්නයේ බලය අහිමි වී ගිය එසේ නමුත් ඒ රජ පරපුරේම පසු කාලීනව පරම්පරිකව පැවත එන්නන්ද මේ සක්විති නාමයම භාවිතා කල බව පෙනේ. “සමන” රජු මෙන් ම වෙස්සවන රජුද මේ සක්විති රජපරම්පරාවටම නෑදෑකම් කී යු රජවරුන්ය. නමුත් එවුන් සක්විති නම භාවිතා කළේ නැත.

ත්‍රිපිටකයේ සඳහන් වන පරිදි එදා ගෞතම බුදුපියාණන්ගෙන් ධර්මය අසන්නට පැමිණි සක්කස්ස දේවා නමින්ද සක්කස්ස පනිත ආදී රජවරුන් මෙම සක්විති රජ පරම්පරාවට අයත් දේව නම ගත් රජවරුන්ය. අපි අද “සක්දෙව් රජු” “සක්‍රදේවේන්ද්‍රයා” ආදී පද වලින් මනඃකල්පිතව අදහන මේ නාමය යෙදුවේ භාවිත කළේ එදා මේ රටේම වාසය කළ ගෞතම බුදුන්ගෙන් බණ ඇසූ “දේවානමින්ද” නම් සක්විති පරපුරේ රජුටය. ඊට හේතුව ඔහු සම්මත දේව කොටසේ නායකයා වීමයි. සක්කස්ස දේවානමින් ද යනු බුදුන්ගෙන් බණ ඇසූ එදා මේ හෙළබිම ජීවත් වූ මිනිසෙකි.



මේ අනුව ඉන්දියාවේ ඇදහූ දේව ආගම් සංකල්ප වලට වෙනස් දේව සංකල්පයන් මේ හෙළ බිමේ එදා ජීවත් වූ ජනතාව අතරේ පැතිරී තිබුණු බව පෙනේ . මේ රටේ අදත් , වැදුම් පිදුම් කරණ සියලුම දෙවියන් සක්දෙවියන්ද ඇතුළුව එදා මේ හෙළ බිමේම වාසය කළ සාමාන්‍ය මිනිසුන්ට වඩා යම් විශේෂ වූ මානසික හෝ කායික ශක්තියක් ලබාගෙන මහජනතාවට යම් විශේෂ සේවයක් කළ මේ රටේම අතීතයේ වාසය කළ මිනිසුන්මය.

## 20. නිගමනය හා සමාප්තිය.

ගෞතම බුදුන් උපත ලැබූ එමෙන්ම සියලුම බුදුවරුන්ට උපත ලබන්නට තරම් වාසනාවන්ත වූ මේ ජන්බුද්විපයේ මේ හෙළබිම සත්‍යම වූ ඉතිහාසය වසං කර දමන්නට - සහමුලින්ම යටපත් කර දමන්නට - කාටවත්ම නොහැකිය. උතුම් බුද්ධ ධර්මය පිරිසිදු ලෙසින් යලි මතුවීමත් සමඟම නිවන් අවබෝධ කර ගන්නට උපකාරවන චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගත් උතුමන්ගේ බිහිවීම සමඟම ඊට සමගාමීවම මඟඵල ලබන්නට උපනිශ්‍රය වන්නාවූ ආකාරයටම බුද්ධෝත්පත්තියට , බුද්ධත්වයට හා පළමුවන ධම්මචක්කපවත්තන ධර්ම දේශනාව පැවැත්වීමට අදාල ස්ථානයන් හා බුදුන්ගේ පිරිනිවීමට අදාළ වූ බුද්ධ ශක්තිය ගැබ් වූ ස්ථානයන්, නම් ගම් වශයෙන් පමණක් නොව ඇසින් දැක බලා ගත හැකි අයුරින්ම ස්ථානයන් වශයෙන්ම මේ හෙළබිමෙන්ම දැන් හඳුනාගෙන තිබේ.

මේ ස්ථානයන් ගැන කරණු ලබන මේ ප්‍රකාශයන් අනුමානයෙන් ප්‍රකාශ කරන දේ නම් නොවේ. මේ පරම සත්‍යයයන් දැක ගත් නිසාම ලෝකයටද හෙළි කරනු ලබන පරම සත්‍යයන්ය .මෙවන් සත්‍යයන් ලෝකයාට හෙළි කරන්නට මුල් වූ හේතුවද මෙහිදී පැහැදිලි කළ යුතුව ඇත.

2005 සිට 2008 දක්වා කාලය තුල නිවන් දකින්නට උපකාර වන පරම පවිත්‍ර සිරි සද්ධර්මය නන් අයුරින් සොයා දැන මතුකර ලෝකයාට දේශනා කලත්, ලියා ප්‍රකාශ කලත් සද්ධස්ස කුල පුත්‍රයෙකුට හෝ සෝතාපත්ති ඵලයට හෝ පත්වන්නට බාදාවක් වන තවත් එක් හේතුවක් යටපත්ව තිබෙන බව ධර්මතාවයෙන්ම පෙන්නුම් කර දෙන ලදී.

මේ බාධකය මඟ හැරවීමට ගත යුතු ධම්මානුධම්ම ප්‍රතිපදාව සොයාගෙන යද්දි ඵල සමාපත්තියෙන්ම පෙන් වු ඵල සමාපත්තියෙන්ම දැකගත් හඳුනාගත්, ඒ අනුව සමාපත්තියෙන්ම මතුකර ගත් මේ උතුම් පූජනීය ස්ථාන හතරම එක් දිනක එක් මෙහොතක පෙන්නුම් කළ අතර ඒ සමඟම ඊට නිධාන වූ කථාවද පෙන්නුම් කර දෙන ලදී.

ඒ නිධාන කථාව නම් මහා පරිනිබ්බාන සූත්‍රයේ එන පරිදි ගෞතම බුදුපියාණන් පිරිනිවන් පාන්නට විනාඩි පහක් පමණ කාලයක් ඉතිරිව තිබියදි අග්‍ර උපස්ථායක ආනන්ද හාමුදුරුවන් ගෞතම බුදුපියාණන් ගෙන් ප්‍රශ්නයක් විචාළේය. ඒ ප්‍රශ්නය නම් භාග්‍යවතුන් වහන්ස ඔබ වහන්සේ වසර 45ක් මුළුල්ලේම දෙව් මිනිසුන්ට බුදුබණ දේශනා කරමින් බුදු කටහඬ ලබාදෙමින් බුදුරුව දැක ගනිමින් බුද්ධ ශක්තියට අනුගත වෙන්නට අවශ්‍ය පරතෝඝෝෂක ප්‍රත්‍යය දෙව් මිනිසුන්ට ලබා දුන්හ. දැන් ඔබ වහන්සේගේ පිරිනිවීමෙන් පසුව ඉදිරි කාලයේදී  දෙව් මිනිසුන්ට බුදුරුව , බුදුකටහඬ , බුද්ධ ශක්තිය ලබා ගන්නට ක්‍රමයක් නැතිව ලෝකයාට පරතෝඝෝෂක ප්‍රත්‍යය ලබා ගන්නට බැරි වීම නිසා සෝතාපන්න ඵලයට හෝ පත්වන්නට ක්‍රමයක් නැති වෙනවා නේද? යන ප්‍රශ්නයයි.

බුද්ධ ශක්තියට අනුගත නොවී , පරතෝඝෝෂක ප්‍රත්‍යය නොලබා



සම්මා දිට්ඨියට පත්නොවී ස්වයං ශක්තියෙන්ම සෝතාපන්න ඵලයට හෝ පත්වන්නට පෘතග්ජන මිනිසෙකුට නොහැකිය. චතුරාර්ය සත්‍යයයන් අවබෝධ කර ගන්නටත් සම්මා දිට්ඨියට පත් වන්නටත් නම් යමෙකු සෝතාපත්ති අංගයන් හතරම සම්පුර්ණ කර ගත යුතුමය. මෙයින් "සප්පුරුෂ සංසේවෝ" යනුවෙන් පෙන්වා වදාළ පළමුවන අංගය සම්පූර්ණ වන්නේ ස්වයං භූඥාණයෙන්ම චතුරාර්ය සත්‍යයන් අවබෝධ කරගෙන අරහත් මඟඵලයට පත් වූ ලොව්තුරා බුදුපියාණන් ජීවමානවම දැකීම සහ බුදුපියාණන්ගෙන් බණ ඇසීම හෝ මඟඵලයකට පත් වූ බුද්ධ ශ්‍රාවකයෙකුගෙන් බුද්ධ ධර්මය ශ්‍රවණය කිරීම යන කරුණු සම්පූර්ණ කර ගැනීමෙන් ලබා ගත හැකි පරතෝඝෝෂක ප්‍රත්‍යය ලැබීමෙනි.

මහා පරිනිබ්බාන සූත්‍රයේ දේශනා කරන ලද පරදි "සද්ධස්ස කුලපුත්තස්ස - දස්සනීයානං සංවේජනීයානං " චත්තාරෝ ඨානා යන්නෙහි අර්ථය ගෞතම බුදුන් පිරිනිවන් පා වදාළ පසුවත් මඟඵල ලාභි බුද්ධ පුත්‍රයෙකුගෙන් පිරිසිදු ධර්මය අසා සද්ධස්ස කුල පුත්තස්ස තත්වයට පත් වූ යමෙකුට එනම් සෝතාපන්න මාර්ගයේ ගමන් කරන කෙනෙකුට "දස්සනීයානං - සංවේජනීයානං" යනුවෙන් ප්‍රකාශ කළ සෝතාපන්න ඵලයට දස්සනේන සම්පන්න වීමට" පත් වීමට නම් බුද්ධත්වයට සම්බන්ධ වු මේ උතුම්  ස්ථාන හතරින් එකක් හෝ දැක බලා වැදපුදා හිත පහදා ගත යුතුය යන්නයි.

බුද්ධ ශක්තියට අනුගත විය හැක්කේ ඒ අයුරිනි මේ නිසා පරතෝ ඝෝෂක ප්‍රත්‍යය හා සම්මා දිට්ඨියට පත් වීමට මෙන්ම සෝතාපත්ති අංගයන් සම්පූර්ණ කර ගන්නටත් මේ ස්ථානයන් අතරින් එකක් හෝ දැක බලා ගත යුතුය.

පිරිසිදු පරම පවිත්‍ර බුද්ධ ධර්මය විකෘති වී යටපත් ව ගිය පසුගිය

යුගයක සංදේශනාව අසන්නට නොලැබූ අතීත යුගයක ආරිය ධර්මයක් අසා චතුරාර්ය සත්‍යයන් අවබෝධ කර ගන්නට අවශ්‍ය පරම පවිත්‍ර බුද්ධ ධර්මය ශ්‍රවණය කරන්නට නොලැබුණු යුගයක ධර්මතාවයෙන්ම මේ උතුම් බුද්ධ ශක්තිය පවතින ඊට අනුගත වූ උතුම් ස්ථානයන්ද මහ වනයෙන් වැසී යටපත්වීම ද ධර්මතාවයෙන්ම සිදු වූ දෙයකි. එසේ එම ස්ථානයන් ධර්මතාවයෙන්ම වැසී තාවකාලිකව යටපත් නොවුයේ නම් එදා පෘථග්ජන ලෝකයා විසින් පෙරදිග හා බටහිර ආක්‍රමණිකයින් විසින් මේ උතුම් ස්ථානයන්ද කඩා බිඳ දමා විනාශ කර දමන්නට තිබිණි.

ආන්නද හාමුදුරුවන් ඇසූ මේ වැදගත් ප්‍රශ්නයට ගෞතම බුදු පියාණන් ලබාදුන් පිළිතුර ඔස්සේ අතීතය අවලෝකනය කර සමවතින් මේ ස්ථානයන් හතරම එකවර සොයා දැන නිවැරදි ලෙසින් මෙසේ ප්‍රකාශ කරන්නටත් මේ උතුම් ස්ථානයන් පිහිටි තැන් පෙන්වා දෙන්නටත් යෙදුනේ මඟඵල ලබාගන්නට සමත් ධර්මාවබෝධයක් ලැබූ විශාල පිරිසක් මේ හෙළබිම තුල අදවන විටත් උපත ලබා ධර්ම මාර්ගයේද යමින් සෝතාපන්න මාර්ගයට පත් වී සිටින හෙයිනි. එවන් සද්ධස්ස කුල පුත්‍රයින්ට සෝතාපත්ති ඵලයට පත්වන්නට උපකාර වන ආකාරයට මේවා මතුකර පෙන්වා දුන් බවද ප්‍රකාශ කළ යුතුය.

2009 පොසොන් පෝදා මේ ස්ථාන හතර ලෝකයාට විවෘත කර පෙන්වා දීමෙන් පසුව මේ සුළු කාලය තුළදී විශාල ජනතාවක් මේ උතුම් පුදබිම් දැක බලා වැද පුදා ගත්තා පමණක් නොව නිහඬවම මඟඵල ලබා ගත් බවද දැන සහතික කොට ප්‍රකාශ කළ හැකිය. මේ අනුව යලිත් නිවන් දකින්නට උපකාර වන සේ බුද්ධ ධර්මය පන පිහිටුවා බුද්ධ ශක්තිය ලෝකයාට විදහා පෙන්වන්නට දැන් නියම කාලයද උදාවී ඇත. ධර්මයට



ඉඩ දී අධර්මය විනාශ වී යන ස්වභාවයේ යුගයක් දැන් හැම අතින්ම දැකගන්නට ඇත. දැන් දැන් සිදුවන සිද්ධින් අනුව මේ ධර්මතාවය දැක ගත හැකි බව යෝනිසෝමනසිකාරයෙන් සිතන ඕනෑම කෙනෙකුට පහසුවෙන්ම දැන් සිතාගත හැකිය. පව්කාරයාට, යෝනිසෝ මනසිකාරයෙන් කටයුතු කරන්නට හෝ දැක ගන්නට හෝ ලැබෙන්නේද නැත.

මේ පරම සත්‍යයන් මතුකර ප්‍රකාශ කර , ලෝකයාට හෙළිකර මා කළේ වරදක් යැයි සිතන සමහර පෘථග්ජන පුද්ගලයෝද අද සමාජයේත් අප අතරම වාසය කරති. මඟඵල ලබන්නට නොහැකි අයුරින් බෞද්ධ ලෝකයාට නිවන් මාර්ගය වසා අහුරා දමා තිබූ යුගය දැන් අවසානය සියළු බාදක දැන් ඉවත් කර මඟ පිරිසිදු ලෙසින්ම විවෘත කර ඇති බව ප්‍රකාශ කරන්නේ සද්ධාවන්ත කුලපුත්‍රයින්ට මිස නිවන් දකින්නට තරම් පෙර පින් නොකල එවන් අඥාණ පුද්ගලයින්ට නම් නොවේ.

මෙම ධර්මය අඥාණ දුප්පඤ්ඤස්ස පුද්ගලයාට නම් නොවේ, ප්‍රඥාවන්තයාට පමණක්ම යැයි බුදුපියාණන් එදා දේශනාකළ වදාළ උතුම් පාඨය යළිත් සිහිපත් කරමින් මේ පොත කියවා අවබෝධයක් ලබා ගත නොහැකි නම් ඔබ තවමත් සංසාර ගැටළුවට මැදී වී සංසාර සාගරයේ අතරමංවී මිරිඟුවක් පසු පස දුවන ලාභයෙන් පිපාසිත පුද්ගලයෙකු ලෙසින් ක්‍රියාකරන අතෘප්ත කර මිනිසෙකු බවත් සිහිපත් කර ගන්නා ලෙසින් මේ උතුම් ධර්ම ප්‍රකාශයන්ට විරුද්ධ වන කොයි කාටත් මෛත්‍රියෙන් හා කරුණාවෙන් මතක් කර දීමට කැමැත්තෙමි.

නිමි